# විමුක්ති මාර්ගය පෙන්වා වදාළ

# උතුම් බුද්ධ ධර්මය

## භක්තියෙන් අදහන

## බුද්ධාගමක් කරා

## පරිවර්තනය වූයේ කෙසේද ?

පූජ්‍ය මීවනපලානේ සිරි ධම්මාලංකාර හිමි

ප්‍රථම මුද්‍රණය - 2014 ජනවාරි

**ISBN : 978 - 955 - 51707 - 2 - 7**



**ප්‍රකාශනය :**

පරම නිබ්බාන ධර්මායතනය,
අතුකෝරළවත්ත,
වටරැක,
පාදුක්ක.
වෙබ් අඩවිය : www.srisaddharmaya.blogspot.com

**මුද්‍රණය :**

සුරේන්ද්‍ර ග්‍රැෆික්ස්, මාතර
දුරකථනය : 041-2227220
ෆැක්ස් : 041-2223802
විද්‍යුත් තැපෑල: surencom@sltnet.lk

# පරමාර්ථ ප්‍රකාශනය

අපි අද අදහන බුද්ධාගම හා එදා බුදුපියාණන් වහන්සේ දේශනා කර වදාල උතුම් බුද්ධ ධර්මය යනු එකක්මද නැතිනම් දෙකක්දැයි බොහොමයක් උගත් ගිහි පැවිදි දෙපිරිසටම තේරුම් ගන්නට බැරි තරමටම අද වනවිට පිරිසිදු බුදු දහම විකෘති වී ඇත. උතුම් බුද්ධ ධර්මය අභාවිතයට ගොස්, යටපත් කරදමා අදහන බුද්ධාගමක් බවට එය පත්කලේ කවුරුන් ද? එසේ භක්තියෙන් අදහන තවත් එක ආගමක් බවට පත් කරගන්නට හේතු වුයේ කුමන කාරණාවන්ද ? මෙවන් ප්‍රශ්න වලට නිවැරදි පිළිතුරු සොයා යන්නට දැන් නිසි කාලය උදාවී ඇත.

ඊට හේතුව අද වන විට අදහන බුද්ධාගම හා උතුම් බුද්ධ ධර්මය අතර පරස්පරතාවයන් වැඩි වී ප්‍රායෝගික වශයෙනුත් පරමාර්ථ වශයෙනුත් සමාජ මෙහෙවරක් නොවන ආකාරයට අපේම සමාජයට සිදු වූ බලපෑම අහිතකර අන්දමට තදින් ම බලපාන්නට පටන්ගෙන ඇති හෙයිනි.

අනෙක් හැම ආගමකම සිදු වූවා වාගේ කාලයෙන් කාලයට, පූජකයින්ට ඕනෑ විධියටත්, පාලකයින්ට ඕනෑ විධියටත්, බලධාරීන්ගේ කැමැත්ත පරිදිත් බුද්ධාගම ද වරින් වර වෙනස්කම් වලට භාජනය වූ බවත්, විපරිනාමයට පත් වූ බවත්, විපර්යාසයන් සිදු වු බවත්, කාටත් තේරුම් ගත හැකිය. ඒ හැම අවස්ථාවකදී ම සිදු වු දේවල් වල අවසාන ප්‍රතිඵලය වූයේ නිවන් අවබෝධකර ගන්නට උපකාර වන බුද්ධ ධර්මය යටපත් වී, ලෝකය හදන බුද්ධාගමක් ඉස්මතු වීමයි. නිවන් දකින්නට උපකාරී වූ උතුම් බුද්ධ ධර්මය යටපත් කරදමා අදහන තවත් එක ආගමක් බවට පත්කර ගැනිම බලවත්ම පාපයකි, වරදකි.

අනන්ත සංසාර ගමනේ සදහට ම දුක්විඳිමින් සිටි මිනිසුන්ට සංසාර දුකෙන් සදහටම මිදී නිදහස් වන්නට උපකාර වන ආකාරයෙන් එදා බුදුපියාණන් වහන්සේ සොයා දැන දේශණා කර වදාල මේ උතුම් පරමාර්ථ ධර්මය ප්‍රතිපත්ති මාර්ගයකි. මේ උතුම් පටිච්චසමුප්පාද ධර්මය අනාගතයේ බුද්ධත්වයට පත්වන තවත් ලොව්තුරා බුදු කෙනෙකුට හෝ පවා අකුරක්, ඇලපිල්ලක්, පාපිල්ලක් වෙනස් කර, වෙනස් ආකාරයකින්



දේශණා කළ නොහැකිය. එසේ වෙනස් කළහොත් එය බුද්ධ ධර්මය ද නොවේ. බුද්ධ භාෂිතයෙහි මේ පදවැල් වල එන අර්ථ, ධර්ම, නානත්වය, නිසාම ඒවා කලින් කලට වෙනස් කරගෙන, ලෝකෝත්තර නිවනට උපකාර වන පරමාර්ථ ධර්මය අතහැරදමා, ලෞකික අර්ථයෙන් ද දේශණා කරණු ඇත. එවිට එය බුද්ධ ධර්මය වෙන්නේ නැත. ගෞතම බුදු පියාණන් වහන්සේ එදා දේශණා කර වදාල බුද්ධ ධර්මය, අතීතයේ දීපංකර බුදුපියාණන් වහන්සේත් දේශණා කර වදාල බුද්ධ ධර්මයමයි. එසේ නම් සියළුම බුදුවරුන් , බුද්ධ ශ්‍රාවකයින් දේශණා කරන බුද්ධ ධර්මය පටිච්ච සමුප්පාද ධර්මයම විය යුතුය. නමුත් බුද්ධාගමේ දි එය එසේ වන්නේ නැත. නිවන් දකින ඒකායන මාර්ගය දේශණා නොකරන, දේශණා කරන්නට නොදන්නා, විටක එතන බුද්ධ ධර්මය දේශණා කරතියි කීම මුලාවකි, බොරුවකි.

පටිච්ච සමුප්පාද ධර්මය ඇසුරෙන් චතුරාර්ය සත්‍යයන් අවබෝධ කරගැනීමත්, සංසාර ගමනට බැඳ ඈඳා තබන කෙලෙසේ බැම් සිඳ, කපා දමා ඉන් නිදහස් වීමත්, බුද්ධ ධර්මයේ හරයයි. බුද්ධාගමේ ම නාමයෙන්, පද පරම ලෙසින් අද භාවිතා කරන ආකාරයට පාලි, පදවැල් පෙළක් කියවීම, සජ්ජායනා කිරිම හෝ ලෞකික අර්ථයෙන් ඒවාට අර්ථ දැක්වීම හෝ චතුරාර්‍ය්‍ය සත්‍යයන් අවබෝධ කරගන්නට උපකාර වන්නේත් නැත. වෙද මහතා විසින් ලියාදුන් බෙහෙත් සිට්ටුව කටපාඩම් කරගෙන, මෙය මහා අනර්ඝ බෙහෙතක් යැයි ප්‍රකාශ කරමින්, බෙහෙත් සිට්ටුවටත් දුම් අල්ල අල්ලා, වෙද මහතාවත් වර්ණනා කරමින්, වෙද මහතාගේ ද ගුණ ගයමින් සිටිනු මිස බෙහෙත සකස් කරගෙන බෙහෙත් පානය කරන්නේ නැතිව සිටීම වංචනික ක්‍රියාවකි. රෝගය සුවකර ගන්නට නම් බෙහෙත හදාගෙන පානය කළ යුතුය. බෙහෙත් සිට්ටුව කටපාඩම් කරගැනීම නොකළත් බෙහෙත හදාගෙන පානය කළේ නම් රෝගය නිට්ටාවට ම සුව වෙනු ඇත.

මේ උතුම් බුද්ධ ධර්මය ආගමක් බවට පරිවර්තනය වී, ආගමක් සේ අදහන්නට පටන් ගැනීමේ වැඩිම වාසිය ලැබුනේ පාලකයින්ට ය. වලගම්බා රජු දවස පටන් ම හෝ අශෝක රජුගේ කාලය පටන් ම හෝ රජවරුන් හා

ආගමේ නායකයින් යන දෙපිරිසම එකතු වී පහසුවෙන් තම රට පාලනය කර ගන්නට සුදුසු වන පරිදි මිනිසුන්ව හීළෑ කර ගන්නට ආගම උපයෝගී කරගත් බව පැහැදිලිය. මෙහි දී බුදුපියාණන් වහන්සේ එදා දේශණා කර වදාළ මාගධී පදවැල් වලින් ම කොටසක් තෝරා ගෙන ඒ පදවැල් වලට අලුතින් ලෞකික අර්ථයන් ගෙන හැර දක්වා (අර්ථ කථා අටුවාලියා) බුද්ධාගම නමින් ආගමක් නිර්මාණය කර ගත්හ. භක්තියෙන් මුලා වූ බුද්ධාගම් කාරයින් කොටසක් බිහි වුයේ මේ ආකාරයෙනි. බුදුපියාණන් වහන්සේ කිසිවිටකත් තවත් අලුත් ආගමක් නිර්මාණය කර ගැනීමට, ආගමක් අදහන්නට උපකාර වන පරිදි බුද්ධ ධර්මය දේශණා කලේ නැත.

ආගමක පර්මාර්ථයන් හා බුද්ධ ධර්මයේ පෙන්වා වදාල පර්මාර්ථයන් කිසිදු අයුරකින් එකට ගැලපෙන්නේ නැත. නිවන් දකින, සංසාර දුකෙන් සදහටම මිදි නිදහස්වන, උතුම් පර්මාර්ථයෙන් ඉවත් වී, රජසැප, සිටුසැප, දෙව්සැප, බ්‍රහ්ම සැප සම්පත් මතු මතුවටත්, යලි යලිත්, විද ගැනීමේ නොතිත් ආසාවෙන් පිංකම් කරන පිරිසක් බිහි වීමට බුද්ධාගම හේතුවිය. බෝධිසත්ව පෙරුම් පුරමින්, මතු බුදුවන්නට, හෝ මතු බුදුවන බුදුවරුන් සමඟින් නිවන් දකින්නට කල් මරණ ක්‍රමවේදයක් හෝ මුල් බුදු දහමේ නිර්දේශකර තිබුනේ ම නැත. නිවන් දැකීමට ප්‍රාර්ථනා කිරිම හෝ, නිවන පැතීම හෝ, නිවන් යැදීම හෝ බුද්ධ ධර්මයට සහ මුලින් ම විරුද්ධ වූවකි. පිළිවෙත දැන පිළිවෙත් පිරීමම බුද්ධ ධර්මයෙන් කියා දුන් මඟයි. නිවන් දැකීම වර්තමාන මොහොතේම, කල් නොයවාම, කරගත යුතු දෙයක් මිස මතුවට, අවසානයට කල් දැමිය යුතු දෙයක් නොවේ. “අප්පමාදේන සම්පාදේ තබ්බං” යනුවෙන් පෙන්වාදුන් පර්මාර්ථය අදහන බුද්ධාගමේ දී ගිලිහි ගොස් දේව මිනිස් සැප කෙළවර නිවන් දකින්නට ප්‍රාර්ථනා කිරිම, ඒ සදහා පිංකම් කිරිම දක්වා වෙනස් කර ගත්හ. “කුසලස්ස උපසම්පදා” යනුවෙන් දේශණා කර වදාල කුණුමුල්, කෙලෙස් මුල්, ගලවා අස්කර සං පහදා ඉවත් කිරිම (සමුදය,නිරෝධය) බුද්ධාගමට ගැලපෙන දෙයක් නොවන තැනටම අද වෙනස් කරගෙන ඇත. මේ අනුව මතු ආත්මයක දී නිවන් දකින්නට ප්‍රාර්ථනා කරමින්, මේ ආත්මයේ දීත් පිංකම් ම පමණක් කරමින්, තෘප්තිමත් වන්නට මිනිසුන්ට පුරුදු කලේ කවුද ? කාගේ අවශ්‍යතාවක් ඉෂ්ඨ සිද්ධ කරගන්නට මේ වෙනස් කම් කළේ ද ?



බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාළ උතුම් මාර්ග ප්‍රතිපදාව ඉවතලා ඒ වෙනුවට භක්තිමත් බුද්ධාගම්කාරයින් පිරිසක් බිහිකර දෙවියන්ගේ පිහිට පිළිසරණ පමණක් නොව නිවන පවා ඉල්ලා දෙවියන් යදින්නට පුරුදු පුහුණු කළේ කවුද? යාචකයෙකු මෙන් නොපෙනෙන දෙවියන් ඉදිරියේ යාඥා කරමින් වැද වැටී සැප සම්පත් ඉල්ලා පුද පූජා පැවැත්වීමට තරම් අද බෞද්ධ ජනතාව මුළා වී ඇත. මිනිසුන් අන්ධ භක්තියෙන් මුලාකර, උන්මත්තකයින් බවට පත් කරන්නට තරම් නක්ෂත්‍රකරුවන්, භූත කට්ටඩියින් හා පූජකයින් අද සමත් වී ඇත.

2013 සැප්තැම්බර් 17 වෙනි දින කතරගම දෙවියන්ගේ උපන් දිනය යැයි නක්ෂත්‍රකරුවෙක් කළ ප්‍රකාශය නිසා එම උපන්දිනයේ දී දෙවියන් යදින්නට, දෙවියන්ටත් උපන් දින තෑග්ගක් දී - පූජා වට්ටියක් දී - ආපසු ලෞකික සැප සම්පත් ප්‍රතිලාභ බලාපොරොත්තුවෙන් දේවාල වලට එක් රොක් වූ අතිමහත් පිරිස ගැන කල්පනා කරන විට අද බුද්ධාගම අදහන බෞද්ධ පිරිස පත් වී ඇති දීන තත්ත්වය ගැනත් සිතාගත හැකිය. ඒ වාගේම 2012 වසරේ මුල් කාලය තුළ බුදුරැස් දැක ගන්නට යයි සෝමාවතී පුද බිමට රැස් වූ ලක්ෂ සංඛ්‍යාත ජනතාවද බුද්ධාගමේ ම නාමයෙන් උමතුවෙන් ක්‍රියාකළ භක්තිවන්තයින් පිරිසකි. මේ රටේ අද අදහන ආගම දේව ආගමක් ද, බුද්ධාගමක් ද යන ප්‍රශ්නය අපට අදාළ එකක් නොවේ. එය ආගම් අදහන මිනිසුන් විසින් ම කල්පනා කර බැලිය යුතු කාරණයකි. දෙවියන්ගෙන් හෝ වෙනත් අධිභෞතික බලවේගයකින් හෝ නිවන් ඉල්ලා යදින ගිහි පැවිදි පිරිසට තමන්ගේ ම මනසේ ශක්තිය - යෝනිසෝමනසීකරණ ශක්තිය - පහදා ගන්නට නම් මේ අන්ධ භක්තිය හා විශ්වාසයන් බලවත්ම බාධකයක් වී අවසානය.

අපේ ඇත්තන්ට මෙහි ඇත්ත නැත්ත, හොඳ නරක, පෙන්වාදී ආගම හා බුදුදහම යනු එකක්ම නොවන බව අවංකවම පෙන්වා දීමට යාමද අද ඉතාමත්ම අනාරක්ෂිතවුත් එමෙන්ම භයානක වුත් දෙයක් බවටද පත්වෙමින් පවතී. සත්‍යය ප්‍රකාශකිරීම නිසා, කොයි මොහොතේ හෝ උසාවි යන්නට, පොලිසි ගානේ යන්නට හෝ හේතුවන තරමේ වරදක් පාපයක් බවටද පත්ව ඇත. එදා උඩකැන්දවෙල සිරි සරණංකර හිමියන්ට හිරගෙදරට යන්නට

සිදු වුනේත්, වල්පොල රාහුල හිමියන්ට විසිවසරක් පමණ කාලයක් පුරාම රටින් පිටවී සිටින්නට හේතු වුයේත්, මේ මුලික ප්‍රශ්ණයම සමාජය හමුවේ විවෘත කරන්නට දැරූ උත්සාහය නිසාම මිස වෙන කිසි හේතුවක් නිසා නම් නොවේ. උඩකැන්දවෙල සිරි සරණංකර හිමියන්ටත් වල්පොල රාහුල හිමියන්ටත් ඒවාගේම උතුම් බුද්ධ ධර්මය මතුකර පෙන්වන්ට එදා මෙදා තුර උත්සාහගත් අයටත් විරුද්ධකම් පෑවේ අන්‍යාගම්කාරයෝ, හෝ උගත් ගිහි පිරිසක් හෝ නොවේ. බුදුපියාණන්ගේ නාමයෙන්ම "සබ්බ දුක්ඛ නිස්සරණ නිබ්බාන සච්චකිරියාය කසා වතං ගහෙත්වා" යන පාඨයන් කියවා පැවිදි බිමට ඇතුළුවු බුද්ධාගමේම ආරක්‍ෂකයින් පිරිසක් විසිනි.

සමාජමය වශයෙන් මිනිසුන්ව සුචරිතයෙහි යෙදවීමටත්, ලෝකෝත්තර වශයෙන් සංසාර දුකින් මිනිසුන්ව මුදවා ගැනීමටත්, උතුම් පරමාර්ථ ධර්මය මිනිසුන්ට කියා පැහැදිලි කරදෙන්නටත් හැකියාවක්, ශක්තියක් අවබෝධයක් හා යථාභූත ඥාණ දර්ශණයක් ලැබු කෙනෙකු විසින් මිනිස් වර්ගයාගේ උභය අර්ථසාධනය සඳහාත් උභතෝභාග විමුක්තිය සඳහාත් උපකාරවන පරිදි උතුම් බුද්ධ ධර්මය දේශනා කල යුතුමය. උතුම් බුද්ධ ධර්මය දේශණා කරණ විට දී බුද්ධාගමේ නාමයෙන්ම අද කරගෙන යන ව්‍යාපාරවලට හා ඇති කරගෙන , පිහිටුවාගෙන ඇති සංවිධාන වලට පහර ගැසීමේ චේතනාවක් අවංකවම නැති වුනත් යම් යම් සිදුවීම් සිදුවීම වැලැක්විය, නොහැකිය. බුදු දහම විවෘත වෙත්ම සම්මත බුද්ධාගමේ බලය හීන වීම කාටවත්ම වැලැක්විය නොහැකිය.

බුද්ධාගම නමැති කඩතුරාවෙන් උතුම් බුද්ධ ධර්මය වසා දමා යටපත් කර ඇති බව අදවන විට බොහෝ අය තේරුම් ගෙන ඇත. මෙහි අර්ථය නම් භක්තිමත් මෝඩ බෞද්ධයින්ව මුලා කර ,භය හා සන්ත්‍රාසය ඇති කරවමින් පුද පූජා පවත්වන්නට, යාඥා කරන්නට, මෙන්ම මතු ප්‍රාර්ථනාවන් ඇති කරගන්නට පමණක් සුදුසු පරිදි බුද්ධාගම වෙනස් කර ගෙන ඇති බවයි. මහණ වී වසර පනහ හැට සිල් රැක්ක බණ භාවනා කල අපටත් නිවන අහලකටවත් එන්නට බැරි උනනානම් ගිහිවු නුඹලාට මොන නිවනක් ද ? මේ නිසා මතු බුදුවන බුදුන් දැකගෙන නිවන් දකින්නට පිංකම් කිරීම හා ප්‍රාර්ථනා කිරීම හැර වෙනත් කලයුතු දෙයක් නැතැයි කියා බණ කියන අය තවමත් අදටත් නැතිවා නොවේ.



පසුගිය සැප්තැම්බර් 17 දින දේවාල කරා පුද පඬුරු, පූජා වට්ටි පුද කරන්නට රැස්වු සියළුම දෙනා නමින් නම් සිංහල බෞද්ධයෝය. දෙවියන් අදහන හින්දුන් හෝ අල්ලා දෙවියන් අදහන මුස්ලිමුන් හෝ කතෝලික දේව භක්තිකයින් හෝ කිසිවෙකුත් මෙයින් මුලා වුයේ නැත.

දෙවියන්ගේ උපන් දිනයද සමරා තවත් යමක් දෙවියන්ගෙන් වැඩිපුර ඉල්ලා යැදීමේ චේතනාව මත මේ භක්තිවන්ත මිනිසුන් දේවාල කරා රැස්විය. මොනවා හෝ පගාවක්, පුදපඬුරක්, වරදානයක් ලබාදී ඊට වඩා සිය දහස් ගුණයෙන් වැඩි දෙයක් ඉල්ලා සිටීමේ "යාඥා සංකල්පය" බෞද්ධයාට පුරුදු කලේ, කවුද? පංචස්කන්දයම උපාදානය කරගැනීම සියලු දුකට හේතුවන බව උතුම් බුදුදහම උගන්වයි. නමුත් මේ ඉල්ලන්නේ මේ යදින්නේ ඔය කියන දුකට මුල්වූ පංචස්කන්දයම දැඩිව උපාදානය කරගන්නටයි. බුදුහිමියන් දේශනා කර වදාල බුදු දහමේ මුල් පදයවත් තේරුම් නොගත් බුද්ධාගම් කාර පිරිසක් අපේ රටේම මේ ආකාරයට බිහිවුයේ කෙසේද?

අද දේශපාලකයින්, ආගමික නායකයින් ජේන කියන නක්‍ෂත්‍රකරුවන් පමණක් නොව ගුවන්විදුලි, රූපවාහිනි පෙට්ටි වැනි සංනිවේදන මාධ්‍යයන්ද මිනිසුන්ව මුලා කර මෝඩයන් බවට පත්කරවන ආගම් සම්ප්‍රදායයක් මුළු රට පුරාම පැතීරී ඇත. අපේම බුද්ධාගම් කාර භක්තිමත් උපාසකම්මලා වැල නොකැඩී එදා කපිල වස්තු ධාතුන් වහන්සේලා වැඳ පුදාගන්ට ගියේ ධාතුන් වහන්සේලාගෙන් නිවන ඉල්ලා ලබා ගන්නටය. ඊටත් වඩා දීන තත්වයට පත්වූ, දෙවියන්ගෙන්ද නිවන් යදින, බුද්ධාගමේම පිරිසක් අද මේ රටේ ඇත.

මේ කාරණා වලට මුලිකම හේතුව ආගම හා ධර්මය අතර ඇති වෙනස්කම් මිනිසුන්ට පැහැදිලිකර නොදීමයි. මේ වෙනස හැට පැනපු මහල්ලන්ට පමණක් කියාදීමද නොසෑහේ. තුන්වෙනි, හතර වැනි පන්තියේ පටන්ම කුඩා දරුවන්ටත්, දහම් පාසැල් දරුවන්ටත්, පිරිවෙන්වල ඉගෙනගන්නා කුඩා සාමනේරයන් වහන්සේලාටත් පැහැදිලිව පිරිසිදුව මේ වෙනස පෙන්වා කියාදීම කළ යුතුමය.

බුද්ධාගමත් -බුද්ධ ධර්මයත් එකක්ම නොවන බව තේරුම් ගත් පසුව දෙවෙනි ප්‍රශ්ණයක්ද මතුවෙයි. අද ජාතික අර්බුදයක් බවට, එසේත් නැතිනම් “බුද්ධ කෝලාහලයක් බවට”, පත්වුයේ ආගම නිසාද ධර්මය නිසාද යන්නයි. බුද්ධාගමත් රජයත්, දේශපාලනයත් එකටම යා යුතු දෙකකි. නමුත් දේශපාලනයත් බුද්ධ ධර්මයත් කිසිසේත්ම එකට යා හැකි දෙකක් නම් නොවේ. බුද්ධාගමෙහි ඇති නිලතල, තනතුරු ,උපාදි ලාභ සත්කාර, වරදාන බුද්ධ ධර්මයෙහි නොවටින දේවල්ය. ධර්ම මාර්ගයෙහි යන්නාට ඒවා බාධාවන්ය. අද අපේ රටේ අදහන බුද්ධාගම ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවෙන්ම රාජ්‍ය තන්ත්‍රයට ඇනගසා බැඳ සම්බන්ධ කර ඇත. නමුත් උතුම් බුද්ධ ධර්මය කවදාවත් රජෙකුට, පාලකයෙකුට හෝ නායකයෙකුට සම්බන්ධ කර ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවකින් හෝ පනතකින් හෝ සීමා මායිම් පනවා කොටුකර බැඳ තැබිය හැකි දෙයක් නොවේ. අලුතින් අණ පනත් සම්මත කරගෙන සීමා මායිම් දමන්නට අද උත්සාහ ගන්නේ අදහන ආගම ආරක්ෂා කර ගන්නට මිස උතුම් බුද්ධ ධර්මය රැකගන්නට නම් නොවේ. බුද්ධ ධර්මය විවෘත වූ තරමට බබලයි.

අද රටේ අදහන බුද්ධාගමේ නිවන් මාර්ගයක් නැත්තේ එහි බුද්ධ ධර්මය නැතිකම නිසාය. බුද්ධ ධර්මය නොදන්නා කම නිසාය. ධර්මයක් නැතිකමේ, ධර්මය නොදන්නා කමේ - අඩුව , හිස්තැන , පුරවා ගන්නට ත්‍රිපිටකයෙන් ණයට ලබාගත් මාගධී පදවැල් සමුහයක් කටපාඩම් කරගෙන භාවිතා කරණ තත්වයට අද බුද්ධාගම ද පත්වී ඇත.

උතුම් බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාල නිර්මල දහම, පිරිසිදු පිළිවෙත, මෙන්ම විමුක්ති මාර්ගයද වැසී යටපත් වන්නට අටුවා චාරීන්ගේ (ලියවිලි) අර්ථකථා ඉදිරිපත් කිරීම, තදින්ම හේතු භූත වු බව පොල්වත්තේ බුද්ධ දත්ත මහනාහිමියන් මීට වසර හැත්තෑවකට අසුවකට පෙර අටුවා පිළිබඳ පොතක් ලියා පුවත්පත් වලට ලිපි ලියා පෙන්වා දුන්නද ඒවා බිහිරි අලින්ට වීනා වාදනය කරන්නාක් මෙන් විය. කිසිවිටෙකත් ත්‍රිපිටක ග්‍රන්ථ සම්පාදන මණ්ඩලය මේ කරුණු කල්පනා කර බලන්නට තරම් උනන්දු වුයේද නැත. පොල්වත්තේ බුද්ධ දත්ත මාහිමියන් විසින් බුද්ධ ධර්මය නගාසිටුවන්නට කරණ ලද මාහැඟි සේවයද උන්වහන්සේ ගේ අපවත්වීමත්



සමගම අවසන් විය. ඉන් පසුව බුද්ධාගම්කාරයෝ ඒ සියල්ල අමතක කර දමා යලි තමන්ගේ ව්‍යාපාර පවත්වා ගෙන යන්නටම උනන්දු විය.

ඉන්දියාවේ දී මෙන්ම හෙලබිමේ දීද ත්‍රිපිටකයට හා හෙල අටුවා වලට අර්ථකථා, ටිප්පනි, ටීකා, ලියු බොහෝ පෘතග්ජන මිනිසුන් සිදු කලේ උතුම් බුද්ධ ධර්මය යටපත් කරමින් ලෝකය හදන්නට උපකාර වන පරිදි අළුත් ආගමක් නිර්මාණය කර ගැනීමයි. අදටත්, තවමත් මේ වැරදි ක්‍රියාවලියම සිදුවෙමින් පවතී.

බුද්ධාගමෙන් හෝ වෙනත් කිසිම ආගමකින් හෝ විමුක්ති මාර්ගය හෝ උභය අර්ථ සාධනය හෝ බලාපොරොත්තු වීමද වැරදිය. අද බුද්ධාගමේ අධිකාරී තනතුරු දරණ, බලධාරීන් තමන්ගේ ආගමික සංකල්පයන්ම තවදුරටත් එසේම පවත්වාගෙන යන්නටත්, තම මතයන්ම තහවුරු කිරීමේත් ව්‍යායාමයකද යෙදී සිටිති. තමන් පිළිගත් ආගමික මතයන්ට හා ආගමික සංකල්ප වලට විරුද්ධව යන අලුත් මතයක් හෝ විග්‍රහයක් හෝ මතු කර ඉදිරිපත් කරණ මගපල ලාභී උතුමෙකුටවත්, අද මේ උතුම් බුද්ධ ධර්මය ඉදිරිපත් කරන්නට, දේශනා කරන්නට, ලියා දක්වන්නට මෙම සම්මත සම්ප්‍රදායික බුද්ධාගම් කාරයින් ඉඩ අවසර දෙන්නේද නැත. එය තමන්ගේ බුද්ධාගමට විරුද්ධය, යන්න ඔවුන්ගේ එකම ප්‍රකාශයයි. බුද්ධාගම යනු පසුව සකස් කරගත් ඇදහිල්ලක් බව ඔවුන්ට හිතාගන්නට වත් නොහැකිය. පිරිසිදු බුද්ධ ධර්මය දේශනා කරණ , පිරිසිදු බුද්ධ ධර්මය ලියා එලි දක්වන, ගිහි පැවිදි දෙපිරිසටම විරුද්ධව උසාවියන්නට, නඩු මගට බසින්නට තරම් මේ බුද්ධාගමේම සමහර හිමිවරුන් අද දරුණුවී ඇත.

ලෝකය යන අතටම තල්ලුවී යන ස්වාභාවයක් සියළු ආගම් වල පවතී. ආගමේ නාමයෙන්ම සිරිත් විරිත්, සම්ප්‍රදාය පමණක් නොව විනය නීති පවා වෙනස් කර ගැනීමේ ප්‍රවණතාවක් අද ආගමේ පවතී. උතුම් බුද්ධ ධර්මයේ එවැනි වෙනස් කමක්, නවීකරණය කිරීමක් කරගන්නට ඉඩක් නැත. අද භික්ෂුන්ට මිශ්‍ර පාසැල් වල විශ්ව විද්‍යාල වල ඉගැන්වීමත්, රජයේ කාර්යාලවල රැකියා කිරීමත්, බැංකුවල ගිණුම් පවත්වාගෙන යාමත් ,දේශපාලන නිලතල, ප්‍රාදේශිය සභා සභාපතිකම් දැරීමත් බුද්ධාමට

ගැලපෙන දේ ලෙසින් දේශපාලකයින්ද බලධාරීන්ද පිළිගෙන ඇත. නමුත් පොදු මහජනයා විසින් මෙය පිළිකුල් සිතින් බැහැර කරන බව ඔවුන් සිතන්නේ නැත. අරක්කු තැබෑරුම විවෘත කරන්නටත්, මස් කඩය විවෘත කරන්නටත් අද ආරාධනා කරන්නට යන්නේ ගමේ පන්සලේ හාමුදුරුවන්ටය.

බුදු දහමට අනුව නම්, රටක් වෙනුවෙන් හෝ ජාතියක් වෙනුවෙන් හෝ ආගමක් වෙනුවෙන් හෝ වරදක් පාපයක් අකුසලයක් වන යමක් කිරීම නොහොබිනා දෙයකි. නමුත් අද ආගම වෙනුවෙන් මිනී මරණ, පෙළපාලි යන, උද්ඝෝෂණ කරන, වෙනත් නොයෙකුත් නොහොබිනා දේ කරන බව ප්‍රසිද්ධ දෙයකි.

ඉතිහාසයත්, සාහිත්‍යයත්, සංස්කෘතියත්, ආගමත් යන හතරම යටගිය දේවල් ආශ්‍රයෙන්ම මිනිසාගේ පැවැත්ම සඳහාම මිනිසා විසින්ම විග්‍රහකරණ හෝ නිර්මාණය කරගත් දේවල්ය. නමුත් බුද්ධ ධර්මය මේ එකක් වත් නොවේ. මේ එකකවත් තුල බුද්ධ ධර්මය ඇත්තේ ද නැත. අද අපේ හෙලබිමේ දරුවන්ට උගන්වන්නේ බෞද්ධ ඉතිහාසය බෞද්ධ සාහිත්‍යය හෝ බෞද්ධ සංස්කෘතියයි. එයම බුද්ධාගමයි. මේවා හදාරා දැනීමක් ලබාගැනීමේ වරදක්ද නැත. තම සිත ක්‍රියාත්මක වන හැසිරීම් රටාව තමන්ම අධ්‍යයනය කර එය සුවද අසුවද යන්න තෝරා බේරා ගෙන, පිළිවෙතින් පෙලගැසීම- බුද්ධ ධර්මයයි.  මෙය වර්තමාන මොහොතේ තමන්ම පිළිවෙත තෝරා බේරා ගෙන ප්‍රායෝගිකව කල යුතුදේ කිරීමෙනුත් නොකල යුතුදේ අත්හැරීමෙනුත් නිවැරදි පිළිවෙත අනුගමනය කර අත් දැක ගත යුතු ධර්මයකි.

ඉතිහාසය යනු යම් සං සිද්ධියක් සිදුවී කලකට පසුව,  එසේ සිදුවූවා යැයි,යම් කෙනෙකු විසින් කරණ ලද ප්‍රකාශයකි. එය ලිඛිතව හෝ මුඛ පරම්පරාවෙන් හෝ පවත්වාගෙන ආවක්ද විය හැකිය. ඒ සිදුවීම ලියා තබන පුද්ලයාගේ මිම්ම, මානය, දෘෂ්ඨිය, හා ආකල්පය මෙන්ම දැනීමද ඒ ඓතිහාසික ලේඛනයට තදින්ම බලපාන දේවල්ය.

ඒ නිසා ඉතිහාසය යනු තම තමන්ගේ මිම්මෙන් මැන තම දැනුම අනුවම ලියු



දේවල්ය. මහා වංශය හා අපේ අනිකුත් ඉතිහාස පොත්ද මේ ආකාරයටම ඒ ඒ පුද්ගයින් විසින්ම ලියු ඒවාය. බෞද්ධ සාහිත්‍යයද, බෞද්ධ සංස්කෘතිකද මේ ආකාරයෙන්ම විවිධ පුද්ගලයින් තම මතයන්ද ආකල්පයන්ද ඇතුලත් කර යම් පරමාර්ථයක්ද ඇතිව ලියා පල කල දේවල් ය. බුදුන් දේසනා කල ධර්මයම මේවායේ ඇතැයි කාටනම් කිව හැකිද? කාලාමා සුත්‍රය බුදුපියාණන් දේසනා කර වදාලේ මේ ප්‍රශ්නයට පිලිතුරු සපයන්නටය. අපි අද භාවිතා කරණ බෞද්ධ ඉතිහාසපොත්වල, බෞද්ධ සාහිත්‍යය පොත්වල හෝ බෞද්ධ ආගමික පොත්වල හෝ නිවන් දකින්නට උපකාරවන බුද්ධ ධර්මය ඇතැයි මට නම් කිව නොහැකිය.

බුද්ධ ධර්මය ඒවායේ නැතිකමටත් වඩා භායානක වන්නේ එදා බුදුපියාණන් පෙන්වා වදාල විමුක්ති මාර්ගය මිනිසාට අහිමි කර දමා එය වසා දමන්නටත් මේ සාහිත්‍යය පොත පත ලියා දැක්වීම වශයෙන් සිදුවු මහා විනාශය සිදු කරන්නට මුල් වුයේද මහායාන බුද්ධාගම හා එහි නිකාය භේදයයි.

මේ අනුව මේ ඓතිහාසික පොත්පත් සොයාගෙන හැකිතාක් දුරට ඒවා කියවා බලා බුද්ධ ධර්මය විපරිනාමයට පත්වී විනාශවු හැටි හොඳින්ම තේරුම් ගත යුතුය. ධර්මයට අදාල යමක් ඒ පොත්පත් වල ඇත්නම් එයද තෝරා බේරා ගෙන භාවිතයට ගත යුතුය. ධර්මයට නොගැලපේ නම් විනයට නොසැසඳේ නම් එය හුදෙක් සාහිත්‍යමය කරුණක් පමණක් බව තේරුම් ගත යුතුය. ප්‍රායෝගික වශයෙන්ම සංසාර දුකෙන් මිදී නිදහස් වන්නට නම් දැනගත යුතු වන්නේ පටිච්චසමුප්පාද ධර්මයේ තිපරිවට්ටයයි. දුක අනුත්පාද වශයෙන්ම නිරෝධ කලහැකි නිවැරදි මග පෙන්වා දුන්නේ බුද්ධ ධර්මයෙන්ම පමණි. බුද්ධ ධර්මයෙන් ඔබට  උගන්වන්නේ උපේක්ඛා සිතින් සියල්ල ඉවසා, විමසා, නොඇලී, නොගැටී, මුලානොවී සැනසෙන්නට මාර්ගයයි.

ඔබව වේදනාවට පත්කරවන, දුකට පත්කරවන, උද්දාමයට පත්කරවන, වෛරය හෝ තරහව අවුස්සන, ජාති මමත්වය හෝ දේශානුරාගය උලුප්පන දේ නම් එය බුද්ධ ධර්මය නම් නොවේ. ඒ සියල්ලම අධර්මයයි.

සාහිත්‍යය යනු ප්‍රබන්ධයකි. ඒ සාහිත්‍යය පොත ලියු ලේඛකයාගේ දක්‍ෂකම හා වචන මාලාව හසුරුවන්නට ඇති පලපුරුද්ද අනුව ඒ සංසිද්ධිය රසකර ලියා දක්වයි. කියවන පුද්ගලයාව අන්ධ බවට පත්කරවනදේ ප්‍රබන්ධ නම් බෞද්ධ සාහිත්‍යයේද බොහෝ ප්‍රබන්ධ ඇත.

ඉතිහාසය යනු යමක සිදුවු වග, සිදුවු බව ප්‍රකාශ කර සිටීමයි. සාහිත්‍ය කරුවා ඊට එහාට ගොස් එය සිවුදු හැටි සිදුවු ආකාරය ඔහුගේ දක්‍ෂකම අනුව ඔහුගේ මිම්මෙන් මැන සුංගාරාත්මකව විස්තර කරදෙයි. සාහිත්‍යකරුවා ඒ සිද්ධියට මුල්වු මනෝමූලිකවු හා විෂය මුලිකවු කරුණුද උපමා සහිතවම ඉදිරිපත් කරයි.

ජාතක පොත මෙවන් උපමා කථා ඉදිරිපත් කරන බෞද්ධ සාහිත්‍යය පොතකි. සාහිත්‍ය කරුවා දරන මතය සනාථ කරන්නටත් සාහිත්‍ය කරුවා නිතරම උත්සාහ ගනී. විජයබා කොල්ලය ලියු ඩබ්. ඒ. ද සිල්වා මහතා ඊට පාදක කරගත්තේ ඓතිහාසික සංසිද්ධියකි. නමුත් මේ පොත අද ඉතිහාස පොතක් ලෙසින් කවුරුවත්ම පිළි නොගනී. නූතන මහාවංශය ලියු මහාවංශ කතුවරයාද , ලංකා ඉතිහාසය නමින් පොතක් ලියු කොල්වින් ආර් ද සිල්වා මහතාද මේ සිද්ධියම ඉතිහාස පොත් ලෙසින් ලියා තබා ඇත. ඒ ඒ පොත් ඉතිහාස පොත්ද, සාහිත්‍ය පොත් ද නැතිනම්, ප්‍රබන්ධයන්ද යන්න තීරණය කිරීම පොත් කියවන පාඨකයාට පැවරෙන්නකි.

මේ ආකාරයටම මහානාම හිමියන් පරිවර්තනය කර ලියු මහාවංශයත්, ඊට පෙර ලියු දීපවංශයත් හෙලබිමේ දී ලියා ඇති වෙනත් බොහෝ ඉතිහාසික හා සාහිත්‍ය ග්‍රන්ථයනුත් කියවන විට ඒවා ඉතිහාසයද, සාහිත්‍යයද,එසේත් නැතිනම් ප්‍රබන්ධයන් දැයි තේරුම් ගන්නටත් විමර්ශණාත්මක දැනුමක් හා ඥාණයක් අවශ්‍ය වෙයි.

බුදුපියාණන් පිරිනිවන් පා වසර හාරසිය පනස් හයකට පසුව මේ හෙලබිමේදී, කෑගල්ලේ මාතුල අලුලෙනේදී හෙල අකුරින්ම ලියා තැබූ, ග්‍රන්ථාරූඩ කල ත්‍රිපිටක පොත් ඉතිහාස පොත් නොවේ. සාහිත්‍ය පොත් ද නොවේ. ඒ පොත්වල අඩංගු වන්නේ නිවන් දකින්නටම උපකාර කරගත යුතු පිළිපැදිය යුතු ප්‍රතිපත්ති මාර්ගයකි.



ඒ ත්‍රිපිටක පොත්වල ඇත්තේ පරියාප්ති ධර්මයයි. එයම ප්‍රතිවේධ ධර්මයයි. එයම ප්‍රතිපත්තියක් ලෙසින් පිළිපැදිය යුතුය. ඒ නිසාම බුද්ධ ධර්මය පර්යාප්ති, ප්‍රතිවේද හා ප්‍රතිපත්ති ධර්මයක් යනුවෙන්ද හඳුන්වයි. පෘතග්ජන මිනිසුන් ඒ පරියාප්ති ධර්මයම ප්‍රයෝජනයට ගනිමින්, ඒ පදවැල්ම පද පරම ලෙසින් භාවිතා කරමින් මේ හෙලබිමේදීත් භාරත දේශයේදීත් අදහන බුද්ධාගමක් බිහිකර නිර්මාණය කරගත්හ. මහාසාංඝිකයින් විසින් ආරම්භ කර පසුව මහායාන බුද්ධාගම ලෙසින් මුළු පෙරදිග පුරාවටම ව්‍යාප්ත කරවුයේ බුද්ධාගම මිස පිරිසිදු, පිවිතුරු බුද්ධ ධර්මය නම් නොවේ. ථෙරවාදීන් මුල් යුගයේදී පිරිසිදු බුද්ධ ධර්මය රැකගන්නට උත්සාහ ගත්තද, පසු කාලීනව මහායානික බලවේග වලට අසුවී ජන විඥාණයට ගැලපෙන බුද්ධාගමක් ඔවුන්ද අදහන්නට පටන් ගත්හ. මේ අනුව නිවන් දකින්නට උපකාරවන පිළිවෙත යටපත්වී අභාවයට ගියහ. අදහන ආගමක්සේ බුද්ධාගම ප්‍රචලිත විය.

ඉන්දියාවේදී ලියු මහායාන පොත් වන ලලිත විස්තරය ,දිව්‍යාවදානය,බෝධි චරියාචතාරය,හා පාරමිතා සුත්‍ර මෙන්ම සද්ධර්ම පුණ්ඩරික සුත්‍රයද අධ්‍යනය කරණ ඕනෑම කෙනෙකුට සත්‍යය ඉතිහාසය යටපත් කර ගෙන සාහිත්‍යය මතුවු ආකාරය තේරුම් ගත හැකිවෙයි. මේවාගේම මහාවංශයෙහි එන දුටුගැමුණු රජුගේ චරිතය හා ඉතිහාසයේ එන සත්‍යම දුටු ගැමුණු රජුගේ චරිතය එකින් එක වෙනස් වන හැටි මහාචාර්ය ඒ.වී. සුරවීර මහතා ලියු පොතක එකින් එක සංසන්දනය කරමින් කදිමට සටහන් කර ඇත. මේ ආකාරයටම ලලිත විස්තරයේත් දිව්‍යවදානයේත් එන සාහිත්‍යමය බුද්ධ චරිතය අද්භූත, අභව්‍ය,ආශ්චර්යමත් බොහෝ දෙයින් අලංකාර කර ඇත. ඒ හුදීජනයාගේ සිත් ඇදගෙන ආගම කෙරෙහි භක්තියක් උපදවා ගැනීමේ චේතනාවෙනි. 1930 දී පමණ අපේ යතිවරයානන් වහන්සේ කෙනෙකු මේ ලලිත විස්තරය හා දිව්‍යාවදානය නමැති චන්ද්‍රස් ග්‍රන්ථ දෙක සිංහලට පරිවර්තනය කරමින් බුද්ධ චරිතය නැමති පොතක් ලියා එය පාසැල් ලමුන්ගේ බුද්ධාගම විෂය නිර්දේශයන්ටද ඇතුලත් කලහ. එදා මේ චන්ද්‍රස් බුද්ධ චරිතය  දැකගන්නට ඉගෙන ගත් දරුවන් අද වැඩිහිටියන් බවට පත්වී ඇතත් ඔවුන්ට තවමත් සත්‍යමවු බුද්ධ චරිතය දැකගන්නට මේ සාහිත්‍යමය දැනුම ම බාධකයක් වී ඇත.  සාමාන්‍ය

මිනිසෙකුට අනුගමනය කර අත්විඳගත හැකි ආකාරයේ ප්‍රතිපත්ති සමුහයක් සත්‍යමවු බුද්ධ චරිතයෙන් හෙලි දක්වයි. නමුත් චංදස් වෛදික බුද්ධ චරිතය මිනිසත් බව ඉක්මවු දේවත්වයද ඉක්මවු බ්‍රහ්මත්වයද ඉක්මවු අභව්‍යය අද්භූත චරිතයකි. එදා මහා මහින්ද මාහිමියන් යටපත්වී අභාවයට යමින් තිබුණු උතුම් බුද්ධ ධර්මය යලිත් මතුකර පෙන්වාදුන් හැටි ඉතිහාසඥයෙකුගේ ඇසින් දකින ආකාරය මහානාම හිමියන් මහාවංශයේ ලියා තබා ඇත.

වර්තමාන අදහන බුද්ධාගමේ උතුම් බුද්ධ ධර්මය යටපත්ව ගොස් මහායානික බුද්ධාගමේ සංකල්ප හා ඇදහිලි ඉස්මතු වී ඇති ආකාරය ගිහි පැවිදි සියළු බෞද්ධයින් විසින් ම තේරුම් ගත යුතුය. එදා මිහිඳු මා හිමියන් තෝරා බේරා ගෙන අනු ක්‍රමිකව දේසනා කල සුත්‍ර ධර්මයන් යලිත් දේසනා කරන්නට දැන් කාලය එළඹී ඇති බව අවධාරණයෙන් පෙන්වා දිය යුතුය. මේ පොත ලියා එලි දැක්වීමේ අවංක හා අහිංසක පරමාර්ථය වන්නේ යටපත්වී ගිය උතුම් බුද්ධ ධර්මය යලි මතු කර නිවන් අවබෝධකරගන්නට උපකාරවනසේ පැහැදිලිකර දීමයි.

1948 තරම් ඈත යුගයකදී සුධර්ම සෙනෙවිරත්න නැමැති කවියා ලියු “ගැටළු තුනක්” නැමැති කවි පෙළක එන කවියක් එදාටත් වඩා අදට වටිනවා යැයි මට හිතෙන නිසා ඒ කවිය මෙහි ලියා දක්වමි.

“ඔක්කොම” හාමුදුරුවරු ලක          අදහන්නේ
බුද්ධාගම ද ? හා හරි පැනයකි          එන්නේ
ඕවී නෑ දෙකෙන් එකකුයි කිව යුතු          වන්නේ
මම ගල් වුනෙමි කොහොමද පිළිතුරු          “දෙන්නේ”

මෙහි අදහස නම් බුද්ධ ශ්‍රාවකයින් ලෙසින් පැවිදි බිමට ඇතුළු වු සියලුම හාමුදුරුවරු එකම බුද්ධාගමක් අදහන අයද නැත්නම් එකම බුදු දහම අනුගමනය කරන අයද යන්න මෙහිදී අසන ප්‍රශ්නයයි. මෙය ගිහියන්ටත් වඩා බලවත් ප්‍රශ්ණයක්ව ඇත්තේ පැවිදි වු හාමුදුරුවන්ටම බව මගේ අදහසයි. තවත් අතකින් ගෙන බැලුවොත් මෙහි නියම අර්ථය වන්නේ, බුදුන්ගේ උතුම් දහම කණපිට පෙරලාගෙන එය ආගමක් නමින් , ඇදහිල්ලක් ලෙසින්, අදහන්නේත් සමහර පැවිදි වු අයම බව මොලේ ඇති ඕනෑම කෙනෙකුට තේරුම් ගත හැකිවෙන වා ඇත යන්නයි.



කාලීන සමාජමය අවශ්‍යතාවන්ට අවශ්‍යවන පරිදි හා ගැලපෙන පරිදි ඈත අතීතයේ පටන්ම,පිරිසිදු බුද්ධ ධර්මය කණපිට පෙරලා ගෙන තම තමන්ට සුදුසු පරිදි අර්ථකතනය කිරීමද නොනැවතී දිගින් දිගටම අද දක්වාම සිදු කරගෙන යමින් පවතී. බොහෝ අට්ඨකතාචාරීන් වහන්සේලා විසින් ලියු අටුවා,ටීකා,ටිප්පනි හා විවිධ විග්‍රහයන් මගින්ද උතුම් බුද්ධ ධර්මය බුද්ධාගමක් බවට පෙරලීමේ වැරදි ක්‍රියාවම සිදුවිය. බුද්ධාගම රැකගන්නට ක්‍රියාකරන වා යයි කියන අය අද උත්සාහගන්නේ මේ සම්මත හා සම්ප්‍රදායයන් රැකගන්නට මිස පිරිසිදු බුදු දහම රැකගන්නට නොවේ.

සංසාර දුක අවබෝධ කරගෙන,සංසාර දුකෙන් මිදී නිදහස් වන්නට මිනිසුන් විසින්ම අනුගමනය කලයුතු ඒකායන මාර්ග ප්‍රතිපදාව (පිළිවෙත) විවෘත කර පෙන්වා දුන් උතුම් බුද්ධ ධර්මය ක්‍රමයෙන් අදහන ආගමක් බවටම පත් කර ගත්හ. අද සංදර්ශන, කානිවල්, සල්පිලි, හා ව්‍යාපාර පවත්වන්නේද මේ අදහන බුද්ධාගමේම නාමයෙනි. අනුගමනය කලයුතු ධම්මානු ධම්ම පිළිවෙත කැමති පරිදි වෙනස් කරගෙන, සංදර්ශන හා කානිවල් පවත්වමින් බුද්ධාගමක් ඇදහිමේ ක්‍රමය ප්‍රචලිත වීම නිසා අදවන විට රටේ සමාජයම වශයෙන් හා ආගමික වශයෙන් විශාල ප්‍රශ්න රාශියකට මුහුණු දෙන්නට අහිංසක හාමුදුරුවන්ටම සිදුවී ඇත.

බුද්ධාගම ඇදහීම පිළිබඳවත්, ප්‍රායෝගිකව අනුගමනය කල යුතු බුදු දහම පිලිබඳවත්, ආගම හා දහම යන දෙක අතර ඇති වෙනස පිළිබඳවත් අද විවෘතවම කථා කරන්නට තරම් මේ ප්‍රශ්නය බරපතල තත්වයකට පත් වී ඇත.

“අපේම හාමුදුරුවන් අද අදහන බුද්ධාගම නම් එදා බුදුන් දෙසු බුද්ධ ධර්මය ම නොවේ”, යැයි ඊට අභියෝග කල හැකිවු ගිහි පැවිදි පිරිස් අතීතයේදීත් මේ රටේම විසුහ. මල්වත්තෙන් උපසම්පදාව ලබා ගන්නට අකමැතිවු, සාමනේර හිමිනමක් හැටියටම අපවත් වු, හිරේ විලංගුවේ පවා වැටුනු අතිපුජ්‍ය උඩකැන්දවෙල සිරි සරණංකර හිමියන් තම ධර්මාවබෝධයත්, ආත්ම ශක්තියත් නිසා එදා සම්මත උපසම්පදාවට විරුද්ධ විය. එමෙන්ම උපසම්පදාවට හා සම්මත සම්ප්‍රදායන්ට විරුද්ධ වු මහාචාර්ය වල්පොල රාහුල හිමියන්ට තම උපන් රටෙන් පිටවී ප්‍රංශයේ

වසර දහඅටක් කල් ගෙවන්නට සිදු වුයේත් මේ බුදු දහම හා බුද්ධාගම අතර ඇති පරතරය පිළිබඳව යම් අවබෝධයක් ඇතිව කථාකල නිසාය. පොත් ලියු නිසාය.

අපි නියම නිවැරදි බුදු දහම දැන ඒ මග අනුගමනය කරන්නේ නම්, වෙසක් දිනයට බුදුගුණ සිහිපත් කරමින් අප තුලත් ඒ බුදුගුණ වඩා වර්ධනය කරගන්නට අවංකවුත් පිරිසිදු වුත් සිතින් කටයුතු කළ යුතුයි. නමුත් අද බුද්ධාගම් කාරයොත් නත්තල් උත්සවයට සමානව උත්සවාකාරයෙන් බුදුන් අදහති. එය තරඟයට වෙසක් කලාප පැවැත්වීම දක්වා සංවර්ධනය වී ගොස් සංනිවේදන මාධ්‍යවලින් නාඩගම් ස්වරූපයකටද පත්කර ගෙන ඇත. වෙසක් දිනය යනු තවත් එක පසොලොස්වක පොහොය දිනයක් බව අද ලංකාවේ බෞද්ධයින්ට අමතක වී ඇති බවක් පෙනෙන තරමටම මෙය දැන් ව්‍යාපාරයක් හා තරඟයක් බවටද පත්වී ඇත.

මෙවන් තරඟකාරී, ව්‍යාපාරික වු සංදර්ශන හා කානිවල් ස්වරූපයක් ගැනීම උතුම් බුදුදහමේ පරමාර්ථයන්ට නම් කිසිසේත් ම නොගැලපුනත් අද සම්මත බුද්ධාගමට නම් මෙවන් විසුක දර්ශන නැතිවම බැරිය. හුදී ජන පහන් සංවේගයට ගැලපෙන පරිදි, සුන්දර හා ජනප්‍රිය බුද්ධාගමක් කෘතිමව නිර්මාණය කරගැනීමේ ප්‍රතිඵලය වුයේ, විමුක්ති මාර්ගය හා නිවන් ක්ෂාක්ශාත් කර ගැනීම නැමැති උතුම් පරමාර්ථය අමතක කර දමා ආමිස සුවය සඳහා මුලු ජන සමාජයම වැරදි මගක යාමට පෙළඹවීමයි. අද එහි ඇති පල විපාකයන් රටට පමණක් නොව මුළු ලෝකයටම අහිතකර ලෙසින් අත්විදින්නට සිදුවී ඇති බව ඕනෑම කෙනෙකුට පහසුවෙන්ම තේරුම් ගත හැකිය.



## නිබ්බානගාමී මාර්ග ප්‍රතිපදාව පෙන්වා වදාළ උතුම් බුද්ධ ධර්මය සහ භක්තියෙන් අදහන බුද්ධාගම යනු එකක්ම ද?

බුද්ධත්වයට පත් වූ ගෞතම බුදුපියාණන් වහන්සේ එදා ලෝකයාට දේශනා කර වදාළ නිබ්බානගාමි මාර්ග ප්‍රතිපදාව පෙන්වාදුන් උතුම් බුද්ධ ධර්මය හා බෞද්ධයින් හැටියට අපි අද සම්මතයෙන් අදහන බුද්ධාගම යන මේ දෙක එකක්ම ද නැතිනම් දෙයාකාරවූ දෙවිධියක් ද යන ප්‍රශ්ණය පිළිබඳව ගැඹුරින් හා විස්තර සහිතව සාකච්ඡා කරන්නට සුදුසු කාලය දැන් එළඹී ඇත. බුදුපියාණන් වහන්සේ බුද්ධත්වයට පත් වූ යුගය වනවිට එදා ජන්බුද්වීපයේ ජීවත් වූ ජනතාව ඇදහූ, ආගම් හැටගණනක් ම ප්‍රචලිතව පැවති බව බ්‍රහ්මජාල සූත්‍රයෙහි කරණ ලද විග්‍රහයෙන් මනාව පැහැදිලි වෙයි. නමුත් බුද්ධාගම නමින් අදහන ආගමක් එදා සමාජගත වී නොතිබුනි. සම්ප්‍රදායානුකූලව සම්මතයෙන් එදා මිනිසුන් අදහන්නට පුරුදු වී සිටි ආගම්වල තිබුණු බොහෝ අඩුපාඩු පෙන්වාදුන් බුදුපියාණන්වහන්සේ බුද්ධාගම නමින් තවත් එක අලුත් ආගමක් නිර්මාණය කරන්නට කිසිසේත්ම කටයුතු කලේ නැත. **බුද්ධාගමේ නිර්මාතෘන් වහන්සේ එසේත් නැතිනම් බුද්ධාගමේ ආගම් කර්තෘන්වහන්සේ, ලෙසින් ගෞතම බුදුපියාණන් වහන්සේව හැඳින්වීම සම්පූර්ණයෙන් ම වැරදිය.** උන්වහන්සේ මේ උතුම් ධර්මය දේශණා කලේ තවත් එක අලුත් ආගමක් නිර්මාණය කර දී බුද්ධාගම නමින් ආගමක් අදහන පිරිසක් සමාජගත කිරීමේ චේතනාවෙන් නොවේ.

සංසාර රිය ගමන පවත්වාගෙන දිගින් දිගට ම උපදිමින් මැරෙමින් යන මේ ගමන මහත් දුකක් බව පෙන්වාදුන් උන්වහන්සේ මේ උතුම් බුද්ධ ධර්මය ලෝකයාට දේශණාකර වදාලේ විමුක්තිමාර්ගය පෙන්වා දී සංසාර දුකෙන් සදහට ම මිදී නිදහස්වන්නට උපකාර කර ගත යුතු මාර්ග ප්‍රතිපදාව පෙන්වා දිමටය. මේ අනුව සියලුම බුදුවරයින් වහන්සේලා විමුක්තිදායකයින් වහන්සේලා ලෙසින් සැලකිය හැකිඋනත් **අදහන ආගමක නිර්මාතෘ වශයෙන් සැලකීම හෝ හඳුන්වාදීම සම්පූර්ණයෙන්ම වැරදිය.** එදා බුද්ධ ධර්මය දේශණාකල බුදුපියාණන් වහන්සේ, තමන් දේශණා කරණ ලද මේ ධර්මයම ප්‍රයෝජනයට ගනිමින් පසුකාලීනව අදහන ආගමක් නිර්මාණය කරගනු ඇතැයි කිසිසේත්ම සිතන්නට ද නැත.

අද විසිඑක්වෙනි සියවසේ තාක්‍ෂණය හා සන්නිවේදන මාධ්‍යයන් දියුණු වූ මෙවන් යුගයක ජීවත්වන මිනිසුන් හැටියට අපි හොඳට හොයලා බලලා තේරුම් ගතයුතු වන්නේ බුද්ධ ධර්මය යනු කිසිසේත්ම අදහන තවත් එක ආගමක් නොවන බවයි. අද සම්මත බුද්ධාගම නමින් ඇදහිය යුතු ආගමක් අදහනවා මිසක එදා බුදුපියාණන් දේශනා කර පෙන්වා වදාල අයුරු විමුක්ති මාර්ගය පෙන්වා දෙන ධර්මයක් ලෙසින් ප්‍රායෝගිකව මග අනුගමනය කර නිවනට උපකාර කර ගන්නා ප්‍රතිපත්ති මාර්ගයක් මෙහි ඇතත් එය අනුගමනය නොකරන බව පැහැදිලිවම තේරුම්ගත යුතුයි.

ආගමක් කියන්නේ මිනිස් ඉතිහාසයේ ආරම්භයේ පටන් ම පවතින මිනිස් ජීවිතයක සිතුම් පැතුම් හා සම්මත ආචාර සමාචාර විධි සමඟින් බද්ධ වු ප්‍රපංචයක්. නිවන් දැකගන්නට උපකාර වන බුද්ධ ධර්මය භාවිතයේ පැවතුනත් නැතත් මිනිසුන් අතරින් ආගම් ඇදහීමේ සංස්කෘතිය සම්ප්‍රදාය නැතිවෙන්නේ නැහැ. ආගමකින් තොර වූ සමාජයක්, සංස්කෘතියක්, දේශපාලන සංවිධානයක්, පවතී කියල අපට හිතන්නටවත් බැහැ. මේ අනුව හැම සමාජයකම සංස්කෘතියකම මූලික අංගයක් වශයෙන් ආගමික චාරිත්‍ර වාරිත්‍ර ඒවගේම විවිධ සංස්කෘතික අංගයන් වන පෙරහැර, පුදපූජා, දේවාල, දෙවියන් යැදිම ආදිය ජීවිතයේ ලෞකික අවශ්‍යතාවයන් ලෙසින් පවත්වාගෙන යා යුතුම දේවල්. මේ අනුව ආගමේ ආරම්භයත්, සංස්කෘතියෙහි ආරම්භයත් සමකාලීන බව බොහෝ විද්වතුන් විසින් ද පෙන්වල දීලා තියෙනවා.

මේ අනුව ආගමක් යනු පෘතග්ජන සමාජයකට ජන ජීවිතය පවත්වාගෙන යන්නට නියත වශයෙන් ම උපකාරවන අත්‍යාවශ්‍ය වන මූලිකම අංගයක්. පාලකයින්ට රටක් පාලනය කිරීමේ දී ආගමක් අදහන මිනිසුන් පිරිසක් රටක වාසය කිරිම පාලන කාර්යයට ඉමහත් පිටුවහලක් වෙනවා. යුද්ධ හමුදාවකට, පොලීසියකට, නීතිරීති පද්ධතියකට හීලෑ කළ නොහැකි ආකාරයෙන් මහජනතාව පාලනය කිරීමේ හික්මවීමේ ක්‍රමවේධයක් සියලුම සම්මත ආගම්වල පවතිනවා. මෙවන් ආගමික ඇදහිලි, විශ්වාස හා පිළිගැනීම් දේවත්වයෙන් පිළිගන්නා මිනිසුන් රාජ නීතියටත් වඩා දේවබලයට අවනතවූ බව ඉතිහාසයෙන් ම පේනවා



අතීතයේ දී කුරුස යුද්ධය , ජිහාඩ් යුද්ධය සිදුවුයේත් ආගමේ නාමයෙන්මයි.

මේ අනුව ආගමක් ඇදහීම කරන්නේ මිනිසුන්ගේ ම නොදැනුවත්කම මෙන්ම භය, ත්‍රාසය, හා මායාව කියන ත්‍රිවිධාකාර වූ අද්භූතජනක ගති ස්වභාවයන්ට පිළියමක් ලෙසිනි. මිනිසුන්ගේම චරියා රටාවන් තුලින් ම බිහිකරගන්නා යම් යම් වටිනාකම් සමූහයක් ඇදහිම ආගමක් ඇදහීමයි. ඒවාගේ ම ආගමක් යනු සමමිත සම්ප්‍රදායයන් සමූහයකි. මේ වටිනාකම් හා සම්මතයන් පිළිගැනීම මගින් මිනිස් වර්ගයාගේ මානසික අවශ්‍යතාවයන් ඌණ පුරණය කරගන්නේ ආගම් ඇදහීම මගිනි. මෙයම සංස්කෘතියකට ද පාදකවෙයි. ඊශ්වර වාදය , බහුදේව වාදය, සර්වාස්ති වාදය, මේ ආදී වූ සියළු ආගම් ඇදහිලි හා සම්මත ආගම් මිනිසුන් විසින් ම නිර්මාය කර ගත් සංකල්පයන්මය.

ගස්, වැල්, ගල්, පර්වත, මෙන්ම විවිධ ස්වාභාවික වස්තුන්ටත් , මියගිය අයටත්, විවිධාකාරයෙන් මිනිසුන්ම වඳින්නට පුදන්නට පටන්ගත්තේත් එවැනි ස්වාභාවික වස්තූන්ගෙන්ම යම් යම් දේ ඉල්ලා , යැද යාඥා කරන්නට , පුද පඬුරු බඳින්නට පුද පුජාකරන්නට පටන්ගත්තේත්, භාරහාර වී ඒවා ඔප්පු කරන්නට පූජා පැවැත්වුයේත් ආගමික සංකල්පයන් බලවත් වූ නිසාමය.

මේ අනුව ආගම් ඇදහීමේ සංකල්පය ජනප්‍රිය වීම නිසා අහිංසක ලෙස ලබාගන්නා මානසික සහනයක් විඳගන්නටත් ලෞකික වශයෙන් නරක දෙය බැහැර කර ලෞකික සුවයට හේතුවන හොඳ දේ ලංකර ගන්නටත් මිනිසුන් පෙළඹුනේ ආගම් සංකල්ප පිළිගත් නිසාමය. කහනූල් බැඳීම, පිරිත් නූල් බැඳීම, සුර බැඳීම, යන්ත්‍ර පැළඳීම, ආරක්‍ෂක විධි විධාන යෙදිම මගින් බාහිර බාධක හා අපල උපද්‍රව වලින් මිදි නිදහස් වීමට ඒවා උපකාර වන බව සිතීමද ආගමික විශ්වාසයන් නිසාම ඇතිවුවකි. මිනිසුන් විද්‍යාත්මක වශයෙන් අද වන විට බොහෝ දුරට දියුණු තත්වයකට පත් වි සිටියත් තවමත් මේ පුද පූජාපැවැත්වීම, භාරහාරවීම, ගස් ගල් වන්දනාව සහ බොහොමයක් ආගමික වැඳුම් පිදුම් මගින් බාහිර බලවේග මගින් උපකාර

අපේක්ෂාකරණ බාල මානසික තත්වයකින් බොහෝ මිනිසුන් අදටත් ක්‍රියා කරන බව දැකිය හැකිවෙයි.

බොහොමයක් ශ්‍රී ලාංකික සැදැහැතියන් අදටත් නිවන් ප්‍රාර්ථනා කරමින් වන්දනාගමන් යමින්, වැඳුම් පිදුම් යැදුම් පැතුම් විශ්වාස කිරිමට ඇබ්බැහි වී සිටින්නේ නිවනද බාහිර පුද්ගලයෙකුගෙන් එනම් දෙවියන්ගෙන් හෝ පිරිනිවන් පා වදාළ බුදුපියානන්ගෙන් හෝ වෙනත් අරහතුන් වහන්සේ කෙනෙකුගෙන් හෝ ඉල්ලා ලබාගත හැකි දෙයක් බව තරයේ ම විශ්වාස කරණ බැවිනි.

මිනිසාට ස්වභාව ධර්මයෙන් ම උපකාර කරන සූර්යයා චන්ද්‍රයා, වැස්ස, ගින්න වැනි දේවල් ද දේවත්වයෙන් පුදන්නට විම හා ඒවාට තිබු බිය නිසාත් එවන් දේ තේරුම් ගන්නට බැරිවීම නිසාත් මායාවක් ලෙස ඒවා දැකීම නිසාත් ආගම් බිහිවිය. හිරු එලිය වරක අස්වැන්න සරු කරයි. තවත් වරෙක එම හිරු රශ්මියම අස්වැන්න වියලා විනාශ කරණ නියඟයක් බවට ද පත්වෙයි. මේ ආකාරයෙන් ම වර්ෂාවද වරෙක අස්වැන්න සරුකරයි. තවත් වරෙක ජලගැලීමක් බවට පත්වී සියල්ල විනාශ කර දමයි. මෙවන් ස්වාභාවික බලවේගයන්ට මුල් වූ හේතුව හරියට තේරුම් ගන්නට නොහැකි වූ මිනිසුන් මේ ස්වභාවික දේවල් වලට දේවත්වයෙන් සලකා ඒවාට වැඳුම් පිදුම් කරන්නට විය. බුද්ධ කාලයෙන් පසුව ආ යුගයක දි, ගිනි පිරිත, සූර්ය පිරිත, චන්ද්‍ර පිරිත, ජලනන්දන පිරිත, මේ ආදි පිරිත් බුද්ධාගමට අලුතින් එකතු වුයේ මේ ආගමික සංකල්ප මිනිසුන් අතරේ ජනප්‍රිය වෙන්නට පටන්ගත් නිසාමය. මෙවන් දේවලට දේවත්වයෙන් වැඳීම හා යාඥා කිරිම නිවන් අවබෝධ කර ගන්නට කිසිසේත්ම උපකාරයක් නොඋනත් මිනිසුන්ට තම ලෞකික පැවැත්ම සඳහා යම් සහනයක් මානසිකව හෝ ලැබෙන නිසාත්  එවන් දේ ජන විඤ්ඤාණයට ගැලපෙන නිසාත්, සුන්දර බුද්ධාගමට ද ඒවා එකතු විය. මෙවන් වැදුම් පිදුම් යැදුම් මිනිසාට තාවකාලිකව සහනයක් ලබාදෙන්නට උපකාර වූ නිසා එවන් දේ සමාජ සම්මතයෙන් ම ආගම් ලෙසින් දිගට ම පවත්වාගෙන යාමට ද මිනිසුන් ම කැමැත්තක් දැක්විය.



සමාජවාදී හෝ ධනවාදී හෝ හැම අර්ථ ක්‍රමයක් තුලම පීඩිත ජනතාවට තාවකාලිකව හෝ දුකින් මිදී මානසික සැනසීමක් ලඟා කර දෙන්නේ  ආගමික ඇදහිලි හා විශ්වාසයන් මගිනි. ඒ අනුව ධනවාදී සමාජ ක්‍රමයක සමාජ විෂමතාවන් සාධාරණව ඉවසා දරා පිළිගැනීමට ද ආගමක් උපකාර වෙයි. ඒ හැරුණු කොට පෙරහැර , පුද පූජා උත්සව, වෙසක් පොසොන් පොහොය උත්සවයන් සැමරීම ආදී දේ නිසාත් මිනිසුන්ට යම් සුන්දර විනෝදාස්වාදයක් අහිංසකවම විඳගැනීමේ හැකියාවක් ද ආගම් ඇදහීම නිසා උදා විය. මේ අනුව මානසික සංහිඳියාව ඇති කිරීම කෙරෙහි ආගම් තරම් බලපෑ එතරම් විශාල දායකත්වයක් ලබාදුන් වෙනත් දෙයක් සමාජ සම්මතයේ නැතැයි කිව හැකිය.

නවීන විද්‍යාවේ හා තාක්ෂනයේ දියුණුව නිසා අදවන විට භෞතික ලෝකය පිළිබඳව වූ මිනිසාගේ දැනුම අතිමහත් ලෙසින් පුළුල් වී ඇත. මෙසේ දියුණු වී ඇත්තේ ඉන්ද්‍රිය ගෝචර, විෂයානුබද්ධ ඥාණය හා දැනුමයි. මෙවන් වූ දැනුම පොතපත කියවීමෙන් ද, සන්නිවේදන මාර්ග වලින් ද, අන්තර්ජාලයෙන් ද, එමෙන් ම ප්‍රවාහන පහසුකම් දියුණු වීම නිසා ජාත්‍යන්තර සම්බන්ධතාවන් පුළුල් වීමෙන් ද ලබා ගන්නා ලද දැනුම් සම්භාරයකි. මේ දැනුම කොතරම් පුළුල් වුවත් ඒ සියල්ලම භෞතික ලෝකය හා බාහිර ලෝකය පිළිබඳව ලද පටු දැනුමක් පමණි. “භෞතික වුත් ලෞකිකවුත් පටු දැනුමෙන් ඔබ්බට ගොස් අධ්‍යාත්මික වූත්, අධිමානසික වූත්, අතීන්ද්‍රිය ඥාණයක් ද මිනිසෙකු ලෙසින් උපත ලැබූ කෙනෙකුට ලබා ගත හැකිය.” උගත්කම නිසා, දැනුම නිසා, බුද්ධියෙන් මත්වන නිසා, මිනිසා අස්මි මානයෙන් මත් වී තමාව ම වැරදි ආකාරයට මනින්ට පුරුදු වෙනවා මිස මිනිසත් කමේ උතුම් හර පද්ධතිය තමා තුලින් ම දැකගන්නට උත්සාහ නොකරයි. මේ අනුව ජීවිත පැවැත්ම පිළිබඳව පරම සත්‍යයන් දැක ගන්නට උපකාර වන ප්‍රඥාව නොලබාම තව තවත් සංසාර දුකම උරුම කරගනී.

ඉතිහාසඥයින් , පුරාවිද්‍යාඥයින් හා දේශගවේෂකයින් විසින් තමන් උගත් දේවල් අනුසාරයෙන්, ඓතිහාසික වාර්තා, ලිඛිත සාක්ෂි,මෙන්ම ලබාගත හැකි අනෙකුත් භෞතික සාධකද, පදනම් කරගනිමින්  යම් යම් සම්මතයන්ට හා අනුමාන නිගමනයන්ට බැසගෙන යම් අනුමාන මතයක්

ඉදිරිපත් කරයි. එසේ තමන් අනුමානයෙන් බැසගත් නිගමනය යලි යලිත් සනාථ කරන්නටත් තව තවත්  පර්යේෂනයන් ද පවත් වයි. ඒවාගේ ම තමන් අනුමානයෙන් ඉදිරිපත් කරණ ලද මතයට විරුද්ධව යමෙක් කරුණු කාරණා ඉදිරිපත් කරන්නට උත්සාහ ගත්තොත් තම මතය අනාථ වන්නට යන බව දැක්කොත්, අන්තවාදී ලෙසින් ක්‍රියාකර අලුත් මතය නිශේධනය කර තම මතයම රැකගන්නට උත්සාහ දරයි. මේ ගති ස්වභාවය උගත් , බුද්ධිමත් සම්මතයෙන් පිළිගත් ඉතිහාසඥයින් පුරාවිද්‍යාඥයින් අතරේ මෙන්ම භක්තියෙන් ආගම් අදහන ආගමික නායක කාරකාදීන් තුලින් ද දක්නට ලැබෙයි.

නවීන ලෝකයේ ජීවත්වන මිනිසාට ප්‍රවාහණ පහසුකම් පුළුල් වීම නිසාත් සංචාරය කරන්නට ලැබීම නිසාත්, නවීන සන්නිවේදන ක්‍රම හා අන්තර්ජාල පහසුකම් පුළුල් වීම නිසාත්, මින් පෙර නොඇසු , මින්පෙර නුදුටු සිතාගන්නට බැරි තරම් බොහෝ ලෞකික හා භෞතික දේවල් ගැන දැන ගන්නට හා දැක ගන්නට ලැබුණි. මෙවන් ආකාර වූ නවීන විද්‍යාවේ දියුණුව නිසා ලැබුණු නියත ප්‍රතිඵලය වූයේ භෞතික හා ලෞකික ලෝකය තව තවත් උපාදානය කරගත හැකි, උපාදානය කරගත යුතු, සුවපත් තැනක්සේ සිතන්නට මිනිසුන් පුරුදු වීමයි. මේ අනුවම මිනිසුන්ගේ ආගමික අවශ්‍යතාවයන් වෙනස් වීම නිසා යාන්ත්‍රිකව රොබෝ කෙනෙකු මෙන් සිතන්නටත් ක්‍රියාකරන්නටත් පෙළඹීම එහි ප්‍රතිඵලය විය. සන්නිවේදන මාධ්‍යයන්ට , තාක්ෂණික උපකරණ වලට , යාන්ත්‍රික මෙවලම්වලට සීමා වි හිරවූ වර්තමාන මිනිසාට තම මනස මෙහෙයවා ක්‍රියා කරන්නට උපතින්ම ලැබුණු ශක්තිය එනම් යෝනිසෝමනසී කරණ ශක්තිය දුර්වල වී ගියහ. මේ අනුව වර්තමාන මිනිසා නවීන තාක්ෂණයට මෙවලම් වලට වහල් වූවෙක් බවට පත්විය. තම මනස මෙහෙයවා කළයුතු කරණීය ධර්ම හා නොකළ යුතු අකරණීය ධර්මයන් තෝරා බේරා ගන්නට තරම් යථාභූත ඥාණ දර්ශණය ලබා ගෙන සත්‍යාවබෝධය ලබාගන්නට තරම් මෙම යාන්ත්‍රික මිනිසාට හැකියාවක් නැතිවීම මෙහි නියත ප්‍රතිඵලයයි. මේ අනුව වත්මන් මිනිසාගේ අධ්‍යාත්මික ශක්තිය පිරිහීම නවීන විද්‍යාවේ ම  දියුණුව නිසා ලත් උරුමයකි.



ආගමික ඇදහීම් හා විශ්වාසයන් පිළිබඳව මෙතෙක් මිනිසුන් අතරේ සම්මතයෙන් පිළිගත් ගතානුගතික මතිමතාන්තර හා විශ්වාසයන් විවිධාකාරයෙන් විමර්ශනය කරන්නටත්, විචාරයට ලක්කරන්නටත්, අන්ධ භූත විශ්වාසයන් සැක කරන්නටත් මිනිසුන්ම ක්‍රියාත්මක වීමද මේ නවීන විද්‍යාවේ දියුණු වේම එක් අතුරු ප්‍රතිඵලයක් විය. සම්මත සමයය, (ආගම්) සම්ප්‍රදායයන් පිළිබඳව මිනිසා පෙර නොවූ විරූ ආකාරයට කරුණු විමසන්නටත් විවේචනය කරන්නටත් පටන් ගත්හ. ආගම්, ඇදිහිලි හා පිළිගත් විශ්වාසයන් පිළිබඳව බටහිර උගතුන් බොහොමයක් විමර්ශනාත්මකව හා විවේචනාත්මකව මතයන් ඉදිරිපත් කරන්නට වූයේත් මේ අනුවමය.

බටහිර විද්වතුන් ආගම් හා ඇදහීම් පිළිබඳව ආන්දෝලනාත්මක මතයන් ඉදිරිපත් කරන්නට පටන් ගත්තේ 15,16 වන සියවස් වලින් පසුවය.නමුත් පෙරදිග බොහොමයක් දාර්ශණිකයින්  ක්‍රි.පූර්ව. 6,7 වන සියවස් වලටත් පෙර පටන් ම ආගම් දෙස බැලුවේ විමර්ශනාත්මකව හා විවේචනාත්මකවය. හේතුපල ධර්මයට බහා ගලපා බලන්නට මෙන්ම වෙනත් අධ්‍යාත්මික වූ නියාය ධර්මයන්ට අනුව කරුණු කාරණා අධ්‍යයනය කරන්නටත් , අධ්‍යාත්මික වූ මිනිසා සතු ශක්තියෙන් වැඩගන්නටත් පෙරදිග විද්වතුන් අතීතයේ දීත් ක්‍රියා කළ බව ඉතිහාසයෙන් පැහැදිලිවම පෙන්නුම් කළ හැකිය.

අතීතයේ පෙරදිග ලෝකයේ (හෙලදිව හා මහා භාරතයේ) පැවති නිර්බාධක චින්තනය මෙවන් ආගමික විශ්වාසයන් හා ඇදහිලි මෙන්ම දැඩි අන්ධ විශ්වාසයන්ද බැහැර කරදමා සාධාරණ ලෙසින් කරුණු කාරණා විමර්ශණය කරන්නට බෙහෙවින් ම උපකාර කර ගත්හ. බුදුපියාණන් දේශණා කර වදාල බ්‍රහ්මජාල සූත්‍රයෙන් පැහැදිලිව හෙලිවන්නේ නොබියවම එදා මිනිසුන් දැඩිව විශ්වාස කල දේව වාදී ප්‍රතිපත්ති හා ආගමික ඇදහීම් විවේචනය කරන්නට තරම් නිදහස් නිවහල් චින්තනයක් එදා හෙලබිම ජන්බුද්වීපයේ පැවතුන බවයි.

දෙවියන් ඇදහීමත්, දෙවියන් නොඇදහීමත්, තමන් අදහන දෙවියන් වෙනස් කර වෙනත් දෙවියෙකු ඇදහීමටත්, ආගම් විවේචනය කරන්නටත්, ආගම් වෙනස් කරන්නටත්, සියලු ආගම් අතහරින්නටත් එදා පෙරදිග මිනිසුන්ට නිදහස තිබු බව කාලාමා සූත්‍රයෙන් හා සතරමහාපදේශයෙන් ද පැහැදිලිවම විග්‍රහ කර පෙන්වා දෙයි. එදා බ්‍රහ්මත්වය, දේවත්වය, මිනිසුන් තදින්ම විශ්වාස කළද මෙවන් බ්‍රහ්මත්වයක් හෝ දේවත්වයක් මිනිසාට විමුක්තිය ලඟාකර නොදෙන බව පැහැදිලිවම බුද්ධ දේශනාවෙන් පෙන්වා වදාලහ.

**<u>උතුම් බුද්ධ ධර්මය හා අදහන බුද්ධාගම එකක් මද ?</u>**

බුද්ධ ධර්මය ශ්‍රවණය කිරීමෙන් හෝ කියවීමෙන් හෝ යමෙකු බලාපොරොත්තු විය යුතු වන්නේ, ලොව්තුරා බුද්ධත්වයට පත් වූ බුදුපියාණන් වහන්සේ විසින් අවශේෂ ලෝකයාගේ ද විමුක්තිය සඳහා, නිවීම සඳහා, එදා දේශනා කර වදාලා වූ නිවන් මග අසා දැන ගෙන, ඒ නිවන් මාර්ගය තමනුත් අද අනුගමනය කරන්නටයි. මිනිසුන් හැටියට උත්පත්තියක් ලබාගෙන ඇති මේ අවස්ථාවේ දි හැම කෙනෙකු ම යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරන්නට නම් මේ උතුම් බුද්ධ ධර්මය අසා දැන එහි පෙන්වාදුන් මග උපකාර කරගත යුතුය. “මනුස්සත්ත පටිලාභෝ පරම දුල්ලභෝ” යනුවෙන් දේශනා කර වදාලේ - මනස පාවිච්චි කරලා, යෝනිසෝ මනසිකාරයෙන් ක්‍රියා කරලා, තමන්ගේ මනසම උසස් - පිරිසිදු තත්වයකට පත්කර ගන්නට ලැබුණු මෙය දුර්ලභ අවස්ථාවක් නිසයි. එහෙමත් නැති නම් මේ බඹයක් පමණ වූ ශරීර කූඩුව තුල තමන් ම රැස්කර ගෙන ඇති කෙලෙස් කියන කුණුගොඩ තම චිත්ත සංතානයෙන් ම අස් කර ගන්නේ කොහොම ද කියල අහල දැනගෙන ඒ කුණුගොඩ අස්කර දමන්නට ක්‍රියාත්මක කලයුතු නිවැරදි ප්‍රතිපදාව ක්‍රියාත්මක කිරීමයි. ඒ යෝනිසෝමනසි කාරයෙන් කටයුතු කිරීමයි.

මෙතෙක් දේශණා කර පෙන්වූ දේවල් වලට වඩා තරමක් වෙනස් වූ කරුණු කාරණා ටිකක් මේ පින්වතුන්ගේ අවධානයට යොමු කරවන්නට, මේ කරුණු ගැන අලුතින් හිතන්නටත් මෙය අවස්ථාවක් කර ගත යුතුයි.



“බුද්ධත්වයට පත් වු බුදුපියාණන් වහන්සේ එදා දේශණා කර වදාල උතුම් මාර්ග ප්‍රතිපදාවම ද අපි අද මේ අදහන බුද්ධාගමේ ප්‍රායෝගිකවම මිනිසුන්ට පෙන්වා දෙන්නේ, කියා දෙන්නේ ” එහෙමත් නැතිනම් මේ අදහන බුද්ධාගම හා බුද්ධ ධර්මය කියන්නේ එකක්මද? නැත්නම් දෙකක්ද? මේ ප්‍රශ්නයට නිවැරදි පිළිතුරක් ලබා ගන්නා තුරු අද අදහන සම්මත සම්ප්‍රදායික බුද්ධාගමෙහිත් එදා මිනිසුන්ගේ විමුක්තිය සඳහා බුදුන් වහන්සේ දේශණා කර පෙන්වා වදාල විමුක්ති මාර්ගය අතරත් වෙනසක් තියෙන බවවත් මිනිස්සුන්ට තේරුම් ගන්න අපහසුයි.

ක්‍රිස්තියානි, කතෝලික, මෙන්ම මුස්ලිම් ආදී ඒක දේව වාදයන් මුල්කර ගනිමින් අපරදිග රටවල වැසියන් අන්ධ භක්තියෙන් එදා ඇදහු දේව ආගම්වල තමන් ඇදහු ආගම පමණක්ම, එකම සත්‍යය බවත්, තමන් ඇදහු දෙවියන් එකම දෙවියන් බවත්, තරයේම ප්‍රකාශ කළහ. විශ්වාස කළහ. වෙනත් දෙවියෙකු ඇදහීම වන්දනා කිරිම හෝ වෙනත් ආගමක් ඇදහීම බලවත් පාපයක් ලෙසත්, බහුතරයක් ම විශ්වාස කළ යුගයක් එදා බටහිර රටවල තිබුණි. මේ තත්වය එසේ ම නැතිවුවත් අදටත් මිත්‍යාදෘෂ්ඨියෙන් ආගම් අදහන පෙර අපර දෙදිගම වැසියන් අතරේ ද තවමත් පවතින වැරදි හැඟිමකි. අපේම බෞද්ධ යැයි සම්මත දැඩි ආගමික මතධාරීන් අද පවා තමන් දැඩිව අදහන ආගමික මතයන්ට හා විශ්වාසයන්ට විරුද්ධව මත ඉදිරිපත් කරණ තමන්ගේ ම සහෝදර බෞද්ධයින්ට ද සහෝදර ජනතාවට ද මහා පාපකාරයන් ලෙසින් චෝදනා කරන්නේ ඉවසා විමසා ක්‍රියා කිරිමේ ශක්තියක් ඔවුන් තුල නැති කම නිසාය.

තමන් අදහන ආගම විවේචනය කර අදහස් ප්‍රකාශ කිරීම, විරුද්ධ අදහස් ලියා දැක්වීම එවන් විරුද්ධ මත ප්‍රසිද්ධියේ ප්‍රකාශ කිරීම, බරපතල පාපයක් , වරදක් සේ තීරණය කළ යුගයක් එදා දේව ආගම් වලත්, අද සමහර මුස්ලිම් ආගමිකයින් තුලත් පැවතුනත් බුද්ධ ධර්මය අනුගමනය කරණ බෞද්ධයින් තුල එවන් ගති තිබිය හැකි නොවේ. මෙයට මුල් වු හේතු හරිහැටි තේරුම් ගත යුතුය. බුද්ධ ධර්මය යනු කිසිසේත්ම විශ්වාසයන් පදනම් කරගත්, භක්තියෙන් අදහන ආගමක් නොවන බවයි.

අතීතයේ ලියූ පොතක ලියා තිබූ පලියට, බහුතර ජනතාවක් සම්මතයෙන් පිළිගත් පලියට, සමාජ සම්මතයෙන් රජයක් හෝ පාලකයින් හෝ ආගමික නායකයින් හෝ අදහන පලියට, එය බහුතරයක් පිළිගත් මතය වූ පලියටම ඊට එරෙහිව අලුත් මතයක් ඉදිරිපත් කිරීමේ නිදහස් නිවහල් චින්තනය, නිර්බාධක චින්තනය එදා නොපැවතියේ නම් ගෞතම බුදුන්ටත් පෙර නොඇසුවිරූ ධර්මයක් ඉදිරිපත් කරන්නට,'' විමුක්තිමාර්ගය පෙන්වා දෙන්නට, අවස්ථාවක් නොලැබෙනු ඇත. “ පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු” යන බුද්ධ භාෂිතය එසේ නම් හරයක් අර්ථයක් නැති පද පෙළක් පමණක් බවට පත්වෙන්නට ඉඩ තිබුණි.

මේ ආකාරයට පෙර නොඇසූ විරූ අලුත්ම මතයක් පරම සත්‍යය වුවත් - එවන් සත්‍යයක් ඉදිරිපත් කරන පුද්ගලයා කවුරුන් උවත්, එය ප්‍රකාශකරන්නාට හැම ආකාරයෙන් ම බාධක , කෙනෙහිලිකම්, අවහිරතා ඇතිකරවන්නටත් , සමාජයෙන් කොන්කර සහ මුලින්ම ඔහුව විනාශ කර දමන්නටත් විශාල සම්මත බලවේගයක් ඉදිරිපත් වීම ස්වභාවිකය. එදා ගෞතම බුදුපියාණන්ටත් මේ විරුද්ධ කම්, කෙනෙහිලිකම්, යටිකූට්ටු වැඩපිළිවෙලවල් තිබූ බව බෞද්ධ ඉතිහාසයෙන් ම පැහැදිලි වෙයි. අද වනවිට මේ තත්වය ඉතාමත්ව බරපතල ලෙසින් නව මත ඉදිරිපත් කරන්නන්ට විරුද්ධව ක්‍රියාත්මක වන්නේ සන්නිවේදන මාර්ගයන් ද උපකාරකර ගනිමින්ය. පසුගිය වසර දෙකක පමණ කාලයක් තුල ලංකාවේ සමහරක් සන්නිවේදන මාධ්‍යයන් ක්‍රියාකල අන්තවාදී ආකල්පයන් හා පටුආකල්පයන් ගැන සිතා බලන කෙනෙකුට මෙය මැනවින් අවබෝධ වෙනු ඇත.

රටේ පාලකයින් ද රජවරුන් ද සම්මතයෙන් බලවත් ආගමික නායකයින්ට අවනතව, අදහන හා විශ්වාස කරණ තම ආගමටද පක්ෂපාත විය යුතුමය. ආගමික නායකයින් විසින් පිළිගත් සම්මත ආගමට විරුද්ධව ක්‍රියාකරණ හෝ වෙනත් ආගමික මතයන්ටත් අවනත වන හෝ පාලකයන්ව රජවරුන්ව බලයෙන් පහකරන්නටත් පාලකයාව වෙනස් කරන්නටත් ආගමික අන්තවාදීන් හැම විටකම අතීතයේ දී ක්‍රියා කළහ. මෙය වර්තමානයටත් අනාගත යටත් එකසේ ම බලපානු ලබන දෙයකි. වෙනත්



ආගමික මතයක් හෝ ධර්මයක් හෝ අනුගමනය කරන්නට එදා මිනිසුන්ට නිදහසක් නොතිබුනා පමණක් නොව එසේ කිරීම බලවත් වරදක් යැයි සලකා සම්මතයෙන් ඓතිහාසිකව පිළිගත් දේ පිළිගත් ආගමික ආකෘතිය වෙනස් කර පරම සත්‍යය දේශනා කළත්, එයද බරපතල වරදක්සේම දකින පිරිසක් තවමත්, අදටත්, අප සමාජයේ ද සිටී.

කල්යත්ම නවීන විද්‍යාවයැයි දෙයක් බටහිර ලෝකයතුල ව්‍යාප්තවීමත් සමගම එතෙක් කාලයක් ආගමට තිබූ ස්ථානය නවීන විද්‍යාවට පැවරුනි. මේ අනුව බොහොමයක් ආගමික ඇදහීම් විශ්වාසයන් වෙනස්වන්නට පටන් ගත්තා පමණක් නොව ස්වභාව ධර්මයෙන් පිළිගෙන තිබූ බොහොමයක් දේවල් (දේව කෝප දෙවියන්ගේ ලෙඩ ආදිය) නවීන වෛද්‍යවිද්‍යාවේ හාස්කම් වලින් මිනිසාට ම වෙනස්කර ගන්නටත් හැකිවිය. මේ නවීන විද්‍යාවේ දියුණුව නිසා තාක්ෂණය , ශිල්පක්‍රම ප්‍රවාහණ පහසුකම් දියුණුවීම නිසා ආගම් වලට එතෙක් තිබූ තැන දැන් නවීන විද්‍යාවට ලැබීම නිසා බටහිර ආගම් ඇදහීම සම්මතයක් හෝ නාමික ක්‍රියාවක් පමණක් ම බවටත් පත්විය. මේ ආකාරයෙන් බටහිර ඇති වූ විපරිනාමයන් පෙරදිග රටවලටත් වේගයෙන් ප්‍රචලිත වීමේ ප්‍රතිඵලය වුයේ ආගම් වලට මෙතෙක් පැවති මුල්තැන වෙනස් වීමයි. මේ අනුව කාල් මාක්ස් වැනි චින්තකයින් ආගම ජනතාවගේ “අබිං” යනුවෙන්ද නිර්වචනය කළහ. මෙහි තේරුම වුයේ ආගම දුප්පත් , පීඩිත අසරණ ජනතාවගේ පිහිටට හා අස්වැසිල්ලට තිබුනු එකම මාර්ගය වූ බවයි. එදා මිනිසුන් අබිං කෑවේ විඳින දුක් කන්දරාව තාවකාලිකව හෝ දරාගන්නට අමතක කරන්නට හැකිවන ආකාරයේ මත්සුවයක් ලබා ගැනීමේ අටියෙනි. මේ අනුවම ආගමික ඇදහිලිද මිනිසුන්ට තාවකාලික සුවයක් ලබාදුන්හ.

නවීන විද්‍යාවේ, වෛද්‍ය විද්‍යාවේ හා වෙනත් තාක්ෂණික මෙවලම් නිර්මාණය කරගැනීමේ ප්‍රතිඵලය වූයේ මෙතෙක් කාලයක් මිනිසාට තේරුම් ගන්නට නොහැකිව දෙවියන් මැවූ දේ හැටියට තීරණය කරගෙන තිබූ බොහොමයක් දේවල් පිළිබඳව යම් ආකාරයකින් සාපේක්ෂ වූ සත්‍යයක් දැනුමට එකතු වීමයි. දෙවියන් පිළිබඳව, විශ්ව කර්ම, නිර්මාණ කරුවෙකු පිළිබඳව, මහා බ්‍රහ්මයෙකු පිළිබඳව , අල්ලා දෙවියෙකු පිළිබඳව මෙතුවක්

කලක් මිනිසුන් තුල මුල් බැස ගෙන පැවති මනෝභාවයන් ක්‍රමානු කූලව වෙනස් වන්නටත් ඒ වෙනුවට තමාව මෙහෙයවනු ලබන බලවේග පිළිබඳ ව පරම සත්‍යය සොයා බලන්නටත් බොහෝ මිනිසුන් ම උත්සාහ දැරූහ. මීට වසර 2600 කටත් පෙර යුගයක දි ගෞතම බුදුපියාණන් සොයාදැන විග්‍රහ කර පෙන් වු පරම සත්‍යය, එනම් හේතුඵල දහම නම් වු පටිච්ච සමුප්පාද ක්‍රියාවලිය විග්‍රහ කිරීමෙන් මිස වෙන මොනම විද්‍යාවකින් හෝ මේ අධිභෞතික බලවේගයන් ක්‍රියාත්මක වන ආකාරයට මුල් වු හේතුන් පිළිබඳව නිවැරදි විග්‍රහයක් කරන්නට කිසිම නවීන විද්‍යාඥයෙකුට හෝ හැකියාවක් නැති බව දැන් සනාථ වී ඇත.

උතුම් බුද්ධ ධර්මය යථාපරිදි අවබෝධ කර නොගත් මිනිසාගේ ප්‍රාථමික මනෝභාවය වුයේ තමා පිටුපස ක්‍රියාත්මකව පවතින, තමන්ව ම මෙහෙයවනු ලබන, තමන්ට තේරුම් ගත නොහැකි, තමන්ට ඉහලින් ක්‍රියාත්මකව පවතින යම්කිසි බලවේගයක් මේ විශ්වය තුල පවතින බවයි. දෙවියන්, භූතයින් , පේතයින් යක්‍ෂයින් ලෙසින් මිනිසුන් විශ්වාස කලේ මේ අධිභෞතික බලවේගයන්ය. එකී අධිභෞතික බලවේගයන්ගේ පිහිට පතමින් ලෞකික වශයෙන් සැප සම්පත් ලඟා කර ගැනීමටත් දුක තාවකාලිකව හෝ පලවා හැර දුකෙන් තාවකාලිකව නිදහස් වන්නටත් ගනු ලැබු ප්‍රයන්තයේ ප්‍රතිපලය වූයේ වැඳුම්, පිඳුම්, යැදුම්, පැතුම් සහිත වූ ආගම් නිර්මාණය වීමයි. ඇදහීම හා විශ්වාසය පවතිනා තුරාවටම ආගමක් ද බලවත් වෙයි. මිනිසාට සත්‍යය තේරුම් ගන්නට බැරිතාක් කලක් ආගම විසින් මිනිසාට තාවකාලික වූ යම්කිසි ආකාරයකින් පිහිටක්, පිළිසරණක් ලබාදෙයි. එමෙන් ම අධිභෞතික බලවේගයක් වශයෙන් සැලකූයක්‍ෂ , දේව, භූත, පේතාදීන්ගෙන් පැමිණිය හැකි අපල උපද්‍රවයන්ගෙන් අත්මිදීමටත් එකී බලවේගයන්ට පුද පඬුරු පූජා කරමින් එකී බලවේගයන් සතුටු කර තම බලාපොරොත්තු ඉෂ්ඨ සිද්ධ කරගන්නටත් මිනිසුන් ආගම් ඇදහූහ.

බුදුපියාණන් වහන්සේ සොයා දැන දේශණා කරණ ලද උතුම් බුද්ධ ධර්මය විශ්වාසයන් මත පදනම් වූ හෝ ඇදහිලි පුදපූජා , යාඥා මත පදනම් වුවක් හෝ නොව ඒවාට ප්‍රතිපක්‍ෂ වූ දහමක් වූ අතර උන්වහන්සේ දේශණා කළේ තමාගේ නිවන හෝ අපාය හෝ තමන් ම සාදා ගන්නා බවයි.



"න අඤ්ඤද සරණා" යනු උන්වහන්සේ නිතර නිතර පෙන්වා වදාළහ. මේ අනුව බුද්ධ ධර්මය හා ආගම සන්සන්දනය කළ හැකි දෙකක් නොවේ.

සියළුම ආගම් භක්තියෙන් ඇදහිය යුතු වූවත්, බුද්ධ දේශණාව - බුද්ධ ධර්මය - ශ්‍රද්ධාවෙන් අනුගමනය කළ යුතු ප්‍රතිපදාවකි. භක්තිය හා ශ්‍රද්ධා (සද්ධෝ) යන පද දෙක අදවන විට සියළුම බෞද්ධයින් පටලවාගෙන ඇත. මධ්‍යතන යුගයක දී අටුවා ටීකා ටිප්පණී ලියූ අටුවාචාරීන්ට පවා මේ පද දෙක (භක්තිය හා ශ්‍රද්ධා) පරමාර්ථ වශයෙන් වෙන් කර තේරුම් ගන්නට අපහසු වුබව පෙනෙන්නට ඇත. ඒ අටුවාචාරීන් අමුලකා ශ්‍රද්ධා ආකාරවතී සද්ධා යනුවෙන් බුද්ධ දේශණාවේ නැති අලුත් බෙදීමක් අටුවාවලට ඇතුළු කිරීමෙන්ම මෙය තේරුම් ගත හැකිය. ත්‍රිපිටකයේ "සද්ධෝ" යන පදය මෙසේ දෙකකට බෙදා නැත . මෙවැනි බෙදීමක් කලේ භක්තියෙන් ඇදහූ ආගමත් - උතුම් බුද්ධ ධර්මයත් එකක්සේ පෙන්වන්නට ගත් උත්සාහයේ ප්‍රතිඵලයක් ලෙසිනි. නමුත් අන්ධ භක්තියෙන් විශ්වාසයෙන් ආගම් ඇදහීමම, සද්ධාව මතුවීමට බාධකයක් බව ත්‍රිපිටකයේ පැහැදිලිවම පෙන්වා දෙයි. (චක්කවත්ති සූත්‍රය දීඝ නිකාය) නවීන විද්‍යාව තුලින් යම් යම් නව නිපැයුම් සොයාගෙන අළුත් ශිල්ප ක්‍රම තාක්‍ෂණය සොයාගෙන, ප්‍රවාහණ පහසුකම් සලසා දී භෞතික ලෝකය වෙනස් කරමින් සංවර්ධනය කරමින් තාවකාලිකව හෝ දුක නිමා කොට සැප ලඟාකර ගැනීමේ මානව ප්‍රයන්තය යම් තාක්දුරට අදවන විට සාර්ථක වී ඇතැයි දැන් දැන් මිනිසුන් සිතන්නට පුරුදු වී ඇත. නමුත් නවීන විද්‍යාවට නොපෙනෙන මානව සංහතියේ අනාගත පැවැත්මට බලවත් සේ බාධාවන - විශාල විනාශයක් (කල්ප විනාශයක්) මේ නවීන විද්‍යාවේ සංවර්ධනයේ ප්‍රතිඵලයන් ලෙසින් ම අදවන විට අපට අත් දකින්නට ලැබී ඇත.

බුද්ධ දේශනාවෙන් පෙන්වා වදාළ හේතුඵල දහම විග්‍රහ කර හේතුවම සොයා බලන විට මානව සංහතිය සංවර්ධනයේ නාමයෙන් කර ඇත්තේ ස්වභාව ධර්මයම, අස්වාභාවික වූත් කෘතිමවුත් තත්වයකට පත්කිරීම බව පැහැදිලිවම පෙනෙන්නට ඇත. කොටින් ම කිවොත් අතීතයේ ආගම විසින් හිමිකර ගත් තැන ආගමට අහිමි කරමින් නවීන විද්‍යාව විසින්

හිමි කර ගත්තත් එය රාගයෙන් මෝහයෙන් මෙන්ම ද්වේෂයෙන් ද සමන්විත වූ ලෞකික සැපහඹායාමේ ප්‍රයත්නයකි. නවීන විද්‍යාවේ මේ දියුණුව නිසා ජලය විනාශ විය. වාතය විනාශ විය. පොලව (පඨවි) විනාශ විය. හිරුඑළිය (තේජෝ) විනාශ විය. **මේ විනාශවීමේ ප්‍රතිඵලයන් අද වන විට අප අත් විඳින අතර අනාගත පරම්පරාවලට ද තදබල ලෙසින් අත් විඳින්නට සිදුවෙනු ඇත. අද වනවිට මහපොලව මත ජීවත්වන ජීවින්ගේ පැවැත්මට උපකාරී වනලෙසින් ස්වභාවධර්මයෙන්ම ලැබී තිබුණු ආපෝ (ජලය) තේජෝ (හිරු රැස්) වායෝ (වාතය) පඨවි (මහපොලව) යන මහා භූතයින් හතරම මිනිසාගේ පැවැත්මට නුසුදුසු නොගැලපෙන පරිදි , විනාශයට හේතුවන පරිදි,සංවර්ධනය කෙරෙමින් පවතී.** සංවර්ධනය යනු රාගයෙන්. ද්වේෂයෙන් හා මෝහයෙන් මේ ස්වාභාවික වස්තූන් විකෘති කර කෘතිම ලෙසින් පරිහරණය කරන්නට දරණ උත්සාහයයි. උපාදානය කර ගැනීමයි. ස්වභාවික තත්වය වෙනස් කර අස්වාභාවික ලෙසින් ඒවායේ සංයුතිය මිනිසා විසින් වෙනස් කිරීම සංවර්ධනයයි.

මෙවන් කරුණු කාරණා ගැන සලකා බලන විට අද වන විට වෙන කවදාටත් වඩා බලවත්සේ උතුම් බුද්ධ ධර්මය මිනිසුන් ගේ හිතසුව පිණිස- අනාගත මානව පරපුරක පැවැත්ම උදෙසා - අත්‍යාවශ්‍යම සාධකයක් බවට පත්වී ඇත. අද වනවිට මිනිස් සමාජය විසින්ම , සංවර්ධනයේ නාමයෙන්ම , උරුමකරගත් මෙවන්වූ සියළු ගැටළු වලට නිවැරදි පිළියම් යෙදීමට නම් උතුම් බුද්ධ ධර්මය - හේතු පල ධර්මය. මිනිසුන්ට නිවැරදි ආකාරයට තේරුම් කරදී ඊට අනුකූලවම මිනිසුන්ට ජීවත්වන්නට (සම්මා ආජීව) මග පෙන්වා දීම කල යුතුමය. එය නවීන විද්‍යාවෙන් හෝ සම්මත ආගම් වලින් හෝ කරන්නට බැරිදෙයකි.

පටිච්චසමුප්පාද ධර්මය (හේතුපල ධර්මය ) බුදුපියාණන් දේශනා කර වදාලේ ලෝකය හා මිනිසා අතර බැඳීම (සම්බන්දය) විග්‍රහකරන්නටය. එනම් මිනිසුන් පංචස්කන්දය උපාදානය කරගැනීමේ මුලිකහේතුව අවිද්‍යාව හා තන්හාව බව පෙන්වාදී අධ්‍යාත්මික පාරිශුද්දතාවය ඇති කර ගත් පසුව, රාග විරාග කරන්නටත්. විද්‍යාඅධිගතා කරන්නටත් අවිජ්ජා විහතා කරන්නටත් හැකිබව ලෝකයාට පෙන්වා දීමටයි. මේ අනුව සදාකාලිකවම



සැප හඹා යන ගමනේ දී බිහිවන සංසාර නය සම්බන්ධය නතර කිරීමෙන් පමණක් - පංචස්කංදය උපාදානය කරගැනීමෙන්ද වැලකීමෙන්ම- දුක නිමා කොට නිවන් සුවයට පත්වීමේ ක්‍රමය මිනිසුන්ට පෙන්වා දීමට බුද්ධ ධර්මය දේශණා කර වදාලහ.

මේ අනුව බුද්ධ ධර්මයෙන් පෙන්වාදුන් මාර්ගය තාවකාලිකවූ පැලැස්තර මාර්ගයක් නොවේ. ආගම්වලින් හා නවීන විද්‍යාවෙන් පෙන්වාදුන්නේ තාවකාලික මාර්ගයකි. ඒ තාවකාලික සුවයට ඇලීමම යලි යලිත් උත්පත්තියක් (පුනබ්භවෝති) ඇතිවීමටද නියත වශයෙන්ම හේතුවෙයි.

මේ අනුව සර්වබලධාරී දෙවියෙකු විශ්වාස කිරීම හෝ ආගම් නායකයෙකු ඇදහීම හෝ බුද්ධ ධර්මයේ අනුමත කලේ නැත. බුද්ධ තත්වයට පත්විය යුත්තේ තමාමය. අවිද්‍යා භව හා තන්හා භව - එනම් රාග බව, ද්වේෂ බව හා මෝහ බව උපදින්නේ තමාගේම සිත තුලම බව තේරුම් ගෙන මෙවන් කෙලෙස් භව සිතින් උදුරා අස්කර දැමීම බුද්ධ (භව උද්ධ) බවට පත්වීම යනු බුද්ධ දේශනාවයි. මේ අනුව උතුම් බුද්ධ දේශනාව නියම විද්‍යාත්මක පදනමක පිහිටා ඉදිරිපත් කර ඇත. නවීන විද්‍යාව සමග බුද්ධ ධර්මය සැසඳීමටද උත්සාහ නොගත යුතුය. එය කළ නොහැකි දෙයකි.

අවිද්‍යා මුල පටිච්ච සමුප්පාද විග්‍රහයෙන් පෙන්වා දුන්නෙත්, විග්‍රහ කලෙත් , මිනිසා (සත්‍වයා) නැවත නැවතත් “සංභවං” යන (පුනබ්බව) තත්‍වයට බැඳෙන - සම්බන්ධවන හේතු ප්‍රත්‍යයන් විග්‍රහ කර පෙන්වා දීමයි. අවිද්‍යා මුල පටිච්ච සමුප්පාද විග්‍රහය නිවන් මාර්ගය වසා දමන හේතුන් විග්‍රහ කිරීමක් මිස නිවන් මග විස්තර කිරීමක් නොවේ. කුසලමුල පටිච්ච සමුප්පාද විග්‍රහයෙන් පෙන්වා වදාලේ කුණු මුල් තුන (රාගමූල, ද්වේෂමූල, මෝහ මූල) සිතින් උදුරා අස්කර දැමීමෙන්ම භව නිරෝධ කර, සංසාර දුකෙන් සදහටම මිදී නිදහස් විය හැකි බවයි. (විභංග ප්‍රකරණය - පච්චයා උද්දේශය හා කුසලමූල නිද්දේසය)

**<u>මහායාන බුද්ධාගම හා බුදු දහම</u>**

දේවසංකල්ප හා ඇදහීම් විශ්වාස කිරීම කේන්ද්‍ර කොටගත් ආගම්, බුදු දහම හා සමග නොගැලපෙයි. එවාගේම ලෞකිකත්වය තුලින්ම සැප හඹායන, ඒ සඳහාම මිනිසාව පොළඹවන මහායාන බුද්ධාගමත් (සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයෙන් ඉදිරිපත් කලේ මේ සැප හඹා යන ක්‍රමයකි.) ලාෆින් බුද්ධ දේව සංකල්පයත් යන මේවාද උතුම් බුද්ධ ධර්මයට ගැලපෙන ක්‍රමයක් නොවේ. මහායාන බුද්ධාගමෙන්ද තන්හාව උද්දීපනය කරණ අතර එය ලෞකික හා භෞතික පරිභරණයක් සඳහා මිනිසා පොළඹවන්නකි. නිවන් දකින්නට පෙර දෙව් මිනිස් සැප යලි යලිත් පැතීමේ සංකල්පයද මේ අනුවම අපේ ථෙරවාදී බුද්ධාගමටද හොරෙන් ම ඇතුළු වුවකි. මෙයද බුද්ධ ධර්මයට නොගැලපෙයි. ''අප්පමාදේන සම්පාදේ තබ්බං'' යන බුද්ධ දේශණාවට මෙය හාත්පසින්ම විරුද්ධ වුවකි.

ඉන්දියාවේදී නිර්මාණය වී පසුව මුළු පෙරදිග ලෝකය පුරාම ප්‍රචලිත වු මහායාන බුද්ධාගම යනු ජෛන වෛදික සංකල්පයන් සමග බුදුපියානන් දේශණාකල ධර්මයෙන් ද කොටසක් එකතුකර ගෙන, ජනප්‍රිය, සුන්දර බුද්ධාගමක් නිර්මාණය කරගන්නට දරණ ලද උත්සාහයේ ප්‍රතිපලයකි. එදා ජෛන ආගමෙහි පිළිගත් බොහෝ ලෞකික වත් පිළිවෙත් වූ යැදීම, පැතීම. වැදීම, පිදීම මෙන්ම බොහෝ සංස්කෘතික අංගයන්ද මහායාන බුද්ධාගමටත් වැද්ද ගත් අතර ඒ වත්පිලිවෙත් පොදු ජන විඥ්ඥාණයට ගැලපෙන්නක් ලෙසින් සකස් කරගත් නිසා මුළු පෙර දිග ලෝකය පුරාවටම ටික කලකින්ම මහායාන බුද්ධාගම ප්‍රචලිත වී ගියහ. මේසේ නිර්මාණය වූ මහායාන බුද්ධාගම ද බුද්ධ ධර්මයේ පෙන්වු පදවැල් කොටස් ම භාවිතා කරමින්, නමුත් වෛදික ජෛන ආගමේ ජනප්‍රිය අංගයන්ද ආරෝපනය කරගනිමින් හුදී ජන පහන් සංවේගය සඳහා උපකාරවන පරිදි සකස් කරගත් තවත් එක ආගමකි. එය නිවන් දකින්නට උපකාර වන බුද්ධ ධර්මය නම් නොවේ.

මෙසේ ක්‍රි.1 වන සියවසෙන් පසුව ආ සියවස් වලදී භාරත දේශය තුල උපතලත් මහායාන බෞද්ධාගමිකයින් විසින් ජෛන ආගමේත් වේද ආගමේත් එදා මිනිසුන් අතර ජනප්‍රියවු බොහෝ සමාජ සම්මත ජනප්‍රිය



සංස්කෘතික අංගයන්ද ඇදහීමට පටන්ගැනීමත් සමඟ මහායාන බුද්ධාගම මුළු පෙරදිග පුරාම වේගයෙන් ප්‍රචලිත විය. ඒ නව ආගම චීන,ටිබැට් ,ජපන් ආදී රටවලත් ඉන්දුනීසියාව, භාරතය, ඉරාණය ,ඇෆ්ගනිස්ථානය වැනි රටවලත් විවිධ දේශීයත්වයන්ට ගැලපෙන අනන්‍යතාවයන්ද සහිතව දේශිය පාලකයින් විසින් ද පිලිගත් නිසා බොහෝවිට රාජ්‍ය ආගම ලෙසටද පත්විය. මේ අනුව බුරුමරට , සියම් රට, ලාඕසය කාම්බෝජය , වියට් නාමය , කොරියාව වැනි සියලුම අග්නිදිග ආසියාතික රටවල්වලද මෙම මහායාන බුද්ධාගම භාරතදේශයෙන් ලැබුණු දායාදයක් ලෙසින් ප්‍රචලිතව අදහන ආගමක් බවටද පත්විය.

සංසාර දුක අවබෝධකර ගෙන, සංසාර දුකෙන් මිදී නිදහස් වීමම පරමාර්ථය කරගත්, උතුම් බුද්ධ ධර්මය පිරිසිදුව හෙලබිමේදී අසාදැන ගන්නට තිබූ අතීත යුගයකදී මෙසේ අග්නිදිග ආසියාතික රටවල් වලත් භාරතයේත් මහායාන බුද්ධාගම ආගමක් ලෙසින් ඇදහීමට පටන්ගත්හ. හෙලබිමේ ප්‍රචලිතව පැවති පිරිසිදු බුද්ධ ධර්මයම පදනම් කොට ගත් ප්‍රතිපත්ති මාර්ගය ථෙරවාදි ලෙසත්, ජෛනආගමේ, ශිවආගමේ හා පතංජලී ආගමේ ආභාෂය ලත් බුද්ධාගම -ජනප්‍රිය බුද්ධාගම - මහායාන බුද්ධාගම ලෙසත් වෙනස්කම් ඇතිවලොවපුරාම ප්‍රචලිත විය.

අනුරාධපුර මධ්‍යතන යුගයේදී එනම් කි.ව.2,3,4 සියවස් වලදීත් , බුද්ධඝෝෂ හිමියන් හෙලබිමට පැමිණි 5වන ශතවර්ෂයේදීත්, (බු.ව. 915 පමණ) භාරතයේ එවකට ප්‍රචලිතව පැවති මහායාන බුද්ධාගමේ බොහොම යක් ජනප්‍රිය අංගයන් (වැඳුම් ,පිඳුම් ,යැඳුම් ,පැතුම්, පුදපුජා,බාරහාර) මෙරටටද පැමිණීමත් සමගම ලක්වැසි ජනතාවගේ ආගමික ඇදහිලි හා ප්‍රතිපත්තින්ද ක්‍රමයෙන් ඒ අනුව වෙනස් වන්නට පටන් ගත්හ. නිවන් දකින ප්‍රතිපත්ති මාර්ගය අතහැර ලෞකික වශයෙන් දෙව්මිනිස් සැප පතමින්, පිංකම් කරණ, ආගමික පරමාර්ථයන් ථෙරවාදී බුද්ධාගමටත් වැද්ද ගත්හ. මේ අනුව රජසිටුවරුන් මෙන්ම බොහොමයක් පැවිදිඋගතුන්ද විශේෂයෙන්ම භාරත දේශයෙන් මෙරටට පැමිණි මහායාන උගතුන්ද පිංකිරීමත්,දෙව්මිනිස් සැප සම්පත් පැතීමත්, රජසිටු සැපසම්පත් ප්‍රාර්ථනා කිරීමත්, එවැනිම දෑ කිරීම සඳහා මහජනතාව පෙළඹවීමත්,

බුද්ධාගමේ එකම යුතුකම හා වගකීම වශයෙන් පොදුවේ පිළිගැනිනි.මේ අනුව නිවන් දැකීම ප්‍රාර්ථනාවකට පමණක් සීමාවූ අතර ලෞකික සැපසම්පත් අරමුණු කරගෙන, අදහන ආගමක් හෙලබිමේද ව්‍යාප්ත විය. පොළොන්නරු යුගය වනවිට නාමික වශයෙන් ථෙරවාදී බුද්ධාගම වශයෙන් නම් කලත් සියයට අනුවක්ම වාගේ ජනප්‍රිය මහායාන බුද්ධාගමේ ප්‍රතිපත්ති හා අංගෝපාංගයන් ගෙන් සමන්විතවූ තවත් එක් මහායාන ආගමක් හෙලබිමේ දී ද ඇදහුහ.

මහායාන භක්තිවාදී ඉගැන්වීම් ලෞකිකත්වයට වඩාත් බරවූ අතර, විවිධ සාමාජික, ආර්ථිකහා දේශපාලනික තත්වයන්ට ගැලපෙනසේ හා අනුකූලවනසේ නොයෙකුත් නව අංගෝපාංගයන්ගෙන් ද යුතුව, ජනප්‍රිය බුද්ධාගමක් ලෙසින් කාලයත් සමඟ වෙනස් වෙමින් පවත්වාගෙන යා හැකි ආගමකි මහායාන බුද්ධාගම. ඒ නිසාම උතුම් බුද්ධ ධර්මය යටපත්වී නිවන් මාර්ගය වැසී ගියහ. ශ්‍රාවක ජීවන ප්‍රතිපදාව ක්‍රමයෙන් වෙනස් විය. දේශපාලනය හා සංස්කෘතිකඅංග මෙන්ම දේව සංකල්පද බහුල ලෙසින් බුද්ධාගමටද ඇතුළු විය.

විචිත්‍ර නාරී රූප සහිතව විහාර මන්දිර තැනීම, විවිධ බුදු පිළිම නෙලීම හා නොයෙකුත් මූර්ති ශිල්පීය හා කැටයම් බුද්ධාගමේ විහාර ස්ථාන වලටත් ඇතුළු වූයේ මේ මහායාන බලපෑම නිසාමය. පෙරහර පැවැත්වීම ,පුදපූජා පැවැත්වීම,වෙසක්,පොසොන් ආදී උත්සව අවස්ථා සැමරීම මේ සියල්ලම මහායාන බුද්ධාගමත් සමගම, ඒ බලපෑම නිසාම මෙරටටද ක්‍රමයෙන් වැද්දගත් සංස්කෘතික අංගයන්ය. මේ අනුව බුද්ධාගමේ බලපෑම අනුව සිංහල සංස්කෘතියක්, සාහිත්‍යයක් හා වෙනත් විවිධ සංස්කෘතික අංගයන් මේ හෙලබිම තුලද දියුණුවන්නට පටන් ගත්තේ ආගම් සංකල්පයන් මුල් කර ගැනීමෙනි. මෙය බෞද්ධ සංස්කෘතිය මිස බුදු දහම නොවේ.

ගෞතම බුදුපියාණන් වහන්සේ උතුම් බුද්ධ ධර්මය සොයා දැන දේශනා කල යුගයේදී පෙරදිග රටවල, හෙලබිමේ මෙන්ම භාරතයේත් ජෛන මහාවීර තුමාගේ ආගම් සංකල්ප, වෛදික දේව ආගම් සංකල්ප,ශිව ආගම ආදී බොහෝ ආගම් පෙරදිග රටවල මහජනයා අතර ප්‍රචලිතව හා



ජනප්‍රියව අදහන තත්වයට පත්වී තිබූ බව බ්‍රහ්මජාල සූත්‍රයෙන්ද, අරියපරියේෂණ සූත්‍රයෙන්ද, ත්‍රිපිටකයේ එන බොහොමයක් සූත්‍රවලින් ද පැහැදිලිවම පෙන්වාදිය හැකිය. පොදු මහජනතාව අතරේ ජනප්‍රිය වූ මෙවන් බොහෝ ආගමික සංකල්පයන් ගෞතම බුදුපියාණන් වහන්සේත් එක එල්ලේම බැහැර නොකළ අතර ඒ බොහෝමයක් දේ අගයකරමින් ඒවාට මෙතෙක් නොඇසූ විරූ අලුත්ම අර්ථයන් ඉදිරිපත් කරමින් සහ ඒ ආගමික සංකල්ප වලට නානා අර්ථයන් දැක්විය හැකි බව පෙන්වා දෙමින් ධර්මයට ගැලපෙන අර්ථයන් මතුකර පෙන්වීමට උන්වහන්සේ ක්‍රියා කලහ. මල් පූජා කිරීම, පහන් පූජා කිරීම, සුවඳ දුම් පූජා කිරීම , සිල් සමාදන්වීම ,භාවනා කිරීම, දන්දීම, ආගමික වතාවත් පැවැත්වීම, එදා පෙරදිග රටවල ඇදහූ වෙනත් ආගම් වලද විශේෂයෙන්ම ජෛන මුනිවරුන් ඇදහූ ආගම් වලද පැවති දේවල්ය.

සංසාර දුකෙන්මිදී සදහටම සසරෙන් එතෙර වන්නට උපකාර වන ප්‍රතිපදාවට ගැලපෙන පරිදි ලෝකෝත්තර අර්ථයකින් හා ධම්මානු ධම්ම ප්‍රතිපදාවට සුදුසු පරිද්දෙන් මේ සියලු පිලිගත් ආගමික සංකල්ප වලට අලුත් අර්ථකථනයන් ඉදිරිපත් කර, මතු කර පෙන්වාදීම බුද්ධ දේශනාව ලෙසින් පසුව ප්‍රචලිත විය. මෙය විභජ්ජ වාදය ලෙසින්ද පසුකලක දී නම් කරණ ලදි.

භාරත දේශයේ මෞර්ය රාජ පරම්පරාවේ ශ්‍රේෂ්ඨතමයා ලෙසින් සලකන අශෝක (දෙවන පියදස) රාජ යුගයේදී හෙලබිම ජන්බුද්වීපයේ ප්‍රචලිතව පැවැති උතුම් බුද්ධධර්මය උතුරු භාරත දේශයටද පැතිර ගියහ. මෙහිදී සිදුවූයේ ජෛන ආගම හා බුද්ධ ධර්මය එකතු කර සර්වාස්තිවාදයක් බිහි කිරීමයි. බුද්ධ ධර්මය බොහෝ ආගම් වලට පදපරම ලෙසින් ගැලපෙන්නක් වුවත් පරමාර්ථ වශයෙන් බුද්ධ ධර්මය කිසිම ආගමක් සමග සැසඳිය නොහැකි නොගැලපෙන උතුම් පරමාර්ථ සහිත ප්‍රතිපදාවකි. මේ උතුම් ධර්ම මාර්ගය කිසිසේත්ම ඇදහිල්ලක් නොවේ. ආගම් මෙන් විශ්වාසයෙන් ඇදහිය යුතු හෝ භක්තියෙන් පිලිගත යුතු හෝ එකක් ද නොවේ. ධර්ම මාර්ගය අනුගමනය කර, පිළිවෙතින් ක්‍රියාකර විමුක්තිය අත්විඳ ගත යුතු ධර්මයකි.

මිහිඳුහිමියන් ජන්බුද්වීපයේ සිට ලංකාපුරයට (අනුරාධපුරයට) වැඩම කර ඉතාම කෙටිකලක් යත්ම එහි තිස්දහසක් පමණ භික්ෂූන් වාසය කළ බවත්, බොහෝ දුසිල්වත් මහණුන් අනුරාධපුරයට පැමිණ සිටි නිසා අග්ගික්ඛන්දෝපම සූත්‍රය දේශනා කළ බවත් මහා වංශයේ ම සඳහන් වෙයි. එවැනි සූත්‍රයක් අලුතින් බුද්ධ ධර්මය හඳුන්වා දුන් තැනකට දේශණා කිරීම කිසිසේත්ම නොගැල පෙන්නකි. සුදුසු නොවන්නකි.

මිහිඳු හිමියන් ලංකාපුර රාජධානියට වැඩම කර දේශනා කල පළමුවන සූත්‍ර දේශනාව ''චූල හත්ථිපදෝපම සූත්‍රයයි.'' මේ බුද්ධඥාණ පද හතර විග්‍රහ ''කල සංදේශණාව දේශනා කිරීමයි.'' මෙහිදී '' සංදෙස්සේති සමාදපේති, සමුච්ඡේදේති, සංපහන්සේති'' යන සංදේශනාවේ අඩංගු බුද්ධ ඥාණපද හතර මිහිදු හිමියන් ද දේශනා කරන්නට ඇත්තේ බෞද්ධයින්ටමය. ගෞතම බුදුපියාණන් ලෝකයාට සංදේශණාව දේශනාකර බුද්ධ ධර්මය විග්‍රහකලේය. පසුව සංගායනාවන් කරමින්ද මතුකර පෙන්වූයේ සංදේශනාව යලි යලිත් දේශනා කිරීමයි.

මහාවංශයේ කියවෙන කථාපුවත ප්‍රබන්ධනයක් නොවේනම් මිහිඳු හිමියන් ලංකාපුරයට (අනුරාධපුරයට) ගිය මුල් දින පහලොවක් විස්සක් ඇතුලතදී දේශනා කරන ලද සියලුම සූත්‍ර ධර්මයන් ගැලපෙන්නේ බෞද්ධ සමාජයකටමය. උතුම් බුද්ධධර්මය භාවිතයේ පැවතී ඉන් පසුව ධර්මානු ධම්ම ප්‍රතිපදාව අභාවයට ගිය සමාජයක් යලි ධර්ම මාර්ගයට යොමු කරවන්නට පමණක් ගැලපෙන සූත්‍ර ධර්මයන්ම තෝරා බේරාගෙන ඒවා පමණක්ම දේශනාකරන්නට යෙදුන බවත් මෙසේ දේශනා කිරීමෙන් යලි ධර්ම මාර්ගය ප්‍රතිෂ්ඨාපිත කරන්නට උත්සාහ කල බවත් පැහැදිලිවම පෙනෙන්නට ඇත.

වලගම්බා රජු සමය වන විට අනුරාධපුරයේ යලිත් මුලු බුද්ධ සාසනයම අවුල් වියවුල් සහිතව භික්ෂූන් වහන්සේලා කොටස්වලට බෙදී පෞද්ගිලික ලාභ ප්‍රයෝජන සඳහා කටයුතු කරණ පෘතග්ජන ශ්‍රමණයින් පිරිසක්ව සිටි බවත්, පැහැදිලිය. මේ වන විට භාරතයේ සිට හෙලබිමට පැමිණි බොහෝ මහායානික බෞද්ධ භික්ෂූන් නිදහස් මතධාරී පිරිසක්



ලෙසින් ක්‍රියාකර මින් නොයෙක් ආකාරයට භාරතයේ වැඩි වර්ධනය වූ මහායාන බුද්ධාගම හෙලබිමටද පැතිරවිය. පොදු මහජනතාවට මෙසේ අලුතින් හඳුන්වා දුන් ආගමික අංගෝපාංගයන්, වැදුම් ,පිදුම් යැදුම් පැතුම් පුදපූජා ඉතාමත් සිත්ගන්නා දේවල් බවට පත්වීමේ ප්‍රතිඵලය වූයේ ජනප්‍රිය සුන්දර බුද්ධාගම එනම් මහායාන බුද්ධාගම හෙලබිමේ ද ජනප්‍රිය වී ප්‍රචලිත වීමයි. එදා භාරතයේ ඉතාමත්ම ජනප්‍රියව පැවති බොහෝමයක් දේව ඇදහිලි හා විශ්වාසයන් මහායාන බුද්ධාගමටද ඇතුලත් කරගත් බවත්, මේ අනුව ජෛන ආගම හා බුද්ධාගම යන දෙක එකතු කර ජනප්‍රිය අංගෝපාංගයන්ද සහිතව මහායාන බුද්ධාගම භාරතයේදී නිර්මාණයකර ගත් ආගමක් බවත් ඉතාමත්ම පැහැදිලිය.

අභයගිරිවාසීන් ඉතාමත්ම වේගයෙන් පාලකයින්ගේ හා මහජනතාවගේද සිත් ගනිමින් මේ මහායාන බුද්ධාගමේ ජනප්‍රිය සංකල්පයන් ලාංකික බෞද්ධයින් අතරටත් ගෙනාවේ අනුරාධපුර රාජධානිය පැවති මුල් යුගයේදීමයි. ජෛන ආගමික විශ්වාසයන් මහායාන බුද්ධාගමටත්, මහායාන බුද්ධාගමේ ඇදහිලි හා විශ්වාසයන් ථෙරවාදී බුද්ධාගමටත් ඇතුලත් කර ගැනීමේ ප්‍රතිඵලය වූයේ හෙලබිම තුල මෙතෙක් ක්‍රියාත්මකව පැවති උතුම් බුද්ධ ධර්මය අභාවයට ගොස් ලෞකිකවූත් භුදීජන පහන් සංවේගය සඳහා ගැලපෙන්නාවූත් ජනප්‍රිය බුද්ධාගමක් හෙලබිමේ ද ප්‍රචලිත වීමයි. නමට පමණක් ථෙරවාදීන් යැයි හැඳින්වූවත් දේව ආගම් සංකල්පයන් ප්‍රචලිත වීම වැලැක්විය, නොහැකි විය. මේ අනුව පොළොන්නරු යුගය වන විට මේ හෙලබිමේ ක්‍රියාත්මකවූ බුද්ධාගම ද උතුම් බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාල ධම්මානු ධම්ම ප්‍රතිපදාවෙන් බැහැරවී දෙව් මිනිස් සැප ප්‍රාර්ථනා කරමින් මතු බුදු වන්නට ප්‍රාර්ථනා කරමින් ඇදහූ තවත් ආගමක් බවටම පත්වී තිබුණි.

පසු කාලීනව ජෛන හා වෛදික ආගම් වල බලපෑම තදින්ම හෙලබිමේ ජීවත් වූ භික්ෂූන්ටත් දැනෙන්නට වූයේ වලගම්බා රජු සමයේදී භාරතදේශයෙන් මෙරටට පැමිණි "ධර්මරුචි නම්" ආචාර්යවරයා අනුගමනය කල අභයගිරියේ ජීවත්වූ භික්ෂු පිරිසට ඔහුගෙන් ලැබුණු උපදෙස් නිසාය. මෙම ධර්මරුචි ආචාර්ය වරයාගේ අදහස් හා

මහාවිහාරයේ විසූ ථෙරවාදී භික්ෂුන්ගේ අදහස් අතර බරපතල ප්‍රශ්න හා වාද විවාද ඇති විය. මහායාන බුද්ධාගමේ මතවාදයන් හා භාරතයේ මුල්බැසගෙන තිබූ වෙනත් දේව ආගම් වල බලපෑමද තදින්ම බුද්ධ ධර්මයට නරක ලෙසින් බලපෑ යුගයක් ලෙසින් මේ යුගය හැඳින්විය හැකිය.

මෙතුවක් කාලයක් තුල වන පොත් කරගෙන, කටින් කට, පරම්පරාවෙන් පරම්පරාවට හෙලබිමේදී පවත්වාගෙන ආ ත්‍රිපිටක ධර්මය මාතුල අළුලෙනේදී (කෑගල්ලේ) හෙල අකුරෙන් ලියා ග්‍රන්ථරූඪ කරන්නට යෙදුනේ මේ මහායාන බලපෑම් වලින් ත්‍රිපිටක ධර්මයත් විනාශවේදෝ යන සැකයක් ඇති වූ නිසාය. මෙසේ ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කල කාලවකවානුව අනුරාධපුර රාජධානියේ වලගම්බා රජු රජකල යුගය උනත්, ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීමට අනුරාධපුරයේ රජකල රජුන්ගේ කිසිදු උපකාරයක් හෝ අනුග්‍රහයක් නොලැබුනි. ඒ සඳහා කුරුරට , කෑගල්ල ප්‍රදේශයේ මෙන්ම රුහුනේ ද නැගෙනහිර පලාතේද ජීවත්වූ මගපල ලාභි සංඝයා වහන්සේලාගේ මෙන්ම ගිහියන්ගේද උපකාරය හා අනුග්‍රහය නොමඳව ලැබුනි. හෙලබිමේ වෙනත් පලාත්වලත්, ආරඤ්ඤසේනාසන වලත් ජීවත්වූ ත්‍රිපිටකය කටපාඩම් කරගනිමින් පරම් පරාවෙන් පරම්පරාවට රැකගෙන ආ යතිවරුන් වහන්සේලාද මේ සඳහා සහභාගි කරවාගත්හ.

එදා ත්‍රිපිටකය මෙසේ ලියාතබන්නට හේතුවූ තවත් කාරණයක් වූයේ මේ යුගයේදී හෙලබිමට බලපෑ බලවත් ස්වාභාවික විපතකින් රට නියඟයට පත්වීමයි. බැමිනිතියා සාගතය නමින් හැඳින්වූ මෙම ස්වාභාවික විනාශයෙන් අනුරාධපුර ප්‍රදේශය මෙන්ම රුහුණද නියඟයෙන් බලවත්සේ විනාශවී ආහාර හිඟයක් ඇතිවී භික්ෂුන්වහන්සේලාට තම යැපීම සඳහා සිවුපසයවත් ලබාගන්නට අපහසුවිය.මේ අවස්ථාවේදී භික්ෂුන්වහන්සේලා මතවාදයකට පැටලීමෙන්ද දෙපිරිසකට බෙදිනි. සිල්වත්කම තපස, තාදී ගුණයන් රැකගත යුතුය යන්න මුල් කරගත් එක් පිරිසකුත් , උගත්කම දැනුවත් කම හා සම්මතයන් රැකගතයුතු ය යන තවත් පිරිසකුත් ලෙසිනි. මේ අනුව ප්‍රතිපත්ති සාසනයද? පර්යාප්තිසාසනයද? යන්න එදා මුලිකම ප්‍රශ්ණයක් කොටගත් බව පෙනේ . අවසානයේ ප්‍රතිපත්ති සාසනයට දෙවැනිතැනත් පර්යාප්ති සාසනයට මුල්තැනත් ලැබෙන ලෙසින් කටයුතු



සිද්ධ විය. මේ සියලු කරුණු කාරණාවල අවසාන ප්‍රතිපලය වූයේ උතුම් බුද්ධ ධර්මය යටපත්ව බුද්ධාගමක් ඉස්මතු වීමයි. ප්‍රතිපත්තියෙන් පිරිහී ආගමක් ඉස්මතු වීමයි

තවත් සියවස් දෙකක පමණ කාලයක් ගතවන විට ඉන්දියාවේ ප්‍රචලිතවූ මහායාන බුද්ධාගමේ බලපෑම් දරුණු ලෙසින්ම හෙලදිවටත් බලපාන්නට පටන් ගත්හ.වොහාරික තිස්ස රජු දවස වන විට (ක්‍රි.ව.235) වෛතුල්‍යවාදී ඉගැන්වීම් අභයගිරියේ විසූ භික්ෂුන් විසින් පාලකයින්ට හා මහජනයාටද පැතිරවීම නිසා නිකාය භේදයන් බලවත් විය.පසුකාලයකදී ලේඛන ගතකරණ ලද අටුවා පොතක් වන කථාවත්ථු ප්‍රකරණයේ වෛතුල්‍යවාදී මතයන් අටක් ඇතුලත් කිරීමෙන්ද පෙන්නුම් කලේ මෙම වෛදික -මහායාන බලපෑම් ථෙරවාදී බුද්ධාගමටද ඒ වනවිටත් බලපෑ දරුණු ආකාරයි.

මේ වනවිට ඉන්දියාවේදී සංස්කෘත භාෂාවෙන් මහායාන බුද්ධාගම සඳහා ලියාපලකරණ ලද ජනප්‍රිය පොත්පත් රාශියක් හේතුකොට ගෙන ඒවායේ බලපෑම හෙලබිම මිනිසුන් කරා ව්‍යාප්තවීමද වැලැක්විය නොහැකි විය. ජෛන හා වේද ආගම්වල ආභාසයෙන් ඉන්දියාවේ දී බිහිවූ මහායාන බුද්ධාගමට සම්බන්දව “ ත්‍රිකායවාදය” ආගමික ඉගැන්වීම් වලට ඇතුලත් කලහ. මේ ත්‍රිකායවාදය පදනම් කරගනිමින් ලියා පලකරණ ලද පොත්පත් හා සූත්‍ර ධර්ම මහජනයා අතර ඉතාමත් ම ජනප්‍රියවී ගිය බවද පෙන්වාදිය යුතුය.

ලලිත විස්තරය (බුද්ධචරිතය ) දිව්‍යාවදානය , මහාවස්තු අවදානය, සද්ධර්ම පුණ්ඩරිකය, අභිධර්ම සම්මුච්චය, ශික්සා සමුච්චය මාධ්‍යමිකකාරිකා, ලංකාවතර සූත්‍රය, බෝධි චරියා වතාර ආදී විශාල පොත්සමුහයක් ඉන්දියාවේදී සංස්කෘත බසින් ලියා පලකර තිබුනි. මිලින්ද ප්‍රශ්නයද මෙයට ටිකකලකට පසුව සංස්කෘත බසින්ම ලියා පල කරන ලද්දකි. මේ යුගය වන විට මහායාන බුද්ධාගම හා සම්බන්ධවූ ඉතාමත්ම උගත් වියත් ලෝක ප්‍රසිද්ධ පුද්ගලයින් සමුහයක්ද ඉන්දියාවේදී බිහිවිය. නාගාර්ජුන පාදයන් වහන්සේ , විශ්ව මිත්‍ර ,වාසු බන්ධු , ශාන්තිදේව පාදයන් වහන්සේ , නාගසේන හාමුදුරුවෝ මේ අතරින් ප්‍රමුඛයන් විය.

ජෛන හා වේද ආගම්වල බලපෑම නිසා මහායානික බුද්ධාගමේ බෝධිසත්ව සංකල්පයන්ද, බෝධිසත්ව චරියා කථාවන්ද, මෛත්‍රිය බෝසත් සංකල්පයන්ද, අවලෝකිතේස්වර බෝධිසත්ව සංකල්පයන්ද භාරතය හා පෙරදිග  රටවල වේගයෙන් පැතිර ගිය අතර මේ බලපෑම් මධ්‍යතන යුගයේදී හෙලදිව ථෙරවාදී බුද්ධාගමටත් හොරරහසේම ඇතුලු විය. බෝසත්වරුන් ඇදහීමේ සිරිතක් හෝ පිළිවෙතක් අතීතයේ හෙලදිව නොවීය. මේ අනුවම බුදුබව පැතීම, පාරමිතා පිරීම මේ ආදී තවත් ආගමික හා සංස්කෘතික අංගඋපාංගයන් මහායාන බුද්ධාගමෙන් හෙලබිමටත් ඇතුළු විය. මේ ආකාරයට අලුතින් එකතු කරගත් බොහෝ අංගයන් ජනප්‍රිය වූ අතර මේ හේතුව නිසාම ආගම් සංකල්පයන් ජනප්‍රියවීමත්, නිවන් දකින්නට උපකාරවන පරමාර්ථ ධර්මය අභාවයට ගොස් යටපත් වන්නටත් වැඩි කලක් ගත වුයේ නැත. මේ අනුව පටිච්චසමුප්පාද ධර්මය වචනයට පමණක් සීමා වුන පදපරම එකක් පමණක් බවට පත්විය.

මේ අනුව බෞද්ධ භික්ෂුවගේ චරියා රටාව ද සමාජ මෙහෙවරද, රාජකාරියද, යුතුකම් හා වගකීම්ද මහායාන බුද්ධාගමට ගැලපෙන ලෙසින් වෙනස් කරගත් අතර භික්ෂුන් දේශපාලනයට පැමිණීමත් සමගම මේ තත්වයද සහ මුලින්ම වෙනස්වී නිවන් දැකීම වචනයට පමණක් සීමාවීය. ලෝකයක් හැදීම භික්ෂුවගේ හෝ මහණවුවෙකුගේ රාජකාරීය හා වගකීමක් බවට පත්වීමෙන් “සබ්බ දුක්ඛ නිස්සරණ” නිබ්බාන සච්ඡකිරියාය“ යන්න සහමුලින්ම අමතක කළහ. නිවන් අවබෝධ කරගන්නට, කෙලෙස් මුල් උදුරා දමන්නට උපකාරීවන ප්‍රතිපදාවෙන් ඉවත්වී නිවන් මගින් වෙනස් වී ලෝකය හදන්නට, මතු දෙව් මිනිස් සැප සම්පත් පතමින් ඒ සැපයන් විඳීමේ අවශ්‍යතාවයෙන්ම තව තවත්  පිංකම් කරණ සමාජ රටාවක් ථෙරවාදී බුද්ධාගමටද ඇතුළු වුයේ මහායාන බුද්ධාගමේ බලපෑම් හා බෝධිසත්ත සංකල්පය නිසාමය.

අප්‍රමාණ බුදුවරුන් ඇදහීම, අටවිසි බුද්ධ පුජා පැවැත්වීම පන්ලක්ෂ හත්දහස් ගණනක් බුදුන් සඳහා පුද පුජා පැවැත්වීම සත් බුදුවරුන් වන්දනා කිරීම මේ රටෙහිත් ආරම්භවුයේ සද්ධර්මාලංකාරය, පුජාවලිය වැනි පොත් පත් ලියා ප්‍රසිද්ධියේ කියවීමේ ක්‍රමය නිසාය. හෙලදිව වැසියන් අතරේද පුද



පූජාවන් ප්‍රචලිත වුයේත් පොලොන්නරු යුගයෙන් පසුවය. මහායාන බෝධිසත්ව සංකල්පයන්ගේ බලපෑම් නිසාය. බුද්ධ පුජාවක් පුජාකරණ විට අද භාවිතාකර“‘ ගාථාවන් පවා මහායාන බලපෑම නිසා පසුව හදාගත් පසුකාලීන ගාථාවන්ය. මෙසේ මහායාන සංකල්පයන්ට අනුව ලියු පුජාවලිය පමණක් නොව අනාගතවංශ දේශණාවද මහායාන අදහස් වලට වහල්වීමෙන් පසුකාලීනව ලියා එලිදැක්වූ ග්‍රන්ථයන්ය.

අද හෙලබිමේ පවතින අප අදහන ආගම, නමින් ථෙරවාදී බුද්ධාගමක් යැයි හැඳින්වුවත් ප්‍රායෝගිකවම එහි ඇති සියලුම අංගෝපාංගයන් බුරුමයෙන්, සියමෙන් හා ඉන්දියාවෙන් ණයට ගත් ජෛන හා වේද ආගම් වලින් මෙන්ම මහායානයෙන්ද කොපි කරගත් වැඳුම් , පිඳුම් යැදුම් හා පැතුම් වැනි ඇදහිලි වලට අයත් ආමිස පුජා කොටසට අයත්ය. ථෙරවාදී හෙලදිව භික්ෂු සමාජය ක්‍රමානුකූලව ලෞකික අපේක්ෂාවන් කරා යොමු කරමින් ව්‍යාපාරිකයින් පිරිසක් බවට පත් කරන්නට මහායාන බුද්ධාගමේ , මහායානිකයින් විසින් අනුගමය කල ක්‍රියාමාර්ග බෙහෙවින්ම ඉවහල්විය. කාලීන වශයෙන් ඒ ඒ යුගයට ගැලපෙන පරිදි , මෙන්ම ඒ ඒ රටේ සමාජ තත්වයන්ට ගැලපෙන පරිදිත්, දේව ආගම් ඇදහූ භාරත ජනතාවට ගැලපෙන පරිදිත් නම්‍යශීලි ප්‍රතිපදාවන් ඉටු කිරීමේ හා නව ප්‍රතිපත්ති හඳුන්වාදීමේ ක්‍රමය නිසා අද වන විටත් මහායාන බුද්ධාගම ජපානය, චීනය, කොරියාව, වියට්නාමය, ටිබැටය, කාම්බෝජය මෙන්ම බුරුමයේ හා තායිලන්තයේද ප්‍රචලිතවම අදහන ජනප්‍රිය ආගමක් ලෙසින් පවතී. නමුත් උතුම් බුද්ධ ධර්මයේ පෙන්වාදුන් නිවැරදි ප්‍රතිපදාවන් මේ කිසිදු රටක පවතින අදහන බුද්ධාගමකින් දැකගත නොහැකිය. නිවන් දකින්නට උපකාරවන පරම පවිත්‍ර බුද්ධ ධර්මය මේ කිසිදු බුද්ධාගමකින් දැකගත නොහැකිය.

වත්මන් ලාංකික භික්‍ෂු සමාජයේ පවතින පිළිගත් චරියා රටාවන්, වත්පිළිවෙත් , ආගමික පුදපුජා විධීන් මෙන්ම සමාජීය හා දේශපාලන සම්බන්ධතා යනාදී සියල්ලටමත්, පිරිවෙන් අධ්‍යාපන ක්‍රමයටත්, බෞද්ධ හා පාලි විශ්විද්‍යාලයේ උගන්වන බෝහෝ න්‍යායාත්මක කරුණු වලටත් මහායාන බුද්ධාගමෙන් ලැබු අහිතකර බලපෑම් අතිමහත්ය. පුද්ගල

විමුක්තිය පතා විපස්සනා අනුපස්සනා ධුරයන් අරමුණු කරගත් මුල් කාලීන භික්ඛු චර්යාව හා පරමාර්ථයන් (භවක්ඛ්‍යය කිරීමේ ප්‍රතිපදාව) අදවන විට වෙනස් වී සමාජ සංථාව සකස් කරන්නට උපකාර වන අයුරු පරාර්ථකාමී හා ලෞකිකවූ එකක් බවටම පත්වී ඇත. මේ වෙනස් වීම සම්මත බුද්ධාගම තුලම සිදුවූවකි. බුද්ධ ධර්මය එසේ වෙනස් වන්නක් හෝ වෙනස් කල හැකි එකක් හෝ නොවේ.

එදා ජනතා සටන් බිම මැද ජාතික වීරයන් වූ වාරිපොළ සුමංගල හිමියන්, කුඩහ පොල හිමියන් මෙන්ම එදා මෙදා තුර දේශපාලනයට පිවිසි සියලුම බෞද්ධ භික්ෂුන්වහන්සේලා හුදු විමුක්ති මාර්ගය පතා ප්‍රවෘර්ජා භූමියට ඇතුළුවූවත්, මහායාන බුද්ධාගමේ ආභාෂය නිසා සංසාර දුකට පත්වූ අසරණයින් ලෙස තම නිවන් මග ආවරණය කරගත් බව නම් අනුකම්පා සහගතව පෙන්වා දිය යුතුමය. නිකාය බේදයන්, නිකාය වල නායක කාරක තනතුරු දැරීම්, රාජ්‍ය ගෞරව අපේක්ෂා කිරීම , මෙන්ම නායකත්වයට හා ප්‍රසිද්ධියට ඇති ගිජු බව බෞද්ධ භික්ෂුවට ගැලපෙන්නක් නොවේ. සමාජ සංස්ථාව තුල බෞද්ධ භික්ෂුවකගේ කාර්යය විය යුත්තේ පෘතග්ජන ලෝකයාගේ නිවීම පිණිස විමුක්තිය පිණිස, සංසාර දුකෙන් සදහටම ඔවුන් මුදවා නිදහස් කර ගැනීම පිණිස ධම්මානු ධම්ම ප්‍රතිපදාවේ යන්නට මග කියා දීමයි .සමාජ සංස්ථාව තුළ සමාජමය හා දේශපාලන වශයෙන්ද, ආර්ථික වශයෙන්ද බලපෑම් කරන්නට සමත්, දේපල හා අධ්‍යාපන ආයතන මෙන් ම සන්නිවේදන මාධ්‍යයන් ද පාලනය කරමින් බලපෑම් කරන කණ්ඩායමක් ලෙසින් පෙනී සිටින්නට වෙරදැරීම බෞද්ධ භික්ෂුවගේ පරම නිශ්ඨාව වූ විමුක්ති මාර්ගයට කිසිසේත්ම නොගැලපෙන්නකි.

අතීතයේ පූජාවලිය වැනි බෞද්ධ පොත්පත් ලීවේ " බෝධී සත්වයෙකු රටේ පාලකයා විය යුතුය." යන තේමාවේ සිටය. එසේත් නැතිනම් රටේ පාලක යාද බුදු බව පැතිය යුතුය යන අදහස ඉදිරිපත් කරන්නට ය. ඒ යුගය වන විට මහායාන බලපෑම් ඒ තරම් දුරට හෙලබිමේ ව්‍යාප්තව පැතිරී තිබු බව මෙයින් තහවුරු වේ.



බෞද්ධ ප්‍රතිපදාවට අනුව දේශපාලනය බෞද්ධ භික්ෂුවකට කිසිසේත් නොගැලපෙන්නකි. පංචස්කන්දය උපාදානය කර ගැනීම සියලු දුක් උපදවන්නට, උරුම කර දෙන්නට මුල් වන බව බුද්ධ දේශනාවේ හරයයි.

මේ අනුව එදා මිහිඳු හිමියන් හෙල බිමේ ජන්බුද්ධිපයේ සිට ලංකාපුර රාජධානියට වැඩම කර දේශනා කළ බවට මහාවංශයේ 14 හා 15 වන පරිච්ඡේදවලින් පෙන්වා දෙන උතුම් හා වැදගත් සූත්‍ර ධර්මයන් යලිත් පිරිසිදුව දේශනා කර සංගායනාවක් පත්වන්නට නිසි කාලය දැන් එළඹී ඇති බැව් ප්‍රකාශ කල යුතුය.

## <u>බුද්ධ ධර්මයෙන් පෙන් වූ උභය අර්ථ සාධනය</u>

ජීවිත පැවැත්ම පිළිබඳව සත්‍යාවබෝධය බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාල ප්‍රතිපදාව අනුගමනය කිරීමෙන් ම ලබාගත හැකිය. බුද්ධ ධර්මය අතක්කාවචරය. තර්කකර කෙනෙකු පරාජය කරන්නට හෝ තමාට ජයගන්නට හෝ දෙයක් බුද්ධ ධර්මයේ නැත. තර්ක විතර්ක කර කෙනෙකු පරාජය කරන්නට, නඩුහබ කියා අනෙකා යටපත් කරන්නට, යුද්ධ කර සතුරා විනාශ කර දමන්නට, මතවාද තුලින් ගැටුම් ඇතිකර ගන්නට, පෙළපාලි ගොස් විරුද්ධතා දක්වන්නට පෙළඹෙන්නේ බුද්ධ ධර්මය නොදන්නා අස්සුතවත් පෘතග්ජන පුද්ගලයින්ය. බුද්ධ ධර්මයෙන් පෙන්වා දුන් පිළිවෙත වන්නේ අවවාද අනුශාසනා කිරීම හා ධම්මානු ධම්ම ප්‍රතිපාදවෙහි පිහිටුවීමය. පිළිවෙතින් දියුණු බෞද්ධයෝ සංවරශීලිය. ඉවසීමෙන් විමසීමෙන් සැනසීමට පත්වන්නෝය. අන්‍යාගමිකයින් සමග ගැටුම් ඇතිකර නොගන්නා අතර ගැටුම් වලට යුද්ධ වලට නඩුහබ වලට, මුල්වන ක්‍රියාකාරකම් වලින් ද වැලකි උපෙක්ඛා සිතින් ක්‍රියා කරන්නෝය.

බෞද්ධ ඉතිහාසයේ කොතැනකවත් බුද්ධ ධර්මය ව්‍යාප්ත කිරීමට, ප්‍රචාරය කරන්නට හෝ ඊට සම්බන්ධ ක්‍රියාකාරකම් වෙනුවෙන් හෝ සටන් කර නැත. රටවල් යටත් කරගෙන බුද්ධ ධර්මය ව්‍යාප්ත කලේද නැත. ඊට හේතුව උතුම් බුද්ධ ධර්මය බලයෙන් ව්‍යාප්ත කළ හැකි ප්‍රචාරය කළ හැකි

ආගමක් නොවන නිසයි. බුද්ධ ධර්මය යටපත් වී බුද්ධාගමක් මතු වූ පසුව බෞද්ධාගමිකයින් අතර නිකාය භේද මතවාද ඇති විය. මහා විහාරය හා අභය ගිරිය අතර බේධයන් ඇතිවිය. අදටත් ආගම තුල නිකාය බේධයන් පවතී. මහායාන - හීනයාන - ථෙරවාදී ගැටුම අතීතය පුරාමත් පැවතුනි. **මේ සියළුම මතවාදයන් හා නිකාය භේදයන් හටගත්තේත්, පැවතුනේත් බුද්ධාගම තුල මතු වු වෙනස් කම් නිසා මිස බුද්ධ ධර්මය නිසානොවේ.** බුද්ධ ධර්මයේ එවන් කිසිදු මතවාදයක් හෝ නිකාය භේදයක් හෝ නැත. මේ සියලු මතවාදයන්ට හා නිකාය භේදයන්ට මුල් වූ හේතුව දේව ආගම් වල (ජෛන හා වේද ආගම්වල) බලපෑම බුද්ධාගමටත් බලපෑම් කරන්නට වීම නිසා මිස පිරිසිදු බුදු දහම බෙදා ගන්නට බැරිව නොවේ.

මතවාදයන්, නිකාය භේදයන් මෙන්ම බුද්ධිමය සංවාදයන් ද ඇතිවුයේ සම්ප්‍රදායික බුද්ධාගම තුල මිසක එවැනි මතවාද වලට හෝ සංවාද වලට හෝ භේදබින්නවීම් වලට හෝ උතුම් බුද්ධ ධර්මය මුල් වුයේ නැත. පසු කාලීනව ලියා පලකරණ ලද අටුවා ,ටීකා,ටිප්පනි මෙන්ම විවිධ මතවාදයන් බුද්ධ ධර්මය යැයි වරදවා වටහාගත් බොහෝ පිරිසක් ඒවා මුල්කරගෙන ඒවා බුද්ධ දේශනා යැයි සිතා ගෙන නොමග ගිය බව ඉතාමත්ම පැහැදිලි කරුණකි. කිසිදු පාර්ශවයකට හිංසනයක් , අනර්ථයක් , අවැඩක්, අසාධාරණයක් සිදුකරණ අහිතකර ප්‍රතිපත්තියක් පිළිවෙතක් බුද්ධ ධර්මය තුල අනුදැන වදාරා නැත.

සත්‍යය පරම සත්‍යයක් ලෙස පසක් කොට දැකගත් පසුව එය නොබියව ප්‍රකාශ කිරීමත් ඒ සත්‍යය අවශේෂ ලෝකයාට විවෘත කරදීමත් බුද්ධ දේශණාවට අනුකූල වුවකි. පෙර මෙවන් දෙයක් අසා නොතිබූ පිලියටම, සමාජ සම්මතයෙන් වැරදි යමක් පිළිගත් පලියටම, දේශපාලන බලධාරීන් හා රජය සම්මත නිති පනවාගෙන අදහන පලියටම පරම සත්‍යය යටපත්කළ නොහැකිය. ඒ පරම සත්‍යය කවදා කෙසේ හෝ කවුරුන් අතින් හෝ විවෘත වී සාධාරණ පිළිගැනීමකට ලක්වීම කාටවත් ම වලක්වා ලිය නොහැකිය. අසත්‍යය අසත්‍යය ලෙසින් බැහැර කිරීමට නිර්භය විය යුතුය. සත්‍යය සත්‍යය ලෙසින් මතුකර පෙන්වීමට හා සත්‍යය පිළිගැනීමට නිහතමානී වීම ද බුද්ධ ධර්මයෙන් පෙන් වූ මාර්ගයයි. චංකි සූත්‍රය, විමංසා



සූත්‍රය, සතර මහාපදේශ හා කාලාමා සූත්‍රයෙන් බුදුන්වහන්සේ පෙන්වා වදාල උතුම් උපදේශයන් අදටත් වලංගුය.

තමන් වහන්සේ ගැන හෝ තමා දේශණා කරණ ධර්මය ගැන හෝ තමන් වහන්සේගේ ශ්‍රාවක සංඝයා ගැන හෝ යමෙක් විවේචනයක්, නුගුණක් ප්‍රකාශ කිරිමක් කරයි නම් එහිලා අමනාපයක් හෝ වෛරයක් හෝ ඇති කර ගැනීම, එකට එක කිරිම ප්‍රසිද්ධියේ ඔවුන්ගේ මත වලට පහරදීම බුදුන්වහන්සේ කිසි දිනක අනුමත නොකළසේක. එවන් මත උපෙක්ඛා සිතින් ඉවසා වදාරා සත්‍යය මතුවන්නට ඉඩ සළසා දුන්හ. බුදුන්වහන්සේ කිසිවිටකත් තමා පවසන දේ පමණක් පිළිගන්නට යැයි කාටවත් බලකලේ නැත. විමසිලිමත්ව බුද්ධිමතුන් විසින් මේ දේශණා කරණ දේ විමර්ශණය කොට එය ධර්මයට, සූත්‍රයට ගැලපේ නම් විනයට සැසඳේ නම් එය පිළිගැනීම හෝ නොපිළිගැනීමේ නිදහස ද සම්පූර්ණයෙන් ම පුද්ගලයා වෙත බාර කළහ.

නමුත් මෙවැනි විවෘත නිදහසක් කිසිදු අදහන ආගමක දැකගන්නට නැත. අද පවතින බුද්ධාගමේ ද මේ උතුම් ධර්මයෙන් පෙන්වාදුන් පුද්ගල නිදහසක් නැති බව වර්තමානයේ සිදුවන බොහෝ සිදුවීම් දෙස බලන විට ඕනෑම කෙනෙකුට තේරුම් ගත හැකිය. අද බුද්ධාගම යැයි නමට පමණක් ආගම අදහන බොහෝ ගිහි පැවිදි අය අන්ධානුකරණයෙන් ආගමික මතවාදයන් හි එල්බ ගෙන අටුවා ආචාරීන් පෙන්වාදුන් වැරදි මතවලට මත් වී මෙන්, කරණු ලබන බොහොමයක් ක්‍රියාකාරකම් උතුම් බුද්ධ ධර්මය යටපත් කරදමා ආගමක් පවත්වාගෙන යන්නට පමණක් ම උපකාරවන ඒවා බවත් ඔවුන් නොදනී. උතුම් ධර්මය මතු කර නිවන්මග පාදා විවෘත කරන්නට ක්‍රියාකරණ නිදහස් චින්තකයෙකුට අවස්ථාවක් ලබා නොදෙන ආකාරයට ම අද බුද්ධාගමට ද අයිතිකරුවන් බිහි වී ඇත. අද යමෙක් බුද්ධත්වයට පත්වෙන්නට ක්‍රියා කලහොත් ඒ බුද්ධත්වයට පත්වන උතුමාණන්ට ද විරුද්ධව ක්‍රියාකරන්නේ බුද්ධාගම අන්ධානුකරණයෙන් අදහන, සම්මතයෙන් අධිකාරී නිලතල දරණ බලය ඇති බුද්ධාගමේම නායක කාරකාදීන් විසින් මය. මේ අනුව අද මධ්‍යමණ්ඩලයේ උපත ලබා කරුණු කාරණා අවබෝධ කරගෙන ධම්මානු ධම්ම ප්‍රතිපදාවෙහි නියැලී

උතුම් මග පල ලබාගන්නට උත්සාහ දරණ කෙනෙකුට ප්‍රායෝගිකව බාධාකරන බලවත් ම බාධකය වන්නේ සම්මත ආගම මිසක් වෙනත් කිසිවක් නොවන බව පැහැදිලිව ම පෙන්වා දිය යුතුය. අද බෞද්ධ යැයි කියා ගන්නා බොහෝ දෙනෙකු මිත්‍යා දෘෂ්ඨිය හා සම්මා දෘෂ්ඨිය අතර ඇති වෙනසවත් යථා පරිදි තේරුම් ගෙන නැත. මිත්‍යා දෘෂ්ඨියෙන් මිදී සම්මා දෘෂ්ඨියේ පිහිටා ක්‍රියාකරන්නට දන්නා උගතුන් අද අදහන ආගම්වල ඇතැයි ප්‍රකාශ කළ නොහැකිය. සංඝායනාවක් කර සංදේශණාවක් දේශණා කර “සං” පිළිබඳව ඥාණ පද හතර විග්‍රහ කර පෙන්වා දිය යුත්තේ බෞද්ධ ලෝකයාට උපකාර වන නියම සම්මා දෘෂ්ඨිය “පැහැදිලි කරදීමටය. වත්මන් බොහෝ ගිහි පැවිදි උගතුන් මෙයද (සංදේශණාවද) විහිළුවක් කොට ගත්බව පමණක් මෙහි දී ප්‍රකාශ කරන්නේ අවංක අනුකම්පා සහගත වූ කණගාටුවකිනි.

බුදුපියාණන් වහන්සේ සාමාන්‍ය රජ දරුවෙකු ලෙසින් ඉපිද වයස දාසයේ දී යසෝදරා දේවිය සරණපාවා ගෙන වයස 29 තෙක් කම්සැප රජ සැප, විඳ , වසර හතළිස් පහක් උතුම් ධර්මය දේශණාකර අසූවැනි වියේ දී පිරිනිවන් පා වදාල බව පැවසීම සාමන්‍ය තත්වයක් ප්‍රකාශ කිරීමකී.බොහෝ බෞද්ධ සාහිත්‍යය හා ඉතිහාසය ලියූ බුද්ධාගමේ ම යතිවරුන් වහන්සේලා මේ සාමාන්‍ය තත්වය වෙනස් කර බුදුපියාණන් ට මෙන් ම බෝසත් තුමාටත් අති අසාමාන්‍ය තත්වයක් ආරූඩ කරන්නට ක්‍රියා කලහ. දේවාති දේව වු බ්‍රාහ්මාති බ්‍රහ්ම වු සර්වඥවු සර්වතෝ භද්‍ර වු, අතිශයින් ම මිනිසත් බව ඉක්ම වූ විශේෂිත පුද්ගලයෙකු ලෙසින් බෝසත් තුමාවත් ගෞතම බුදුපියාණන්වත් අසාමාන්‍ය චරිතයක් ලෙසින් නිර්මාණය කරන්නට උත්සාහ ගත්තේ පසුකාලීනව ලියූ ආගම් සංකල්ප ව්‍යාප්ත වීමත් සමගමය. බුදුපියාණන්ගේ ශරීරයත් ජාති ධම්මෝ ජරාධම්මෝ, ව්‍යාධිධම්මෝ මරණ ධම්මෝ යන සියලු විපරිනාමයන්ට භාජනය වූ  තාවකාලික ශරීර කූඩුවක් බව මහාපරිනිබ්බාන සූත්‍රයේ දී ප්‍රකාශ කලහ. “බකල්ගහන කරත්තයක්” උපමාවට ගෙන කල ප්‍රකාශයන් මගින් මෙය මොනවට ප්‍රත්‍යක්ෂ විය යුතුය. පසුකාලීන ලේඛකයින්, ඉතිහාසඥයින් උන්වහන්සේට දේවත්වයක් ආරෝපනය කලේය.



**<u>බෝධිසත්ව සංකල්පය</u>**

බෝසත් ප්‍රතිපදාව හුවා දැක් වු බෝධිචරියාවතාරය ලියූ ශාන්ති දේවයන්ගේ මතය වූයේ එක් ජීවිත කාලයක් තුලදී ම නිවන් අවබෝධ කරගැනීමට වඩා දීර්ඝකාලයක් බෝසත්වරුන් ලෙසින් දෙව්ලොව මිනිස් ලොව සැප සම්පත් ලබමින් පාරමී දම් පිරීම යහපත්ය යන්නයි. මිනිසුන් ඊට පෙළඹවීමේ ක්‍රමවේදය ඔහු ඉස්මතු කර, අසංඛ්‍ය කල්ප ලක්‍ෂයක් බෝසත්වරුන් පාරමිතා පිරූ බව මතුකර පෙන්වූයේ ද මෙහි දීය. නමුත් පාරමිතා පිරීම හෝ පාරමිතා පුර පුරා කාලය නාස්ති කිරීමක් ගැන හෝ මුල් බුදු දහමේ හෝ ත්‍රිපිටකයේ හෝ කොතැනකවත් සඳහන් කර නැත. “අප්පමාදේන සම්පාදේතබ්බං” යන ප්‍රකාශයට මේ පාරමිතා පිරීම, දෙව් සැප මිනිස් සැප ලබමින් නිවන කෙළවරට කල් දැමීම විරුද්ධ එකකි. මේ අනුව මුල් බුදු සමයේ ලියූ කිසිදු මාගධී පොතක හෝ කෘතියක හෝ පාරමිතා පිරීමක් පිළිබඳව සඳහන් වන්නේ නැත. නිවන් අවබෝධ කර ගන්නට පාරමිතා පිරීමේ අවශ්‍යතාවයක් ඇති බවක් මුල් බුද්ධ ධර්මයෙහි පෙන්වන්නේ නැත.

අද වන විට බෞද්ධයින් සම්මතයෙන් පිළිගන්නා දස පාරමිතා, සමතිස් පාරමිතා, පරමත්ථ පාරමිතා ආදිය දකුණු ඉන්දියාවේ දී ක්‍රි.ව. 2 වන සියවසේ දී පමණ මිශ්‍ර සංස්කෘත භාෂාවකින් ලියැවුණු පොත්වල සඳහන් අදහස් ය. මංජුශ්‍රී බෝසතුන් විසින් ප්‍රඥා පාරමිතා සූත්‍ර නමින් ම මේවා ලියා දක්වා ඇත. පසුකලක දී මෙම සංකල්පය මහායාන බෞද්ධයින් අතර හා මුළු පෙරදිග සියලු රටවලට ම පැතිර යාම හේතුකොට ගෙන අනුරාධ පුර රාජධානිය පැවති අවසාන යුගය වනවිට හෙලබිමෙහිත් මේ මතයන් පැතිර තිබු බව ඉතිහාසයෙන් පෙන්නුම් කළ හැකිය. මෙවන් ආගමික ලක්‍ෂණ හෙලබිමට ලැබුනේ ඉන්දියාවෙනි.

ක්‍රි.ව. පළමුවන සියවසේ හෝ දෙවන සියවසේ දී ඉන්දියාවේ රජකල කණිශ්ක රාජ යුගයේ දි මහායාන බුද්ධාගම  පිළිබඳව නව මත වාද ඇතිවීමත් සමගම මහායාන බුද්ධාගමේ අලුත් පිබිදීමක් ද ඇතිවිය. මේ යුගය උත්තර භාරතයේ මහායාන බුද්ධාගමේ ස්වරණමය යුගය වශයෙන් ද සළකණු ලබයි. පුරුෂපුරයේ කුණඩලවන නම් විහාරයේ දී පැවැත් වු

ධර්ම සංඝායනාවක් ගැනද මේ යුගයේ දී සඳහන් වේ. චීන හා ටිබැට් රටවල දී ලියු ග්‍රන්ථ වල මේ බව සඳහන් වන අතර මේ ධර්ම සංඝායනාව පැවැත්වීම සඳහා බෝධිසත්වවරුන් පන්සියයක් වැඩම කළ බවද සඳහන් වෙයි. මෙයින් පැහැදිලි වන්නේ මේ යුගය වන විටත් භාරතයේ බෝධිසත්ව සංකල්පය තදින් ම මුල්බැසගෙන තිබූ බවයි. නමුත් පිරිසිදු මුල් බුද්ධ ධර්මය කටින් කට වන පොත් කරගෙන පවත්වා ගෙන ආ හෙලබිමේ මේ යුගය වනවිටත් බෝසත් සංකල්පය ගැන හෝ පිළිම වන්දනාව ගැන හෝ අසන්නටවත් ලැබෙන්නේ නැත. වලගම්බා රාජ්‍ය යුගය වනවිටත් ඉන්දියාවේ ඉතා තදින් ම පැතිර තිබූ නිකාය භේදය හෙලබිමට ද යම් ආකාරයකින් බලපෑම් ඇති කල බව පෙනී යන්නේ වෛතුල්‍යවාදීන් මේ වන විටත් අභය ගිරියට අරක්ගෙන තිබු නිසාවෙනි. මෙතැන් පටන් පිරිසිදු බුද්ධ ධර්මය යටපත් වී මේ රටේත් මහායානබුද්ධාගම හිස ඔසවන්නට විය.

ඉන්දියාවේ දී සංස්කෘත භාෂාවෙන් ලියු මහායාන බුද්ධාගමට ඇතුලත් වන මුලික පොත් පත් කිහිපයක් පිළිබඳව බෞද්ධයින් ලෙස අපද දැනුවත් විය යුතුමය. මේ පොත්පත් වෛතුල්‍ය සූත්‍ර ලෙසින් හැඳින් වූ අතර මේ පොත්වලින් මතුකල ආගම වෛතුල්‍යවාදය ලෙසින් ද ප්‍රසිද්ධ විය. මේ පොත්පත් අතරින් පොත් කිහිපයක් භාරතීය සමාජය තුල දේවත්වයෙන් සලකා වැඳුම් පිදුම් කරන්නට පවා තරම් වටිනාකමක් ඒවාට ආරෝපනය කළහ.

ලංකාවතාර සූත්‍රය, සද්ධර්මපුංඩරික සූත්‍රය, ප්‍රඥාපාරමිතා සූත්‍ර සමාධි රාජ සූත්‍රය, ලලිත විස්තරය , තථාගතගුහ්‍යක, ස්වර්ණප්‍රභාස ආදී පොත් මේ අතරින් ද ඉතාම වැදගත් තැනක් ගන්නා මහායාන පොත්පත්ය. මේ පොත්පත් සියල්ලම ලියා පලකර ඇත්තේ ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වී වසර 600-1000කට පමණ පසු කාලවකවානුවකදීය. මේ සියලු පොත් පත් ලීවේ මිශ්‍ර සංස්කෘත භාෂාවෙන්ය. භාරත දේශයේදීය. මේ සියලු පොත්පත් වලින් මහායාන බුද්ධාගම ඉස්මතු කරන්නට දැරූ බලවත් උත්සාහයක් මෙන් ම උතුම් බුද්ධ දේශනාව ලෞකිකත්වයට හරවා ආගමක් ලෙසින් ජනප්‍රියත්වයට පත් කරන්නටදැරූ උත්සාහයත් පැහැදිලිව ම දැකගන්නට ඇත.



පළමුවන හා දෙවන ධර්ම සංඝායනාවන් පැවැත්වීම ගැන ඓතිහාසික වූ කරුණු පැහැදිලි කරණ එකම ලිඛිත සාක්ෂිය හෙලබිමේ දී ලියු මහාවංශය හා දීපවංශය පමණි. දෙවන ධර්ම සංඝායනාවට මුල් වූ ප්‍රශ්නය වන්නේ විශාලා මහනුවර වජ්ජිරට විසු භික්ෂූන් ඉදිරිපත් කල දසවස්තුක ප්‍රශ්ණය බව අපේ රටේදීම ලියු චුල්ලවග්ග පාලිය, සමන්තපාසාදිකාව හා වෙනත් පාලි පොත්වලින් ද පැහැදිලි වෙයි. නමුත් පලමුවන හෝ දෙවන ධර්මසංඝායනාවක් පැවැත්වීම පිළිබඳව කිසිදු සටහනක් කිසිම ඉන්දීය පොත පතක කිසිසේත්ම සටහන් නොවේ. මේ ධර්ම සංඝායනා දෙකම සිදුවුයේ හෙලබිම ජන්බුද්වීපයේ බව සියයට සියයක්ම සහතික වශයෙන් ලිඛිත සාක්ෂිවලින්පෙන්වාදිය හැකිය. ජන්බුද්වීපය යනු එදා බුදුන් උපන් දේශයට ව්‍යවහාර කළ නමය. ජන්බුද්වීපය යනු හෙලබිමේ පිහිටි සිවු හෙලයෙන් එකකි. සිවුහෙලය වූයේ ජන්බුද්වීපය උතුරු කුරු දීපය, අපර ගෝයානය හා පූර්ව විදේහයයි.

දසවස්තුක ප්‍රශ්නය මුල්කොට ගෙන කාලාශෝක රජුගේ රාජ්‍ය යුගයේ මගධ හා වජ්ජි රටවල (අම්පාර හා මොනරාගල දිස්ත්‍රික්කවල) එදා නිකාය භේදයක් ආරම්භ වී එය ධර්මසංගායනාවකින් කෙළවර විය. මේ අනුව සාසනයෙන් නෙරපු බොහෝ භික්ෂූන් ඉන්දියාවට ගොස් මහාසාංඝිකයින් ලෙසින් පෙනීසිටීම නිසා මහායාන බුද්ධාගමේ ආරම්භක අවස්ථාව බිහිවිය. මේ වනවිටත් භාරත දේශයේ බුද්ධාගම පැතිර තිබූ අතර ජෛන ආගම, වේද ආගම ශිව ආගම ආදී බොහෝ දේව ආගම් ද ප්‍රචලිතවම පැවතුනි. මේ පෙරදිග රටවල පැවති දේවආගම් හා බුද්ධාගම යන දෙකම සහජීවනයෙන් වර්ධනය වන්නට උපකාර වූයේ මහායාන බුද්ධාගම නමින් වෙනම නිකායක් භාරතයේ දී උපත ලැබීමයි. දෙවන ධර්ම සංඝායනාවෙන් පසු සාසනයෙන් නෙරපා දැමූ භික්ෂූන් එයින් දුර්මුඛනොවී , පසුබට නොවී, වෙනම සංඝායනාවක් ද පවත්වා තම පක්ෂයට සහයෝගය දෙන දහස් ගණනක් එකතු කර ගෙන මහාසංගික ආචරිය වාද නමින් වෙනම කොට්ඨාසයක් ලෙස තම පැවැත්ම දිගට ම පවත්වාගෙන ගියහ. මේ අනුව ඉන්දියාවේ දී නිකාය භේදය වර්ධනය වන්නට පෙර පටන් ම හෙලබිමේ ජන්බුද්වීපය තුලදීත් යම් කිසි ආකාරයකින් කල්ලි දෙකක් බෙදී ක්‍රියාත්මක විය. ඒ මගධයේ ථෙරවාදීහු හා වජ්ජිරට විශාලා මහනුවර මහා

සංඝිකයින් ලෙසිනි. මේ දෙකොටසම උතුම් බුද්ධ ධර්මයෙන් වෙන් වූ ප්‍රතිගාමීන් හා සම්ප්‍රදායිකයින් වශයෙන් එකිනෙකාට දෝෂාරෝපනය කරගත් බව පෙනෙන්ට ඇත.

මහාසංඝිකයන්ගෙන් මහායාන බුද්ධාගම ප්‍රභවය වූ බවට බොහෝ දෙනෙක් අදහස් දක්වති. නමුත් මහායාන බුද්ධාගම ඉන්දියාවේ දී වැඩි දියුණුවන්නට හේතු වූ බලවත්ම හේතුව ඉන්දියාවේ එවකට මුල්බැසගෙන තිබූ දේවවාදී සංකල්පයන් සහිත ජෛන ආගමේ හා වංදස් සහිත වේද ආගමේ ඉගැන්වීම් වලින් ලත් ආභාසයයි. දක්ෂිණ භාරතයේ සාතවාහන අධිරාජ්‍යය පැවති යුගයේ මහායානය ආරම්භ වූ බව පැහැදිලිය. මේ යුගයේ විසූ නාගාර්ජුන පාදයන් වහන්සේ මහායාන බුද්ධාගම භාරතීය ජනතාව අතරේ ව්‍යාප්තකරන්නට යුගපුරුෂයෙකු ලෙසින් ක්‍රියා කර ඇත.

මෙයින් කලකට පසු ක්‍රි.ව. 1 වැනිසියවසේ දීපමණ ජෛන ආගම, වේද ආගම හා බුද්ධාගම එකතු කර සර්වාස්තිවාදී මතයන් ඉදිරිපත් කළ අශ්වඝෝෂයන් මහායාන බුද්ධාගම ව්‍යාප්ත කිරීමට බලවත්සේ ක්‍රියා කළ කෙනෙකි. මේ අතර ප්‍රඥාපාරමිතා, බුද්ධ චරිතය, ආදී දේ ලියූ මංජු ශ්‍රී බෝසතුන් විසින් මහායාන බුද්ධාගමට අලුතින් අංග එක්කර මුල් බුදුදහමේ අගය නොකල බොහෝ අංග උපාංගයන් මහායාන බුද්ධාගමට ඇතුළු කළහ.

ලෝකයේ අද වන විට බුද්ධාගම අදහන්නන්යන අර්ථයෙන් අදහස් කරණ විට ඒ හැම කෙනෙක් ම වාගේ මහායාන බුද්ධාගම් අදහන්නෝ වෙති. නමින් ථෙරවාදී යැයි තමන්වම හඳුන්වාගන්නා. බුරුම, තායිලන්තය හා ලාංකික බෞද්ධයෝ අද අදහන බුද්ධා ගමේ සංයුතිය ගැන සළකා බලන විට මහායාන හා ජෛන ආගම්වල අදහන බොහෝ අංග උපාංග ලාංකික ථෙරවාදී බුද්ධාගමේ ද දැකගත හැකිය. වැඳුම්, පිඳුම්, යැඳුම්, පැතුම් යන හතරම මහායාන බුද්ධාගමෙන් නයට ගත් දේවල්ය. මුල් බුදුදහමේ මේ කිසිවකට වැදගත් තැනක් නොලැබුනා පමණක් නොව අර්ථ ධර්ම වශයෙන් මේවායේ පරමාර්ථයන් නිවනටම උපකාරවන ලෙසින් ද විග්‍රහකර පෙන්වාදී තිබිනි. මේ අනුව ථෙරවාදී බුද්ධාගම, මහායාන බුද්ධාගම , සෙන් බුද්ධාගම,



ලාමා බුද්ධාගම, ආදී විවිධ වෙනස්කම් පවතින්නේ අදහන ආගමේය. මේ කිසිදු වෙනස් කමක් බුද්ධධර්මයේ නැත. එය උතුම් පටිච්ච සමුප්පාද ධර්මයයි.

මුල් බුදු දහමෙන් ප්‍රකාශකළ නිවැරදි නිවන් මාර්ගය විග්‍රහ කිරීමත්, සද්ධර්ම පුංඩරික සූත්‍රයෙන් පසුව විග්‍රහ කල නිවන් දකින මාර්ගයත් යන දෙක එකක් නොවේ. මුල් බුදුදහමෙහි දී විග්‍රහ වුයේ රාගක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය, කිරීම මගින් නිබ්බාන සුවය සාක්ෂාත් කරගත හැකි බවයි. මෙය සරළ බසින් පැහැදිලි කලහොත් යම් කෙනෙකුට බුද්ධ තත්වයට පත්විය හැකි වන්නේ රාගබව, ද්වේෂබව, මෝහබව, තම සිතෙන් සහමුලින් ම උදුරා (උද්ධකර) කපා අස්කර දැමීමෙනි. යලි රාග බව, ද්වේෂ බව, මෝහබව, තම සිතෙහි නොඋපදින ලෙසින් ම අනුත්පාද වශයෙන් ම උදුරා දැම්මෙනි. ඕනෑම මිනිසෙකුට තම මනස මෙහෙයවා යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකර මෙය කරගත හැකි දෙයකි. එයට අවශ්‍ය වන්නේ මූලික අංගයන් හතරක් සම්පූර්ණ කර ගැනීම පමණි. කල්‍යාණ මිත්‍ර සම්පත්තිය, සිරිසද්ධර්මශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය හා ධම්මානු ධමම් ප්‍රතිපදාවෙහි හැසිරීමයි.

<u>**වෛතුල්‍යවාදී සද්ධර්ම පුණ්ඩරික සූත්‍රය**</u>

නමුත් වෛතුල්‍යවා දී සූත්‍ර නමයකින් විශේෂයෙන් ම සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයෙන් පෙන්වා දුන්නේ මෙයට හාත්පසින් ම වෙනස් ක්‍රමයකි. මුල් බුදුදහමේ පෙන්වා වදාල පටිච්චි සමුප්පාද ධර්මය, චතුරාර්ය සත්‍යය, ආර්ය අෂ්ඨාංගික මාර්ගය හා ත්‍රිලක්ඛණය යන මූලික අංගයන් ඉවත් කර ඒ වෙනුවට වෙනත් බොහෝ ලාමක ලෞකික දේවල් එකතු කිරීමෙන් නිවන (බුද්ධතත්වය) ලබාගත හැකි බව සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයේ පෙන්වාදෙයි. එහි දෙවන පරිච්ඡේදය වූ උපාය කෞශල්‍ය සූත්‍රයේ පෙන්වා දෙන පරිදි ස්ථූප, චෛත්‍ය කරවීමෙන් , මූර්ති තැනවීමෙන් පිළිම තැනවීමෙන් , ඒවා වැඳීමෙන් , පින්පොත් ලිවීමෙන්, සුගතයන් වහන්සේගේ රුව බිත්ති වල හෝ ගල්වල හෝ සිත්තම් කිරීමෙන් , සමාදන් කිරීමෙන් මල් සහ සුවඳ විලවුන් පුජා කිරීමෙන්, පහන් ආලෝකය දැල්වීමෙන්, බෙර වැයීමෙන්, හක්

පිඹීමෙන්, සුන්දර නාදයන් පවත්වා බුදුන් පිදීමෙන්, ගී සජ්ජායනාකර බුදුගුණ කීමෙන් ධාතූන් වහන්සේලාට වැඳුම් පිදුම් කිරීමෙන් ද මේ ඥාණ ප්‍රාප්තිය සඳහා අවශ්‍ය මාර්ගය විවෘත කරගන්නේ ය යනුවෙනි.(දෙවන පරිච්චේදය ගාථා 56 - 101 අතර මෙය එකින් එක විස්තර කර ඇත. සද්ධර්ම පුණ්ඩරික සූත්‍රය)

මේ සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයේ සඳහන් ආකාරයට පුද පූජාවිධි, වැළීම්, යාඥා කිරීම්, පැවැත්වීමෙන් හා ඉල්ලීමෙන් යැදීමෙන් නිවන ලබාගත හැකි නම් නිවන් දැකීම යනු බාහිර බලවේගයකින් ලබාගත හැකි දෙයක් බව පැහැදිලිවම විග්‍රහ කරයි. මෙය එදා ප්‍රචලිතව පැවති ජෛන ආගමේත් වෛදික ආගමේත් අනෙකුත් දේව ආගම් සංකල්ප වලින් ද පෙන්වා දුන් එදා සමාජය සම්මතයෙන් පිළිගත් ඇදහීමය.

සද්ධර්ම පුණ්ඩරික සූත්‍රය ඇතුළු වෛදික සූත්‍ර නමයකින් ම අවධාරණයෙන් ම පෙන්වා දුන් ප්‍රධානම කරුණ නම් "තුන්තරා බෝධිය" ප්‍රතික්ෂේප කිරීමයි. බුද්ධ යානය, පච්චේක යානය, ශ්‍රාවක අරහත් යානය යනු තුන්තරා බෝධියයි. සූත්‍රය පුරාවට ම බුද්ධ යානය පමණක් ඉස්මතු කරමින් ශ්‍රාවක යානයට නිගා කරමින් බැහැර කරන්නට දැරූ උත්සාහයක් දැකගත හැකිය. බුද්ධ යානයෙන් ම පමණක් බුද්ධත්වයට පත්වීමෙන් නිවනට උපකාර වන ඥාණයන් ලබාගත හැකි බව පරිච්ජේද ගණනකම ගාථා සිය ගණනකින් ඉස්මතු කර පෙන්වා දී ඇත.

මෙසේ තුන්තරා බෝධිය යටපත් කර ලොව්තුරා බුද්ධ තත්වයට ම පත් වී බුද්ධයානයෙන් ම නිවන් දැකිය යුතුය යන දැඩි මතයෙහි එල්බගත් මහායානිකයෝ "බුද්ධත්වය" යන්න තේරුම් ගත්තේත් විග්‍රහ කලේත් වැරදි ආකාරයකිනි. එසේ වන්නට හේතුව පටිච්චසමුප්පාද ධර්මය හරිහැටි අවබෝධ කර නොගැනීමයි. බුද්ධ යන මාගධී පදයේ ධර්ම අර්ථය භව උදුරා දැමූ (භූ උද්ධ) යන පිරිසිදු අදහසක් ගෙන දෙයි. නමුත් දේව ආගම් සංකල්ප වලින් මුලාවී සිටි මහායානිකයින්ට බුද්ධත්වය - බෝධිසත්තස්ස යනාදී මාගධී පදවල නියම ධර්ම අර්ථය තේරුම් ගන්නට බැරිව ගියහ. තව තවත් පින් දහම් කර දෙව් මිනිස් සැප විඳිමින් , රජසැප සිටු සැප ලබමින් අවසානයේ නිවන් දැකීමට මිනිසුන් පෙළඹවීමේ ක්‍රමයක් මහායාන



බුද්ධාගමේ ඉස්මතු කළහ. මේ අනුව මහායාන බුද්ධාගමෙහි පෙන්වාදුන්නේ බුද්ධයානයෙන් ම විමුක්ති මාර්ගය ලබාගත යුතු බවයි. හුදිජන පහන් සංවේගය ඇතිකළ ජන විඥ්ඥානයකට ගැලපෙන, දේව සංකල්පයන් සමග පෑහෙන ක්‍රමයක් ලෙසින් බොහෝ පෘතග්ජන මිනිසුන්ට මේ අලුත් ආගම පෙනුනි. මේ වැරදි ක්‍රමය ව්‍යාප්තකිරීමට, මිනිසුන් අතරේ ප්‍රචලිත කිරීමට සද්ධර්ම පුණ්ඩරීක සූත්‍රය . බලවත්සේම උපකාර විය.

බෝධිසත්වයෙකු ලෙසින් පාරමිතා පිරීමේ අවශ්‍යතාවයක් හෝ මේ පිළිබඳ විග්‍රහ කිරීමක් හෝ මුල් බුදු දහමේ දී විග්‍රහ නොවීය. අරිය පර්යේෂණ සූත්‍රයේ දී එය පැහැදිලිවම පෙන්වාදුනි. අරිය පර්යේෂණයක් කරමින් චතුරාර්ය සත්‍යය අවබෝධ කර ගන්නටත් සංසාර දුක අවබෝධ කරගෙන සංසාර දුකෙන් සදහට ම මිදෙන්නටත් තම යෝනිසෝ මනසී කරණ ශක්තියම භාවිතා කළ බවත්, අරිය පර්යේෂන සූත්‍රයේ පැහැදිලිවම පෙන්වා දෙයි. අතීතසංසාරයේ බුදුවරුන් ගෙන් බණ අසා තම දැනුම හා ප්‍රඥාව සම්පූර්ණ කරගත්තා විනා පාරමිතා පිරූ කථාවක් එහි සඳහන්ව නැත.නමුත් පළමුවන සියවසේ දී හා ඊට පසුව ලියු සද්ධර්ම පුණ්ඩරික සූත්‍රවල මෙන්ම මංජු ශ්‍රී බෝසත්තුමා ලියු ප්‍රඥාපාරමිතා සූත්‍ර වලින් ද මහායානිකයෝ දස පාරමිතා ඉස්මතු කරමින් සමතිස් පාරමිතා පරමත්ථ පාරමිතා ඉස්මතු කරමින් ඒ පිළිබඳව වර්ණනා කළහ.මුළු මහත් බෞද්ධ ලෝකයාටම බුද්ධාගම අදහන හැම කෙනෙකුට ම බෝධිසත්වයෙකු ලෙසින් පාරමිතා පුරමින් දෙව් මිනිසුන් ලෙසින් කල්ප කාලයක් සංසාරයේ සැරිසරමින් පුන්‍යපරියාය සම්පූර්ණ කරගත යුතු යයි සද්ධර්ම පුණ්ඩරීක සූත්‍රයේ 9-20 අතර පරිච්ජේද වල දී පුන පුනා ප්‍රකාශ කරයි.

මුල් බුදු දහමට නොගැලපෙන, පෙරදිග දේව ආගම් වලට පමණක් ගැලපෙන, තවත් කරුණක් වන්නේ සද්ධර්ම පුණ්ඩරීක සූත්‍රය සජ්ජායනා කිරීමෙන් සියදහස් වරක් නැවත නැවතත් කියවීමෙන්,අනුන්ලවාත් කියවන්නට සැලැස්වීමෙන්, පින් රැස් කරගත හැකි බවත්, බෝසත් පාරමිතාවන් සම්පූර්ණවන බවත්, බොහෝ පරිච්ජේදවල සඳහන් කිරීමයි. විශේෂයෙන් ම 19 වන පරිච්ජේදයේ බුදුවරයෙකු සද්ධර්ම පුණ්ඩරීක සූත්‍රය දේශණා කරවන අයුරුත් (අහසේ පලක් බැඳ) එම සූත්‍රය ආරක්ෂා කිරීමේ

ආනිසංස විස්තර කිරීමත් කර ඇත. සාක්‍යමුණි බුදුපියාණන් බුද්ධත්වයට පත්වුයේ කල්ප කාලාන්තරයක් සද්ධර්ම පුණ්ඩරික සූත්‍රය සජ්ජායනා කළ පිනෙන් බවද මෙහිම සඳහන් වෙයි.

මේ අනුව මහායාන බුද්ධාගමෙහි හරයවුයේ බෝධිසත්වයෙකු ලෙසින් බුදු බව පතමින් , ප්‍රාර්ථනා කරමින් පාරමිතා සම්පූර්ණ කිරීමට මිනිසුන්ව පොළඹවා ගෙන සෑම කෙනෙකුට ම ලොව්තුරා බුද්ධ බවට පත්වීමෙන් ම පමණක් නිවන් අවබෝධ කරගත හැකි බව ඔප්පු කර පෙන්වීමට උත්සාහ දැරීමයි.

හේතුපල දහමට - පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයට කිසිසේත්ම නොගැලපෙන, චූලහත්ථිපදෝපම සූත්‍රයේ එන බුද්ධ ඥාණ පදවලට කිසි සේත්ම නොලැපෙන, මුල් බුදු දහමෙන් පෙන්වා වදාල සංවර සීලය සංසිඳවීම, සම්මා අංග යන සීල සමාධි ප්‍රඥා යන ත්‍රිසික්ඛාවන්ට නොලැපෙන, බොහෝ දේ සද්ධර්ම පුණ්ඩරික සූත්‍රය ඇතුළු මහායාන පොත්පත් වල නැවත නැවතත් ලියා පලකරමින් දේශණා කරමින් බුදු පියාණන් දේශණා කල සසර දුකෙන් මුදවාලීමේ පිරිසිදු නිවන් මාර්ගයෙන් ඉවත් ව සැප සම්පත් හඹායන්නට ලෝකයාව පොළඹවන තවත් එක ආගමක් පමණක් බවට බුද්ධාගම ද පත්විය. මේ අනුව ජෛන වේද ශිව , පතඤ්ජලි ආදී එවකට භාරත දේශයේ ප්‍රචලිතව තිබූ දේව ආගම් වලින් පෙන් වු අවසාන නිශ්ඨාව වූ බ්‍රහ්මත්වය ද අතහැර දමා බෝධිසත්ව වරයෙකු වන්නට මිනිසුන්ට , පාලකයින් ට හා ස්ත්‍රී පුරුෂ දෙපක්‍ෂයටම මේ මගින් උපදෙස් ලබා දුනි. මෙම බෝධිසත්ව ආකල්පය, පාරමිතා පුරමින් නැවත නැවතත් උපත ලබමින්, කල්ප කාලයක් සැප විඳීමේ සංකල්පය, හුදීජන පහන් සංවේගයට ගැලපෙන හා ජන විඤ්ඤාණයට පෑහෙන ක්‍රමයක් වු නිසා පෙරදිග සියළුම රටවල් වල ඉතාම කෙටි කාලයක් තුලදී මහායාන බුද්ධාගම සමගම ප්‍රචලිතව ගියහ. මේ වෛතුල්‍යවාදී පොත්පත් භාරතයේ සංස්කෘත භාෂාවෙන් ලියා තිබුනද පසුව ඒ ඒ රටවලට ගැලපෙන පරිදි සුළු සුළු වෙනස් කම්ද සහිතව ජපන් බසින් , චීන බසින් ටිබැට් බසින්, කොරියන් බසින්, ආදී විවිධ රටවල දී සද්ධර්ම පුණ්ඩරික සූත්‍රය ඇතුළු පොත් පත් ලියා පොදු ජනයා අතරේ කියවන්නට සැලැස්වීමෙන් මහායාන බුද්ධාගම ජනප්‍රියවී ගියේ ය.



ථෙරවාදී බුදු දහම යැයි නමට පමණක් ප්‍රකාශ කළද හෙලබිමට ද මෙවන් ජනප්‍රිය මහායාන අදහස් ඉතාමත් ම වේගයෙන් ගලා එන්නට පටන් ගත්තේ ක්‍රි.ව. 1 වන සියවසේ දී පමණ ඈත අතීත කාලයක දීය. බොහෝමයක් ඉන්දීය විද්වතුන් වරින් වර අනුරාධපුරයට පැමිණ සංස්කෘත භාෂාවෙන් ලියා තිබු වෛතුල්‍යවාදී පොත්පත් හෙලබිම ගිහි පැවිදි උගතුන් අතරේත් ප්‍රචාරය කරන්නට වීම නිසා මහායාණික අදහස් අනුරාධ පුර යුගයේ දීම ථෙරවාදී බුදු දහමටත් හොර රහසේ ම ඇතුළු විය. පොලොන්නරුැ යුගය වනවිට ථෙරවාදී බුදු දහම සම්පූර්ණයෙන් මවාගේ පරිවර්ථනය වී මහායාණික බෝධිසත්ත සංකල්පයන්, වෛතුල්‍යවාදී මතිමතාන්තර, දේව ඇදහිලි මෙන් ම ජෛන හා වේද අගාම් වල ජනප්‍රිය වු බොහොමයක් අංගෝපාංගයන් හෙලබිමේ බුද්ධාගමට ද ඇතුළු වු බව පොලොන්නරුැ කතිකාවත කියවන ඕනෑම කෙනෙකුට ඉතාමත් ම පහුසවෙන් තේරුැම් ගත හැකිය. මේ අනුව පොලොන්නරුැ යුගය වනවිට නමින් ථෙරවාදී බුද්ධාගම ලෙසින් ප්‍රකාශ කලත්, ප්‍රායෝගිකවම සියයට සියයක්ම ජනප්‍රිය මහායාන බුද්ධාගම හෙලබිම තුල ද ව්‍යාප්තවී තිබුණු බව පුජාවලිය කියවන ඕනෑම කෙනෙකුට පැහැදිලිව තේරුැම් ගත හැකි වෙනු ඇත. ගම්පල හා දඹදෙනි යුගවල දී පිරිසිදු බුදුදහම පිරිහී මහායාන ආගමික අදහස් මෙරට බෞද්ධයා අතරද තදින් ම මුල්බැස ගත්හ. මේ නිසා නිවන් දැකීම, මග පල ලැබීම ප්‍රාර්ථනාවකට, පැතුමකට, පමණක්ම සීමා විය. මතු බුදුවන බෝසත් වරුන් දැකගෙන නිවන් දකින්නට පිංකම් කිරීම පමණක් ඉතිරි විය. මේ අනුව මගපල ලබන්නට උපකාරවන උතුම් බුද්ධ ධර්මය යටපත් වී බුද්ධාගමක් ලෙසින් ඇදහීම පවත්වාගෙන යාම පමණක් ඉතිරි විය.

බුද්ධ ධර්මය හා බුද්ධාගම පිළිබඳව ලියැවී ඇති ලේඛන හා පොත්පත් මුලික වශයෙන් කොටස් තුනකට බෙදිය හැකිය. ථෙරවාදී ත්‍රිපිටකය, මහායාන ත්‍රිපිටකය, හා පසුව ලියා එකතු කරගත් අටුවා ටීකා ටිප්පනි හා වෙනත් මතයන් ප්‍රකාශ කරණ ලද පොත්පත්ය. හෙල අටුවා නමින් ලියු පොත්පත් සමුහයක් එදා හෙලදිව තුල භාවිතා කරමින් තිබුනත් ඒවා දැනට විනාශ කර දමා ඇති නිසා ඒ පිළිබඳව ප්‍රකාශ කළ නොහැකිය.

මුල් බුදුදහම එනම් ථෙරවාදී ත්‍රිපිටකය, ලෝකෝත්තර ප්‍රතිපදාව ඉදිරිපත් කරණ ලද ගැඹුරු ධර්මයක් උනත් පසුව වෙනස්කරගත් මහායාන ත්‍රිපිටකයහා බොහෝ අටුවා ආචාර්න් පසු කාලයක දී ලියු පොත්පත් ලෞකික සුභ සිද්ධිය මුල්කොට ගෙන ආගමක් හැටියටම, ඇදහීමක් කිරීම සඳහාම ගැලපෙන අයුරින් ම සකස් කරගත් බව පැහැදිලිව ම පෙන්වාදිය හැකිය. ගිහියන් ඇසුරෙහි ජීවත් වු, ගිහියන්ගෙන් ම යැපුනු, ගිහියන්ගෙන් ම සිවුපසය ලබාගත් භික්ඛුන් ගිහියන්ගේ ලෞකික බලාපොරොත්තු හා සමාජමය අපේක්ෂාවන් කෙරෙහි මැදිහත්වීම, නිසා පසු කාලීනව බුද්ධ ධර්මයෙහි ඇති වු වෙනස්කම් වලට පැවිද්දන් ද තදින් ම නැඹුරුවිය .

නිර්මාණවාදී දේව ආගම් වල ඉගැන්වීම වුයේ මේ ලෞකිකත්වයෙන් මිදී සදාකාලික දේවත්වයට හෝ බ්‍රහ්මත්වයට පත්වී දිගටම සැප විඳිමින් විමුක්තියට පත්වීමේ අගය විස්තර කිරීමයි. මෝක්ෂය , බ්‍රහ්මසහව්‍යතාවය ආදී පදවලින් දේව ආගම්වල (ජෛන ,ශීව,වේද,ආදී ආගම්වල) මේ මෝක්ෂ සැප සහිත වු තත්වයන් විග්‍රහ කර ඇත. මහායාන බුද්ධාගමේ දී නිර්මාණය කරගත් මෙම බෝධිසත්ව සංකල්පය ද දේව ආගම්වල පෙන් වු දිගටම දෙව් සැප බ්‍රහ්ම සැප විඳීමේ අදහසට ම සමානය. බෝධිසත්වයකු ලෙසින් පාරමිතා පුරමින් කාමලෝකවල සුගති ලෝකවල අනන්ත අප්‍රමාන කාලයක් සැප සම්පත් විඳිමින් කල් ගත කිරීම ද මීට සමානය. උතුම් බුද්ධ ධර්මයේ නිශ්ඨාව වු මේ මිනිස් ආත්ම භව තුල දීම නිවන් අවබෝධ කර ගැනීම යන පරමාර්ථය මහායාන බුද්ධාගමේ ඉදිරිපත් කල බෝධිසත්ව සංකල්පයට යටවිය. නිවන් දැකීම මතු භවයකට කල් දැමීමත්, පිංකම් කරමින් දෙව් මිනිස් සැප සම්පත් ප්‍රාර්ථනා කිරීමත්, මතු බුදුවන බෝධිසත්වයෙකුගේ උපකාරයෙන් ම නිවන් අවබෝද කරගන්නට යාඥා කිරිමත්, මේ අනුවම ථෙරවාදි බුද්ධාගමට ද හොරපාරෙන් ඇතුළුවිය. අද බුද්ධාගමේ (ථෙරවාදි හා මහායාන දෙකේ ම) පිංකමක් අවසානයේ දී භික්ෂුන්වහන්සේලා කියවන සම්මත පිංවාක්‍යයන් මේ සඳහා ම සකස් කර ගත්, නිවන ප්‍රමාද කරවන, මතු සැපසම්පත් වලට ගිජු කමක් ඇති කරවන, ලෞකිකත්වය තුල මිනිසුන් අතරමං කරවන, දෙව්මිනිස් සැප සම්පත් ලබා කෙළවර දී මතු බුදුවන බුදුන් දැක නිවන් දකින්නට කරණ ප්‍රාර්ථනාවක්



බවට පත්වුයේ මේ මහායාන බුද්ධාගමේ බලපෑම නිසාමය. මේ අනුව අද වනවිට බෞද්ධයා ලවා බලයෙන් පිංකම් කරවමින් සසර ගමන දීර්ඝ කර ගන්නට පමණක් ම මග පෙන්වීමද සිදු කරයි. මේ සියල්ලටම මුල්වුයේ මුල් බුදු දහමේ පරමාර්ථයන් වෙනස් වී ආගමික ඇදහිලි හා සංකල්පයන් බලවත් ලෙස මුල් බැස ගැනීමයි.

බුදු දහම සාමාන්‍ය ජනතාව අතරේ ජනප්‍රිය කරවන්නට ගත් බොහෝ ක්‍රියාමාර්ගයන් නිසා සිදුවු නියත ප්‍රතිඵලය වුයේ නිවන් දකින්නට උපකාරවන බුද්ධ ධර්මය යටපත්වී සමාජය හදන්නට උපකාරවන ආකාරයට සම්මත බුද්ධාගමක්, ලෞකික පරමාර්ථ ඉටුකරගැනීමේ පරමාර්ථයෙන් ප්‍රචලිත වීමයි. මේ නිසා මුල් යුගයේදී සාමාන්‍ය රජපවුලක උපන් කුමරෙකු වූ සිදුහත් චරිතය පසුව මිනිසත් බව ඉක්මවු , අසාමාන්‍යවූ ,අතිමානුෂියවු තත්වයක් ආරෝපනය කරගනිමින් මවාපෑමක් කර මහජනයාගේ සිත්ගන්නට බොහෝ අභව්‍යය දේ බුද්ධ චරිතයට ඇතුලත් කළහ. අප්‍රමාන වූ බලඇති බුදුවරුන් සදාකාලිකවම සුඛාවතී නමැති චක්‍රාවාටයක අදටත් ජීවත්වන බව මහායාන පූජකවරුන් තම බැතිමතුන්ට කියාපෑම් කලේ මිනිසුන්ගේ භක්තිය වඩා වර්ධනය කරගෙන ශ්‍රාවකපිරිසක් එකතුකර ගැනීමටයි. බෝධිසත්ව පාරමිතා පිරීමට මිනිසුන්ව පොළඹවා ගැනීමටයි.

විපස්සනා අනුපස්සනා වඩා දුෂ්කර ක්‍රියාමාර්ගයක් අනුගමනය කර මින් නිවන් අවබෝධ කරගන්නට උත්සාහ ගැනීම අතහැර ඒ වෙනුවට බෝධිසත්ව චරියාව වඩන්නට උපදෙස් දුන්නේ බෝධිසත්ත චරියාවතාරය ලියු ශාන්තිදේව නමැති මහායානික පඩිවරයාය. එක් ජීවිත කාලයක් තුලදීම නිවන් මගපල ලබාගැනීමට වඩා තව බොහෝ ආත්මගණනක් බෝසත්වරුන් ලෙසින් පාරමිතා පුරමින් කම්සැප විඳ අවසානයේ නිවන් දැකීම මහායාන බුද්ධාගමේ දැක්මයි. මේ අනුව සාරාසංඛ්‍යය කල්ප ලක්ෂයක් පාරමිතා පිරිය යුතු බවට අර්ථ දැක්විය. නමුත් මෙය සහමුලින්ම බුදු දහම විකෘති කිරීමකි. ධම්මෝ සංදිඨ්ටිකෝ තත්‍වයට පත්වී සංදැක, මෙතෙක් සාරයි කියා සිතා සිටි සං (රාගද්වේෂ මෝහගති) අසාර බව දැක සංඛ්‍යය කිරීම (රාගක්ඛ්‍යය ද්වේෂක්ඛ්‍යය මෝහක්ඛ්‍යය කිරීම) මගින් නිවන්

අවබෝධ කරගත හැකී බවත්, සං-අසං කර නැවත සං නොඋපදින ලෙසින්ම සංකපා දමා සංඛ්‍යය කිරීම නිවන බව තේරුම් නොගත් මහායානිකයෝ බෝධිසත්ත තත්‍වයට පත්වී කල්ප කාලාන්තරයක් පාරමිතා පුරන්නට මිනිසුන්ව පෙළඹවීය. මේ අනුව ලොව්තුරා බුද්ධත්වයට පත්වන්නට හෝ පසේ බුදුවන්නට හෝ අරහත් බුද්ධත්‍වයට පත්වන්නට හෝ පාරමිතා පිරීමේ අවශ්‍යතාවයක් මුල් බුදුදහමේ කොතැනකවත්ම සඳහන්වී නැති බව නැවතත් අවධාරණයෙන්ම පෙන්වා දෙනු කැමැත්තෙමි. පින්පිරූ මිනිසුන්ගේ නිවන් මග අහුරා ඔවුන්ගේ නිවන ප්‍රමාද කිරීමේ මහත් පාපයක් මෙයින් සිදුකරගන්නා බව පමණක් පැහැදිලිවම පෙන්වා දිය යුතුය. මෙය අත්තතාපන පාපයක්ද. පරත්තතාපන පාපයක්ද, ලෙසින් පලවිපාක ලැබෙන දෙයකි.

**<u>පිරිත් දේශනා සහ පිරිත් සජ්ජායනා</u>**

චතුභාණවාර පාලි යනුවෙන් සඳහන් වන පිරිත් පොත හෙලදිව බෞද්ධ ගිහි පැවිදි කා අතරත් අදවනවිට ජනප්‍රියවූ පොතකි. ථෙරවාදී බෞද්ධයින් අතරේ භාවිතාවන මෙම පිරිත් පොත හා පිරිත් සජ්ජායනා කිරිම,පිරිත් පැන් ලබාදීම පිරිත් නූල් බැඳිම, මෙන්ම පිරිත් කියා සෙත් ශාන්ති කිරීම අද හෙලදිව බෞද්ධ ගිහි පැවිදි හැම දෙනා අතරේම ඉතාමත්ම ජනප්‍රියආගමික අංගයක් බවට පත්ව ඇත. පිරිත හා පිරිත්කීමේ ඉතිහාසය ගැන විමර්ශණාත්මකව සලකා බැලිය යුතුය.

අලුතින් පැවිදිවන හා පැවිදිබවට පත්වන්නට බලාපොරොත්තුවන නවකයින්ට පැවිදි ජීවිතය පවත්වාගෙන යාම සඳහා උපකාරක වන කරුනු ඇතුලත් කර පොලොන්නරු යුගයේදී හෝ අනුරාධපුර අවසාන භාගයේදී සංග්‍රහ කරණ ලද සුත්‍ර ධර්ම කිහිපයක් අඩංගු පොත පිරිත් පොත ලෙසින් පසුව ප්‍රචලිත විය. තිසරණ, සාමනේර ප්‍රශ්න, දස ධමම සුත්‍රය, වැනි පැවිදි දිවියට අත්‍යාවශ්‍ය දේ ඇතුලත් කර මෙවන් පොතක් සකස් කර නවක පැවිද්දන්ට මේවා කටපාඩම් කර ගන්නට එදා ගුරුවරුන්ගෙන් උපදෙස් ලැබී තිබිනි. මේ අනුව ආරම්භක අවස්ථාවේ දී පිරිත් පොතට බුද්ධ දේශණා වශයෙන් සලකණ සුත්‍ර කිහිපයකුත්,බුද්ධක නිකායේ සඳහන් වන පසුව



එකතු කරගත් සුත්‍ර කිහිපයකුත් ඇතුලත්ව තිබුණි. පසු කළක මෙම පිරිත් පොතට මිනිසුන්ගේ කායික මානසික ලෙඩ සුවපත් කිරීමට උපකාර කරගතහැකි, ශාන්ති කර්ම හැටියට සැලකිය හැකි, පාලි බසින් රචිත ගාථා මෙන්ම ලෞකික වශයෙන් ග්‍රහඅපල, ලෙඩදුක් රෝ බිය දුරු කරන්නට උපකාර කරගත හැකි, අලුතින් ගෙතූ සුත්‍ර රාශියක් ද ඇතුලත් කරගත්හ. මේවා පසුව ශාන්ති කර්ම, ග්‍රහ පුජා හා සෙත් කිරීමට භාවිතා කරණ ලද බුද්ධ මන්ත්‍ර ලෙසින්ද හඳුන්වා දෙන්නට පටන්ගත්හ.

බුදුපියාණන් ජීවමානව වැඩසිටි කාලයටත් පෙර පටන්ම භාරතයේ මෙන්ම හෙලබිමේද ආගමික වශයෙන් බමුණන් ඉතාම බලවත්ව සිටියහ. දේව ආගම් සංකල්ප වලට අනුව දේව ආශිර්වාද ලබාගැනීමට නිතරම ස්ත්‍රෝත්‍ර ගායනා කරන්නට බමුණන් පුරුදු වී සිටියහ. ඒ අනුව නිතරම බමුණන් එදා සමාජයේ ජීවත්ව සිටි මිනිසුන්ට විවිධ ශාන්ති කර්ම, පුදපුජා යන්ත්‍ර මන්ත්‍ර ආදිය කරදෙමින් මන්ත්‍ර, යන්ත්‍ර ගායනා කරමින් ජනතාවට මානසික වශයෙන් තාවකාලීක සුවයක් ලබාදෙන්නට පුරුදුවී සිටියහ.මෙසේ බමුනන් ගායනා කල ස්ත්‍රෝත්‍ර එකතු කරගෙන භගවත් ගීතාව නමැති පොතක්ද එදා සංස්කෘත බසින් ඉන්දියාවේ දී ලියා තිබුණි. අදටත් භජන්ගී ගායනා කරන්නේ මේ භගවත් ගීතාවේ ඇති ස්ත්‍රෝත්‍ර භාවිතා කිරීමෙනි. මෙය හිංදු ආගමේ ජනප්‍රියම අංගයකි.

බුද්ධාගමක් අදහන්නට පටන් ගත් පසුව බෞද්ධ ගිහියන්ටද ජෛන ආගමේ බමුණන්ගෙන් එදා ජනතාවට ලැබුණු මේ සහනයට හා සමාන සහනයක් ලබා දෙන්නට, භජන් ගී ගායනා කිරීමේ සිරිතට සමානවම, භික්ෂුන් වහන්සේලාද තෝරා ගත් බුද්ධ මන්ත්‍ර ගායානා කරමින් සෙත් ශාන්තිපතා ගිහියන්ට ඒ අඩුව පිරිමසාලන්නට කටයුතු කළහ. අදපවා ථෙරවාදී භික්ෂුන් වහන්සේලාගිහියන්ගේ හැම අවස්ථාවකදීම, මරණයකදී ,මගුලදී, කරදරයකදී අසනීපයකදී ආදී වශයෙන් හැම ලෞකික සමාජමය අවස්ථාවකදීම ගිහියන්ට යම් ආකාරයක මානසික වශයෙන් තාවකාලික සහනයක් ලබා දෙන්නට පිරිත් සජ්ජායනා කිරීමේ සිරිතක් ආරම්භ කලේ අනුරාධපුර යුගයේ අවසාන භාගයේදී පටන්මය. මුල් යුගයේදී ත්‍රිපිටකයෙන්ම උපුටාගත් තෝරාගත් සුත්‍ර ගායනා කරමින් සෙත් ශාන්ති

කර්මයන් කලද පසුව ඒ සඳහාම අලුතින් සකස් කර ගත් බොහෝ පිරිත්ද භාවිතා කරන්නට විය. සූර්ය පිරිත චන්ද්‍ර පිරිත, ජින පඤ්ජරය,ජලනන්දන පිරිත ආදී වශයෙන් එන බොහෝ පිරිත් පසුකාලයකදී ශාන්ති කර්ම කිරීමට හා සෙත් පැතීමට සකස් කරගත් පිරිත් මිසක බුදු පියාණන් දේශනා කර වදාළ දේවල් නොවේ.

දුකට කරදරයටපත් පෘතග්ජන ලෝකයාට තාවකාලික වශයෙන් ලෞකිකව යම් මානසික සහනයක් සැලසීමටත්, අධ්‍යාත්මික ශක්තියක් ගොඩනගාගන්නටත් පිරිත් සජ්ජායනාව උපකාරවූ නිසා භික්ෂූන් වහන්සේලා ද හැම සමාජමය කාර්යයකදීම වාගේ බහුල වශයෙන් පිරිත් සජ්ජායනා කිරීම ජනප්‍රිය අංගයක් බවට පත්කරගත්හ. මේ බව අදටත් දැක ගත හැක්කේ හැම සංනිවේදන මාධ්‍යයක්ම පිරිත් සජ්ජායනාවට ලබාදෙන වැදගත් ස්ථානය ගැන සලකා බලන විටදීය.

ආගමක් අදහන බෞද්ධයන් හැටියට ගිහියන්ගේ යම්යම් ගැටළු හා ප්‍රශ්ණවලදී භික්ෂූන් වහන්සේලාගෙන් ඉටුවියයුතු සේවයක් ලෙසින් පිරිත් සජ්ජායනා කිරීම මේ අයුරින් ජනප්‍රිය අංගයක් හා නැතිවම බැරි අංගයක් බවට අද වනවිට පත්වී ඇත. ත්‍රිවිධරත්නයේ ගුණ ගායනා කිරීමෙන්, බුදුගුණ ගායනා කිරිමෙන් සජ්ජායනා කරන්නාගේ මානසික ශක්තියද, ත්‍රිවිධරත්නයේ ආශිර්වාදයද ලබාගෙන ලෞකික වශයෙන් රෝග භය ,දුක්භය, ස්වභාවික විපත් භය ආදී සියලු භයෙන් මිදී නිදහස් විය හැකිය යන විශ්වාසයක් සිංහල බෞද්ධයා තුල අද වන විට මුල් බැසගෙන ඇති නිසා අද පිරිත් සජ්ජායනාව මෙතරම් ජනප්‍රිය වී ඇත.

නමුත් බුදුපියාණන් දේශණා කර වදාළ උතුම් සුත්‍ර ධර්මයන්ගෙන් පැහැදිලිවම හා  පිරිසිදුවම අර්ථවත් වන්නේ බඹයක් පමණවූ ශරීර කූඩුවට සියලු රෝගභය, දුක්භය, මරණභය ඇතිවෙන්නේ කෙලෙස් සහිතවූ ආසව ක්‍රියාත්මකවම ගබඩාවී පවතින නිසාය. මේ නිසා සියලු සුත්‍ර ධර්මයන්ගෙන් ඉදිරිපත් කලේ අනුසය උපදවීම නවතා (අනුත්පාදයෙන්) ආසව ක්ඛයකර කෙලෙස් මුල් කපා දැමීමට ප්‍රායෝගිකවම අනුගමනය කළයුතු (චරණ) ධර්මයන්ය. එනම් රාගක්ඛය, ද්වේෂක්ඛය, මෝහක්ඛය කිරීමෙන් ආසවක්ඛය කිරිමේ ප්‍රායෝගික මාර්ගයයි.



දඹදෙනි යුගයේදී අටුවාචාරීන් වහන්සේලා විසින් පිරිත් පොතට අටුවාවක් ලියමින් “සාරත්ථසමුච්චය” නමැති (අප්‍රකට) විග්‍රහයක් කලත් එහිදී ලබාදුන් උපදෙස් මගහැර පසුව ආ යුගයක දී ලෞකික වශයෙන් සෙත් ශාන්ති කර්ම සඳහා උපකාර කරගත  හැකි එමෙන්ම භූත ප්‍රේත ආදී අමනුස්සයන් ගෙන් සිදුවන උවදුරු වලින් මිදී නිදහස් වන්නට උපකාරවන යාතිකා සහ ප්‍රකාශනයන් අදවන විට පිරිත් ලෙසින් භාවිතයේ පවතී.

බුද්ධ ධර්මයෙන් බුදුපියාණන් පෙන්වා වදාල නිවන් මගට කිසිසේත්ම නොගැලපෙන, කිසිම බෞද්ධ ලක්ෂණයක් පිලිඹිඹු නොකරණ, බොහොමයක් යාතිකා සුත්‍ර වශයෙන් පසුකාලීනව ගොතා සකස් කර ගත් දේ පසුකාලීනව පිරිත් පොතට ද ඇතුලත් කර ගෙන ඇත. මිත්‍රයින්ට ද්‍රෝහි නොවීමේ ආනිසංසය පෙන්වන මිත්තානිසංස, චන්ද හා සුරිය පරිත්තයන් කිසිම ආකාරයක බුද්ධ ධර්මයට ගැලපෙතැයි පෙන්වාදිය නොහැකිය. මේ අනුව අද ජනප්‍රිය හා බහුල වශයෙන්ම  භාවිතා කරණ බොහෝ සුත්‍ර ධර්ම පසුව හඳුන්වාදුන් ඒවාය. ජිනපංජරය හා ගිනි පිරිත මෙන්ම ජලනන්දන පිරිතත් ජෛන තන්ත්‍ර සාහිත්‍යයේ බලපෑම නිසා පසුව සකස් කරගත්, මහායාන මන්ත්‍ර රටාවට හා ස්ත්‍රෝත රටාවන්ට ගැලපෙන ආකාරයට පසුව රචනාකරගත් පසුව එක්කර ගත් ඒවාය.  මහායාන හා ජෛන, වේද ආදී ආගම් වල බලපෑම නිසාත්, ගිහි පැවිදි බුද්ධාගම අදහන්නන්ගේ ලෞකික අවශ්‍යතාවයන් ඉටු කිරීමටත් බුද්ධාගමේ නාමයෙන් ශාන්ති කර්මයන් කර මිනිසුන්ගේ සිත් තාවකාලිකව සමථයට පත් කරවන්නටත්, පිරිත් නූලක් බැඳ, පිරිත් පැන් ටිකක් ලබාදී යම් ආකාරයක තාවකාලිකව සහනයක් ලබාදෙන්නටත් බොහෝ බෞද්ධ භික්ෂූන්වහන්සේලා ද පිරිත් භාවිතා කරන්නට පටන්ගත්හ. මේ අනුව උතුම් බුද්ධ ධර්මයේ පරමාර්ථයවූ කෙලෙස් දුරු කරගන්නට උපකාර වන ප්‍රතිපදාව- මජ්ඣිමා ප්‍රතිපදාව - අතහැර තාවකාලිකවූ සහන සොයා පැලැස්තර දමන ක්‍රමයක් බුද්ධාගම නමින් මේ හෙලබිම තුලත් ජනප්‍රියවූ බව පෙන්වාදිය යුතුය. නවීන විද්‍යාව නිසා වානිජත්වයට පත්වූ , අසහනකාරී සමාජයෙන් ඉල්ලුම් කරණ ශාන්ති කර්මවලට සරිසලනසේ, පොදුජනතාවටද සරිලන පරිදි ජන විඤ්ඤාණයට ගැලපෙන පරිදි පැලැස්තර ක්‍රමවේදයක් අද වන විට

ජනප්‍රිය සුන්දර බුද්ධාගම නමින් සකස් කර ගෙන ඇති බව කණගාටුවෙන් උවද ප්‍රකාශ කර පෙන්වාදීම යුතුකමක් සේ සලකමි.

බුද්ධාගමේ පිලිගත් සම්මත අංගයක් ලෙසින් පිරිත් සජ්ජායනා කිරීම, පිරිත් නුල් බැදීම, පිරිත් පැන් ලබාදීම වැනිදේ ඉතාමත් වැදගත්ය. මේ ක්‍රියාවන් කිසිසේත්ම පාපකාරී හෝ වැරදි සහගත දේවල්ද නොවේ. නමුත් අදවන විට මෙය ආගමේ ව්‍යාපාරික අංගයක් ලෙසින් සමාජගතවී තිබීමත්, භක්තිය හා මෝහය වර්ධනය කරවන ආකාරයෙන් නිවනට බාධකයක් වන තරමටම වානිජකරණීයවු දෙයක් බවට පත්වී ඇතිබවත් පෙන්වා දියයුතුය.

උතුම් බුද්ධ ධර්මය - නිවන් අවබෝධකරගන්නට උපකාර වන බුද්ධභාෂිතය - ත්‍රිපිටක ධර්මය -පටිච්චසමුප්පාද ධර්මය උපත ලැබුවේ හෙලබිම තුලදීමය. නමුත් එදා භාරතයේ ජනප්‍රියව පැවති දේව ආගම් සංකල්ප වලට ගැලපෙන පරිදි ,ජෛන,වේද (චතුර්වේදය) ශිව , පතඤ්ජලී ආගම් වල පිලිගත් විශ්වාස වලට , ඇදහිලි වලට ගැලපෙන අයුරු බුද්ධ දේශනාවේ දේශනා කල පදවැල්ම ප්‍රයෝජනට ගෙන ඒ පදවැල්ම භාවිතා කරමින්, ඒ නමින්ම අලුත් බුද්ධාගමක් ද සකස් කරගෙන එය මහායාන බුද්ධාගම නමින් ජනප්‍රියත්වයට පත්කලේ පලමුවන සියවස පමණ ඈත අතීත යුගයකදී ඉන්දියාවේදීය. පලමුවන සියවසේ භාරතයේ බලවත් රාජ්‍යයක්වූ කණිශ්ක රාජ යුගයේ දී ජෛන,වේද,ශිව ආගම් වල බලපෑම, නිසා අශ්වඝෝෂ, නාගාර්ජුන පාදයන්, දින්නාග, වාසුබන්ධු ,ධර්මකීර්ති,අසංග වැනි මහායාණික බෞද්ධ භික්ෂුන් වහන්සේලා සංස්කෘත භාෂාවෙන් පොත්පත් ලියා බෞද්ධ මුලධර්ම එනම් බුද්ධ භාෂිතය තම තමන්ගේ දේව ආගමටත් ගැලපෙන ආකාරයට සකස්කරගන්නට උත්සාහ ගත් බව පැහැදිලිවම පෙන්වාදිය හැකිය. ජපානය,චීනය, ටිබැට්රට ,කොරියාව වැනි රටවලට මේ මහායාන බුද්ධාගම පැතිර යාමේදි එවකට ඒ ඒ රටවල ජනප්‍රියවූ හා පිලිගත් ඇදහිලි හා විශ්වාසයන්ටත් ගැලපෙන සේ, පෑහෙන ආකාරයෙන් අලුත් බුද්ධාගමක් ඒ ඒ රටවලදීත් සකස් කර ගැනීම හැම තැනකදීම සිද්ධවිය. බුද්ධාගමේම යම් යම් මුලධර්මයන් ආශ්‍රයෙන්ම පසු කලෙකදී ක්‍රිස්තියානි හා කතෝලික ආගම්ද, ඒ ඒ රටවලට ගැලපෙන ආකාරයෙන් සකස් කර , නිර්මාණයකරගත්



බවටත් පිලිගත් මතයක් අදවන විට ලියා පලකර ඇත.

ටිබැට් රටේදී බිහිවු, බුද්ධාගමේ ම කොට්ඨාශයක් ලෙසින් ප්‍රකටවු නීලපට දර්ශණ නිකාය නමින් අන්තවාදී, අන්තගාමී නිකායයන් පවා බිහිවුයේ බුද්ධ ධර්මයේම නාමය භාවිතා කරමින්ය. මේ අනුව හෙලබිමේදී උප්පත්තිය ලැබූ උතුම් බුද්ධ ධර්මය වසර 500ක් පමණ කෙටි කාලයක් තුලදී විවිධාකාර වූ විපරියාසයන්ට, පරිවර්තනවලට භාජනයවී මුල් බුදුදහමට හාත්පසින්ම වෙනස් වූ ලෞකික පරමාර්ථයන් ඉටු කරගන්නට උපකාරවනසේ සකස් කරගත් තවත් එක් ආගමක් බවටම පත්විය. වලගම්බා රාජ යුගය වන විට මේඉන්දීය බලපෑම හෙලදිවටත් තදින්ම බලපෑ අතර පොලොන්නරු යුගය වනවිට ථෙරවාදී බුද්ධ ධර්මය නාම මාත්‍ර දෙයක් පමණක් විය. ථෙරවාදී බුද්ධාගම යැයි හැඳින්වුව ද ප්‍රායෝගික වශයෙන් ඒ වන විටත් හෙලබිමේදී ඇදහුවේද මහායාන බුද්ධාගමේම ජනප්‍රියවූ ආගමික අංගයන් පමණි.

සද්ධර්ම පුණ්ඩරික සුත්‍රය හා ඊටම සම්බන්ධ අනෙකුත් වෛතුල්‍යවාදී මතයන් ඉස්මතු කර සංස්කෘත භාෂාවෙන් ලියා ඉදිරිපත් කරණ ලද මහායාන පොත්පත් කියවන ඕනෑම කෙනෙකුට ඒවා රචනා කල යුගය වනවිට භාරත දේශයේ ඇදහු බුද්ධාගම පිලිබඳව මනා අධ්‍යයනයක් කරන්නට අවශ්‍ය කරුණු කාරණා සොයාගත හැකිය.

විශේෂයෙන්ම ධාතු වන්දනාව , බුදුපිළිම වන්දනාව, ස්ථුප ඉදිකිරිම හා වන්දනා කිරීම, පෙරහර පැවැත්වීම, ඒවාගේම ආගමික උත්සවවලට සංගීතය සැපයීම, බෙර දවුල් තම්මැට්ටම් ආදී සංගීත භාණ්ඩ ආගමික උත්සව වලදී භාවිතා කිරීම,ආදී වශයෙන් භක්තියෙන් බුද්ධාගම අදහන පිරිසකගේ සමාජ සම්මත සිරිත් විරිත් හැම එකක්ම මෙහිදී අගේ කොට මේ මහායාණික පොත්වල ලියා දක්වා ඇත.

එමෙන්ම සද්ධර්මපුණ්ඩරික සුත්‍රය සජ්ජායනා කිරීමත්, වැඩි වාරගණනක්, වැඩි දෙනෙකුත් සමඟ එකට එකතුවී එකවර කියවීමත්, බලවත් පිංකමක් ලෙසින් යලි යලිත් පවසා වර්ණනා කර එහිම ලියා ඇත. භක්තිමත් පොදු මහජනයාගේ සිත්තුල බුදුවරුන් පිලිබඳව,

බුද්ධක්ෂෙත්‍රයන් පිලිබඳව හා බුදුබව පතන බෝධිසත්ව වරුන් පිලිබඳව මහත් භක්තියක් හා ගෞරවයක් ඇතිවන ආකාරයට අතිශයෝක්තියෙන් වර්ණනා කිරීමද හැම විටකම මේ සද්ධර්ම පුංඩරික සුත්‍රයපුරාම දැකිය හැකිවෙයි. මෙහි බුදුවරුන් නිරූපණය වන්නේ සාමාන්‍ය මිනිසුන් ලෙසින් නොව දේවත්වය හා බ්‍රහ්මත්‍වයද ඉක්මවූ, සර්වඥවූ සර්වතෝභද්‍රවූ , සියල්ලම දකින හා සදාකාලික චරිතයන් ලෙසිනි. නැතහොත් මනුස්සත්‍වය ඉක්මවූ අතිඋත්කෘෂ්ඨ පුද්ගලයින් ලෙසිනි. අමිතාභ නමැති මනඃකල්පිත බුදුකෙනෙකු වෙනත් චක්‍රාවාටයක සිට අදටත් සද්ධර්ම පුංඩරික සුත්‍රය දේශනා කරණ බවද මෙහි සඳහන් කරයි. නමුත් සියලුම බුදුවරුන් බුද්ධත්වයට පත්වී දේශනා කරන්නේ පටිච්චසමුප්පාද දේශනාවයි. හේතු පල දහමයි. සද්ධර්මපුංඩරික සුත්‍රය ගායනා කිරිමෙන් හෝ දේශනා කිරිමෙන් හෝ චතුරාර්ය සත්‍යයන් අවබෝධකරගැනීම, ධම්මෝ සංදිට්ඨිකෝ වීම හෝ ආසව අනුසය කපා හැර සසර බැමි බිද දැමීම හෝ කල නොහැකිය. ඒ සඳහා සෝතාපත්ති අංග හතර සම්පූර්ණ කරගැනීම ම කල යුතු බව බුද්ධ දේශනාවයි.

මේ සද්ධර්ම පුංඩරික සුත්‍රයේ පැහැදිලිවම ප්‍රකාශකර ඇති සම්පූර්ණයෙන් ම වැරදි සහගත දෙයක් නම් ගෞතම බුදුන් වහන්සේ වෙනත් චක්‍රාවාටයකින් මෙහි පැමිණ ගිජ්ජකූට පර්වතයේ වාසය කරමින් විශාල බෝසත්වරුන් පිරිසක් මැද මෙම සුත්‍රය දේශනා කරන බවයි. නමුත් බුදුපියාණන් වහන්සේ ගමින් ගමට ගොස් පිඬුසිඟා වඩිමින් පිංඇති පිංවත්පිරිසක් සොයා ගොස් ධර්මය දේශනා කරමින් සාමාන්‍ය මිනිසෙකු ලෙසින් හැසුරුණු බව ථෙරවාදී ත්‍රිපිටක ග්‍රන්ථවල සඳහන් වන ස්වාභාවික ත්‍වයට වඩා වෙනස් ආරූඩයක් මෙහිදී බුදුපියාණන් වහන්සේට ආරෝපනය කර ඇති බව පැහැදිලිය. සද්ධර්ම පුංඩරික සුත්‍රයේ එන අද්භූත අභව්‍ය බුදුවරුන් ධර්මය දේශණා කරමින් චාරිකා නොකරති. පිඬුසිඟා වඩින්නේද නැත.බණකීමක් කරන්නේ තමා ලගට එන පිරිසට පමණි. ඉන්ද්‍රජාලිකයෙකුගේ ස්වරූපයක් ඇති එමෙන්ම අද්භූත ආශ්චර්යයන් කරණ, ඉර්ධිප්‍රාතිහාර්ය වලින් මහජනයා දහම් මගට ඇද ගන්නා චරිතයක් මෙම සුත්‍රයේ දී බුද්ධචරිතයට ආරෝපනය කර ඇත. මෙය දේවවාදී ආකල්පයේ බලපෑම නිසා සිදු වූවකි.



ථෙරවාදී ත්‍රිපිටකයට අනුව නම් ගෞතම බුදුපියාණන් වසර හතලිස් පහක් පමණක් ධර්මය දේශනා කර පිරිනිවන් පා වදාළහ. නමුත් මේ සුත්‍රයේ එන පරිදි බුදුවරයෙකු සිය දහස් කෝටි අසංකෙයිය කල්පයක් ජීවත් වෙති. මේ සියල්ලම ලියා ඇත්තේ ධර්මය තේරුම් නොගැනීම නිසාය. සං-අසං-සංඛ්‍යය පදවල අර්ථය ධර්මය තේරුම් නොගත් හෙයිනි. සංදේශණාව තේරුම් නොගත් නිසාය.

බුදුපියාණන් වහන්සේ ලෝකයාට දේශනා කල ධර්මය නානා අර්ථයෙන්, නානා ධර්ම අර්ථවලින්, නානා ආකාරයට විග්‍රහකිරීමේ හැකියාවක් ඇති ධර්මයකි. මෙයද සිදු වන්නේ ධර්ම නියාමයටම ගැලපෙන ආකාරයෙනි. නිවන් අවබෝධ කරගන්නට තරම් පිංපිරූ මිනිසුන් ජීවත් නොවන යුගයක - කාලපරාශයක -කල්පයක - උතුම් බුද්ධ ධර්මයේ අර්ථයන් ලෞකිකත්‍වයට ගැලපෙනසේ මිනිසුන් විසින් ම වෙනස් කරගෙන විග්‍රහ කරන්නට පටන්ගනී. මෙම පදවැල් (මාගධී පදවැල්) හෙලබිමේදී මෙන්ම භාරතයේදීත්, අනිකුත් පෙර අපර දෙදිග රටවලදීත්, විවිධ යුගවලදී මිනිසුන්ට-පෘතග්ජන ලෝකයාට ගැලපෙනසේ ලෞකිකත්වය ඉස්මතු වන ආකාරයෙන් - භක්තිය ඉස්මතුවන ආකාරයෙන් අර්ථ ගන්වා ලියා තබන්නටත් දේශනා කරන්නටත් පටන්ගත්හ.

අටුවාචාරීන් වහන්සේලා ලෙසින් අපි හඳුන්වන බුද්ධඝෝෂ හිමියන් ඇතුළු බොහෝ ගිහි පැවිදි විද්වතුන් විසින් එදා ලියා පලකරණ ලද බොහෝ අටුවා,ටීකා,ටිප්පනි නිසා විවිධාකාරයෙන් උතුම් බුද්ධ ධර්මයම ලෞකිකත්වයට ගැලපෙන ලෙසින්, හුදී ජන පහන් සංවේගයට උචිත ආකාරයෙන්, වෙනස් කරගෙන මේ හෙලබිමේදීත් භාවිතා කලහ. මෙසේ හෙලබිමේදී වෙනස් කරගෙන - ලෞකික අර්ථයන් ආරෝපනය කරගෙන - ධර්මය විකෘති වෙන්නට මුලිකම හේතුව වුයේ ඉන්දියාවෙන් ගලා ගෙන ආ මහායාන බුද්ධාගමත් බුද්ධාගමේ ඉගැන්වූ- සංස්කෘත භාෂාවෙන් ලියාතිබූ වැරදි බෞද්ධ මුලධර්මයනුත් හේතු කොට ගෙනය.

බුද්ධ භාෂිතය වසර හාරසිය පනහක් පමණ දිගු කාලයක් කටින් කට නිවැරදි ආකාරයෙන් පවත්වාගෙන වනපොත් කරගෙන -පරම්පරාවෙන්

පරම්පරාවට පවත්වාගෙන ඒමේ ගෞරවය හිමිවන්නේ හෙලබිම - ජන්බුද්වීපයේ වාසය කල සිංහල භික්ඛු-සංඝයා වහන්සේලාටය. ඉන් පසුව බු.ව. 456 දී හෙල අකුරෙන් බුද්ධ භාෂිතය ලේඛන ගත කිරීමේ ගෞරවයද හිමි වන්නේ හෙලබිම විසු සිංහල ගිහි පැවිදි උතුමන්ටය.

මීට ටික කලකට පසුව මෙම ත්‍රිපිටකයම ඉන්දියාවේදී සංස්කෘත අකුරෙන් ලියා භාවිතයට ගත්හ. මෙහිදී ත්‍රිපිටකය සංස්කෘත භාෂාවට පරිවර්තනය කරන්නට ගියේ නැත. මාගධී වචනයම- සංස්කෘත අකුරෙන් ලියුවා පමණි. නමුත් මේ මාගධී වචන වලට දෙවනුව අර්ථ දක්වන්නට ලියු අටුවා කථා ලිවීමේදී මේවායේ අර්ථයන් ඒ ඒ දේශයට, ඒ ඒ යුගයට හා ඒඒ සමාජමය අවශ්‍යතාවයන්ට ගැලපෙන අයුරින් වෙනස් කරගත්හ. චතුර්විධ බෞද්ධ සම්ප්‍රදායයක් පෙරදිගදී ගොඩනැගුනේ මේ පසුතලය හේතු කොට ගෙනයි. හෙලබිමේ උපන් හෙලබිමේ පවත්වාගෙන ගිය පිරිසිදු බුද්ධ භාෂිතය පිරිසිදු බුදු දහම - සංස්කෘත, ටිබැට්, චීන, ජපන්, කොරියන් ආදී භාෂාවන්ගෙන්ද ලියා අර්ථ දක්වන්නට පටන්ගත් පසුව මේ වෙනස්කම් සිදුවිමත්, ධර්මය ඒඒ පුද්ගලයන්ට හා රටවලට ගැලපෙන ලෙසින් සකස් කර ගැනීමත් සිදුවිය. ඒ වෙනස් කම් සහිතවූ- ජන විඥ්ඥාණයට ගැලපෙන බුද්ධාගම ජනප්‍රිය එකක් බවටද පත්විය. මෙම ජනප්‍රිය අංගයන් -වැඳුම්- පිදුම් -යැදුම්- පැතුම් හෙලබිමේ බුද්ධාගමටත් ක්‍රමානුකූලව ඇතුලුවී නිවන් දකින බුද්ධ ධර්මය වචනයට පමණක් සීමාවී අදහන බුද්ධාගමක් හෙලබීමේදීද ප්‍රචලිත වීමට ගතවුයේ සුළු කාලයකි.

ඉන්දියාවේදී බිහිවු බෝධිසත්ත සංකල්පය ජපන් ආදී රටවලටත් ක්‍රමයෙන් පැතිර ගිය අතර  ජපානයේදී බිහිවු "ශෙන් බුද්ධාගම" එහි ප්‍රතිපලයකි. ජපානයේදී අනන්ත  බුදුවරුන් , අනන්ත බෝධිසත්වරුන් පමණක් නොව, බෝසත් කාන්තාවෝද, බෝසත් බිරියෝද බිහි කරගත්හ. තාරා දේවිය(තාරා පිලිමයෙන්පෙන්වන) බෝසත් බිරිය ජපන් රටේ දී නිර්මාණය වුවකි."සුඛාවතීය නමැති" වෙනත් චක්‍රාවාටයක් ගැනත්, ඒ චක්‍රවාටයේ අදටත් ජීවත්වන, දැනටත් බණ කියන, අමිතාභ නමැති අමරණීය බුදුවරයෙකු පිලිබඳවත් ලක්‍ෂ ගණන් බෝධිසත්ව වරුන් පිලිබඳවත්, අදහස් ලියා දැක්වුයේ මේ මහායාන බුද්ධාගමේ ආගමික



නායකයින් විසින්ය. මේවා මුල් බුදු දහමේ දක්නට හෝ අසන්නට හෝ ඇති දේවල් නොවේ. ටිබැට් රටට බුද්ධාගම හඳුන්වාදීමේදී ද සිද්ධ වුයේ ටිබැට් රටේ මුල් බැස ගෙන තිබු සම්ප්‍රදායික ඇදහිලි හා විශ්වාස වලට ගැලපෙන අයුරින්- සීහෙන පරිද්දෙන් -බුද්ධාගමේ බොහෝ මුල ධර්ම වෙනස් කරගැනීමය. මේ අනුව ටිබැට් රටේ දී ලාමා බුද්ධාගම බිහි විය. එය නිවන් දැකගන්නට උපකාර වන බුද්ධ ධර්මය ඇතුලත් වන ආගමක් නොවේ. නමුත් ලාමා වරුන් ද බුද්ධාගමේ කොටසක් බවට ඓතිහාසික වශයෙන් පිළිගන්නට විය. මෙසේ ඒ ඒ රටවලට බුද්ධ ධර්මය රැගෙන ගිය ධර්මදූතයින්ට කරන්නට සිදුවූයේ ඒ ඒ රටවල පිළිගත් ආගමික විශ්වාසයන්ට හා ඇදහිලි වලට ගැලපෙන අයුරින් වෙනස්කරගෙන බුද්ධාගම යන නමින් ම ආගම ප්‍රචලිත කිරීමයි. මේ හේතුව නිසා බුද්ධාගම ජනප්‍රිය ආගමක් බවට පත්විය. උතුම් බුද්ධ ධර්මය නාමික තත්වයෙන් පැවතී ධර්මය අභාවයට පත්විය. වචනමාත්‍රයෙන් පද පරම ලෙසින් බුදුන් දේශණා කරණ ලද මාගධී පදවැල් සමහරක් භාවිතයේ තිබුනද ඒවාට ලබාදුන් අර්ථයන් විවිධාකාරයෙන් ලෞකික පරමාර්ථයන් ඉශ්ඨ කරගන්නට සුදුසු පරිද්දෙන් වෙනස් කරගැනිම මේ හැමතැනක දීම දැකගත හැකිවෙයි.

අද බුද්ධ ධර්මය උගන්වන අපේ රටේ උගතුන්, ගුරුවරුන් තම යුතුකම හා වගකීම් පැහැර හැර ඇත. බුද්ධ ධර්මය උගන් වන්නේ දහම් පාසැල්වලය , සාමාන්‍ය පාසැල්වල ද බුද්ධාගම හෝ බුද්ධ ධර්මය විෂයයක් වශයෙන් උගන්වති. පිරිවෙන් වල, පන්සල්වල , බෞද්ධ හා පාලි විශ්ව විද්‍යාලයේ මෙන් ම අනිකුත් විශ්ව විද්‍යාලවල ද බුද්ධාගම උගන්වති. බුද්ධ ධර්මය හා බුද්ධ ආගම එකක් නොව හාත් පසින් ම වෙනස් වු විෂයයන් දෙකකි.අටුවා චාරීන් වහන්සේලා පසුකාලීව හෙලබිමේ දී මෙන් ම භාරතයේ දී ලියු බොහෝ පොත්පත් බුද්ධ ධර්මය යන විෂයයට අයත් නොවේ. නමුත් ඒවා බෞද්ධ සංස්කෘතියට, බෞද්ධ ඉතිහාසයට සහ බෞද්ධ සාහිත්‍යයට අයත් වෙයි. බුද්ධාගම උගන්වන විට බෞද්ධ සංස්කෘතිය, බෞද්ධ ඉතිහාසය , මෙන් ම බෞද්ධ සාහිත්‍යය ද උගැන්වීම වරදක් නොවේ. සංස්කෘත භාෂාවෙන් ලියූ, බෞද්ධ ආගමට හා බෞද්ධ ඉතිහාසයට අදාල බොහෝ පොත්පත් අනුරාධපුර පොළොන්නරු, දඹදෙනි යුගවල දි සිංහල බසටත් පාලි බසටත් පරිවර්තනය කරගෙන බුද්ධාගමේ පොත්පත් ලෙසින්

භාවිතා කළහ. අදටත් භාවිතා කරති.මේවා මහායාන පොත්පත්ය.

විශේෂයෙන් ම අද දහම් පාසැල් වලත්, සාමාන්‍ය පාසැල් වල බුද්ධාගම් විෂය නිර්දේශය ලෙසත්, බුද්ධ චරිතය ලෙසින් උගන්වන දේ ලලිත විස්තරය හා දිව්‍යාවදානය යන සංස්කෘත භාෂාවෙන් ලියූ වෙනත් මහායාන බෞද්ධ ඉතිහාස පොත්වලද සිංහල පරිවර්තනයන් ය. මහායාන බුද්ධාගමෙන් ණයට ගත්, වැරදි ආකාරයෙන් ලියූ අද්භූත ආශ්චර්යයන් හා අභව්‍ය වූ සිද්ධීන් සමුහයක් පදනම් කරගත් බුද්ධ චරිතයක් කුඩා දරුවන්ට පාසැල්වල දී වැරදි ලෙස ඉගැන්වීම සුදුසු දැයි බුද්ධාගම උගන්වන ගුරුවරුන්ට දැන් සිතන්නට කාලය එළඹ ඇත.පාලි හා බෞද්ධ විශ්ව විද්‍යාලයේ මහාචාර්ය තනතුරු දරණ අපේ ථෙරවාදී මහ තෙරුන් වහන්සේලා ද මේ පිළිබඳව විශේෂයෙන්ම සලකා බැලිය යුතුය.

මිනිහෙකුට අට අනුවත් රෝගාබාද හැදෙන බව වෛද්‍ය විද්‍යාවේ ද සඳහන් වෙයි. මේ රෝගාබාධ නැති කරගන්නට හැම මිනිහෙක් ම ඒ ඒ රෝග පිළිබඳව විශේෂඥවෛද්‍යවරයෙකු වීමේ අවශ්‍යතාවයක් නැත. විශේෂඥවෛද්‍යවරයා නියම කරණ ලද බෙහෙත් නිසි ප්‍රතිපදාවක් සහිතව භාවිතා කිරීමෙන් ම රෝගය සුවකර ගත හැකිය.

මේ ආකාරයට ම “භව දුක - සංසාර දුක”- නමැති රෝගය හැම කෙනෙකුට ම හඳුනා ගත නොහැකිය. සංසාර රෝගයට නියම නිවැරදි ප්‍රතිකර්ම නිර්දේශ කිරීම ද හැමකෙනෙකුට ම කළ නොහැකිය. සංසාර රෝගය නිවැරදි ලෙසින් ම හඳුනාගෙන සංසාර රෝගයට නියම නිවැරදි පිළියම භව නිරෝධය බව බුදුපියාණන් පැහැදිලිවම පෙන්වා දී ඇත. මහායාන බුද්ධාගමේ එදා මෙන් ම අදත් උත්සාහ ගන්නේ හැම කෙනෙක්වම ලොව්තුරා බුද්ධත්වයට පත්කරවන්නට - බෝධිසත්වයින් බවට - පත් කරවන්නටය. සංසාර රෝගය හරිහැටි හඳුනා නොගත් බොහෝ පෘතග්ජන බුද්ධාගම් කාරයෝ කරණ, කියන, හිතන, බොහෝ දෑ උපකාර වන්නේ හොඳින් හෝ නරකින් හෝ සංසාර දුක නැමැති රෝග තත්වය යලි යලිත් උත්සන්න කරමින් අලුතින් රෝගය නිර්මාණය කරදී පෘතග්ජන ලෝකයාව සංසාරේ අතරමං කරන්නටමය. මේ අනුව බුද්ධාගම හා බුද්ධ ධර්මය යනු



හාත්පසින් ම වෙනස් වූ දෙවිධියක, දෙයාකාරයක, සංකල්පයන් බව දැනගෙන මේ දෙක පටලවා නොගෙන වෙන් වෙන්ව දැකගන්නට උත්සාහ ගැනීමට බුද්ධ ධර්මය උගන්වන ගුරුවරුන් මෙන් ම බුද්ධ ධර්මය පොත්පත් වල ලියන උගතුන් ද හැකි හැම උත්සාහයක් ම ගත යුතුය. බෞද්ධ සංස්කෘතිය, බෞද්ධ සාහිත්‍ය බෞද්ධ ඉතිහාසය ලියන අය මොනවා ලීවත්, මොනවා කීවත් එය විශාල ප්‍රශ්ණයක් නොවේ. නමුත් බුද්ධ ධර්මය විකෘති කිරීම, වැරදියට ලියා පලකිරීම, මෙන්ම වැරදියට ඉගැන්වීම ද මහාපාපයකි. මනුස්සත්ත පටිලාභය ලැබූ කෙනෙකුට නිවන් දැක ගන්නට ඇති උතුම් අවස්ථාව අවහිර කර වසා දැමීම පාපයකි.

## චතු අරිය සත්‍යය

චතුරාර්‍ය සත්‍යයන් අවබෝධකර ගැනීම යන ක්‍රියා වලිය ඉබේට ම සිදුවන්නක් නොවේ. දුක්ඛ, දුක්ඛ සමුදය, දුක්ඛ නිරෝධය, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව යන පදවල ද චතුරාර්ය සත්‍යයක්නැත. ප්‍රාර්ථනා කළ පලියට හෝ දිනපතාම නිවන් දකිත්වා යැයි යැද්ද පලියට හෝ බුදුපිලිම බෝ මළු වැන්ද පලියට හෝ පුදපූජා කළ පලියට හෝ චතුරාර්‍ය සත්‍යයන් අවබෝධ නොවන බව ද පැහැදිලිව ම පිරිසිදුවම සියළු බෞද්ධයින් විසින් ම තේරුම් ගත යුතුය.

පැවැත්ම - ජීවිත පැවැත්ම- දුකය- මතුවටත් මේ පැවැත්ම පවත්වාගෙන දිගටම ඉදිරියටත් පවත්වා ගෙනයන්නට උපකාර වන හේතුවන දේ දුක්ඛ සමුදයයි. “හේතුං පටිච්ච සංභූතං” සමුදය යනු සම්බන්ධතාවක් උපත ලබන ආකාරයයි. සංසාර සම්බන්ධතාව =සමුදය =සංභූතං =සංභවං  මේ සියලු පදවලින් පෙන්වා දුන්නේ දිගින් දිගට ම කෙළවරක් නැතිව සංසාර රිය ගමන වත්වාගෙන යන්නට උපකාරවන ආකාරයේ හේතු කිරීම නිසා සමුදය බිහිවන බවයි. මෙවන් සමුදය බිහිවන හේතුන් වන්නේ රාග,ද්වේෂ,හා මෝහ යන අකුසල් ක්‍රියාකාරකම්ය. රාග,ද්වේශ මෝහ ක්‍රියාකාරකම් (සංකාර) නිරෝධ කිරීම දුක්ඛ නිරෝධ යි. එනම් සමුදය නොඋපදවීම (අනුත්පාද නිරෝධය) දුක්ඛ නිරෝධ යයි. ඒ නිරෝධ ගාමි මාර්ගය දිගින් දිගටම අනුගමනය කර එය ප්‍රතිපදාවක් -

පිළිවෙතක් - හැටියට ජීවිත කාලය තුලම අනුගමනය කිරීම දුක්ඛ නිරෝධ ගාමිනී ප්‍රතිපදාවයි.

තමන්ගේම ජීවත්වීමට අදාලව මේ අවස්ථා හතරම තේරුම් ගන්නට උත්සාහ කළ යුතුය. මේ සඳහා උපකාර වන කරුණු කිහිපයක් මෙහි දී පෙන්වා දීම සුදුසුය.

1. ජීවත්වීම යනු උපන් මොහොතේ පටන් ම, නොනවත්වාම,නියත වශයෙන් ම මරණය කරාම දුවයන දිවීමකි.

2. වයසට යාම, ලෙඩවීම, කායික හා මානසික ආබාධ ඇතිවීම, දිරාපත්වී ජරාවට පත්වීම මෙහි නියත ස්වභාවයයි. එය දුකයි.

3. අඬමින්, විලාප කියමින් , විවිධාකාර වු කායික හා මානසික ආබාධවලින් පෙළෙමින් තාවකාලිකව ඒවායින් මිදී නිදහස් වන්නට කරණ, කියන, හිතන, බොහෝ දේවල් ආමිස සැපයන් ලෙසින් තේරුම් ගත යුතුය.

4. වෙනස්වීම හා නැතිවීම (සබ්බේ මේ පියේ හි මනා පේහි නානාභවෝ විනාභවෝ) මුල් කොට ගෙන සියලු භය, මරණ භයට හේතු වන්නේ නම් ජීවත්වීමේ මොන සැපතක් ඇත්තේ ද?

5. බඹයක් පමණ වූ මේ ශරීරකූඩුව තුලම මුළුතුන් ලෝකය ම (කාම ලෝක, රූපලෝක,අරූපලෝක) පවතී. මම දැන ගත්තු, මම දැක ගත්තු, මම හඳාගත්ත,මම අත්දුටු , මම අත්විඳින මේ ලෝකය පිළිබඳව මගේ දැනුම, මගේ ම මැනීමක්, මානයක් මිම්මක් අනුව මම තීරණය කරණ දෙයක් නිසා එය මට පමණක් සීමා වු දැනීමකි. එසේ මම මා මුල්කර ගෙනම ලබාගත් දැනුමෙන් හා මා තුල ඇති මිම්මෙන් ම බාහිර ලෝකය හා බාහිර පුද්ගලයින්ව ද, සියළු අය, සියලු දේද මනින්නට යනවා නම්, එසේ පුරුදු වී සිටිනවා නම් එය වැරදි සහිත මිම්මකි. එය අස්මි මානය මුල් කොටගත් වැරදි මැනීමකි. මේ වැරදි මිම්ම වූ අස්මි මානය භාවිතා කරමින් , එය නිවැරදි මිම්මක් යැයි සිතා ක්‍රියා කිරීම පෘතග්ජන ස්වභාවයයි. එයම දුක්ඛ සමුදයට මුල්වන හේතුවයි. මම දන්නා දේ අනුව, මට කැමති සේ, මගේ සිත් ගත් ප්‍රිය , අප්‍රිය තාවයන් පදනම් කරගෙනම මේ මිම්මෙන් ම මම



හැමදේම මනින්නට පුරුදු වීම, වැරදි බව මටම තේරුම් ගන්නට නොහැකි වීම මෝහයයි. මේ මිම්ම වැරදි එකක් බවත්, මම හදාගත්තු මට පමණක් ගැලපෙන එකක් බවත් තේරුම් ගන්නට බැරි වීම බොහොමයක් ම වැරදි සිද්ධවීමට මුලයි. තමා පිළිබඳව තමාම හරිහැටි නොදන්නා බව අඥාණ කමයි මෝහයයි.

6. මේ අනුව බාහිර ලෝකයේ සිදුවන බොහෝ දේවල් තමන්ගේ දැනුමෙන්, තමන්ගේ මිම්මෙන් තේරුම් ගන්නට බැරිනම් එවැනි දේ වෙනත් අද්භූත, ආශ්චර්යමත් අභව්‍යදේවල් හැටියට දකින්නට පුරුදුවීමත්, දෙවියන්, භූතයින් අමනුස්ස බලවේග ලෙසින් තේරුම්ගැනීමත් පෘතග්ජන මිනිසුන්ගේ නියත ගති ස්වභාවයයි. සැඩ සුලං,කුණාටු, වැස්ස,ජලගැලීම්, නියඟ, සුනාමි ගිනි ගැනීම් වැනි සියළු දේ හේතුවක් නිසාම සිදුවන දේවල් බවත්, ඒ හේතුවට මුල්වුයේ මිනිසාගේ ම වැරදි සහගත ක්‍රියාකාරකම් (සංවර්ධන ක්‍රියා) බවත් මිනිසාට තේරුම් ගන්නට නොහැකි වීමත් මෝහයයි. අඥාණ කමයි. මේ අනුව තමන්ට නොපෙනෙන , තමන්ට තේරුම් ගන්නට බැරි බාහිර බලවේග සමුහයක් මේ පැවැත්ම තුල පවතින බවත්, මේ බලවේගයන් තමන්ව මෙහෙයවන බවත්, පාලනය කරණ බවත්, අනුමානයෙන් තීරණය කරගෙන කටයුතු කිරීම අඥාණ කමකි. මෙය වැරදි ඇදහීමකි.

7. බුදුන් වහන්සේ, අරහතුන් වහන්සේ, මගපල ලාභීන්, දෙවියන් බ්‍රහ්මයන්,භූතයින් හා මවාගත් යක්ෂයින් ගැනත් මේ වගෙම වැරදි මිම්මක්, මානයක් තම තමන්ම හදාගෙන ඒ හදාගත් වැරදි මිම්මෙන්ම ඒ ඒ දේවල් මනින්නට පුරුදු වු මිනිසුන් ඒ සියලු තත්වයන්ට අදාල වූ ආකෘති තම සිතෙන් ම හදාගන්නව. මේව තමයි සම්මත කියන්නේ. බුද්ධ ධර්මය යථා පරිදි තේරුම් ගත්පසුව, ආගමික භක්තියෙන් මිදී නිදහස් වී යථාභූත ඥාණදර්ශණය ලැබුනු පසුව, ඒ පුද්ගලයාගේ ම සිතෙහි මෙතෙක් පැලපදියම් වී පැවති වැරදි දෘෂ්ඨියෙන් ද මිදී අවිද්‍යාව දුරුවී "විජ්ජා උදපාදි" යන තත්වයට පත්වීම තමයි සම්මාදිට්ඨියට පත්වීම, චතුරාර්‍ය සත්‍යය අවබෝධවීම, දස්සනේන සම්පන්න වීම යනාදී පදවලින් බුද්ධ දේශණාවෙහි පැහැදිලි කරණ ක්‍රියාවලියයි. විජ්ජා උදපාදි, අවිජ්ජා

පජහති, යන පද යුගලයෙන් ද විග්‍රහ කරණ ලද තත්වය ද මෙයයි.

8. සියළුම පෘතග්ජන මිනිසුන් තමන්ගේම කැමත්තට යට වී, (පටිච්චවී) කැමැත්තෙන් ම හා මහත් ඕනෑකමකින් ම තමන්වම රවටාගෙන, නිච්චසේ පැවැත්විය නොහැකි නිච්චසේ නොපවතින ජීවිතයක් බවත් දැන දැනම , නිච්චසේ සුඛයේ ,අත්තසේ පවත්වන්නට ගන්නා වැරදි උත්සාහයම සියලු දුකට මුලයි. මෙය මෝහය නිසාම තන්හාව නිසාම සිද්ධ වන දෙයකි. මේ පෙළඹවීම, රැවටීමක් බව දැන දැනත්, ඒ වැරදිදේ ම තවදුරටත් ක්‍රියාත්මක කරන්නේ විඤ්ඤාණයට ආහාර සොයාගැනීමේ අවශ්‍යතාවය බලවත් චෛතසිකයක් වන හෙයිනි. විඤ්ඤාණයේ මේ පෙළඹවීම, රැවටීම පිළිබඳව නියම ඇත්ත දැකගන්නට බැරිවන්නේ අවිද්‍යාව හා තන්හාව සිතක ක්‍රියාත්මක වන නිසාය. උතුම් බුද්ධ ධර්මය උපකාරවන්නේ මිනිසත් බවේ වටිනාකම දැන හඳුනාගෙන ඒ ඒ පුද්ගලයාට ම තම මනසීකරණ ශක්තිය යොදා ගෙන එනම් යෝනිසෝමනසීකරණ ශක්තිය තමා තුලින් ම මතුකර පහදාගෙන මේ ජීවිත පැවැත්ම පිළිබඳව පරම පවිත්‍ර සත්‍යය යථා පරිදි තේරුම්ගෙන යථාභූත ඥාණ දර්ශණය ලබා ගැනීම සඳහා යි. එයම චතුරාර්ය සත්‍යාවබෝධයයි.

**සම්මත ආගම් හා වැරදි ආකල්ප**

මහණ බමුණන් , පූජකවරුන්, ආගමික නායකයින් , මෙන්ම සම්මත ආගම්වල බලධාරීන් ද දෙවියන්ගේ නාමයෙන් හෝ ආගමේ නාමයෙන් හෝ ආගමේ කියන දේ පමණක් අදහන, පිළිපදින හා විශ්වාස කරණ අතර වෙනත් නිදහස් අදහස් වලට හෝ නිවහල් මතිමතාන්තර වලට හෝ ඉඩනොදෙන පිරිසකි. තමන් දරන මතයට වෙනස් අදහස් ඉදිරිපත් කරණ, වෙනත් අදහස් වලට කන් දෙන අය පවා පව්කාරයින්, මිත්‍යාදෘෂ්ඨිකයින් සේ හංවඩු ගසා, එවන් අලුත් නිදහස් අදහස් ඉදිරිපත් කරණ අය සමාජයෙන් තුරන් කිරීම ආගමේ නාමයෙන් කලයුතු යහපත් ක්‍රියාවක් සේම සළකණ, පිරිසක් බොහෝ ආගම්වල අධිකාරිත්වය දරයි. බුද්ධාගමෙහි ද මෙම ස්වරූපය මෙම වැරදි ස්වභාවයම දැන් දැන් දැකගන්නට ලැනෙ බව පසුගිය කාල වකවානුව තුල බෞද්ධ යැයි කියාගන්නා රටවල සිදු වු සිද්ධීන්



දෙස බලන විට පැහැදිලිවන කරුණකි. අප රටේ ද අද පවතින තත්වය මෙයමයි. දේශපාලකයින්ට තම පාලනය පවත්වාගෙන යන්නට ආගමෙන් යම් උදව්වක් උපකාරයක් ලැබෙන නිසා ආගම්වල අධිකාරිත්වයට විරුද්ධව යන නිදහස් මතධාරීන් හා අලුත්මත ඉදිරිපත් කරන්නන් මෙල්ල කිරීම හෝ යටපත් කිරීම සඳහා රටේ නීතිය ද උපකාරකර ගන්නට පාලකයින් ද බොහෝ විට ක්‍රියාකරති. මේ අනුව ආගම දේශපාලනටත්, දේශපාලනය ආගමටත් තම අන්‍යෝන්‍ය පැවැත්ම දිගින් දිගට ම පවත්වා ගෙන යාම සඳහා උපකාර කරගන්නා බව ඉතාම පැහැදිලි කරුණකි.

මේ අනුව සම්මත ආගම රකින, සම්මත ආගමට උපකාර කරණ හැම පාලකයෙක් ම හොඳ පාලකයෙක් ලෙසින් මුළු ආගමික ඉතිහාසය පුරාවටම වර්ණනා කරඇත. මේ වාගේම පාලකයාට තම පාලනය පවත්වාගෙන යන්නට උපකාර කරණ ආගමික නායකයින්ට ද පාලකයාගෙන් නොයෙකුත් කීර්ති ප්‍රශංසා ලාභ සත්කාර වරදාන ලැබෙන බවද පෙන්වා දිය යුතුය. මේ අනුව ආගමික නායකයින් ද ආගමේ අධිකාරී බලයක් පවත්වාගෙන යන අයද යම් ආකාරයකින් දේශපාලන බලයක් බවට පත් වී දේශපාලකයින්ව මෙහෙයවීමේ හැකියාවක් ද සහිත වූ අය වශයෙන් ද පිළිගැණුනි. මේ තත්වය නිසාම නිවන් දකින්නට උපකාර වන උතුම් බුද්ධ ධර්මය යටපත් වී ලෝකය හදන්නට උපකාරවන ආකාරයේ ආගමක් ලෙසින් බුද්ධාගම ද බලවත්ව නවීකරණය වී ඒ ඒ යුගයන්හි දී යම් ආකාරයකට දේශපාලන බලඅධිකාරියේ කොටස්කරුවන් බවටම පත්විය.

උතුම් බුද්ධ ධර්මය යනු කිසිසේත්ම ආගමක් නොවේ. බුද්ධාගම හා බුද්ධ ධර්මය යනු සම්පූර්නයෙන්ම වෙනස් වූ සංකල්ප දෙකකි. බුද්ධාගම යනු ඇදහිය යුතු, විශ්වාසයෙන් භක්තියෙන් පිළිගත යුතු සමාජ සම්මත චාරිත්‍ර වාරිත්‍ර සහිත වූ ලෞකිකත්වය පිළිගන්නා ආගමකි. ඇදහීම, යැදීම, වැඳීම, හා පිදීම, (පුදපූජා) යන මේ සියලු අංගයන් බුද්ධාගමට මනාසේ ගැලපුනත් නිවන් දකින මගක් නම් එහි නැත. තමන්ට නොපෙනෙන බාහිර බලවේගයක් විසින් මේ හොඳ නරක, ලාභ, අලාභ යස අයස, දුක සැප ආදී සියලු දේ තීරණය කර තමා වෙත බලෙන් පවරා දෙන බව සියලු ආගම් වලට ප්‍රායෝගික වු ඇදහීමයි. එදා බුද්ධත්වයට පත් වු බුදුපියාණන්

වහන්සේගේ උපකාරයෙන්, හෝ ඒ බෝධි වෘක්ෂයේ උපකාරයෙන් හෝ, දළදාවහන්සේගේ උපකාරයෙන්, හෝ ධර්ම පුස්තකවල උපකාරයෙන්, හෝ මගපල ලාභි අරහත් සංඝයාවහන්සේලාගේ උපකාරයෙන්, ,උදව්වේන්, පිහිටෙන් හෝ පිළිසරණින් හෝ නිවන් දැගතහැකි බවට අද බොහෝ බෞද්ධයින්ට ආගමේ උගන්වා පැහැදිලි කර දෙයි. බුද්ධං සරණං = බුදු සරණයි = බුදු පිහිටයි. ආදී වශයෙන් යදින්නේ වඳින්නේ මේ වැරදි අදහස ඇතිවමය. නමුත් පිරිසිදු මුල් බුදු දහමෙන් පෙන්වා වදාලේ " අත්තදීපා විහරථ, අත්තසරණා අනඤ්ඤසරණා, ධම්මදීපා ධම්මසරණා, අනඤ්ඤසරණා" යනුවෙනි. "අත්තාහි අත්තනෝ නාථෝ කොහි නාථෝ පරාසියා" යනුවෙනි. මේ සියළු තැන්වල දී ප්‍රකාශ කලේ නිවන යනු තමන් විසින් තමන් සඳහා තමන් ම කරගත යුතු දෙයක් බවයි. අනුන් ඇදහීමෙන් , අනුන්ගේ පිහිටෙන් බාහිර පිළිසරණකින් කිසිවෙකුටත් තමන් තුල ගොඩගැසී පවතින කෙලෙස් පොදිය ගලවා කපා හැර දමා නිබ්බාන ගාමී විය නොහැකිය. මේ නිසා ඇදහීම, යැදීම, වැදීම, පැතීම, නිවනට උපකාර වන ප්‍රතිපදාවක් නොවන්නේමය යන්න බුද්ධ ධර්මයයි.

අධිභෞතික බාහිර බලවේග හෝ නවීනවිද්‍යාවේ පෙන්වුදේ හෝ පිළිබඳව ම විශ්වාසයේ එල්බගෙන නොසිට, භෞතික ලෝකය යනු කුමක් ද යන්නද හොඳින් තේරුම්ගෙන, තමා තුලම ක්‍රියාත්මක වන තුන්ලෝකය ද තේරුම් ගෙන, තම ලෝකය අඳුරු වෙන්නට මුල් වු හේතු කාරණා ද තේරුම් ගැනීමට උත්සාහ ගැනීම හේතුපල දහමට බහා ගලපා බලා ක්‍රියාකිරීමයි. අද බුද්ධ ආගමෙහි ඉගැන්වීම් වලට අනුව දුක යටපත් කරදමා සැපත සොයා යාමේ තාවකාලික ක්‍රමයක් පෙන්නුම් කරයි. හොඳ යහපත්, නිවැරදි සම්මා අංග අටක් ලෙස ලෞකිකත්වය තුලින් ම පෙන්වාදී විග්‍රහ කරණ වැරදි සහිත නිරෝධ ගාමිණී ප්‍රතිපදාවක් ගැන අද බුද්ධාගමේ උගන්වයි. නමුත් මුල් බුදු දහමේ දී මෙම ලෞකික අංගඅට නිවනට උපකාර නොවන බවත් ආසව සහිත වු පුන්‍යභාගි වූ උපධි සහිත විපාක ගෙන දෙන අංග අටක් ලෙසින් මහා චත්තාරීසක සූත්‍රයේ දී පැහැදිලිවම දේශණා කර ඇත. මේ අනුව (1) සමාදන් වන සීලය, (2) ප්‍රාණ යාම භාවනා ක්‍රමය (හුලං ඇදීම හා බඩ පිම්බවීම (3) ලෞකික අෂ්ඨාංගික මාර්ගය අද බුද්ධාගමේ පෙන්වා දෙන ත්‍රිශික්ෂා වන්වෙයි. බුද්ධ ධර්මයේ පෙන්වා වදාළ ත්‍රිශික්ඛාවන් වුයේ (1)



සංවර සීලය ඉන්ද්‍රිය සංවරයන්, සතරසංවරසීලයය. (2) භාවනාව වුයේ බුද්ධ භාෂිතයේ පෙන් වු සතර සතිපට්ඨානයම සම්පූර්ණ වන භාවනාවය. (3) ආර්ය අට්ඨාංගික මාර්ගය වුයේ සම්මා අංග අටක් සම්පූර්ණ කරගන්නට උපකාරවන ලෝකෝත්තර ආරිය මාර්ගයයි. එනම් රාගය , ද්වේශය, මෝහය, සහ මුලින් ම උදුරාදමන මාර්ග ප්‍රතිපදාවයි.මේ අනුව බුදු දහමේ පෙන්වාවදාල ත්‍රිශික්ඛා අද පවතින බුද්ධාගමේ වෙනස් කරගෙන ඇත.

අද හෙලබිමේ බුද්ධාගම අදහන භක්තිමත් ගිහි පැවිදි බුද්ධාගම් කාරයෝ බුදුන්ගේ පිළිසරණ සෙවීමත් දෙවියන්ගේ පිහිට පැතීමත් සම්මතයක් සම්ප්‍රදායයක් හැටියටම අගේ කොට සළකති. මේ අනුව අද කරණු ලබන සෑම පිංකමක්ම අවසානයේ දෙව් මිනිස් සැප කෙළවර නිවන් පතති. එසේත් නැතිනම් මතු බුදුවන මෙතේ බුදුන් දැක නිවන් ප්‍රාර්ථනා කරති. එසේත් නැතිනම් මහායාන බුද්ධාගමේ සංකල්පයට අනුව බෝධිසත්ව බව පතති. මේ මිනිසත් බවට පත් වු ආත්මයේ දීම එනම් මේ උපතේදීම ප්‍රමාද නොවීම, කරගතයුතු යැයි බුදුපියාණන් පෙන්වා වදාල නිවන් අවබෝධ කර ගැනීම (අප්පමාදේන සංපාදේ තබ්බං) කල්දමා , කල්තබා,තවදුරටත් ලෞකික සැප සම්පත් විඳවමින් කල්ගෙවා නිවන පසුවට කල්දැමීම බුද්ධාගමට ම ගැලපෙන දෙයක් පමණි. එය පිරිසිදු බුද්ධ ධර්මයට නොගැලපෙන කල්මරණ ප්‍රතිපදාවකි. නිවන් මගට බාධාවකි.

නිවන් දැකීම සඳහා, මගපල ලැබීම සඳහා සිතින් අත්හැරිය යුත්තේ ස්වභාවධර්මයට විරුද්ධවන කෙලෙස් ගතිතුනක් පමණි. පංචස්කන්දය භාවිතා නොකර, පරිහරණය නොකර, උපන් කිසිවෙකුටත් මොහොතකුදු ජීවත්විය නොහැකිය. නමුත් සිතක කෙලෙස් ගති පවතින විටක දී පංචස්කන්දයම උපාදානය කරගන්නටම පෙළඹෙයි. ජීවත්වීම සඳහා මම.මගේ මට අයිති වශයෙන් පංචස්කන්දයම උපාදානය කරගැනීමේ වැරදි පුරුද්දක් පවතින්නේ කෙලෙස් සහිත අස්වාභාවික ගති සහිත වූ සිතකින් කටයුතු කරණ විටදී ය. අස්මිමානය පවතින තුරාවට ම සිතක කෙලෙස් ගති ක්‍රියාත්මක වෙයි.

ආර්යයන් වහන්සේලා ද, අරහතුන් වහන්සේලා ද ස්වභාවධර්මයෙන් ම තමන්ට ලැබුණු පංචස්කන්දය ඇලීමෙන් තොරව. ගැටීමෙන් තොරව, මුලාවෙන් තොරව පරිහරණය කරයි. කෙලෙස් සහිත වු පෘතග්ජන පුද්ගලයින් අස්වාභාවික ලෙසින් පංචස්කන්දයම උපාදානය කරගනියි. ප්‍රිය නම් ඊට ඇලෙයි, අල්ලාගනී.අප්‍රිය නම් ඊට ගැටෙයි වෛර කරයි මානයෙන් වැරදි සේ මැන මෝහයෙන් මුලාවෙයි.

ජීවිත පැවැත්ම පවත්වාගෙන යාමේ දී සියළු ආකාර වූ කායික, මානසික හා සංසාරික දුක් මෙන්ම විපරිනාම දුක්ඛයන් ද නිර්මාණය කරදෙන්නේ පංචස්කන්දයම උපාදානයකරගැනීමේ අස්වාභාවික ක්‍රියාවලිය හේතු කොට ගෙනමය. ඇස කණ ආදී තමන්ගේම ඉන්ද්‍රියයන් හයෙන් ම දකින අහන, විඳින, සිතන යම් යම් දේ ප්‍රිය මනාප දේ ලෙසින් වැරදි දෘෂ්ඨියෙන් දැක්කොත් ඒ ප්‍රිය මනාප බවට මත්වුනොත් ඒ ප්‍රිය මනාප වූ සුවය දිගින් දිගටම විඳව විඳවා , පිනව පිනවා, පවත්වාගෙන යාමේ අවශ්‍යතාවයක්, ආශාවක්, කැමැත්තක් සෑම පෘතග්ජන පුද්ගලයෙකු තුලම බිහිවෙයි. එය නිච්ච සේ (නිශ්චිතවම) පවත්වා ගන්නට සුඛසේ සුවසේ සුබ සේ පවත්වාගන්නට, අත්ත සේ තමන් සන්තකයට ගන්නට කැමැත්තක් ද ඇතිවෙයි. නමුත් මේ කිසිදු දෙයක් නිච්චසේ, සුඛසේ අත්තසේ පවත්වාගන්නට, නවත්වා ගන්නට, නොපුළුවන් නියත වු ධර්මතාවයක් ලොව ක්‍රියාත්මකව පවති. මේ නියත ධර්මතාවය නොදැනීම අවිද්‍යාවයි මෝහයයි. මෙසේ උපාදානය කරගත් පංචස්කන්දයම තමන්ට බරක් වෙයි. භය උපදින්නට හේතුවක් වෙයි, උපාදානය කරගත් නිසා බැම්මකට බැඳෙයි ඒවා විපරිනාමයට පත් වී පවතින තත්වය වෙනස්වීම නිසා විපරිනාම දුක්ඛයට ද පත්වෙයි. ඉන් සැලෙයි. කම්පාවෙයි දුක් දොම්නස් ශෝක සිතෙහි උපදියි. මේ පංචස්කන්දය උපාදානය කර ගැනීම හේතුකොට ගෙනම තමන්ට උරුමවන පලවිපාක, දුක්දොම්නස පිළිබඳව ඇත්ත ඇති සැටියෙන් යමෙකුට දැකගත හැකි නම් ඔහු පංචස්කන්දය උපාදානය කරගන්නේම නැත. ඒවාගේ ම පංචස්කන්දය උපාදානය කර නොගෙන පරිහරණය පමණක් කිරීමේ නිදහස, සහනය විමුක්තිය කෙනෙකුට තේරුම් ගන්නට හැකිනම් ඔහු ද පංචස්කන්ද උපාදානය කරගන්නේම නැත. මේ නිරාමිස සුවයේ පරම සත්‍යය දැක ගන්නට



නොහැකි ආකාරයට මනස මුවහවීම මෝහයයි. මෝඩකම් කිරීමට මුල් වු හේතුවයි.

## හේතුපල ධර්මතාවය

සියළුම පෘතග්ජන මිනිසුන් තමන්ගේම සිතෙහි උපන් කැමැත්තට යට වී, (පටිච්චවී) කැමැත්තෙන්ම හා මහත් ඕනෑකමකින්ම, තමන්වම රවටාගෙන, නිච්චසේ නොපවතින ජීවිතයක් බවත් දැන දැනම, නිච්චසේ සුඛසේ, අත්තසේ පවත්වන්නට ගන්නා මේ වැරදි උත්සාහයම සියලු ආකාර වූ දුකට මුලයි. මෙය මෝහය නිසාම තන්හාව නිසාම සිද්ධ වන දෙයකි. මේ පෙළඹවීම, රැවටීමක් බව දැන දැනත් ඒ වැරදිදේ ම තවදුරටත් යලි යලිත් ක්‍රියාත්මක කරන්නේ විඤ්ඤාණයට ආහාර සොයාගැනීමේ අවශ්‍යතාවය බලවත් චෛතසිකයක් හෙයිනි. විඤ්ඤාණයේ මේ පෙළඹවීම, රැවටීම,පිළිබඳව නියම ඇත්ත දැකගන්නට බැරිවන්නේ අවිද්‍යාව හා තන්හාව සිතක ක්‍රියාත්මක වන හෙයිනි. උතුම් බුද්ධ ධර්මය උපකාරවන්නේ මිනිසත් බවේ වටිනාකම දැන හඳුනාගත් ඒ ඒ පුද්ගලයාට ම තම මනසීකරණ ශක්තිය ම යොදා ගෙන එනම් යෝනිසෝමනසීකරණ ශක්තිය තමා තුලින් ම මතුකර පහදාගෙන මේ ජීවිත පැවැත්ම පිළිබඳව පරම පවිත්‍ර සත්‍යය යථා පරිදි තේරුම්ගෙන අවබෝධ කර ගැනිම සඳහා යි. එයම චතුරාර්ය සත්‍යාවබෝධයයි.

සෑම කෙනෙක්, සෑම දෙයක් සෑම ධර්මතාවයක්, සෑම අවස්ථාවක් සෑම පලවිපාකයක් (හොඳ හෝ නරක හෝ) පිටු පසම ඊට මුල් වු, නිධාන වූ, ප්‍රත්‍යය වූ, යම් හේතුවක් ද පවතී. ඒ හේතුව විඤ්ඤාණ ශක්තියෙන් උපදවාගත් හේතුවක් නම් එම හේතුව නිසාම සමුදය ශක්තියක් ද උපත ලබා සංසාර රිය ගමන පවත්වාගෙන යාමට ඒ සමුදය ශක්තියම උපකාර වෙයි. මෙසේ විඤ්ඤාණ ශක්තියක් සිතක ජනිත වන හැම අවස්ථාවකම පංචස්කන්දයම උපාදානය කරගැනීමකුත්, ආපෝ,තේජෝ,වායෝ,පඨවි මහා භූත වල පිරිසිදු ස්වභාවික තත්වය කිලිටි බවට පත්වීමකුත් සිදුවෙයි. මේ අනුව ස්වභාවිකත්වය වෙනස් වී අස්භාවිකත්වයට පත්වන්නේ විඤ්ඤාණශක්තියක් ක්‍රියාත්මකව පැවතීම හේතුව කොට ගෙනමය. ඒ

විඤ්ඤාණ (ශක්තිය) ජනිත කල පුද්ගලයාට ම තම විඤ්ඤාණ ශක්තියෙන් ජනිත වු පලවිපාක ද (හොඳ හෝ නරක වුවත්) ආපසු උරුම වෙයි. තමන් ජනිත කරණ ලද ශක්ති ප්‍රභවය නිසා ස්වභාව ධර්මය අස්භාවිකයත්වයට පත් වී කිලිටි වන්නේ නම් එහි ප්‍රතිවිපාකයන් කර්මයක් ලෙසින් ආපසු තමන් කරාම ආපසු ඒමේ ධර්මතාවයක් ද ලොව පවතී. බුද්ධ දේශණාවට, බුද්ධ ධර්මයට පදනම් වු මෙම න්‍යායය හේතුපල ධර්මය - පටිච්ච සමුප්පාද ධර්මය - තේරුම් ගැනීම තුලින් පමණක්ම මිස වෙනත් මොනයම්ම ක්‍රමයකින් හෝ මේ ජීවිත පැවැත්මට, දුක - සැප උරුමවීමට , උපතට මරණයට, සුව අසුව තත්වය තේරුම් ගැනීමට නොහැකිය . හේතුව හා පලය අතර සම්බන්ධතාවය දැකීම ධර්මය දැකීමයි. (ධම්මෝ සංදිට්ඨිකෝ)

මේ සියලු හේතුන් තමන් ම කරන දේවල් නිසා තමන්ට වෙනස් කරගත හැකිය.  ඒ සඳහා තම මනස මෙහෙයවා කටයුතු කළ යුතුය. යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කිරිම යනු මෙයයි. හේතු වෙනස් කිරීමෙන් පලවිපාක ද වෙනස් කරගත හැකිය. නරක අයහපත් පලවිපාක උරුමකොට දෙන්නාවූ, කරුමවලට මුල් වූ, හේතුන් සහමුලින් ම අත්හැර ඒ හේතුවලින් සම්පූර්ණයෙන් ම මිදී නිදහස් වන්නටත් මිනිසෙකුට හැකියාව ඇත. එය අනුත්පාද නිරෝධය ලෙසින් නම් කර ඇත. මනසේ මනසීකරණ ශක්තිය භාවිතා කලහොත් හේතුපල දහමට බහා ගලපා බලා හොඳ යහපත් හේතු කරන්නටත්, නරක අයහපත් හේතු නොකරම අත්හරින්නටත්, ශක්තියක් ද ලැබෙයි. මේ හොඳ නරක යන්නද හරිහැටි තේරුම් ගත යුතුමය. හොඳ යනු එය තමන්ටත් හොඳ යහපත් ප්‍රතිඵල ලැබෙන්නක් විය යුතුමය. බාහිර ලෝකයට ද, බාහිර ලෝකයාට ද, බාහිර පුද්ගලයින්ට ද අනුන්නට ද එහි ප්‍රතිලාභ හොඳ වියු යුතුය. නැවතත් හොඳ යනු දුකෙන් මිදී නිදහස් වීමයි. විමුක්තියට පත්වීමයි, නයෙන් මිදී නිදහස් වීමයි, මත් නොවීමයි, ලෞකිකත්වය තුල අතරමං  නොවීමයි, නරක යනු මත්වීමයි, ලෞකිකත්වය තුලම මං මුලාවීමයි. දුකට පත් වීමයි. නරක ප්‍රතිපල ප්‍රතිවිපාක තමන්ට හෝ අනුන්නට හෝ ස්වභාව ධර්මයට හෝ විශ්වයට හෝ උරුම වෙන, නිර්මාණය වෙන සියලු ක්‍රියා කථා සිතුවිලි, බැහැර කිරිම, ඉවත් කිරීම, යථාවබෝධයකින් ම කළ යුතුය. නරක හේතු



කරණ, කියන, සිතන පුද්ගලයා එවන් නරක හේතුවක් ක්‍රියාත්මක කරණ හැම අවස්ථාවකම මාරයාට ද ණය වෙයි. විශ්වශක්තියම කිලිටි කරයි. ස්වභාව ධර්මයම අස්වාභාවික අපිරිසිදු තත්වයට පත් කරයි.

එහි පලවිපාක - එනම් තමන් කරණ ලද නරක ක්‍රියාකාරකමේ ප්‍රතිවිපාක කවදා නමුත් සෙවනැල්ලක් සේ තමා පසුපස ඇවිත් අයහපත් ආකාරයට අපල උපද්‍රවයක් ලෙසින් තමන්ට ම දුක් කම්කටොලු ලෙසින් ම උරුම කරදෙයි. තමන් නොකල හේතුවක් හොඳ හෝ නරක හෝ ලෙසින් තමන්ට උරුම විය නොහැකිමය. මේ නිසා යමක් කරණ කියන හිතන හැම අවස්ථාවක ම එයින් තමාටත් අනුන්ටත් උරුම වන පල විපාක සොයා දැන විමර්ශණය කර එය යහපත් නම් කිරීමත්, අයහපත් නම් නොකර හේතුව සහ මුලින් ම ඉවත් කිරිමත් ධම්මානුධම්ම පටිපදාවේ හැසිරීමයි. විමුක්තියට උපකාර වන ප්‍රතිපදා මාර්ගයයි.("භාවේ තබ්බංච භාවිතං පහා තබ්බංච පහීනං")

නරක සිතුවිල්ලක් සිතෙහි අරමුණුවන හැම විටම එය සිතින් ඉවත් කරදමා ඒ වෙනුවට ඊට ප්‍රතිවිරුද්ධ වූ හොඳ යහපත්  සිතුවිල්ලක් සමග හොඳ යහපත් කථාවක් ක්‍රියාවක් කරන්නට ශක්තියක් ඇත්නම් එය නියත වශයෙන් ම නිවනට ම උපකාරවෙයි. මෙය පුරුදු පුහුණු කරගත යුතු යහපත් ගතියකි. මෙය හේතු වෙනස් කරගෙන පල විපාක වෙනස් කර ගැනීමයි. උදාහරණයක් ලෙසින් යම් කෙනෙකු කී කථාවක්, ක්‍රියාවක් නිසා තමන්ගේ සිතට ද්වේෂයක් වෛරයක් උපදින්නට එන බව දැක්කොත් ඒ ද්වේෂය වෛරය සිතින් ඉවත් කර දමා අවංකවම හදවතින් ම ඒ පුද්ගලයාට ද මෛත්‍රී කරන්නට පුරුදු පුහුණු උනොත් හේතු වෙනස් කර පලවිපාක ද වෙනස් කර ගත්තා වෙයි. මේ හේතු වෙනස් කරගෙන පලවිපාකයන් ද වෙනස් කර ගන්නට පෘතග්ජන මිනිහෙකුට පහසු නොවන්නේ මානය, උද්දච්චය බලවත්ව සිතක ක්‍රියාත්මකව පවතින හෙයිනි. මේ නිසා නිහතමානීව ඉවසා විමසා බලා සැනසීමක් ලබන්නට නම් සියලු නරක හේතු සොයාදැන සියලු නරක හේතු ක්‍රියාත්මක නොකර ඒ වෙනුවට ඊට ප්‍රතිවිරුද්ධ වූ යහපත් හොඳ හේතුන් ඒ ඒ මොහොතේ ම ක්‍රියාත්මක කළ යුතුය. මේ සඳහා මුදලක් වැය නොවේ. සිතේ නිහතමානී

බව හා උපෙක්ඛා සහගතව ඉවසීමේ ශක්තිය හා හැකියාව පුරුදු පුහුණු කරගත යුතුය. මෙය සීල , සමාධී, පඤ්ඤා සම්පූර්ණ කර ගැනීමයි. භාවනාවක් කිරීමයි. සංඛාර උපේක්ඛා ඥාණයෙන් කටයුතු කිරීමයි. මගපල ලබන්නට උපකාර වන ධම්මානු ධම්ම ප්‍රතිපදාව ප්‍රගුණ කිරීමයි.

පරම සත්‍යය සොයා දැන නිවන් යන මග විවෘත කරණවා වෙනුවට නිවන් මග අවහිර කරදමා තවදුරටත් මිනිසුන්ව සංසාර සාගරයේ අතරමං කරන්නට කටයුතු කරන්නේ සම්මත ආගමික සංවිධාන විසින්මය. මෙවන් ආගමික සංවිධාන වලට ලෝකයාගේ නිවන් දැකීමට වඩා තම ප්‍රතිලාභ පවත්වාගෙන යාම වඩාත් වටින නිසා ලෝකයක් හදන ක්‍රියාවන් දිගින් දිගමට පවත්වාගෙන යනු ඇත.

බුදු බව පත පතා බෝධිසත්ව තත්වයට පත් වීමෙන් කල්ප කාලාන්තරයක් නිවන ප්‍රමාද කරන්නේ ද, දෙව් සැප, බ්‍රහ්ම සැප, රජ සැප, සිටුසැප, ප්‍රාර්ථනා කරන්නේ ද උතුම් බුද්ධ ධර්මය තේරුම් නොගත් පිරිසකි. අනුන්ගේ පිළිසරණින් නිවන් දකින්නට උත්සාහගන්නා මෙවන් පිරිසකට ප්‍රාර්ථනා, පැතුම්, හා පාරමිතා පිරීම ගැලපුනත් නියම නිවැරදි බුද්ධ ධර්ම මාර්ගයේ යන පිංවතුන්ට මේ කිසිවක් නොමැතිවම සෝතාපත්ති අංග හතර සම්පූර්ණ කරගැනීමෙන් ම අද අදම නිවන සම්පූර්න කරගත හැකි බව බුද්ධ දේශණාවයි.

**<u>ධර්මය දේශනා කළ යුත්තේ ඇයි ?</u>**

මම මෙසේ දේශනාකරණ ධර්මය දේශනාකිරීමෙන් සහ මම මෙසේ ලියා ඉදිරිපත් කරණ ධර්මය කියවීමෙන් හෝ ශ්‍රවණය කිරීමෙන් හෝ ඔබ බලාපොරොත්තුවන පරමාර්ථය කුමක් ද, මා බලාපොරොත්තු වන දේ කුමක් ද? මෙයින් ඉශ්ඨසිද්ධ කරගතයුත්තේ කුමක් ද? යන්න පලමු කොටම තේරුම් ගත යුතුය. ව්‍යාපාරයකින් මුදල් එකතු කිරීමට, ප්‍රසිද්ධියක් ලබා ගෙන ජනප්‍රියවන්නට, විලාසිතාවකට අනෙක් අය එසේ කරන නිසාවෙන් කරන්නන් වාලේ කරන්නට ධර්මය දේශණාකිරීම වැරදිය. ධර්මය අසන්නන් වාලේ ඇසීමද වැරදිය. උතුම් බුද්ධ ධර්මය දේශණා කළ යුතු වන්නේත්



ලියා පල කළ යුතුවන්නේත්, ධර්මය අසා දැන අනුගමනය කළයුතු වන්නේත් උභය අර්ථසාධනයක් ම ක්‍ෂාත්ශාත් කරගැනීම සඳහා ය. උභතෝභාග විමුක්තිය පූර්ණ කරගැනීම සඳහා ය. ධර්මදේශණයක් කර මුදලක් හෝ පිරිකරක් හෝ ලබාගැනීමත්, ප්‍රසිද්ධියක් ප්‍රචාරයක් හෝ යම් ප්‍රතිලාභයක් අපේක්‍ෂාවෙන් එසේ ධර්මය දේශණා කිරීමත් ,වැරදි සහිත ක්‍රියාවකි. මෙයින් සමාජයට හා තමන්ට ද වන අයහපත අති විශාලය, තමන් නොදන්නා පරම සත්‍යය වෙනුවට අනුමාන ප්‍රකාශණයක් හෝ මතයක් ඉදිරිපත් කිරීමෙන් හෝ උගත්කමෙන් ලබාගත් අනුමාන ඥාණයකින් හෝ උතුම් බුද්ධ ධර්මය දේශණා කරන්නට ද බැරිය. මෙසේ අනුමානයෙන් වැරදි මගක් දේශනා කර පෘතග්ජන මිනිසුන්ව මනෝලෝකයකට ගෙන ගොස් එහි අතරමං කිරීම ද මහත්ම පාපයකි.

භික්ෂුන් වහන්සේලා ලෙසින් සම්මතයේ පෙනී සිටින ගුවන් විදුලියෙන් හා වෙනත් මාධ්‍යවලින් බන කියනවා යැයි ප්‍රසිද්ධියට පත් වී සිටින, බොහොමයක් දෙනෙක් බෞද්ධ සාහිත්‍ය හා මහායාන සංස්කෘත පොත්පත් කියවා, එසේත් නැත්නම් මහායාන පොත්පත් ආශ්‍රයෙන් ලියා පල කරණ ලද අටුවා ටීකා ටිප්පනි කියවා ලබාගත් සාහිත්‍යමය දැනුමෙන් මිනිසුන් අතරමං කරණ මිනිසුන්ව මුලා කරවන දේශණා ක්‍රමයක් අද බහුලව ම දකින්නට ඇත. ලෝකය දිගින් දිගිට ම පවත්වාගෙන යන්නට උපකාර වන මෙවන් දේ ආගමයි. ලෝකයෙන් එතෙරවන්නට ලෝකෝත්තර නිවනට උපාකර වන්නේ උතුම් බුද්ධ ධර්මයයි. දේශපාලනය හා ආගම නිතරම එකටම ගමන් කරණ ව්‍යාපාර දෙකකි. දේශපාලකයාට ආගම නැතිව මිනිසුන්ව හීලෑ කරගත නොහැකිය. ආගමික නායකයින් ට ද දේශපාලන බලය හැසිරවීම සඳහා භක්තියෙන් හා විශ්වාසයෙන් ආගම් අදහන සමාජයක් පවත්වාගෙන යා යුතුය. සීල ව්‍යාපාර භාවනා ව්‍යාපාර, වෙසක් පොසොන් උත්සව සම්බන්ධ ව්‍යාපාර, පෙරහැර පැවැත්වීම, ඊහා සම්බන්ධ සංවිධාන හා ව්‍යාපාර, කඨින පිංකම් හා සම්බන්ධ ව්‍යාපාර, යානාදි සියල්ල ම ආගම්වලට උපකාර වන දේවල් මිස බුද්ධ ධර්මය නම් නොවේ.

බෞද්ධ ඉතිහාසය, බෞද්ධ සාහිත්‍යය හා බෞද්ධ සංස්කෘතිය ආදී වශයෙන් පසුකාලීනව නිර්මාණය කරගත් අද්භූත ආශ්චර්යමත්

වෘත්තාන්තයන් සහිත වූ බොහොමයක්ම බොරු හා මවාපෑම් සමූහයක් මතම පදනම් කරගත් , මිනිසුන්ගේ මෝඩ භක්තිය වඩා වර්ධනය කරන්නට ම උපාකරවන දේවල් මිස නිවනට උපකාර වන උතුම් ධර්මය නම් නොවේ. භක්තියෙන් ඇදහිය යුතු මෙවන් බොහෝ දේවල් වලින් පෘතග්ජන ලෝකයා යම් තාවකාලික සැනසීමක් සහනයක් ලැබුවත්, සිදුවුවත්, දිගුකාලීනව මිනිසුන් තව තවත් සංසාර දුකෙහි අතරමං වීම මේ සියලු සමාජමය හා ආගමික ව්‍යාපාර වල අවසාන ප්‍රතිඵලයයි.

අද ආගමෙහි ද පවතින මේ ව්‍යාපාරික මානසිකත්වය නිසා මුළු සමාජයම ආගම් කෙරෙහි මෙන්ම බුද්ධ ධර්මය කෙරෙහි ද වපර ඇසකින් බලන්නට පුරුදු වී සිටිති. අද බුදුකෙනෙක් බුද්ධත්වයට පත් වී උතුම් පරම පවිත්‍ර බුද්ධ ධර්මය ලෝකයාට දේශණා කරන්නට පටන් ගත්තද ඊට එකහෙලාම විරුද්ධ වී ඒ උතුම් ධර්මය යටපත් කර දමා තම ව්‍යාපාරය පවත්වාගෙන යන්නට බෞද්ධ ලේබලයම භාවිතා කරමින් බොරුවෙන් සමාජය රවටන මෙම ව්‍යාපාරික ආගමික සංවිධාන තවදුරටත් ක්‍රියා කරනු ඇත. මේ අලුතින් දේශණා කරන්නේ අපි අසා ඇති අපි ඉගෙන ගත් අපි පිළිගත් බුද්ධ ධර්මය නොවේ යැයි ඔවුන් පිරිසිදු බුද්ධ ධර්මයද බැහැර කරණු ඇත. අනෙකුත් සාමාන්‍ය පොදු මහත් ජනයාගේ ද නිවන් මග වසා දමන්නට ම අදහන ආගමේ නාමයෙන් ම ඔවුන් කටයුතු කරණු ඇත. එසේ කරන්නේ තමන් මෙතෙක් ලැබූ කීර්ති ප්‍රශංසා, ප්‍රතිලාභ සිවුපසය තමන්ට නැතිවේ දෝ යන භය නිසාය. තමන් ධර්මය තේරුම් නොගත්තා වාගේම අනෙකුත් සාමාන්‍ය ජනතාවට ධර්මය තේරුම ගන්නට ඇති මාර්ගයන් හා ඉඩ කඩද අසුරා දමා තවදුරටත් ආගම නමැති මොන්ටිසෝරියේම පොදුජනතාව රඳවා තබාගන්නටත් ඔවුන් ආගමේ නාමයෙන් ම ක්‍රියා කරනු ඇත.

කාලාමා සූත්‍රයෙන් දේශනා කළ සියලු කරුණු අදවන විට එදාටත් වඩා වටිනා බවඅද ආගම් ගැන කල්පනාකර බලන කෙනෙකුට තේරුම්ගත හැකිය. යම් කෙනෙකු පොතක් පතක් කියවන්නේ , ධර්මදේශණයක් ශ්‍රවණය කරන්නේ තමන් දන්නාදේ , තමන් තේරුම්ගත් දේ පමණක්ම ඇත්තය. අනිත් සියළු දේ බොරුය,ඒවා පිළිගතයුතු ඒවා නොවේ යන දැඩි



දෘෂ්ඨියක පිහිටා සිට නම් ඔහුට ඒ මිත්‍යාදෘෂ්ඨියම නිවනට බලවත් බාධකයක් ද වෙයි. පොතක් කියවිය යුත්තේත් , ධර්ම දේශණයකට සවන් දිය යුත්තේත්, නිවහල් නිදහස් චින්තනයෙන් හා විවෘත මනසකින් යුතුවමය. පොතේ ගතයුතු ධර්මයක් තිබේ නම්, දේශණාවෙහි හරයක් අර්ථයක් ඇත්නම්, එහි ව්‍යාකරණ දෝෂයන් "ණන ලළ භේදයන් ගැන සෙවීමක් කළයුතු වන්නේ නැත. හිල් හොයන්නට, අඩුපාඩු හොයන්නට තමා පිළිගත් මතයට වඩා වෙනස් මතයක් ඉදිරිපත් කළ පුද්ගලයාට වාග් ප්‍රහායරක් එල්ල කරන්නට, පරම සත්‍යය විවේචනය කරමින් පද පරම ලෙසින් අඩුපාඩු පෙන්වන්නට පොතක් කියවීම හෝ ධර්මදේශණයක් ශ්‍රවණය කිරිම හෝ නොකළයුතුය. එවන් පුද්ගලයින් දැඩි මිත්‍යාදෘෂ්ඨිකයන් ලෙසින්ම බුදු දහමෙහි හඳුන්වා දෙයි. ඔවුන් මානයෙන් මුලාවූ අස්මි මානයෙන් උන්මාදයට පත් වූ අනුන්ගේ මත නොඉවසන පෘතග්ජනයින් පිරිසකි. සච්චකයා මෙන් වාදයෙන්, බොරු තර්කයෙන් උතුම් බුද්ධ ධර්මයම යටපත් කරන්නට කටයුතු කරණ එවන් බොහෝ ගිහි පැවිදි පිරිස් අදටත් අපට දැක ගන්නට ඇත. ඔවුන් ට කාලාමා සූත්‍රයෙන් බුදුපියාණන් පෙන්වා වදාල කරුණු දහයම නැවතත් මතක් කර පෙන්වා පැහැදිලි කර දෙන්නට දැන් අවස්ථාව උදා වී ඇති බව නම් නොකියාම බැරිය. එවන් පුද්ගලයින් තමන්ගේ ම නොදැනුවත් කම (අඥාණ කම) නොදන්නා අයවෙයි. එවන් පුද්ගලයින් සිතන්නේ තමන් හරියැයි තේරුම් ගත් දේ, හරි යැයි පිළිගත් දේ අනිකුත් සියලුම මිනිසුන් විසින් ද හරියැයි පිළිගත යුතුය කියාය. වෙනත් මතයක් ඉදිරිපත් කිරීම වැරදිය කියාය.

එදා සම්මත සම්ප්‍රදායික දේව ආගම්වල විශ්වාස කළ පරිදිම තම මතය පමණක්ම හරිය යන තීරණයට බැසගෙන ක්‍රියාකරණ ආචාර්ය, මහාචාර්ය, මහා නායක, රාජකිය පණ්ඩිත පදවි තානාන්තර දරණ පිරිස් අද මේ රටේත් බහුල ලෙසින් ම දැක ගත හැකිවෙයි. එවන් වූ පුද්ගලයින්ගේ උද්දච්චකම හා මහන්තත්ත කම අති භයානකය. ඒ දේශපාලන බලය ද ඔවුන් විසින් ම මෙහෙයවන බැවිනි. එවන් අය දරණ වැරදි අදහස් , වැරදි මතයන් තම අනුගාමිකයින්, තම ගෝලබාලයින්, තම ශිෂ්‍යයින්, හරහා අවශේෂ ලෝකයාටත් පතුරුවා හරින්නට උත්සාහ දැරීම ඊටත් වඩා භයානකය. කාලාමා සූත්‍රය, චංකි සූත්‍රය, සතරමහාපදේශයන් යනාදි

සූත්‍රයන් හදාරා බුද්ධ ශ්‍රාවකයින් විසින් ඒවා හොඳහැටි අධ්‍යයනය කර කරුණු තේරුම් ගන්නට උත්සාහ කල යුතුය.

අදටත් වඩා එදා බුද්ධ කාලයේ දී විවිධ ආගම් ඇදහූ ජනතාවක් මෙරට විසුහ. ඒ සියලු ආගම් සාස්තෘන්ගේ ඒකාන්ත මතය වූයේ තමා විසින් දේශණා කරණ දේ පමණක්ම සත්‍යය බවයි. එයම පිළිගත යුතු බවයි. බුදුපියාණන් වහන්සේ කිසිවිටෙක් මේ ආගම් හරි හෝ වැරදි හෝ යන්න ඉඳුරාම නොපැවසීය. ඒ වෙනුවට යම් අදහසක, ධර්මයක ප්‍රකාශණයක සත්‍යය අසත්‍යය නිර්ණය කිරිමේ දී නිදහස්ව නිවහල්ව සිතන්නට කරුනු දහයක් කාලාම සූත්‍රයෙන් ඉදිරිපත් කළසේක.

යම් ධර්මයක් හෝ මතයක් හෝ සපුරාම සත්‍යයැයි හෝ සපුරාම අසත්‍යයැයි හෝ එක්වරම පිළිනොගන්නා ලෙස දේශණා කළහ.

මෙම කරුණු දහයම පෙන්වා ධර්මය දේශණා කලේ කුරු රට කේසපුත්ත බමුණන්ටය. බුද්ධ ධර්මය උපකාර කරගත යුතු වන්නේ කෙලෙස් ගති (කළුධර්ම) සහමුලින් ම සිතින් උදුරා ඉවත් කර දැමීමටය. මාගධී බුද්ධ භාෂිතයේ කෙලෙස් වලට කලු, කාල, කල්, යනාදී පද භාවිතා කර ඇත. මේ අනුව කෙලෙස් දවා තවා සහ මුලින් ම කෙලෙස් වලින් මිදී නිදහස් වූ කෙනෙකු බවට පත්වීමේ දී “කාලාමා” යන පදය භාවිතා කළහ. සිතෙහි උපදින කෙලෙස් වලින් මිදී නිදහස්වීමට අනුගමනය කළ යුතු ක්‍රමය (සංමා) සම්මා අංග අටක් ලෙසින් ද විග්‍රහ කළහ. “මා” යන පදයෙන් බුද්ධ දේශණා වෙහි හැම තැනකදී ම විග්‍රහ කලේ“ මා =සහමුලින් ම යමකින් මිදී නිදහස් වීම” යන අර්ථයයි. මුල පරියාය සූත්‍රය සම්පූර්ණයෙන් ම විග්‍රහ කර ඇත්තේ “මා මඤ්ඤති” පිළිබඳවය. එනම් මඤ්ඤනාව නැමැති මෝහයෙන් මානයෙන් මිදී නිදහස් වීම පිළිබඳවය. සම්මා අංග දහයෙන් ද විග්‍රහ කලේ රාගයෙන් ද්වේෂයෙන් මෝහයෙන් සහ මුලින්ම මිදී සම්මා විමුක්තියටපත්වන ආකාරයයි. මේ ආකාරයට ම යමෙකුට තම සිතේ උපදින කෙලෙස් ධර්ම වලින් කලුධර්ම වලින් මිදී නිදහස් විම යන අර්ථයෙන් කාලාමා යන මාගධී පදයෙන් විග්‍රහ කර ඇත. මෙතන දී කෙලෙස් වලින් මිදී නිදහස් වන්නට අනුගමනය කල යුතු පරියාය ද විග්‍රහ කලේ ‘මා’



විග්‍රහ කිරිමෙන්ම ය.
කාලාමා සූත්‍රය අං නිකාය I (පි ඃ 336)

“එථ තුම්හේ කාලාමා (1) මා අනුස්සවේන (2) මා පරම්පරාය (3) මා ඉතිකිරාය (4) මා පිටකසම්පදානෙන (5) මා තක්කහේතු (6) ම ා න ය හේතු (7) මා ආකාරපරිවිතක්කේන (8) මා දිට්ඨිනිඣානක්ඛන්තියා (9) මා භබ්බරෑපතාය (10) මා සමනෝ ගරුති”

“යදා තුම්හේ කාලාමා අත්තනාව ජානෙය්‍යාථ ඉමේ ධම්මා අකුසලා. ඉමේ ධම්මා සාවජ්ජා, ඉමේ ධම්මා විඤ්ඤාගරහිතා ඉමේ ධම්මා සමත්තා, සමාදින්නා අහිතාය, දුක්ඛාය සංවත්තන්තීති.”

මේ කරුණු දහයෙහි ම“මා” යන වචනය අවධාරණාය කර ඇත. යම් දෙයක් සිතින් උදුරා ඉවත් කරදමා නැවත නොඋපදින ලෙසින් ම, අනුත්පාද වශයෙන් ම, සිත මුදවා නිදහස් කර ගැනීම “මා” යන්නෙහි ධර්ම අර්ථයයි “සං මා” යනුද මේ අර්ථයමයි. සං යනු =රාගය ද්වේෂය මෝහය යන්නයි. රාගයෙන් ද්වේෂයෙන් මෝහයෙන් එනම් ප්‍රියදේට ඇලීමෙන්, අප්‍රිය දේට ගැටීමෙන්, ප්‍රිය අප්‍රිය දෙක අතර මුලා නොවීමෙන්, මිදී නිදහස් වී කටයුතු කිරීම යන්න සම්මා යන බුද්ධ භාෂිතයේ ධර්ම අර්ථයයි. මෙවන් සිතක් උපෙක්ඛා සිතක් ලෙසින් ද ධර්මයේ පෙන්වා දී ඇත. සංඛාර උපේක්ඛා ඥාණය යනු මෙම උපෙක්ඛා සිතින් ක්‍රියා කිරීමයි.

කාලාමා =යනු කෙලෙස් වලින් සහමුලින් ම මිදී නිදහස් වීමයි. මේ සඳහා ඉහත සඳහන් කරුණු දහයම තේරුම් ගෙන කටයුතු කරන්නට පුරුදු විය යුතුය. නිවන් දකින්නට නම් තම සිත රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් සහ මුලින් ම මුදවා නිදහස් කර ගත යුතුය. කෙලෙස් වලින් මිදී නිදහස් වීමට නම් අප තුල දැඩි දෘෂ්ඨියක් පැවතීම බලවත්ම බාධකයකි. මේ නිසා යම් ධර්මයක සත්‍ය අසත්‍ය (කුසලා ධම්ම අකුසලා ධම්ම) නිවනට උපකාර වන්නේ ද නිවනට බාධා වන්නේ ද යන්න තමන්ට තීරණාය කරන්නට අපහසු නම් මේ සූත්‍රයට බහා ගලපා බලන ලෙසින් බුදු පියාණන් වහන්සේ කුරුරට කේසපුත්ත බමුණන්ට ප්‍රකාශ කර සිටියහ.

(1) යමක් ආරංචියක් වශයෙන් සැල වූ පමනට , අසන්නට ලැබුනු පමණට ආරංචි මාත්‍රයක් ලෙසින් එය එක එල්ලේ එසේම පිළිගත යුතු නොවේ. (මා අනුස්සවේන)

(2) ගුරු ගෝල පරම් පරාවෙන් පිලිගත් පමණින් පරම්පරාගතව මෙයම ඇත්තය වෙනකක් ඇත්ත නොවේ යන්න එක එල්ලේ ම පිළිනොගත යුතුය. (මා පරම්පරාය)

(3) කටකථා මාත්‍රයෙන් ලිඛිත සාක්ෂි නැති තැනක ජනප්‍රවාද ලෙසින් මුල් බැසගත් දේ එලෙසම පිළි නොගත යුතුය (මා ඉතිකිරාය)

(4) ආගමික ග්‍රන්ථයන් හි පසු කලෙක ලියු පරිවර්තන ලෙස ලියු පිටක ග්‍රන්ථවල හෝ අටුවා ග්‍රන්ථවල හෝ මෙසේ සඳහන්ය. ඒ නිසා මෙයම නිවැරදිය. වෙනකක් ධර්මය නොවේ යන වැරදි මතයෙන් මිදී නිදහස් විය යුතුය.(මා පිටකසංපදානේන)

(5) තර්කානුකූලව තර්කයට ගැලපෙන නිසා මෙයම හරිය වෙනත් එකක් තර්කයට නොගැලපේය කියා එයම පිළිගත යුතු නොවේ, (මා තක්කහේතු)

(6) පිළිගත් සම්මත න්‍යායයට අනුව සම්ප්‍රදායයට අනුව මෙයම හරිය, අනෙකක් න්‍යායානුකූල නොවේ යන්න ද ධර්මයට නොගැළපේ නම් එයින් ද මිදී නිදහස් විය යුතුය. (මා නයහේතු)

(7) යමක් යහපත් සේ පිටතින් පෙනෙන නමුත් එයම හරි යැයි පිළිගත යුතු නොවේ. එය හේතුපල ධර්මයට බහා ගලපා බැලිය යුතුය. ( මා ආකාරපරිවිතක්කේන)

(8) ආගමේ හෝ පිළිගත් සම්මතයේ හෝ බහුතරයකගේ දෘෂ්ඨිය මෙයයි. මෙයම නිවැරදිය. යන්න පිළිනොගතයුතුය. ඒ සම්මත දෘෂ්ඨියෙන් ද මිදී නිදහස්ව සම්මා දෘෂ්ඨියට පත් විය යුතුය. (මා දිට්ඨිනිඣ්ජානක්ඛන්තියා)



(9) ගුරු ගෝල පරම්පරාවෙන් මෙය ගරුකොට සලකාගෙන දිගින් දිගට ම පවත්වාගෙන එන මතයකි. ඒ නිසා මෙයම නිවැරදිය යන මතයෙන් ද මිදී නිදහස්විය යුතුය. (මා භබ්බරූපකාය)

(10) (මා සමනෝ ගරුති) රටම පිළිගත් ගරු කටයුතු ශ්‍රමණ කෙනෙක් මහා නායක හිමි නමක් විසින් කරණ ලද ප්‍රකාශයක් නිසා මෙයම නිවැරදියි. අනෙක් මත වැරදිය යන්න ද පිළිනොගත යුතුය.

මේ ආදී වශයෙන් එදා සමාජයේ සම්මතයට අනුව යමක් පිළිගැනීමට හෝ පිළිනොගැනීමට හෝ උපකාර වූ කරුණු කාරණා දහයක් පෙන්වා දී මේ සියල්ලම නොව තමන්ගේ සිතෙහි උපදින කෙලෙස් ප්‍රහාණය කර කෙලෙස්වලින් තමන්ට මිදී නිදහස් වන්නට, රාගක්ඛය ද්වේශක්ඛය මෝහක්ඛය කරන්නට යමක් උපකාර වේ නම් එය ධර්මය සේ පිළිගන්න. රාගය ද්වේෂය මෝහය සිත තුලින් ඉවත් කරන්නට උපකාර නොවේ නම් එය බැහැර කරන්න යනුවෙන් කාලාමා සූත්‍රයෙන් උපදෙස් දෙන ලදී.

පෘතග්ජන මිනිසුන් විසින් කුමක් කළ යුතුද? කුමක් නොකලයුතුද? යමක් ඇදහිය යුතුද? නොඇදහිය යුතුද? යන්න තීරණය කරන්නට උපකාරකර ගතයුතුම නිර්ණායකයන් දහයක්ම මෙහි දී බුදුපියානන් වහන්සේ ඉදිරිපත් කර පෙන්වා දෙනලදී. අදටත් අපේ සමාජය තුල බලවත්සේ මුල්බැසගෙන ඇති ආගමික මතවාද හරිද? වැරදිද යන්න සලකා බලන්නටත් අදටත් මේ උපදෙස් වලංගුවේ. පුරා විද්‍යාව ගැන යම් කෙනෙක් යම් මතයක් ඉදිරිපත් කරයි නම් මෙය මහාචාර්ය පරණවිතාන මහතාගේ මතය නොවේ. මේ මතය ඊට විරුද්ධ මතයකි. ඒ නිසා මෙය පිළිගත නොහැකිය බුද්ධ ධර්මය පිළිබඳව මතයක් නම් මෙය බුද්ධ ඝෝෂ හිමියන්ගේ මතය නොවේ.මෙය රේරුකානේ මහනාහිමියන්ගේ හෝ බලංගොඩ ආනන්ද මෛත්‍රිය මහානාහිමියන්ගේ හෝ මතය නොවේ. ඊට විරුද්ධ මතයන්ය. ඒ නිසාම මේ අලුත් මතයන් පිළිගත නොහැකිය. බුදුන් උපන්, බුදු වූ පිරිනිවන්පා වදාල ස්ථාන පිළිබඳව නම් මේ මතය ධර්මපාලතුමාගේ මතයට විරුද්ධය. මේ ආදී වශයෙන් පිළිගත් සම්මත මතයන් ගෙනහැර දක්වා පරම සත්‍යය යටපත් කරන්නටම ඒ මත භාවිතා

කරන සමාජයක් එදා පැවතුනා මෙන්ම අදටත් පවතී. මේ නිසා කවුරු කවදා කෙසේ ප්‍රකාශ කර ලියා තබා ඇතත්, ලේඛන ගත කර තිබුනත්, විමර්ශණයෙන් යුතුව සලකා බලා, ධර්මයට සූත්‍රයට ගලපා බලා විනයට සසඳා ගලපා බලා කෙලෙස් ප්‍රහාණය කරන්නට උපකාර වේ නම් එය යහපත්ය. භාවිතා කළ යුතු ධර්මයක් ලෙසින් පිළිගත යුතුය. කෙලෙස් වර්ධනය වේ නම් තව තවත් අලුතින් කෙලෙස් උපදීනම් අතීත කෙලෙස් ප්‍රහාණය නොවේනම් එය බැහැර කල යුතුය. මෙය කාලාමා සූත්‍රයේ හරයයි.

මෙම කාලාමා සූත්‍රයෙන් ප්‍රකට වන මූලිකම කාරණය නම් තුලනාත්මක අවබෝධය (අරිය පර්යේෂනය) ඉස්මතු කර පෙන්වීමයි. තම සිතෙහි උපදින කෙලෙස් ප්‍රහානය කර දමා යලි කෙලෙස් නොඋපදින ආකාරයෙන් ම සිත නිදහස් කරගන්නට උපකාරක වන දේ භාවිතා කරන්නටත් එසේ නොවන කෙලෙස් අලුතින් උපදවන අධර්මයන් කවුරුන් කීවත්, සම්මතයෙන්, පිළිගත්තත් පරම්පරාවෙන් පැවත එන දේ උනත්, එය වැරදි නම් පිළිනොගන්නටත් ලබාදුන් උපදෙස් සමූහයක් මෙහි අඩංගුය. නිදහස්,නිවහල්, නිවැරදි, චින්තනය සඳහා මෙම කාලාමා සූත්‍රයෙන් උපදෙස් ලබා දී තිබේ.

විඤ්ඤාණ ශක්තිය යන්න සිතකම උපදින දෙයකි. අරහත් තත්වයට පත්වෙන තුරාවටම සෑම පුද්ගලයෙකුගේ ම, සත්වයෙකුගේ ම දෙවියෙකුගේ ම , භූතයෙකුගේ ම සිතක ද විඤ්ඤාණ ශක්තියක් ද ක්‍රියාත්මක වෙයි. වාහනයක පෙට්‍රල් ටැංකියේ ඉන්ධන තිබුනත් ඒ ඉන්ධන දවා ශක්තියක් උත්පාදනය කලේ නැත්නම් රථය ගමන් කරවන්නට එන්ජිම කරකවාදෙන්නට නොහැකිය. මේ වාගේම ජීවිත ගමන නමැති රිය ගමන ගමන් කරවන්නට (පවත්වාගෙන යන්නට) උපකාරවන ශක්තිය විඤ්ඤාණ ශක්තියයි. වෙන මොනවා තිබුනත් - රථයේ නම් - රෝද ඇන්ජිම ඇතුලත අංග උපාංග වලින් රිය ගමන් කරවන්නට නොහැකිවා වාගේ ගමන යන්නට උපකාර වන්නේ ඉන්ධන ශක්තියයි. ඒවාගේම මේ සංසාර ගමනත් ගමන් කරවන්නේ ම විඤ්ඤාණ ශක්තිය විසින්ය. අනෙක් අංගෝපාංග වලින් සමන්විත වූ කූඩුව - එනම් පංචස්කන්දයම එකතු කර ගන්නේත් එකතු කර ගෙන සකස් කර ගන්නේත් විඤ්ඤාණ ශක්තියේ උපකාරයෙන්මය.



විඤ්ඤාණ සිතකින් උපාදානය කරගත් පංචස්කන්ද ලෝකය ඇති දෙයක්, නිච්චසේ පවතින දෙයක්, නවතාගත හැකි දෙයක් හෝ නොවේ. එය මායාවක් පමණි. උපාදානය කරගත් පංචස්කන්දය කැමතිසේ රිසි සේ, නිච්චසේ, මනාපසේ පවත්වාගන්නට නවත්වාගන්නට හැකියාවක් පවතීනම් නිවන් දකින්නට අවශ්‍යතාවයක් ද ඇත්තේ නැත. අර මායාකාරී ලෝකය විඤ්ඤාණ ශක්තියෙන් යුතු වු සිතකින් දකින්නේ වැරදි ආකාරයටය. එයම මිත්‍යා දෘෂ්ඨියයි.

ගංගාවක ජලය වේගයෙන් පහලට ගලාගෙන යන ආකාරයටම විඤ්ඤාණ ශක්තියද නොනවත්වාම ගලාගෙන යන ශක්තියකි . ගඟක ජලය වැඩිවු තරමට ජලය ගලන වේගයද වැඩිවෙයි. විඤ්ඤාණ ශක්තියද කිලිටිවු තරමටම ගලායන ,ගෙවීයන ,වේගයද වැඩිවෙයි. එසේ නම් විඤ්ඤාණ ශක්තිය සිතට එන්නේ රාග ,ද්වේෂ , මෝහ යන කෙලෙස් ගති සිතේ උපදිනවාත් සමගය. කෙලෙස් ගති සිතේ ක්‍රියාත්මක වනවාත් සමගමය.

රාගයෙන් ප්‍රිය දේට සිත ඇලෙයි - සම්බන්ධවෙයි. ද්වේෂයෙන් අප්‍රිය දේටගැටෙයි, සම්බන්ධවෙයි. මෝහයෙන් ප්‍රිය - අප්‍රිය අතර මැන මැන සංසන්දනය කරයි. සම්බන්ධවෙයි. මේ අනුව යම් කෙනෙකුට තමාගේම ඉන්ද්‍රියයන් සංවර කරගෙන සංසාර සම්බන්ධකම් වලින් මිදී නිදහස් වන්නට පුළුවන් උනොත් , සංසිඳවාගෙන අයහපත් සම්බන්ධකම් වලින් මිදී නිදහස් උනොත්, සම්මා තත්වයට පත්වී සමුදය උත්පාදනයද නොකරණ පිරිසිදු තත්වයට සිත පිරිසිදු කර ගන්නට ශක්තිය ලැබුනොත්, ප්‍රඥාවෙන් යමක් දෙස - ලෝකය දෙස - බලන්නටද හැකි වෙයි. එය යථාභූත ඥාණ දර්ශණයයි. මෙය දැක්මකි. දැනීම යනු ඉන්ද්‍රිය ගෝචර දෙයකි. මේ දැකීම - ප්‍රඥාවෙන් දැකීම - අතීන්ද්‍රිය ඥාණයකි. මායාවෙන් මිදී ලෝකය දකින්නට නම් ප්‍රඥාව උපදවා ගත යුතුමය. ඒ සඳහා රාගයෙන් ඇලීම. ද්වේෂයෙන් ගැටීම, මෝහයෙන් මුලාවීම සිතෙන් ඉවත් කර ගෙන උපෙක්ඛා තත්වයට තමන්ගේම සිත පිරිසිදු කරගත යුතුය.

හේතුවක් නිසාම යම් අරමුණක් සිතක උපත ලබයි. හේතුවක් නිසාම

උපත ලැබූ සංඛතය පවතියි. හේතුවක් නිසාම පවතිනදේ විපරිනාමයට පත්වී වැනසීයයි. මේ හේතුපල පරම්පරාවක ගමනයි. මේ අනුව හේතු කරණාවාත් සමගම පල ද උරුමවෙයි. මේ නිසාම හේතු කරන්නෙකු හා පලහුක්කි විදින්නෙකුද ක්‍රියාත්මක වෙයි. මෙය ආත්මයක් නොවන බවත් මෙහි අනාත්ම හෝ ආත්ම තත්වයක් නැති බවත් හේතුපල පරම්පරාවක් පමණක්ම නොකඩවා ම ගලා ගෙන  යන බවත් දැකගත හැකි විය යුතුය. අපි උපදින්නේත් හේතුවක් නිසාය. ඒ රාග, ද්වේෂ මෝහගති සිත තුල පවතින නිසාය. උපත ලැබූ මොහොතේ පටන්ම සියලුම සත්වයෝ මරණය කරා වේගයෙන් ගමන් කරයි. අපි ඉපදී යලි යලිත් උපදිමින් දුක් විඳිමින් මරණයට පවත්වන්නේ ඊට මුල්වූ හේතූන් දැක ගන්නට නොහැකිවීම යන හේතුව නිසාය. ඒ මුල් හේතුව තමන්ටම දැකගන්නට නොහැකිවනසේ තම මනස වසා මුවහා කර ඇත්තේ රාග අඳුරිනි. ද්වේෂ අඳුරිනි.මෝහ අඳුරිනි. උපන් හැම සතවයෙක්ම ස්වභාව ධර්මයේම කොටසකි. හැම සතවයෙක්ම භූතයෙක්ම, ප්‍රේතයෙක්ම දෙවි දේවාතාවවෙක්ම ස්වභාව ධර්මයේම කොටස්වූ ආපෝ තේජෝ වායෝ පඨවි මහා භූත කොටස් ණයට ගෙන, උපාදානය කරගෙන පංචස්කන්ද කූඩුව සකස් කර ගනියි. මෙසේ ණයට ගත් උපාදානය කරගත් පංචස්කන්දය තමන් සන්තකයේ සදහටම පවත්වා ගන්නට, අල්ලා අයිති කරගන්නට උත්සාහ ගැනීම හා ක්‍රියා කිරීම නිසා ස්වාභාව ධර්මය අස්භාවික, අපිරිසිදු තත්වයට පත්වෙයි. මේ අනුව ස්වභාව ධර්මය පිරිසිදු කල හැක්කේ ද අපිරිසිදු කල හැක්කේද, මිනිසුන්ටමය. මේ ස්වභාවික තත්වය තේරුම් ගෙන තමන්ගෙන් ලෝකයටත්, ලෝකයාටත් ඉටුවිය යුතු යුතුකම් කොටසක් ද ඇති බවත් තේරුම් ගෙන, තමන් යුතුකම් හා වගකීම් ඉටුකරණ සාධාරණ පුද්ගලයෙකු බවට පත්වන්නට ක්‍රියා කිරීම මිනිස් ගුණ ධර්ම පැවැත්වීමයි.

මේ ලබාගත් දුර්ලභ මිනිස් ජීවිතය අකාලයේ විනාශය කර දමන්නට ක්‍රියා කිරීමද මිනිස් කමට නොගැල පෙන මහා පාප කර්මයකි. තමන්ගෙන් තමන්ටත්. බාහිර ලෝකයාටත්,  බාහිර ලෝකයටත් ඉටු විය යුතු යුතුකම් රාශියක් හා වගකීම් රාශියක් ඇති බව හැම මිනිසෙකුම තේරුම් ගත යුතුය. තමන් මේ ජීවිත පැවැත්ම පවත්වාගෙන යාමේදී බොහෝ අය ගෙන් විවිධ ආකාරයෙන් උදව් උපකාර ලබාගෙන ඇත. මව් දෙමව්පියන් ගෙන්,



වැඩිහිටියන් ගෙන්, ගුරුවරුන්ගෙන්, තිරිසන් සතුන්ගෙන් පවා විවිධාකාරවූ උදව් උපකාර ලබාගත්තේ නම් ඒවා සංසාර ගමනේදී කවදා හෝ ගෙවා දැමීය යුතු ණය හැටියට තමන්ගේම ගිණුමේ එකතු වෙයි. මේ මනුස්සත්ත පටිලාභයක් ලබාගත් අවිසථාවේ දීම මිස වෙනත් කිසිම උපතකදී මේ ණය ගනුදෙණුව ගැන තේරුම් ගන්නට හෝ ණය ගෙවා දමා ණයෙන් මිදී නිදහස් වන්නට හෝ හැකියාවක් ලැබෙන්නේ නම් නැත. මේ හේතුව නිසාම "මනුස්සත්ත පටිලාභෝ පරම දුල්ලභෝ" යනුවෙන් බුදුපියාණන් වහන්සේ දේශණා කර වදාළහ. පළමු කොටම තමන් තමන් වෙනුවෙන්ම ඉටු කරගත යුතු යුතුකම් හා වගකීම් කොටසක් ඇති බව තේරුම් ගෙන ක්‍රියා කිරීම ඉතාමත්ම වැදගත්ය. ගිහියෙකු හැටියටත් පැවිද්දෙකු හැටියටත් ණයෙන් මිදී නිදහස් වන්නටත්,අලුතින් තව තවත්,ණය නොවීමට වගබලාගන්නටත්, ක්‍රියාකිරීමෙන් නිවනට උපකාරවන මාර්ග ප්‍රතිපදාවෙහි කොටසක් සම්පූර්ණකරගත හැකිය.

"සබ්බ දුක්ඛ නිස්සරණ නිබ්බාන සච්ඡකිරියාය" යනුවෙන් ගාථාවක් කියවා අධිෂ්ඨානයක් ඇතිකරගෙන කෙනෙක් පැවිදි බිමට පත් වෙන්නේ තමා වෙනුවෙන්ම තමන්ම කරගත යුතු යුතුකම් කොටස ඉටුකරගන්නයි, එහෙම පැවිදි දිවියට පත්වුණාට පස්සේදෙවනුව ලෝකයටත් තමන්ගෙන් ඉටුවිය යුතුකම් හා වගකීම් කොටසක් ඉටු කරලදෙන්නයි. පැවිදි බිමට පත්වෙන්නේ, පළමු කොටම තමන්ගේ හිතේ උපදින කෙලෙස් ගති තුන,රාගබව,ද්වේෂ බව, මෝහ බව හැකි ඉක්මණින්ම උදුරලා ඉවත්කර අස්කර දමන්නත්, ඊට පස්සේ අවශේෂ ලෝකයාටත් ඒ ඒ පුද්ගලයාගේ සිතේ උපදින රාග බව, ද්වේෂබව, මෝහබව උදුරා ඉවත් කරගන්නට උපකාර වන ආකාරයට අනුගමනය කල යුතු නිවැරදි මාර්ගය පෙන්වා දෙන්නටත්ය. අද වන විට මේ මූලික පරමාර්ථයන් අත්හැරල දාල,විවිධාකාරවූ වෙනත් ලෞකික පරමාර්ථයන් මුල් කරගෙන පැවිදි වෙන පිරිස බහුලවම දැක ගන්නටත් පුලුවන්.

**කුසල සීලය**

කුසල සීලය හා අකුසල සීලය විග්‍රහ කරණ අවස්ථාවේදී පටිසම්භිදා මග්ගප්පකරණයේ පෙන්වාදුන් පරියන්ත සීල විග්‍රහයෙහිදී විග්‍රහ කරණ කරුණු අදටත් අදාල වන දේවල්ය, අකුසල සීලය කියන කොටසට අදාල වන කරුණු අතරට ගැනෙන පරියන්ත සීලය අනුපසම්පන්න සීලයක් හැටියටත් විග්‍රහ වෙනව. සං පහදා ඉවත් කරන්නට බැරි සීලයක් අනුසම්පන්න සීලයකි.

බුද්ධසාසනයට අද ඇතුළු වන බොහෝ දෙනෙක්මහණ වෙන්නේ විවිධ කාරණා මුල් කොට ගෙනය. ලාභ පරියන්තය මුල් කොටගෙන මහණවන පිරිසක් එදත් හිටිය අදත් ඉන්නවා.අත්ථ පරියන්තය මුල් කොට ගෙන තවත් පිරිසක් මහණවෙනව, ඒවාගෙම යස පරියන්ත,ඥාති පරියන්ත, අංග පරියන්තය,ජීවිත පරියන්තිය කියන මේ විවිධවු හේතුන් නිසා එදා මෙන්ම අදටත් බුද්ධ සාසනයට පිරිස ඇතුළු වෙලා මහණ වෙනව

ගෙදර ඉඳල ඉගෙන ගන්න බැරි නිසා මහණ වෙලා ඉගෙන ගෙන සිවුරු ඇරල රැකියාවක් කරණ මුලික අපේක්ෂාවෙන් අද බොහෝ දෙනෙක් මහණ වෙනව. ගෙදර කන්න බොන්න නැහැ. ගෙදර හිටියොත් දරුවට දුක් විඳින්න සිද්ධ වෙයි. දරුව නොමගයයි. හොරෙක් වෙයි. කියල ඒ තත්වයෙන් මුදවා ගන්නට දෙමවුපියන් දරුවන් මහණ කරවනවා. තවත් බොහෝ විට සතර කේන්ද්‍රය පාළුවීම නිසාත් නැකැත්කරුවන්ගේ උපදෙස් මත ගිහිගෙදරට නොගැලපෙන නිසාත් දරුවන් මහණ කරවනවා. පන්සලේ ඇති දේපල ඉඩකඩම් ටික වත්කම් තම පරම්පරාවේම කෙනෙකුට පැවරීමේ චේතනාවක් ඇතිව ලොකු හාමුදුරුවන්ගේ නෑයෙකු තම ගෝලයා ලෙසින් මහණ කරගෙන පන්සලට අයිති දේපල ඥාතියෙකුට බාරදීම අද ලංකාවේ හැමතැනම සිදුවන දෙයකි. මෙය'' ඥාති පරියන්ති'' ලෙසින් හඳුන්වයි.

මෙවන් පටු චේතනාවකින් මෙන්ම අවබෝධයකින් තොරවද කුඩාකාලයේදී මහණවූ බොහෝ දෙනෙක් ඉගෙන ගෙන රැකියාවක් ලබාගත් පසුව උපැවිදි වී, විවාහවෙයි. තවත් බොහෝ දෙනෙක් පංසලේ ඉඩකඩම් දේපල පාලනය කරමින්, නායක කාරකාදී තනතුරුද ලබාගෙන



ව්‍යාපාරිකයෙකු ලෙසින් සමාජ ගත වෙයි. තවත් සමහරු විදේශ ගතවී රැකියා කරමින් තම රටේදී කරන්නට බැරි දේවල් පිටරටවලදී කරගන්නට උත්සාහ දරති. මේ හැම දේවල්ම අදටත් බුද්ධාගමතුලම සිදු වෙයි.

මේ සඳහන් කල කරුණු පිලිබඳව හොඳින් සලකා බලා උතුම් බුද්ධ සාසනය බේරා ගන්නට නම්, මහණ දම් පිරිමේ මුලික පරමාර්ථයන් ඉෂ්ඨසිද්ධ කරගන්නට නම් ,මුල පටන්ම පිරිවෙන් වලදී, දහම් පාසැල්වලදී ,මෙන්ම පාසැලේ බුද්ධ ධර්මය විෂයය උගන්වත්දීත් මහායාන බුද්ධාගමේ එන භක්තිය වඩවන දේ මෙන්ම බෞද්ධ සාහිත්‍යය, බුද්ධ චරිතය ආදීය උගන්වනවා වෙනුවට ඊටවඩා උතුම් බුද්ධ ධර්මය ද දරුවන්ට හා කුඩා සාමනේර හිමි වරුන්ට උගැන්විය යුතුය. හේතුපල දහම නම් වූ පටිච්ච සමුප්පාද ධර්මය- සංදේශණාව -පින හා කුසලය අතර ඇති වෙනස්කම් ද්වතාවය හා ද්වතානුස්සතිය- බුද්ධ ආනාපානසති භාවනාව හා අනාර්ය ප්‍රාණයාම භාවනා ක්‍රම අතර වෙනස්කම් තිපරිවට්ටය, චතුරාර්ය සත්‍යය, ධම්මානු ධම්ම පටිපදාව,මජ්ජිමා පටිපදාව ආදී නිවන් මගට උපකාර වන උතුම් ධර්ම කරුණු උගන්වන අතරම මහායාන බුද්ධාගම ජනප්‍රියවීම නිසා නිවන් මග වැසී ගොස් ලෞකික තත්වයට බරවී අද වනවිට තවත් එක ආගමක් බවට පත්වූ අයුරුත් පැහැදිලිවම තේරුම් කර දිය යුතුයි. ආගම හා ධර්මය යනු එකක්ම නොවන බවත්, අපි අද අදහන බුද්ධාගම( ථෙරවාදී හෝ මහායාන) උතුම් බුද්ධ ධර්මයම නොවන බවත් පැහැදිලිව පිරිසිදුව කුඩා කාලයේ පටන්ම දරුවන්ට ඉගැන්විය යුතුය. අපි අද බුද්ධාගමේ නාමයෙන් අනුගමනය කරණ වැඳුම්, පිදුම් ,යැදුම්, පැතුම් සියල්ලම ජෛන ආගමෙන්,වේද ආගමෙන් ශිව ආගමෙන් සහ පතංජලී නැමැති හින්දු ආගමෙන් අතීතයේදී ණයට ලබාගත් දේවල් බව හැම කෙනෙකුටම පෙන්වා පැහැදිලි කරදිය යුතුය.

එවැනි වැඳුම් පිදුම් යැදුම් පැතුම් භක්තියෙන් කරණ කියන දේවල් මිස ශ්‍රද්ධාවෙන් ප්‍රඥාවට යන මාර්ගය- එනම් පිළිවෙතින් පෙලගැසීම, නොවන බව හැම බෞද්ධයෙකුම තේරුම් ගත යුතුය.

1) පරියන්ත අනුපසම්පන්න සීලය මෙන්ම
2) අපරියන්ත පාරිශුද්ධ සීලයත්
3) පරිපුණ්න පාරිශුද්ධ උපසම්පන්න සීලයත්
4) අපරාමට්ඨ පාරිශුද්ධ සීලයත්
5) පටිපස්සද්ධි පාරිශුද්ධ සිලයත්

ප්‍රායෝගික වශයෙන් මෙම පංචසීලයන් සම්පූර්ණ කරගන්නට උපකාර වන මාර්ග ප්‍රතිපදාව මුල් බුදු දහමෙහි ඉතාමත්ම පැහැදිලිව හා පිරිසිදුව දේශණා කර ඇත. නමුත් ජනප්‍රිය වු මහායාන බුද්ධාගමක් ඉන්දියාවේ බිහිවීමත් සමඟම මේ පරමාර්ථ සියල්ලම යටපත් වී බෝධිසත්ව පාරමිතා පිරීමේ සංකල්පයන් ඉස්මතුවීමෙන් අද අදම ඉෂ්ඨ සිද්ධ කරගත යුතු නිබ්බානගාමී ප්‍රතිපදාව සම්පූර්ණ කරගැනීම පසෙකලා දෙව් සැප මිනිස් සැප විඳිමින් ,බෝධිසත්ත පාරමිතා පුරමින් , තවත් දීර්ග කාලය ක් සංසාරේ අතරමං වන වැරදි ක්‍රමයක් බුද්ධාගම නමින් බිහිවූහ. ඒ මහායාන බුද්ධාගමයි. ජනප්‍රිය මහායාන බුද්ධාගමේ බොහෝමයක් අංගයන් ක්‍රමානුකූලව හෙලබිමේ ථෙරවාදී බුද්ධාගමටත් ඇතුළුවීමෙන් උතුම් බුද්ධ ධර්මය යටපත් වී ගියහ. පදපරම ලෙස පදවැල් ටිකක් කටපාඩම් කරගෙන සජ්ජායනා කරන්නට පුරුදු වීමත් සමඟ අනුගමනය කළ යුතු උතුම් ප්‍රතිපදාව අභාවයට ගියහ. අද බොහෝ බෞද්ධයින් බෝධි පුජාවල ස්වරූපයෙන් කරන්නේ ග්‍රහ පුජාවක් හෝ දේව පූජාවකි. එසේත් නැතිනම් යාතිකාවකි. යාඥාවකි. බෝගසෙන් හෝ බෝගස අසල ඇති බුදු පිලිමයෙන් හෝ බෝගසට අධිපති දෙවිදේවතාවන් ගෙන් හෝ නිවන ඉල්ලා යාතිකා කිරීම මොන තරම් නිවට ක්‍රියාවක් දැයි තේරුම් ගන්නට බැරි තරම් පහත් තත්‍වයට අද අපේ බෞද්ධයා පත්වී ඇත. මේ පහත් තත්‍වයට බුද්ධාගම්කාරයාව පත්කලේ මහායාන බුද්ධාගමේ බලපෑමත් ඉන්දීය දේවවාදී ආගම්වල බලපෑමත් හේතු කොට ගෙනය. ඊට පසුව ප්‍රචලිත වූ, නවීන විද්‍යාව තුලින් මතුවූ, සංනිවේදන මාධ්‍යයන් වේගයෙන්ම මිනිස් සිත් විකෘති තත්‍වයට පත් කරන්නටද හේතු විය.



## ප්‍රභාස්වර සිත

අලුතින් උපදින බිළිදෙකුගේ මනෝමයකය තුල ද සංසාර ගමනේදී ගෙන ආ කාමාසය,භවආසය, දිට්ඨාසය හා අවිජ්ජාසය නිදන් ගතවී පවතී."නාම ගොත්තං නජීරත" යනුවෙන් පෙන්වා දුන්නේ මේ නාම කොටසයි. කුඩා දරුවා තුල නිදන් ගතවී පවතින ආසය කොටස් අවධිවන්නට නම් බාහිර ලෝකයෙන් උදව්වක් උපකාරයක්එනම් ආගන්තුක වශයෙන් (උපකිලිට්ඨේන) උපකෙලෙස් සමගින් පටිච්ච විය යුතුය. බාහිර ලෝකයෙන් මෙවැනි ශක්තියක් උපාදානය කර නොගන්නා තාක් කල් කුඩා දරුවෙකුගේ සිත ප්‍රභාස්වර තත්වයේ පවතින සිතකි. එනම් ආගන්තුක උප කෙලෙස් වලින් කිලිටි නොවු සිතකි. චිත්තසංතානයේ ගබඩා වී පවතින කෙලෙස් ගති අනුසය වශයෙන් උපත ලබා සිතක් අලුතෙන් කිලිටිවන්නේ මෙසේ බාහිර ලෝකයෙන් එකතු කර ගන්නා උපකිලිට්ඨේන නිසාය. කුඩා දරුවෙකුගේ සිත ප්‍රභාස්වර සිතකැයි කියන්නේ ඒ සිත තවමත් ආගන්තුක කෙලෙස්වලින් අනුසය වලින් කිලිටි වි නැති නිසාය.

කුඩාදරුවාගේ සිතෙහි තාවකාලිකව පවතින මෙම ප්‍රභාස්වර තත්වය හා අරහතුන්වහන්සේගේ සිතේ පවතිනනියත ප්‍රභාස්වර තත්වය එකිනෙක සමග සං සංසන්දනය කලහැකි එකක් නොවේ. පරිපූර්ණ වූ යලි නොවෙනස් වන ප්‍රභාස්වර තත්වයක් - යලි කෙලෙස් අලුතින් එකතු නොවන පිරිසිදු සිතක් - අරහතුන්වහන්සේගේ සිතක් ලෙස පෙන්වා දිය හැකිය - අරහතුන් වහන්සේගේ සිතේ අනුසය - එනම්, රාග අනුසය - පටිඝ අනුසය අවිජ්ජා අනුසය අලුතින් උපත ලබන්නේම නැත. මනෝමය කය තුල - චිත්තසංථානයේ - ආසය ගබඩා වී පවතින්නේ ද නැත. ආසය ගබඩා වී නැති - අලුතින් අනුසය උපත නොලබන තත්වයට සිත පිරිසිදු කරගත් නිසා අරහතුන්වහන්සේ ප්‍රභාස්වර චිත්තයකින් කටයුතු කරයි.

වයසින් මුහුකුරා ගිය වැඩිහිටියෙකුගේ සිතක් බාහිර ලෝකයෙන් එකතු කරගත් රාගගතිය, ද්වේෂ ගතිය හා මෝහ ගතිය යන වැරදි ගති පුරුදු තුන පවතින නිසා කිලිටි වු තත්වයෙන් ම සිත පවතී. ඊට සාපේක්ෂව කුඩා බිළිදෙකුගේ සිතක් ප්‍රභාස්වරය. තවමත් බාහිර ලෝකයෙන් කෙලෙස්

ගති පුරුදු එකතු කරගෙන සිත තවම කිලිටි කර නොගත් නිසා දරුවාගේ සිත සාපේක්ෂව ප්‍රභාස්වර එකක් මිස පූර්ණ වශයෙන් ම ප්‍රභාස්වර තත්වයක් නොවේ.

සියලුම සත්වයින් තුලත් යටපත් වී ගිය ප්‍රභාස්වර සිතක් ද පවතී. පෘතග්ජන සිතකින් කටයුතු කරණ සෑම අවස්ථාවක දීම සත්වයා තමසිත කිලිටි කරගන්නා නිසා මේ ප්‍රභාස්වර තත්වය යටපත් වී ගොස් කෙලෙස් සහිත වූ සිතක් බවට පත්වෙයි. මේ අනුව කුරාකුහුඹියාගේ පටන් බෝධි සත්වයින් ද ඇතුළු සියලු මිනිසුන් සහිත, මහා බ්‍රහ්මයා තෙක්ම සියලු දෙවි බඹුන් තුලත් නියත වශයෙන් ම පවතින ප්‍රභාස්වර සිතක් පවතී. කෙලෙස් ගති නිසා, රාග ද්වේෂ, මෝහ ගති නිසා මාන දිට්ඨි අවිද්‍යා ප්‍රපංච ධර්මයන් නිසාත් ප්‍රභාස්වර සිත කිලිටි වී ගොස් අඳුරු වී මුවහ වී යටපත්ව යයි. අනුසය අලුතින් උපදින හැම අවස්ථාවක දීම සිද්ධ වෙන නියත දේ තමයි ප්‍රභාස්වර සිත කිලිටි වී අඳුරු වී යාම. කාමාසය, භවරාග ආසය, දිට්ඨාසය, අවිජ්ජාසය යන ආසය වර්ග සියල්ලම චිත්ත සංථානයේ තැන්පත් වන්නේ අනුසය හැටියට ඒවා අලුතින් සිතේම උපත ලබන නිසාය. යම් කෙනෙකුට ආසය හා අනුසය පිළිබඳව යථාභූත ඥාණයක් ලැබුනොත්, අලුතින් අනුසය උපත ලබන ආකාරයත් ඒ ඒ අවස්ථාවනුත් පැහැදිලිව හා පිරිසිදුව තේරුම් ගන්නට හැකි ධර්මඥාණයක් ලැබුනොත් ඒ පුද්ගලයාට අනුසය අලුතින් නොඋපදවා ඉන් නිදහස් වන්නටත් ප්‍රායෝගික පිලිවෙතක් අනුගමනය කල හැකියි. මෙසේ එක දිගට ම නොකඩවා ම අලුතින් අනුසය ඉපදවීමෙන් වැලකී දින හතක් ධම්මානු ධම්ම ප්‍රතිපදාවෙහි ම නියැලෙන්නට ශක්තියක් ඇතිකර ගත්තොත් ඔහු ආසවක්ඛය ඥාණයෙන් ක්‍රියා කරණ ආර්යයන් වහන්සේ කෙනෙකු බවට ම පත්වන්නේ ය. මහා සතර සති පට්ඨාන සූත්‍රයෙන් හා ජචක්ක සූත්‍රයෙන් ද මේ ධර්මතාවය පැහැදිලිව පිරිසිදුව දේශණා කර පෙන්වා වදාලහ.

මිනිසෙකුව උපතලත් අවස්ථාවක දීත් අයෝනිසෝමනසීකාරයෙන් ක්‍රියාකර රාගයෙන්, ද්වේෂයෙන් මෝහයෙන් කෙලෙස් ගති (අනුසය ආසය) උපදවා ගත්තේ නම් ප්‍රභාස්වර සිත බලවත්සේ කිලිටි වි කල්ප කාලාන්තරයක් යලි යලිත් කෙලෙස් සිතකින් ම ක්‍රියාකරණ සිත යලි පිරිසිදු



තත්වයට පත් කරගන්නට ශක්තියක් නැතිව අපාදුක් විඳින්නට සිදුවෙයි. මනසක් උරුමයෙන් ම ලබාගෙන මිනිසත් ආත්මයක උපත ලැබූ කෙනෙකුට මේ අවස්ථාවේ ධර්මය අසා දැන ධර්ම මාර්ගයද අනුගමනය කර, රාග ද්වේෂ, මෝහගති සිතෙන් ඉවත් කර යලි ඒ කෙලෙස් නොඋපදින ලෙසින් ම සිත පිරිසිදු කරගන්නට හැකියාව ලැබුනොත් ඔහුට තමන්ගේ සිත ප්‍රභාස්වරත්වයට පත්කර ගෙන අරහත් මගපලයට ම පත්විය හැකි වෙයි.

මේ ධර්මතාවය අනුව පැහැදිලිව හා පිරිසිදුව තේරුම් ගත යුතු වන්නේ නියත වශයෙන් ම, ස්වභාවයෙන් ම තමාතුල පවතින ප්‍රභාස්වර සිත කිලිටි කරගන්නටත් , ඒවාගේ ම සිත පිරිසිදු කරගෙන ප්‍රභාස්වර තත්වය මතුකර ගන්නටත් හැකියාව හා ශක්තිය ඇත්තේ තමන්ට ම බවයි. “දුක්ඛේ” අඥාණං , දුක්ඛ සමුදයේ අඥාණං, දුක්ඛ නිරෝධේ අඥාණං, දුක්ඛ නිරෝධ ගාමිණි පටිපදාය අඥාණං යන චතුරාර්ය සත්‍යයන් නොදන්නා, තේරුම් නොගත් පුද්ගලයා මෙවන් ප්‍රභාස්වර සිතක් තමන් තුලම තිබී යටපත්වූ බව හෝ යටපත්වීමට හේතු තමන් ම කරණ කියන හිතන අස්වාභාවික හේතුන් බවවත් හෝ නොදන්නා කෙනෙකි. යටපත් ව පවතින ප්‍රභස්වර සිත ප්‍රකෘර්ති තත්වයට පත්කර පිරිසිදු කර ගත හැකි බවවත් නොදන්නා ඔහු පෘතග්ජන පුද්ගලයෙකු ලෙසින් ධර්මයේ පැහැදිලි කරදෙයි.

**<u>හේතුපල ධර්මය නම්වූ උතුම් බුද්ධ දේශණාව</u>**

සදාකාලයටම වලංගු හැම ලොව්තුරා බුදුවරයෙකු විසින්ම අලුතින් සොයා දැන මතුකර ලෝකයාට ප්‍රකාශකරණ , ලෝකයාගේ සංසාර දුක සදහටම නිමා කරවන්නට උපකාර වන, නිවනටම මගපෙන්වන, බුද්ධ ධර්මය යනු හේතුපල දහමයි. නියත වශයෙන්ම ලොව පවතින හා ක්‍රියාත්මක වන දහමයි. පටිච්චසමුප්පාද ධර්මයයි . මේ හේතු පල දහම භාවිතයෙන් ඉවත් වීමත් සමගම ඒ හේතුපල දහම නිවැරදිව හා පැහැදිලිව විග්‍රහකර  කියා දෙන්නට කෙනෙකු නැතිවීමත් සමගම මිනිසුන්ට නිවන් දකින්නට උපකාර වන උතුම් ධර්මයද අභාවයට යයි. සියලු ආගම් වල ඇත්තේ හේතු පල දහමට වෙනස් වු ලෞකික ඇදහීම්ය. විශ්වාස කිරීම්ය.

අද අපි අදහන බුද්ධාගමෙහිද පද පරමලෙසින් පටිච්චසමුප්පාද පදවැල් භාවිතා කලත්, නිවැරදි අර්ථ ධර්ම තේරුම් ගෙන චතුරාර්ය සත්‍යය අවබෝධ කරගන්නට උපකාර වන ආකාරයට හේතුපල ධර්මයෙන් පෙන්වා වදාල මාර්ග ප්‍රතිපදාව අනුගමනය කරණ බවක් නම් නොපෙනෙයි.

විඤ්ඤාණ ශක්තිය සහිත සිතකින් පෘතග්ජනයා දකින ලෝකයමායා ලෝකයකි. එය ඇති දෙයක්, පවතින දෙයක්, උපාදානය කරගත හැකි දෙයක් ලෙසින් පංචස්කන්දය දකින්නේ රාගයෙන්, ද්වේෂයෙන් මෝහයෙන් මත්වූ සිතක් ක්‍රියාත්මක වන හෙයිනි. මේ මත්වීම නිසාම ප්‍රියමනාපදේ නිච්චසේ සුවසේ, සුභ සේ අත්තසේ දකියි.

නමුත් මේ කිසිවක් නිච්චසේ නොපවතී. සුඛසේ , සුවසේ, අත්තසේ නොපවතී. නියත ලෝක ස්වභාව ධර්මය එයයි. ගංගාවක් වේගයෙන් පහලට ගලාගෙන යන්නාසේ මේ විඤ්ඤාණ ශක්තියෙන් නිර්මාණය කරගත් ලෝකයද විනාශය කරාම, මරණය කරාම, වේගයෙන් ගලාගෙන යන ස්වභාවයක් නියත වශයෙන්ම පවතී. හැම මොහොතක් පාසාම වෙන්වී, විපරිනාමයට පත්වී අන්‍යතාභාවයට පත්වී වැනසී යන ලෝකය පවතින එකක්සේ, නිච්ච එකක්සේ, පෘතග්ජන පුද්ගලයින් උපාදානය කරගන්නේ එහි යථා ස්වභාවය නොපෙනෙන, නොදන්නා හේතුව නිසාමය. මෙය මායා ලෝකයට රැවටීමකි.

ලෝකයෙහි යථා ස්වභාවය නිවැරදිව දැකගන්නට නම් ප්‍රඥාව උපදවා පහදා ගත යුතුමයි. මෙයම යථාභූත ඥාණ දර්ශනය ලෙසින්ද පැහැදිලි කරයි. රාග,අඳුර, ද්වේෂ අඳුර ,මෝහ අඳුර යන මායාවෙන් මිදි නිදහස් වු සිතින් ලෝකය දෙස බලන්නට හැකි පිරිසිදු ශක්තියක් මතුකර ගත හැකි වන්නේද යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියා කරණ මිනිසෙකුටමය. විපරිනාමයට වෙනස්වීමට, භ්‍රමණයට, ගෙවීයාමට මුල් වූ හේතුව පටිච්ච සමුප්පන්න බව ලෙසින්ද තේරුම් ගතයුතුය. මේ චර බවට මුල්වූ හේතුව පටිච්ච සමුප්පන්න බවයි. මේ අනුව පෘතග්ජන සිතකම උපත ලබන, සිතකම ක්‍රියාත්මක වන හේතුපල පරම්පරාවක් මේ සියල්ලටමත් මුල්වන බවත් තේරුම් ගතයුතුය. මේ නිසා හේතු කරන්නෙකු බිහිවෙයි. පල භුක්ති



විඳින්නෙකු පල භුක්ති විඳියි. මේ ජීවිත පැවැත්මයි. මෙය ආත්ම හෝ අනාත්ම තත්වයක් නොවන බවත්, නියති වාදයක් නොවන බවත් නිච්චසේ පවතින සිදුවන ධර්‍මතාවයක් ලෝකයේ නැති බවත් තේරුම් ගතයුතුය. මේ අනුව අනිච්ච ,දුක්ඛ, අනත්ත, තේරුම් ගන්නට උත්සාහ කල යුත්තේ තමන්ගේම සිතට අරමුණු වන අරමුණු හය ආශ්‍රයෙනි. නිච්චවූ , සුඛවූ අත්තවූ රූප,වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ ඒ අරමුණු වලින් ලබන්නට විඳින්නට තීරණය කර ගත්තොත් එයම දුකට හා අනාථ තත්වයට පත්වන්නටද හේතුවන බව තේරුම් ගැනීම අනිච්චානු පස්සනාව වැඩීමයි. දුක්ඛඅනු පස්සනාව වැඩීමයි. අනත්තානුපස්සනාව වැඩීමයි. පෘතග්ජන ලෝකයා යලි යලිත් උපදි උපදී මරණය කරාම ගමන් කරන්නේ නිවැරදි මරණානුස්සතිය හා බුද්ධානුස්තිය වඩන්නට තේරුම් නොගත් හේතුව නිසාමය.

ජීවිත පැවැත්ම යනු මොහොතක් මොහොතක් පාසාම ඕඝ හතරක බලවේගයන්ට අසුවී හේතුපල පරම්පරාවක් දිගේ වේගයෙන් ගලා යන ස්වභාවයකි. කාම ඕඝ, භවඕඝ දිට්ඨිඕඝ හා අවිජ්ජා ඕඝ හතරම ජීවිත ගමන පවත්වාගෙන යන්නට උපකාරවන බලවේගයන් හතරකි. මේ ඕඝ හතර නිසා සිතකම තන්හාව හා අවිද්‍යාව ක්‍රීයාත්මක වෙයි. තන්හා යනු අලුතින් තැනක හා වීමයි. සිත අලුතින් තැනකට, දෙයකට අවස්ථාවකට, ධර්‍මතාවයකට සම්බන්ධවීම තන්හාව නිසාත් අවිද්‍යාව නිසාත් සිදුවන්නකි. මේ අනුව සංසාර රිය ගමනක් සකස්වෙයි. සිතින් ම රෝද ගසා සංසාර රිය ගමන දිගටම පවත්වාගෙන යාම සඳහාද හැම සත්වයෙක්ම පර්යේෂණයක් කරයි. එය අනරිය පර්යේෂණය නමින් බුද්ධ ධර්මයේ සඳහන්ය. රිය ගමන නැවැත්වීම සඳහා රෝද ගැසීම නවතා සිත නිරෝධ කිරීම සඳහා කරණ පරියේෂණය අරිය පරියේෂණයයි. මේ අනුව සංසාර රිය ගමන අත්හැරීම අරමුණු කොට,තන්හාව අවිද්‍යාව අත්හැරීම අරමුණු කොට කරණ පරියේෂණය අරිය පරියේෂණයයි.

බුදු දහමෙන් පෙන්වා වදාල සංසාර දුක - මානසික රෝගයකි. මේ මානසික රෝගය නිට්ටාවටම සුවපත් කරගැනීමට නියම නිවැරදි ප්‍රතිකාර ක්‍රමයක් බුදුපියාණන් වහන්සේ උතුම් බුද්ධ ධර්මය දේශනා කරමින් පෙන්වා

වදාලහ."සබ්බේ පුථුග්ජනා උන්මත්තකා" යනුවෙන් බුද්ධ දේශනාවෙහි සඳහන් වෙන්නේ මේ "සංසාර" බව හේතුකොට ගෙන සියළු මිනිසුන් , සත්වයින් මත්වන හෙයිනි. "සංසාර සාරෝග විනීත නීසං" යන ගාථාවෙහිත් සියලු රෝග වලට හේතුව "සංසාර" බව වැරදියට දැකීමයි. කායික රෝග, මානසික රෝග මෙන්ම සංසාර රෝගයටද හේතුව "සං" තේරුම් නොගෙන "සං" දැක නොගෙන "සංසාරයි" කියා උපාදානය කර ගැනීමයි. සං යනු රාගයෙන් ප්‍රියදේට සම්බන්ධවීම, ද්වේෂයෙන් අප්‍රිය දේට සම්බන්ධ වීම හා මෝහයෙන් ප්‍රිය අප්‍රිය අතර සන්සන්දනය කිරීමයි.

පෘතග්ජන ලෝකයා පංචස්කන්දයම ගිජුකමෙන්, කැමැත්තෙන් ආශාවෙන් උපාදානය කරගන්නේම මේ රෝගය පුද්ගලයා තුල ක්‍රියාත්මකව පවතින නිසාමය. අවිද්‍යාමුල පටිච්චසමුප්පාද විග්‍රහය ඉදිරිපත් කරමින් රෝගයට හේතු වන සියළු කාරනා පැහැදිලි කල ලොව්තුරා බුදුපියාණන්වහන්සේ කුසල මුල පටිච්චසමුප්පාද විග්‍රහය ඉදිරිපත් කලේ මේ රෝගයට මුල් වූ හේතු සිතින් උදුරා ඉවත් කර දමා රෝගය සදහටම සුවපත් කිරීමට අවශ්‍ය මඟ පෙන්වාදීමටය.

වෛද්‍යවරයා මෙහිදී රෝගයත්, රෝග නිධානයත්, රෝග ලක්‍ෂණත්, රෝගයට මුල්වූ හේතුත්, රෝගය අසාධ්‍ය තත්වයට පත් වන ආකාරයත්, රෝගය නිසා ඇතිවන අයහපත් ප්‍රතිපලත්, විපාකත්, එකින් එක ගෙන විග්‍රහ කරදී කෙනෙකුට පහසුවෙන් ම මේ සංසාර රෝගය තේරුම් ගන්නට පුළුවන් වන ආකාරයට පහදා දුන්නේ අවිද්‍යාමුල පටිච්චසමුප්පාද විග්‍රහයෙන්ය.මේ දැනුම රෝගියෙකුට රෝගයෙන් මිදී සුවපත් වන්නට අත්‍යවශ්‍යයය. නමුත් මේ දැනුම පමණක්ම ලබාගත්තාට හෝ අවිද්‍යාමුල පටිච්ච සමුප්පාද විග්‍රහයේ එන පදවැල් ටික කටපාඩම් කරගෙන සජ්ජායනා කලාට හෝ රෝගය සුවපත් නොවෙයි. අවිද්‍යාමූල පටිච්ච සමුප්පාද විග්‍රහයේ එන පදවැල් කටපාඩම් කරගැනීම හරියට වෙදමහතා ලියාදුන් බෙහෙත් සීට්ටුව කටපාඩම් කරගෙන සංගීත ස්වරයෙන් සජ්ජායනා කිරීම වැන්නකි. රෝගය සුව කරගන්නට නම් මේ බෙහෙත් සීට්ටුව කියවා බලා තේරුම් ගෙන එහි නිර්දේශ කර ඇති බෙහෙත් සොයා සකස් කරගෙන බෙහෙත් වැළදිය යුතුය.



මේ වාගේම අවිද්‍යාමුල පටිච්චසමුප්පාද විග්‍රහය තේරුම් ගෙන කුසල මුල නිද්දේසයෙන් පෙන්වා දුන් කෙලෙස් මුල් උදුරා දැමීමට අනුගමනය කළයුතු නිවැරදි නියම මාර්ගය ද ප්‍රායෝගිකවම අනුගමනය කිරීම මගින් පමණක් සංසාර රෝගයෙන් සදහටම මිදී නිදහස් විය හැකිය. වෛද්‍යවරයාගේ උගත්කම, දක්‍ෂතාවය, අවබෝධය, හැකියාව හා කරුණාව වැනි දේවල් ගැන වර්ණනාකරමින්, ගුණගායනා කරමින්, භක්තියක් ඇති කරගත්තාට හෝ බෙහෙත් සීට්ටුවට දුම් අල්ල අල්ලා වැඳ වැඳ සිටියාට හෝ සංසාර රෝගයෙන් මිදී සුවපත් විය නොහැකිය. පිරිත් වශයෙන් හෝ ධර්මදේශනා වශයෙන් හෝ ත්‍රිපිටකය කියව කියවා හෝ ගායනා කර කර හෝ සිටීමෙන්  මෙන්ම ජාතක පොත කට පාඩම් කරගෙන සංනිවේදන මාධ්‍යයන් ඔස්සේ කියවුවාට හෝ පමණක් මේ උතුම් බුද්ධ ධර්මයේ පිහිට පිළිසරණ ලබා සංසාර රෝගයෙන් සදහට ම මිදී නිදහස් විය නොහැකි බව සියලුම බෞද්ධයින් වෙත අවධාරණයෙන් ප්‍රකාශකර පෙන්වා දිය යුතුය.

නිවැරදි බුද්ධ ධර්මය යථා පරිදි අසා දැන ගැනීම පළමුවන කාරණයයි. නමුත් ඊටත් වඩා වැදගත් වන්නේ උතුම් බුද්ධ දේශනාවෙන් විග්‍රහ කර පෙන්වා වදාල ප්‍රයෝගික ජීවන ප්‍රතිපදාව (සම්මා අජීව) ප්‍රායෝගිකවම දෛනිකවම තමන්ම අනුගමනය කරමින් තමන්ම මේ විමුක්තිය අත්විඳ ගැනීමයි. අත්දැක ගැනීමයි. මේ අනුව උතුම් බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාළ ජීවන මාර්ගය, චරියා රටාව, පසක්කොට දැක ගත යුතු ඒ අනුවම හැසිරිය යුතු ධම්මානු ධම්ම ප්‍රතිපදාවකි. මෙය පිළිවෙතින් පෙලගැසීම ලෙසද තේරුම් ගත යුතුය.

මනෝමය කයතුල, චිත්තසංථානය තුල, වටිනා සාරවත් දේවල් හැටියට තීරණය කරගෙන පංචස්කන්දයම උපාදානය කරගෙන කුනු කන්දල් ගොඩක්ම, කෙලෙස් ගති පොදියක්ම ගොඩගසා ගෙන ඇත. සංසාරයි කියා අනේක ජාතිවලදී කැමැත්තෙන්ම එකතු කර ගෙන ගොඩගසා ගත් මේ කෙලෙස් ගති පොදිය සාමාන්‍ය ව්‍යවහාර  බසින් ගති හැටියට හඳුන්වා දිය හැකිය. ප්‍රියදේට ඇලෙන, ආශාකරණගතිය, අප්‍රිය , අම්හිරිදේට ගැටෙන ගතිය, ප්‍රිය අප්‍රිය අතර (අදුක්ඛම අසුඛ) මැන බලා

මුලාවීමේ ගතිය, එනම් මානය සාර බව, වටිනා බව දැකීම මිත්‍යා දෘෂ්ටියයි. මෙහි ඇති නිස්සාරබව, මේ නිසා තමන්ව අනාථ තත්‍වයට පත්වන බව, මේ ගති නිච්චසේ පවත්වාගත නොහැකි බව, මේ ගති දුකට මුල්වන බව, තේරුම් නොගැනීම තේරුම් ගන්නට අපහසුවීම අවිද්‍යාවයි. මෙසේ ප්‍රියදේට ඇලීමත්, අප්‍රිය දේට ගැටීමත්, අදුක්ඛම අසුඛ අතර මානයෙන් මැනීමත් පෘතග්ජන ලෝකයාගේ සංසාර දුක් පැවැත්මට - පැවැත්ම පවත්වාගෙන දිගින් දිගටම ගෙනයන්නට උපකාරවන මූලික හේතුන්ය. ඇලීම, ගැටීම, මුලාව දුකට හේතුවන නියතවූ හේතුතුන බව පැහැදිලිව, මනාව අවබෝධ කරගන්නට බැරිවන තාක් කල් දුක් විදිමින් සංසාරරිය ගමනද පවත්වාගෙන යයි.

ඇලීම, ගැටීම, මුලාව (රාගය, ද්වේෂ, මෝහ) සංසාර ගමනට සත්වයෙක්, පුද්ගලයෙක් බැඳ ඈදා තබන බැම් තුනය- මේ බැම් තුනම ඈඳුතු තුනකි. මේ නිසාම මේවා "බාන්" තුනක් ලෙසින් බුද්ධ ධර්මයේ පෙන්වා වදාලහ. සම්බන්ධතාවයක් ඇති වන්නේම සසරට යලි යලිත් අලුතින් බැඳෙන්නේ ම මේ බාන් තුනම අලුතින් නිර්මානය කරගෙන බැඳෙන්නේ ම මේ බාන් තුනම තමන් ම අලුතින් නිර්මාණය කරගෙන ගොතා සකස් කර ගන්නා හේතුව නිසාමය. මේ සංසාර බැම් තුන හරි හැටි දැක ගැනීම බැම්තුන කපා ඉවත් කිරීමට උපකාර වන පළමුවන පියවරයි. මෙය "ධම්මෝ සංදිටඨිකෝ" යනුවෙන් ධර්ම විග්‍රහයේ පෙන්වා වදාලහ. එනම් හේතු පල ධර්මයට බහා ගලපා බලා සං (සමුදය) දැක ගැනීමය. සම්බන්ධතාවයට මුල්වූ හේතු දැක ගැනීමය. මේ සම්බන්ධතාවය හරිහැටි තේරුම් ගෙන -සමුදය (සංඋපත=සංභවං) තේරුම් ගන්නා තුරු සමුදය නිරෝධකල නොහැකිය. මේ කෙලෙස් ගති තුනම බඹයක් පමණවූ ශරීරකූඩුව තුලම කා වැදී හිරවී පවතින වැරදි ගති තුනකි. මේ වැරදි ගති තුන තමන් තුල පවතිනා තාක් කල් ජාති, ජරා ,මරණ, දුක් ,දොම්නස් ශෝක,උපායාස ආදී සියලුම පල විපාකයන් තමන්ට ම උරුම වෙයි.

සිතේ උපත ලබන කෙලෙස් ගති තුන සහ මුලින්ම උදුරා ඉවත් කරදමා ප්‍රඥා විමුක්තිය ලබන්නට උපකාර වන ප්‍රතිපදාව වෙන්නේ ආර්ය අශ්ඨාංගික මාර්ගයයි. මේ ආර්ය මාර්ගය, ආර්ය ප්‍රතිපදාව,ආර්ය



පරියේෂණයක් කිරීම මගින් සොයා දැන අනුගමනය කර , අත්දැක ගැනීම නිවන සම්පූර්ණ කර ගැනීමයි. සමුදය නිරෝධ කිරීම මෙහිදී කළ යුතු මූලිකම දෙයයි. අරිය. පරියේෂණයක් කරමින්, අරි අටඟි මග සම්පූර්ණ කර ගැනීමේදී කළ යුතුදේ හා නොකල යුතුදේ පිලිබඳව තීරණයක් ගැනීමට භාවිතා කළයුතු, උපකාර කරගත යුතු නිවැරදි සූත්‍රය පැහැදිලි කරන්නේ පටිච්ච සමුප්පාද විග්‍රහයෙනි. අවිද්‍යාමූලයෙන් සිදුවන ක්‍රියාවලිය තේරුම් ගෙන එය බැහැර කරන්නටත් ඊට පටිච්චනොවන්නටත් කුසල මූලක්‍රියා වලියෙන් සිදුවන කුණුමුල් ගලවා ප්‍රහාණය කිරීම කරන්නටත් ක්‍රියා කිරීමයි. මෙයම සමුදය නොඋපදවා සංඛාර නිරෝධ කිරීමයි. "සං" උපත ලබන්නේම සිතින් රෝද කර සංඛාර කිරීමෙනි. පංචස්කන්දයන්ම උපාදානය කරගන්නේ සංඛාර කරමින් විඤ්ඤාණ ශක්තියක් සිතේ උප්පද්දවා ගැනීමෙන්මය. පටිච්ච සංඋප්පාද යන පද හතර පටිසංභිදා අර්ථ වශයෙන් විග්‍රහකර හරිහැටි තේරුම් නොගත් කෙනෙකුට සමුදය උපදින=සම්බන්ධතාවයක් උත්පාදනය වන, ආකාරය තේරුම් ගන්නට නොපුළුවන . මේ අනුව අරිය පරියේෂණයක් කල හැකි වන්නේද චතුරාර්ය සත්‍යයන් අවබෝධ කරගත හැකිවන්නේද ,සමුදය තේරුම් ගෙන සමුදය නිරෝධ කලහැකි වන්නේද පටිච්ච සමුප්පාද විග්‍රහයේ තිපරිවටයම අර්ථ ධර්ම වශයෙන් යථා පරිදි අවබෝධ කරගත් කෙනෙකුටම පමණි.

**"යෝ පටිච්ච සමුප්පාදං පස්සති, සෝ ධම්මං පස්සති..**
**යෝ ධම්මං පස්සති, සෝ මං පස්සති"**

යනුවෙන් දේශණා කලේ මේ උතුම් පටිච්ච සමුප්පාද ධර්මය පිළිබඳවමයි. මේ අනුව පටිච්චසමුප්පාද ධර්මය බුද්ධ ධර්මයයි. භව උදුරා දමන්නට උපකාර කරගත යුතු ධර්මයයි. පටිච්ච සමුප්පාද ධර්මයෙන් තොර බුද්ධ ධර්මයක් නැත . බුද්ධ ධර්මයේ මිසක වෙනත් කිසිදු ආගමක, දර්ශණයක, විද්‍යාවක, පටිච්ච සමුප්පාද විග්‍රහයක්ද නැත.

පටිච්චසමුප්පාද ධර්ම විග්‍රහයෙන් විග්‍රහකර පෙන්වා වදාලේ පැවැත්මේ නියතවූ ස්වභාවයයි. මේ අනුව ස්වභාව ධර්මයේ හැසිරීම පැහැදිලිව විග්‍රහ කරන්නට පටිච්ච සමුප්පාද ධර්මයම උපකාර කරගත යුතුය. අපි ඉන්ද්‍රිය ගෝචර ඥාණයෙන්, මසැසින් දකින්නේ පැවැත්මේ

ඇත්ත ස්වභාවයම නොවේ. අපේ සිතෙහි උපන් ප්‍රිය අප්‍රිය භව අනුව සිතින් මවාගත් මුලා දර්ශණයකි. මේ දැක්ම වැරදිය. ඇත්ත නොවේ. මායාවකි. මුලාවට හේතුවන බොහෝ කරුණු කාරණා එහි ගැබ්ව ඇත. මේ පැවැත්මේ ඇත්ත හරි හැටි දැනගන්නට නම්,=යථාවාදී තථාකාරී,තථාවාදී යථාකාරී විය යුතුමය. මේ යථා ස්වභාවය යථා පරිදි තේරුම් නොගත් කෙනෙකුට බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාල පරම සතයය ද යථා පරිදි තේරුම් ගත නොහැකිය. එසේත් නැතිනම් යථා භූතඥාණ දර්ශණය ලබාගත නොහැකිය. පෘතග්ජන පුද්ගලයා යනුවෙන් බුද්ධ දේශණාවෙහි පෙන්වා වදාලේ යථාභූත ඥාණ දර්ශණයක් නැති පුද්ගලයාටයි .

සෑම බෞද්ධයෙකුම කල්පණා කර බැලිය යුත්තේ තමන් බෞද්ධයෙකු වශයෙන් හඳුන්වන්නේ ක්‍රියාවෙන්ද එසේත් නැති නම් උප්පැන්න සහතිකයේ සඳහන් වන නිසා පමණක් ද යනුවෙනි. හේතු පල දහමට බහා ගලපා බලා ක්‍රියාකරණ, විනයට සසඳා බලා ක්‍රියා කරණ, කෙනෙකුනම් බෞද්ධයෙකු වන්නේය. එසේ නැතිව අස්වාභාවික ලෙසින් රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන්, කටයුතු කරණ කෙනෙකු නම් ඔහු ගිහියෙකු වේවා පැවිද්දෙකු වේවා ඒ පුද්ගලයා බෞද්ධයෙකු නොවන්නේමය. මෙය තමන් ගැනම තම තමන්ම සිතා බැලිය යුතු දෙයක් මිස අනෙක් පුද්ගලයාට චෝදනා කල යුතු දෙයක් නොවේ. යථා භූත ඥාණ දර්ශනයක් සහිත වූ සම්මා දිට්ඨියට පත් වු පුද්ගලයා පරමාර්ථ වශයෙන්ද සම්මතයෙන්ද බෞද්ධයෙකුවෙයි. අනෙකුත් පෘතග්ජන පුද්ගලයින් යථාභූත ඥාණ දර්ශනය ලබාගන්නා තුරු සම්මා දිට්ඨියට පත්වෙන තුරු, සම්මත ලේබල් බෞද්ධයින් මිස - උප්පැන්න සහතිකයේ තිබු පලියට බෞද්ධ වුවන් මිස, පරමාර්ථ වශයෙන් බෞද්ධයින් වන්නේ නැත.

ප්‍රායෝගිකවම, නිවැරදි ආර්ය මාර්ගයම සොයා දැන, ඒ ආර්යමාර්ගය අනුගමනය කිරීම (ගච්ජාමි) ඒ මගයාම- ඒ මග ක්‍රියාවට නැගීම බුදුරදුන් පෙන්වා දුන් මාර්ගයයි. ඒ නිවැරදි මාර්ගය අනුගමනය කරන්නේ නැතිව . අත්හදා බලන්නේ නැතිව, අත්විඳගන්නේ නැතිව, මගේ සිතෙන් කෙලෙස් ඉවත් වේවා, කරුමය දුරුවේවා , නිවන් දකිත්වා, කි ය කියා ප්‍රාර්ථනා කර කර යැද , යැද, වැඳ ,වැඳ සිටියාට මේ නිබ්බාන ගාමී



මාර්ගය සම්පූර්ණ වන්නේම නැත. මේ නිසා බුද්ධ ධර්මයේ පෙන්වා වදාළ ධම්මානුධම්ම පටිපදාව නිවැරදිවම සොයා දැන ප්‍රායෝගිකවම අනුගමනය කළ යුතු එකකි. කියව කියවා හෝ කටපාඩම් කරගෙන හෝ සිටි පමණකින් කරගත හැකි දෙයක් මෙහි නැත. මුළු ත්‍රිපිටකයම කටපාඩම් කරගත් පලියට ඉටුකර ගත හැකි දෙයක්ද මෙහි නොවන බව පැහැදිලිවම තේරුම් ගත යුතුය.

මනුස්සත්ත පටිලාභයක් ලබා උපත ලැබූ මේ උතුම් අවස්ථාවේදීත්, මේ බුද්ධෝත්පාද කාලයේදීත් ,යම් යම් සැප සම්පත් පතමින්, යදිමින් වඳිමින්, ඉල්ලමින් පිංකම් පමණක්ම කරමින්, ඒ පිනෙන් මතු බුදුවන බුදු කෙනෙකුන් දැක නිවන් දකින්නට පතාගෙන කටයුතු කිරීමත්, ඊට පෙර මේ කරගත් පිනෙන් දෙව් මිනිස් සැප සම්පත්, සුරසැප, රජසැප, සිටු සැප සම්පත් පැතීමත්, ඉල්ලීමත් මතු මතුත් සසර දුක නිර්මාණය කරදෙන , භව තන්හා සකස් කර දෙන , මෝහය මානය වඩා වර්ධනය කරණ දේවල් බව ඔබ තේරුම් ගතයුතුය. මේවා ආගම් වල ඉගැන්වූ පලියට බුද්ධ ධර්මයට ගැලපෙන දේ නොවේ. “අප්පමාදේන සංපාදේතබ්බං” යන අවසාන බුද්ධ වචනවලට කිසිසේත්ම නොගැලපෙන මේවා ආගමික සංකල්ප පමණක් බව තේරුම් ගත යුතුය.

**<u>බුද්ධ භාෂිතය හා මාගධී භාෂාව</u>**

සීලයක පිහිටා සංවරවන්නට, භාවනාවක යෙදී සංසිඳවන්නට සිත පිරිසිදු කර ගෙන චිත්ත පාරිශුද්ධියක් ලබන්නට, - චේතෝවිමුක්තියට පත් වන්නට - ප්‍රඥා විමුක්තියයෙන් මගපල ලබන්නට, මාගධී, පාලි හෝ සිංහල හෝ වෙනත් මොනම භාෂාවක් හෝ ඉගෙන ගෙන භාෂා විශේෂඥයෙකු වීමේ අවශ්‍යතාවයක් ද නැත. භාෂා විශාරදයෙකු වීම හේතුවෙන්ම නිවන් මග වැසී යටපත් වීමද සිදුවිය. හැකි බවත්, ලෞකිකතත්වය තුලම අතර මං වීමට එය මුල්වන බවත්, පැහැදිලි කර දිය යුතු විශේෂ කාරණයකි.

නමුත් බුදුපියාණන් වහන්සේ දේශනා කර වදාළ උතුම් බුද්ධ ධර්මය දේසනා කලේද, අද බුද්ධශ්‍රාවකයින් බුද්ධ ධර්මය දේශනා කරන්නේද භාෂාවල එන වචන හා පදවැල් ම ප්‍රයෝජනයට ගනිමින්මය. බුද්ධ

දේශණාව මුලින්ම ඉදිරිපත් කළ, මුල් බුදුදහම දේශණා කරණ ලද, මාගධී භාෂාව ඉතාමත්ම නිරවුල්, ඉතාමත්ම ගැඹුරු අර්ථධර්ම නිරුක්ති පටිසංභිදා විග්‍රහ කර දෙන්නට සුදුසු භාෂාවකි. මේ අනුව බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාළ පරමාර්ථ ධර්මය තේරුම් ගන්නට නම් මාගධී භාෂාවෙන් කරණලද විග්‍රහයන් භාවිතයටත් පුරුදු විය යුතුවෙනවා. බුදුපියාණන් සොයා දැනගත් උතුම් නිවන් මාර්ගය අවශේෂ ලෝකයාට ප්‍රකාශ කිරීමේදී ධර්මය දේශනා කලේ මාගධී හා හෙල භාෂාවලින්ය. මාගධී භාෂාවට අක්ෂරයන් නැත. එය ශබ්ද සංඥා පමණක් සහිතවූ මුල භාෂාවයි. මාගධී භාෂාවෙන් දේශණා කරණ ලද බුද්ධ භාෂිතයට නා නා අර්ථ , නා නා ධර්ම, නා නා නිරුක්ති , නා නා පටිසම්භිදා විග්‍රහයන් කරමින් විවිධ අර්ථයන්ගෙන් එම පදවැල් වලටම විවිධ වූ තේරුම් දැක්විය. හැකිය. මේ හේතුව නිසාම එදා බුදුපියාණන් දේශණා කරණ ලද මාගධී පදවැල්ම අද ලෞකික අර්ථයෙන් හා සම්මත අර්ථයෙන් බුද්ධාගමෙහි, විශේෂයෙන්ම මාහායාන බුද්ධාගමේ ආගම් සංකල්ප ප්‍රවර්ධනය සඳහාද යොදාගෙන ඇත. ඒ මාගධී (පාලි) පදවැල්ම එදා නිවන් දකින්නට උපකාර වන ලෝකෝත්තර අර්ථයෙන් භාවිතා කල අතර අද ඒ පදවැල්ම සංසාරයේ අතර මං කරවන්නට ලෞකික අර්ථයකින් භාවිතා කරණ බව ද පැහැදිලිය. මේ වෙනස හරි හැටි තේරුම් නොගත් කෙනෙකු “පදපරම පුද්ගලයෙකු” ලෙසින් ධර්මයේ විග්‍රහ කර පෙන්වාදී ඇත. ඔහුට මේ මාගධී පදවැල් වල ඇති ලෝකෝත්තර ධර්ම අර්ථ තේරුම් ගන්නට තරම් ප්‍රඥාවක් නැත.

බුදුපියාණන් එදා පිරිනිවන්පා වදාල කාලයෙන් පසුව වසර තුන් හාරසියයක් ගතවෙන විට ඒ බුද්ධභාෂිතයම,බුද්ධශ්‍රාවකයින් යැයි කියාගන්න අයම විවිධාකාර වු ලාභ ප්‍රයෝජන සඳහාත්, තමන්ගේ පහසුව හා වාසියටත්, සමහර විට නොදැනුවත්කම,නිසාත් ලෞකික අර්ථයෙන් හා ධර්මයෙන් අර්ථ දක්වන්නට කරණ ලද උත්සාහයන් නිසා අටුවා ටීකා ටිප්පණි හා සම්මත වශයෙන් ලියා දක්වා ජනප්‍රිය වන්නටත් පටන්ගත්හ. මේ ආකාරයෙන් විවිධ අටුවාචාරීන් හෙලබිමේදී මෙන්ම භාරතයේදීද විවිධ ආකාරයෙන් අර්ථ දක්වා උතුම් බුදු දහම ආගමක් බවට පත්කරගත් බව කවුරුත් තේරුම් ගත යුතු සත්‍යයකි. එදා පරියාප්ති ධර්මය ලෙසින්



පිළිගත්තේත්, භාවිතා කලේත් කටපාඩම් කරගෙන පරම්පරාවෙන් පරම්පරාවට පවත්වාගෙන ආවේත් ත්‍රිපිටක ධර්මයත්, හෙල බසින් ලියා තිබු මුල්ම හෙල අටුවාත් පමණි.

ත්‍රිපිටක ධර්මයට හෙලබිමේ දී මෙන් ම භාරතයේ දී ද විවිධ භාෂා වලින් විවිධ අවස්ථා වන්හිදි අටුවා ලියන්නට (අර්ථ දක්වන්නට) යාමේ දී සිදු වු එකම ප්‍රතිපලය වූයේ නිවන් මග හෙලි කළ උතුම් ධර්මය යටපත් වී දෙව් මිනිස් සැප සම්පත් විඳව විඳවා කල් ගෙවන්නට උපකාර වන පරිද්දෙන් බුද්ධාගමක් මතු වී ආගම් සංකල්පයන් නිර්මාණය වීමයි. බෝධිසත්ව සංකල්පය, පාරමිතා පිරීම, ප්‍රාර්ථනා කරමින් මතුබුදු බව පැතීම, මේ ආදී තවත් බොහෝ ලෞකික සැප සම්පත් කෙරෙහි පොළඹවන දේවල් මහජනයා අතරේ ජනප්‍රිය වුයේ පසුකාලීනව මෙසේ ලියා පල කරණ ලද අටුවාචාරීන්ගේ පොත්පත් ආශ්‍රයෙනි. හෙලබිමටත් වඩා මෙවන් සංකල්ප ජනප්‍රිය වුයේ ජෛන ආගම තදින් ම මුල්බැසගෙන ඇදහූ භාරත දේශයේ දී ලියූ මහායාන බුද්ධාගමේ පොත්පත් ආශ්‍රයෙනි.

උතුම් බුද්ධ ධර්මයේ දේශණාකර වදාල, පිරිසිදු නිවන් මග විවෘත කළ, ඒ මාගධී පදවැල්ම, පසු කලක දී ලෞකික අර්ථයෙන් ද විග්‍රහ කරමින් එදා මෙදා තුර කාලය තුල බොහෝ පිළිගත් විද්වතුන් යැයි කියා ගන්නා පෘතග්ජන මිනිසුන් විසින් ලියූ අර්ථ කථාවන් නිසා උතුම් බුද්ධ ධර්මයට සිදු වු හානිය හා විනාශය අති විශාලය. ලෝකයක් හදන අදහසින්, ලෞකික සැප සම්පත් ලඟා කර දෙන අදහසින් , අදටත් බොහොමයක් ගිහි පැවිදි දෙපිරිසම පර්යාප්ති ධර්මයට අටුවා ලියමින් ලෞකික අර්ථ දක්වමින් මිනිසුන්ගේ නිවන් මගම වසාදමා සංසාරයේ මිනිසුන්ව අතරමං කරන්නට කරණ දේශනාවන් හා ලියන ලියවිලි හා පොත්පත් නිසා ඒ ඒ අයම උරුම කර ගන්නා ප්‍රතිඵලය හේතුපල ධර්මයට බහා ගලපා බලන්නට ඒ ලියන අය නොදන්නා කම නිසාම මෙවන් විශාල අපරාධයන් කරගන්නේ ය. තමන්ගේ නිවන් මග මෙන් ම අනුන්ගේ නිවන ද වසා දමන්නට මේවා හේතුවෙයි.

මේ අනුව බුද්ධ භාෂිතයේ දේශණා කරණ ලද මාගධී පදවැල්වලට අර්ථ, ධර්ම, නිරුක්ති හා පටිසම්භිදා වශයෙන් නානා ආකාරයෙන් අර්ථ

ධර්ම විග්‍රහයන් ඉදිරිපත් කරන්නට සමත් කල්‍යාණ මිත්‍රයෙකුගෙන් බන අසා නිවන් මගට උපකාරවන අර්ථය හා ධර්මයම වෙන් කොට දැනගෙන තේරුම් ගෙන නිවනට බාධාවන බැහැර කලයුතු ලෞකික හා සම්මත අර්ථයන් ද තේරුම් ගැනීමෙන් ම භාවිතා කලයුතු මාර්ග ප්‍රතිපදාව හා බැහැර කළ යුතු මාර්ගයත් හොඳින් තේරුම් ගත යුතුය. මේ අනුව මාගධී පදවැල් භාවිතා කරන්නට පුරුදු වීමත්, ධර්මයේ පෙන්වා වදාල මෙම මාර්ග ප්‍රතිපදාව ප්‍රායෝගිකව ම අනුගමනය කිරීමත්, සමගම මාගධී භාෂාව පිළිබඳව ද මනා පරිචයක් ද ඇතිවෙනු නිසැකය. විශ්වවිද්‍යාලයකින් උපාධි විෂයයක් ලෙසින් පාලිභාෂාව හැදෑරූ උගතෙකුට මාගධී අර්ථ , ධර්ම තේරුම් ගන්නට බැරි තත්වයට ඔහු  පත්වන්නේ තම පාලි උගත්කමම ඊට බලවත් බාධකයක් වන නිසා බව පැහැදිලිවම අත්දැකගත් සත්‍යයකි.ඔහු උගතෙකි. ඔහු බුද්ධිමතෙකි. නමුත් ඔහු පොතේ දැනුමක් ලැබූ කෙනෙකු මිස තම මනස විවෘත කර ගත් නිදහස් මතයට ගරු කරණ අරිය ධර්මය තේරුම් ගත් අරිය මාර්ගයේ යන කෙනෙකු නොවේ. පාලි භාෂාව පිළිබඳ විශේෂ උපාධියක් හදාරා , පාලි භාෂාව විශ්ව විද්‍යාලයේ දී ඉගැන්වීම පවා කළ මහාචාර්ය පදවි පවා හෙබ වු පසුව මහණ වූ අය කිහිප දෙනෙක් ම මේ රටේ ම අදටත් ජීවතුන් අතර සිටියත් සංදේශණාව , ද්වතාවය ධර්මය, තිපරි වටටය හෝ පටිච්ච සමුප්පාද ධර්මය යන මුලික ධර්ම කාරණාවන් පවා ඔවුන්ට නිවැරදිව තේරුම් ගන්නටත් බැරිය. තේරුම් කර දෙන්නටත් බැරිය. ඔවුන්ට ඒවා අසා තේරුම් ගන්නටද බැරිය. හේතුව මානය අධික කමයි. උගත් කමෙන් හා බුද්ධියෙන් මත් වීම උපරිම ලෙසින් ම ඔවුන් තුල පැවතීමයි. තමන් ගුරුවරුන්ගෙන් උගත් දේ (උකහාගත්දේ) එකම හා නිවැරදිම තේරුම බවත්, වෙනත් අර්ථයක් තේරුමක් මේ මාගධී පදවලට දිය හැකි නොවන බවත් තරයේ ම ඔවුන් විශ්වාස කරති. ඔවුන් දරණ මිත්‍යාදෘෂ්ඨිය ඔවුන්ටම පෙනෙන්නේ නැත. ඔවුන්ගේ නොදන්නා බව ඔවුන් ම නොදනී.

බුද්ධ ධර්මයෙන් විග්‍රහකර පෙන් වූ තුලනාත්මක අවබෝධයෙහි වැදගත්කම හැම බෞද්ධයෙකුම විසින් ම තේරුම් ගත යුතුමය. අන්තවාදී ව, සත්‍යය කරා, පරම සත්‍යය කරා පිවිසිය නොහැකි බවද තේරුම් ගත යුතුය. මේ සඳහා මජ්ජිම නිකායෙහි එන චංකි සූත්‍රය හැම බෞද්ධයෙකු



විසින් ම මනාව හැදෑරිය යුතුමය. මෙහි දී ද්වතාවය හා ද්වතා අනුස්සතිය - පිළිබඳව ද මනාව තේරුම් ගෙන ආවර්ජන වසිතාවයෙන් යුතුව ක්‍රියා කිරීමේ අවශ්‍යතාවය බුද්ධශ්‍රාවකයෙකුගේ මුලික ම හා අවශ්‍යම ලක්‍ෂණයකි.

එවකට මිනිසුන් අදහමින් සිටි හා  භාවිතයේ පැවති සියලුම ආගම් සංකල්පයන් මිත්‍යාදෘෂ්ඨීන් ලෙසින් සම්පූර්ණයෙන් ම බැහැර කරන්නට බුදුපියාණන් වහන්සේ කිසිසේත්ම , කිසිවිටකත් ඒකාන්තවාදීව ක්‍රියා කලේ නැත. බුදු දහම එකම හා නිවැරදිම මග යැයි ඒකාන්තව දේශණා කරන්නට හැකියාව තිබුන ද, උන්වහන්සේ කිසි විටෙකත් එසේ කලේ නැත. කරුණු හොඳ හැටි විමසා බලා, හේතුපල දහමට ගැලපේ යැයි තමන්ට ම වැටහේ නම්, විනයට සසඳා ගලපා බලා නිවැරදි යැයි වැටහේ නම්, එය පමණක් පිළිගන්නා ලෙස උන්වහන්සේ නිතරම දේශණා කළහ.

තමන් කැමති ආගමක් ඇදහීමේ අයිතිය හා නිදහස මිනිසා සතු මානව හිමිකමකි. මෙම මානව අයිතිය තහවුරු කිරීමට නම් විවිධ ආගම් පිළිබඳව දැනුමත්, බුද්ධ ධර්මය පිළිබඳව දැනුමත් වෙන්කොට දැනගන්නට හැකි වන පරිදි ඒවා ලියා පල කළ යුතුය.  දේශණාකළ යුතුය බුද්ධ ධර්මය ලෝකයාට විවෘත වන්නේ නියම නිවැරදි ආකාරයෙන් බුද්ධ ධර්මය, දේශණා කරන්නට සමත්කම් ඇති බුද්ධ ශ්‍රාවකයින් පිරිසක් බිහිවීමෙනි. යම් දහමක් විවෘත වූ තරමට බබලන බව බුදුපියාණන් දේශණා කර පෙන්වීය. (විවටෝව විරෝචති, නො පටිච්ජන්නෝ) අන්ධානුකරණයෙන් හා අන්තවාදීව විවිධ ආගමික මතවාදයන් හි එල්බගෙන දේශපාලන බලය හා ධන බලයද පාවිච්චි කරමින් උතුම් බුද්ධ දේසනාවෙන් පෙන්වා වදාල උතුම් මිනිස්ගුණ ධර්මයන්ට විරුද්ධ වූ ක්‍රියාකාරකම් කරන්නෝ බුද්ධශ්‍රාවකයින් විය නොහැකිය. ඔවුන් බුද්ධාගමේ නාමයෙන්ම සංවිධානයන් ගොඩනගාගෙන යම්කිසි ව්‍යාපාරයක යෙදෙන පෘතග්ජන පිරිසක්මය. ආගමේ නාමයෙන් අනෙකුත් මිනිසුන්ට හිංසා කිරීම, නිගා කිරීම හෝ වෙනස්කම් කිරීම කිසිසේත් ම බෞද්ධ කමටවත් ගැලපෙන්නක් නොවේ.

යමක් පිළිබඳව පරම සත්‍යය දැකගත් පසුව, එය නිසැකවම සත්‍යය යයි කිව හැකි නම්, ඒ සත්‍යය ප්‍රකාශකර සිංහනාද පවත්වන්නට තරම් ශක්තියක් ඇත්තේ නියම බෞද්ධයෙකුට පමණි. එවන් සත්‍යයක් ප්‍රකාශ කිරීමෙන් බාහිර ලෝකයාට ද සත්‍යය දැක ගන්නට හා සත්‍යය තේරුම් ගන්නට උපකාර වන පරිද්දෙන් එය ලියා හෝ දේශණාකර හෝ ප්‍රකාශයට පත්කිරීම ද බුද්ධ පුත්‍රයෙකුගේ බෞද්ධයෙකුගේ යුතු කමකි.

ලොව්තුරා බුද්ධත්වයට පත් වු ගෞතම බුදුපියානන්ද තමන් සොයා දැනගත් පරම සත්‍යය දේශණා කරන්නට පස්මහ බැලුම් බැලූ බව බෞද්ධ ඉතිහාසයේ සඳහන් වේ.

1. කාලය - නුසුදුසු කාලය බැහැර කොට සුදුසු කල්හි ප්‍රකාශයට පත් කිරීම.

2. සත්‍යය - පදනම් කර ප්‍රකාශ කිරීම - මිනිසුන් වු කාටත් දැක බලා තේරුම්ගත හැකි සාක්ෂි මත සත්‍යය පදනම් විය යුතුය. හේතුපල ධර්මයට ගැලපිය යුතුය. එය හේතුපල දහම මිස වෙනත් දෙයක් විය නොහැකිය..

3. පිරිසිදු චේතනාවෙන් ම සත්‍යය ප්‍රකාශ කිරීම. අනෙකාට රිදවන්නට හෝ අනෙකාව පරාජය කරන්නට හෝ නොව බහුතර ලෝකයාගේ හිතසුව පිණිසම, නිස්සරණ අධ්‍යාසයෙන් ම සත්‍යය ප්‍රකාශ කළ යුතුය.

4. අනර්ථය පිණිස නොව අර්ථසාධනය පිණසම සත්‍යය ප්‍රකාශකර මතුකර පෙන්වා දිය යුතුය. මෙතැන දී අර්ථසාධනය යනු විමුක්තිය නිවන සඳහා ම උපකාර වන්නේ නම් ඒ  අර්ථයම වැදගත්ය.

5. ද්වේෂයෙන් නොව පරම මෛත්‍රිය පෙරදැරි කොට ගෙනම ප්‍රකාශ කලයුතුය. අනෙකා පාගා යටපත් කර විනාශ කර දැමීමේ චේතනාවෙන් ක්‍රියා නොකල යුතුය.



ඉහත සඳහන් කරුණු පහට අදාලව පරම සත්‍යයන් ලොවට හෙලි කිරීම සිංහනාද පැවැත්වීමක් ලෙසින් බුදුපියාණන් වහන්සේම පෙන්වා දී ඇත. මෙකී කරුණු පදනම් කරගෙන ආගම හා ධර්මය ගැන සත්‍යයන් මතුකරමින් ස්වාභාවික හරයන් ලෝකයාට නිරාවරණය කිරීම බුද්ධ ශක්තියට ම අනුගත වීමකි. මෙසේ ප්‍රකාශ කරණු ලබන, දේ පරම සත්‍යයන් උවත් එකවරම ඒවා පිළිගැනීමට මුළු මහත් සමස්ථ සමාජයම කිසිසේත්ම සූදානම්ව නැත. විශේෂයෙන් ම ආගමේ ම නාමයෙන් ව්‍යාපාරයන් කරණ, ආගම ජීවන මාර්ගය කොටගත් , බලතල හා නායක කාරක තනතුරු දරමින් ප්‍රසිද්ධියට පත් වූ බලවත් වූ පිරිස නියත වශයෙන් ම මේ පරම සත්‍යය යටපත් කර දමා තමන් මෙතෙක් පිළිගත් අසත්‍යයම තහවුරු කරන්නට තවදුරටත් උත්සාහ දරණු ඇත. එය හැම සමාජමය ප්‍රශ්නයකටමත් පොදු ධර්මස්වභාවයකි.

ලෝකයාට නිරාවරණය කළ යුතු, විමුක්ති මාර්ගය වූ නිවන සඳහා උපකාරවන බොහෝ දේවල් මේ වනවිටත් සොයා මතුකර, ලියා පලකර, දේශණාවන් ලෙසින් යම් යම් නියම් ගම් වල දී දේශනා කර ප්‍රකාශයට පත්කර ඇත. මේ සියල්ල පිලිගැනිම හෝ පිලිනොගෙන බැහැර කිරීම හෝ ඔවුනොවුන් සතු කාර්යයක් මිස බලකිරීමක් මෙහි නැත. හේතුපල ධර්මය නම් වූ බුද්ධ ධර්මයට බහා ගලපා බලා නිවෙන්නට, මිදෙන්නට, නිදහස් වෙන්නට උපකාර වේ. නම්, එය පිලිගැනීමත්, රත්වේ නම්, මත්වේ නම්, අතරමං වේ නම් එය බැහැර කිරීමත් බුද්ධශ්‍රාවකයා සතු යුතුකමකි, වගකීමකි.

අන්ධ භක්තියෙන් කිසිම ආගමක් ඇදහීම සුදුසු දෙයක් නොවේ. ආගමක් ඇදහීම හෝ නොඇදහීම කළ යුතු වන්නේ යථාපරිදි කරුණු කාරණා තේරුම් ගැනීමෙන් මය. **උතුම් බුද්ධ ධර්මය කිසිම ආකාරයකින් ආගමක් නොවන්නේමය.** එය ප්‍රායෝගිකවම අනුගමනය කළයුතු වන්නේ පිළිවෙත නිවැරදිවම අසා දැන සොය දැක ගැනිමෙන්මය. මේ අනුව නියම නිවැරදි බෞද්ධයෙකු නම් බුදුපියාණන් පෙන්වා දුන් ධම්මානු ධම්ම පිළිවෙතම අනුගමනය කළ යුතුය. **ඔබ අනුගමනය කරන්නේ කුමන ආකාරයේ ප්‍රතිපදාවක් දැයි ඔබම සලකා බැලිය යුතුය. එය හරි මගද නැත්නම් වැරදි මගද**

**යන්න ඔබටම තේරුම් ගන්නට පුලුවන් වූ දිනක දී ඔබ නියම නිවැරදි බෞද්ධයෙකු වන්නේ ය.**

හෙලදිව බෞද්ධ ජනයා සම්බුද්ධ ජයන්තිය (වෙසක් පෝය) සමරණ ආකාරය පිළිබඳවත් අපට නැවතත් සිතා බල්නනට අවස්ථාව උදාවී ඇතැයි සිතමි. අද සම්බුද්ධ ජයන්තිය හෝ වෙසක්, පොසොන්, පොහොය දිනයන් හෝ සමරන්නේ සැනකෙළියක් පවත්වන විලාසයෙනි. එසේත් නැතිනම් උත්සවයක් සමරණ ස්වරූපයෙනි. නත්තල් උත්සවයක දී මෙන් කා බී නටා විනෝදවීම අද වෙසක් උත්සව දිනයටත් බෞද්ධ පිරිස හැසිරෙන වැරදි සහගත ආකාරයයි. අපි බෞද්ධයින් හැටියට සම්බුද්ධත්වයට පත් වූ උතුම් දිනය සැමරීම නිහතමානීව මෙන්ම පිළිවෙත සපුරා ගනිමිනුත් ලෝකයාට ආදර්ශයක් ලබාදෙන්නට තරම් සුදුසු ආකාරයටත් කළයුතු වන්නේ ය.

පෙර අපර දෙදිසාවෙන්ම වැද්දගත් සංකර ගති පුරුදු නිසා හෙලදිව බෞද්ධයාට දැන් දැන් බෞද්ධ කම අමතක වී ගොස් ඇති බව නම් ඉතාම පැහැදිලිය. වෙසක් හා පොසොන් යන දින දෙකම පසලොස්වක පොහොයදිනයන් බව පවා අදවන විට අපේ බෞද්ධයින්ට ම අමතක වී ගොස් ඇති බවද පෙනෙන්ට ඇත. හෙළබිම බෞද්ධයා අද සැණකෙළි පවත්වන්නේ සංදර්ශණයන් පවත්වන්නේ මෙම පොහොයදිනයන් වලදීය. බුදුපියාණන්වහන්සේට, උතුම් බුද්ධ ධර්මයට බුද්ධ ශ්‍රාවකයින් වහන්සේලාට ගෞරවයක්, භක්තියක්, ශ්‍රාද්ධාවක් ඇත් නම් එය ප්‍රදර්ශණය කළයුතු වන්නේ නිහතමානීව පිළිවෙතින් පෙළ ගැසී අනෙකුත් ජනතාවට ද කරදරයක් අපහසුවක් නොවන ආකාරයටය. නමුත් අද හෙළබිමේ බෞද්ධයින් යයි කියා ගන්නා බොහොමයක් ගිහි පැවිදි දෙපිරිසම බුදුන්වහන්සේ පෙන්වාදුන් මාර්ගයට ඉඳුරාම වෙනස් වූ, පටහැනි වූ ව්‍යාපාරයක ස්වරූපයෙන් බුද්ධත්වය සැමරීමට කටයුතු කිරීම බුදුන්වහන්සේට කරණ බලවත්ම නිගාවකි අගෞරවයකි.



<u>**ආගම් හා ආගම් ඇදහීම**</u>

අනිකුත් ආගම් අදහන මිනිසුන්ට ආගම හා ධර්මය යන දෙක අතර ඇති වෙනස්කම් දැක තේරුම් ගැනීම පහසු නොඋනත් , බෞද්ධයින්ට, බුද්ධාගම හා බුද්ධ ධර්මය යන දෙක අතර ඇති වෙනස් කම් තේරුම් ගැනීම පහසුය. '' ආගම'' යනු සමාජ සම්මතයෙන් මෙන්ම සම්ප්‍රදායයෙන් ද මිනිසුන්ගේ චර්යා රටාවන් තුලින් ම බිහිකර ගෙන සම්මත කරගන්නා යම් යම් සමාජමය වටිනාකම් සමූහයක් දිගින් දිගටම රැකගෙන පවත්වාගෙන යන්නට උපකාරවන සංස්ථාවක් ස්ථාපිත කර ගැනීමයි.

මුල දී ආගමෙන් පිළිගෙන, බිහිකරගත්, අදහන දේ පසුව කල්යත්ම සංස්කෘතික අංග ලක්ෂණයන් ලෙසින් ද හුවා දැක්විය. මිනිසාගේ ජීවිත පැවැත්ම සමාජ සම්මත වශයෙන් හා යහපත් ආකාර වශයෙන් , පිළිගත් තත්වයකට පත්කර ගන්නට උපකාරවන සිරිත්, විරිත්, චරියා රටා සමූහයක් ආගමක් බිහිවෙන්නට ද පදනම් වෙයි. ආගමක් රටෙන් රටට, ප්‍රදේශයෙන් ප්‍රදේශයට සමාජයෙන් සමාජයට මෙන්ම කාලයෙන් කාලයට ද වෙනස් වී නවීන වී විපරිනාමයට පත්වෙයි. යුගයෙන් යුගයට ආගමේ පිළිගැනීම් වෙනස් වෙයි. ආගමේ අධිකාරීත්වය දරණ නායක කාරකාදීන්ගේ මතවාද වලට අනුවත් ආගමක් වෙනස් වෙයි. සමාජ සම්මත දැනුම අනුවද, නවීන විද්‍යාවේ දියුණුව සමග ද ආගම් සංකල්පයන් වෙනස්වෙයි. සියළුම ආගම් භක්තියෙන් ඇදහිය යුතු ඒවාය. භක්තිය හා විශ්වාසය දැඩි වූ තරමට ආගමේ සමාජමය බලපෑමද දැඩි වෙයි. වැඳුම්, පිදුම්, යැදුම්, පැතුම් සියලුම ආගම් පවත්වාගෙන යන්නට නියත වශයෙන් ම උපකාරී වෙයි.

සියළුම ආගම් වල ආගම් කර්තෘ තුමාට, නැතිනම් ආගමේ, සාස්තෘන්වහන්සේට, අද්භූත, ආශ්චර්යවත් චරිතයක් ආරෝපනය කරගනිමින් සාමාන්‍ය මිනිසෙකුගේ තත්වයෙන් වෙනස් කර දේවත්වයට හෝ බ්‍රහ්මත්වයට සමාන විශේෂත්වයක් ලබාදෙයි. ආගම් නායකයාගේ විශේෂත්වය , ඥාණ, සම්භාරය, බලය, හුවා දක්වන්නට හැම ආගමකම විශේෂ ලියවිලි, ඉතිහාස කථා, ජාකත කථා, අනාගත වංශ දේශණා ආදිය

රචනා කර ආගමේ ඉතිහාසයක් ද මිනිසුන් විසින් ම ගොඩනගා ගෙන ඇත. මතු පරපුරට පිළිගත හැකි වන පරිදි විශ්වාස කළ හැකි පරිදි හැම ආගමකම ප්‍රබන්ධ වශයෙන් ගොඩනැගූ සාහිත්‍යයක් ද මේ අනුසාරයෙන් ම බිහිවෙයි.

ආගමක් බිහිවන්නේත්, ආගමක් අදහන්නේත් , ආගමක් සජීව්ව සමාජගත වී පවතින්නේත් , මිනිසුන් එය පිලිගන්නා තෙක් පමණි. හැම ආගමකම භක්තියෙන් හා විශ්වාසයෙන් පිළිගත යුතු සංකල්ප කොටසක් ද අනිවාර්යයෙන් ම පවති. මිනිසුන් අදහන සියලුම ආගම් සංකල්ප මිනිසුන් විසින් ම, මිනිසුන් සඳහා ම මිනිසා විසින් ම නිර්මාණය කරගත් දේවල් ය. මනුස්ස වර්ගයා බිහිවූ දා පටන් ම යම් යම් ආගමික මතවාද, ආගමික සංකල්ප, ආගමික විශ්වාසයන් මිනිස් ජීවිත සමගින් ම බද්ධ වී පැවතුනි. මේ අනුව බලන කල ආගමේ ඉතිහාසය මානව සංස්කෘතියේ ඉතිහාසයයි. සමාජයක දේශපාලන බලය නිතරම ආගමක් හා සමගම කරින් කරට යන්නකි. අතීතයේ බලවත් දේශපාලකයින් ආගම් වෙනස් කළ අතර, බොහොමයක් අවස්ථාවල ආගමික බලවේගයන් ද පාලකයාවත් වෙනස් කරන්නට ද සමත් වීය. මේ අනුව දේශපාලනය හා ආගම් එකම අරමුණකින් ක්‍රියාත්මකවෙයි.ඒ අරමුන පොදුමහජනයා හීලෑ කරගෙන තම පැවැත්ම දිගින් දිගට ම සහතික කර ගැනිමයි.

මේ ජීවිත පැවැත්ම තුල මිනිසෙකු ලෙසින් තමන්ගේ ඥාණයට තේරුම් ගන්නට බැරි, විසඳගන්නට නොහැකි විවිධාකාර වූ ප්‍රශ්ණයන්ට මිනිසුන්ට මුහුණ දෙන්නට සිදුවෙයි. මෙවන් විවිධාකාර වූ ප්‍රශ්නයන්ට තාවකාලිකව හෝ විසඳුමක් ලබාගෙන තාවකාලිකව හෝ සහනයක් ලබාදෙන්නට යම් කිසි ක්‍රමවේදයක් හැම ආගමක් විසින් ම ඉදිරිපත් කරණ ලදී. අවසානයේ ප්‍රශ්ණය සර්වබලධාරී දෙවියන්ට පවරා දෙවියන්ට යාඥා කිරීමේ ක්‍රමය මගින් දෙවියන්ගෙන් සහනයක් ලබාදෙන්නට පූජකයින් ක්‍රියා කළහ. අතීතයේ දී මේ අනුව දේව වාදි ආගම් වලින් ද මිනිසුන්ට යම් ආකාරයක ලෞකික සහනයක් තාවකාලිකව ලබාදෙන ක්‍රමයක් පැවති නිසා දේව ආගම් ද මිනිසුන් ඇදහූහ, පිළිගත්හ. භක්තියෙන් ඇදහිය යුතු සර්ව බලධාරී දෙවියෙක්, යන ස්ථානයට, දෙවියන් වෙනුවට පසුකාලීනව ආගමික



නායකයෙක්, සාස්තෘන් වහන්සේ කෙනෙක්, මුනිවරයෙක් යනාදී විවිධ චරිතයන් ආරෝපනය කරගනිමින් ද ආගම් බිහි විය. බුද්ධාගම බිහිවුයේ ද මේ ආකාරයටමය.

ආගම, සංස්කෘතිය, චාරිත්‍ර,වාරිත්‍ර සම්මතයෙන් පනවා ගත් වෙනත් බොහෝ වටිනාකම් සමාජයක චිරස්ථිතිය සඳහා , සංහිඳියාව සඳහා, සාමය සඳහා බෙහෙවින් ම උපකාර වන දේවල්ය. අසංවර , නොහික්මුනු, මිනිසුන්ව ස්වයං පාලනයකට යොමු කිරීම සඳහා, යම් තරමකට හෝ හීලෑ කිරීම සඳහා, ආගමක් රටකට බෙහෙවින් ම උපකාර වෙයි. මෙහි දී ආගමක් මිනිසාගේ යම් යම් මානසික අවශ්‍යතාවයන් ද සපුරාලනන්ට තරම් බලවත් වීම නිසා සියලුම සමාජයන් හි ආගමක් අනිවාර්යයෙන් ම පවත්වාගත යුතු තත්වයට පත්විය. මේ අනුව බුදුවරුන් දහසක් බුද්ධත්වයට පත් උනත් හැම මිනිස් සමාජයකම සම්මතයෙන් පිළිගත් විවිධ ආගම් සංකල්පයන් හා ආගමික ඇදහිලි, මතුවටත් පැවතීම හා පවත්වාගෙන යාම කාටවත්ම සහ මුලින් ම ඉවත් කර දැමිය නොහැකිය. රටක පාලකයින් පාලනය කරණතුරු පාලකයින්ගේ උදව්විට උපකාරයට අනිවාර්යයෙන් ම ආගම් ද පැවතිය යුතුමය. මේ අනුවම සංස්කෘතියක් ද , සාහිත්‍යයක් ද, ඉතිහාසයක් ද බිහිවෙයි. ලියැවෙයි.

නවීන විද්‍යාව අද කොයි තරම් දියුණු තත්වයකට පත් වී තිබුනත් අජීවි, අවිඤ්ඤාණක බොහෝ දේවල්වල හැසිරීම් රටාව තවමත් මිනිසුන්ට තේරුම් ගන්නට බැරි ආකාරයට විපර්යාසයන්ට භාජනය වන නිසා මිනිසුන් තවමත් දෙවියන් යදිති. දෙවියන්ගෙන් බොහෝ දේවල් ඉල්ලා ලබාගන්නට පුද පූජාවන් පවත්වති. කොතරම් දියුණු තත්වයක් රටක පැවතුනත් සම්ප්‍රදායික දේව ආගම් සංකල්පයන් ද මුල් බැස ගෙන පවතින නිසා ඉන්දියාව ලංකාව මෙන් ම අනිකුත් බොහේ පෙරදිග රටවල් වල ද දෙවියන්ට බාර වීම, පුද පූජා පැවැත්වීම, යාඥා කිරීම, අදටත් පෘතග්ජන ලෝකයාගේ සිත්වල තදින්ම කා වැදී පවතින්නකි. විශාල ගස්වලට, ගල් පර්වත වලට, වැඳුම්, පිඳුම්, කිරීම අදටත් මිනිසුන් කරන්නේ ස්වභාවධර්මයට ඇති භය හා ත්‍රාසය නිසාය.

ගෞතම බුදුපියාණන් වහන්සේ ද බුදුවන්නට පෙර, බෝධිසත්ව අවධියේ දී වසර හයක් ම අරිය පර්යේෂණයක් කළ අවධියේ දී වැඩිමකාලයක් ස්වභාවික පරිසරය සමග, ගස්,ගල්, පර්වත හා කඳු මුදුන් වල සැරිසරමින් කාලය ගත කළහ. බුදුපියාණන් වහන්සේ සම්බන්ධ වන වැදගත් සිදුවීම් සියල්ලමත් ස්වාභාවික වෘක්ෂයන්ට ද සම්බන්ධ වන බව පැහැදිලිය. සිද්ධාර්ථ බෝසත් තුමාගේ උපත සල්ගසකට හා සල්වනයකට සම්බන්ධ වෙයි. බෝසත් තුමන් ලෙසින් අවසාන දානය සුජාතා සිටු දියණියගෙන් ලබාගත්තේ අජපල් නුගරුක මුල දීය. සව්කෙලෙස් නසා බුද්ධත්වයට පත්වුයේ ඇහැටු බෝධියට පිටදී භාවනා කිරීමෙන් ය. ජේතවනාරාමයේ වසර විසිපහක් පමණ දිගු කාලයක් ම ගත කලේ නා උයනකය. වන අරණකය.

ඒ යුගය වනවිට භාවනානු යෝගීන් . අභිඥාලාභීන් , මෙන්ම බමුනන්, තීර්තකයන්, නිගන්ඨයන්, වැනි බොහෝ දෙනෙක් ම තම වාසය සඳහා සහ භාවනා කිරීමට තෝරාගත්තේ මහජනයාගෙන් වෙන් වූ මෙවන් ස්වභාවික ස්ථානයන් ය. බුදුපියානන් ද අරියපර්යේෂණයක් කල වසර හයක් තුල වැඩිම කාලයක් මෙවන් වනගත ප්‍රදේශවල තම කාලය ගත කළහ. අද මෙන් ම එදාත් සමාජ සම්මතයෙන් ම භාවනානු යෝගී පිළිවෙත් පූරණ අය ස්වභාවධර්මයෙන් ම දායාද කොටගත් වනඋයන් ආශ්‍රයෙන් ම මගපල ලබන්නට උත්සාහ කළහ. මේ අනුව එදා පිළිගත් සමාජ සම්මත පිළිවෙත බුදුපියාණන් වහන්සේ ද තම අරමුණ ඉටුකරගන්නට සුදුසුවන ආකාරයෙන් භාවිතා කළහ.

බිය , ත්‍රාසය හා මායාව මිනිස් සිතක උපදින්නට මුල් වන හේතූන් පිළිබඳව හරිහැටි තේරුම් ගන්නට බැරිවීම නිසා සමාජ සම්මත පෘතග්ජන මිනිසුන් දෙවියන්, භූතයින් ජේතයින් හා යක්‍ෂයින් වැනි නොපෙනෙනබලවේග පිළිබඳවත් යම් තරමකට හෝ විශ්වාස කරන්නටත් පෙළඹුනි.

ස්වභාව ධර්මය තුලම සිදුවන, අස්වාභාවික සිදුවීම් වන ජලගැලීම්, සුනාමි, මුහුදුගොඩගැලීම, සැඩසුලං, අධික සීතල නියඟය වැනි දේ



මිනිසුන්ට හේතු සහිතව තේරුම් ගන්නට අපහසු වු නිසා ඒවා බාහිර බලවේගයකින් , දේවකෝපයකින් සිදුවන දේවල් බවට අනුමාන කර දෙවියන්ට වන්දනා කර පුද පූජා පවත්වා පෙරහැරවල්, තොවිල් පවිල් කරමින් ඒවායින් බේරෙන්නට මිනිසුන් ම ක්‍රියා කළහ. මේ අනුව ඉර හඳ, වැස්ස, ජලය වැනි දේ පවා දේවත්වයෙන් වන්දනා කළහ. අපේ පිරිත් පොතේ එන සූර්ය පිරිත, ගිනි පිරිත, චන්ද්‍ර පිරිත, ජලනන්දන පිරිත, ආදී පිරිත් පවා සජ්ජායනා කරමින් බුද්ධාගමටත් පසු කාලයක දී මේවා ඇඳා ගත්හ. මිනිසෙකු සතු අධ්‍යාත්මික ශක්තිය, සත්‍යක්‍රියා බලය, මෛත්‍රී කරුණා මුදිතා උපෙක්ඛා යන බලයන් තේරුම් ගන්නට බැරි වු යුගයක මෙවන් බාහිර බලවේගයන්ට ගැතිව මිනිසුන් ම ක්‍රියා කරන්නට පටන් ගත්හ.

මේ අනුව මිනිසුන් ආගම් අදහන්නට මුල් වූ ප්‍රධාන කරුණු කිහිපයක් මෙසේ ගොනු කර ඉදිරිපත් කළ හැකිය.

1. පුද්ගලයින්ගේ විශ්වාසයන් හා පාරම්පරික ඇදහීම් මෙන්ම ඒවා පවත්වාගෙන යාමට ඇති කැමැත්ත හා කැපවීම නිසා බෙහෝ ආගම් සමාජ ගත වී සම්මත වශයෙන් ම අදහන්නට පටන් ගත්හ.

2. අනුගාමිකයෙකු ආගමක් අදහන්නේ තෘප්තිමත් නොවූ මානසික ආතතිය හා හුදකලා බවෙන් තාවකාලිකව ඉවත් වීමට හා භෞතික සැප සම්පත් උපාදානය කරගැනීමෙන් ලෞකිකව ලබාගත හැකි සහනයක් නැති බව තේරුම් ගැනීම නිසා එවන් අය යෝගීන් වී ආගම් අදහයි. ධුතාංග රකියි.වතරකියි.

3. මිනිසා විසින් තමන් සඳහාම ආගම් නිර්මාණය කරගන්නා නමුත් කිසිවිටෙකත් ආගම් විසින් මිනිසා නිර්මාණය නොකරයි යන කාල්මාක්ස්ගේ මතයද මෙහි දී වැදගත්ය.

4. ආගමක පැවැත්ම රැදී ඇත්තේ මිනිසාගේ නොතිත් ආශාවලට හා හීලෑ නොවූ ගති පැවතුම් වලට යම් සාධාරණ සමාජ සම්මත සීමාවක්, මායිමක් පැනවීමට ආගම උපකාර වන තෙක් පමණි.

5. නොපෙනෙන දෙවියන් වෙනුවට , කර්මවාදය, හේතුපල ධර්මය ස්වභාවික නියාම ධර්මයන් හෝ වෙනත් භෞතික හා ලෞකික මත වාදයන් ඉදිරිපත් කරණ ලද ශාස්තෘන් වහන්සේලාගේ දේශණා පදනම්කොට ගෙනද ආගම් අලුතින් බිහිවිය.

**<u>බුද්ධ ධර්මය (බුදු දහම) ආගමක් නොවන්නේ ඇයි?</u>**

සමාජ සම්මත ජීවිත පැවැත්ම දිගින් දිගටම යහපත් සේ පවත්වාගෙන යාම ආගමේ පරමාර්ථය වුවත් බුදු දහමේ එකම පරමාර්ථය වුයේ මතු ජීවිත පැවැත්ම (දුක) අනුත්පාද වශයෙන් ම අවසන් කිරීමටයි. ("සංවත්තතී") යනුවෙන් ධමමචක්කප්පවත්තන සූත්‍රයේ මෙය පැහැදිලි කර ඇත.

"තථාගතේන අභිසම්බුද්ධා චක්ඛුකරණී, ඤාණකරණී, උපසමාය, අභිඤ්ඤාය, සංබෝධාය, නිබ්බානාය, **සංවත්තති**"

සංසාරයි කියා මෙතුවක් කලක් කැමැත්තෙන්ම සාරයි, වටිනවා ප්‍රියමනාපයි කියා දිගින් දිගට ම පවත්වාගෙන ආ "සංවත"යනු පැවැත්මයි. සංවත නමැති පැවැත්ම. අවසන් කර "සංවත්තතී" කිරීම අපවැත්මයි. දුක් පැවැත්ම පවත්වාගෙන යාම අවසන් කිරීමයි. "සංවත" යනු රාගයෙන් ප්‍රිය දේට ඇලීම නිසා සම්බන්ධයක් (සංවතක්) ඇතිකර ගැනීමත්, අප්‍රිය අමිහිරි අමනාප දේට ගැටීම නිසා දෙවෙනි වේෂයකින් සම්බන්ධතාවයක් (සංවත) ඇතිකර ගැනීමත්, ඇලීම හා ගැටීම අතර මැනීම නිසා ඇතිවන සම්බන්ධතාවයක් (සංවත) ඇතිකරගැනීමත් යන ත්‍රිවිධාකාරයෙන් සංසාර ගමනට සම්බන්ධ වීමයි. උතුම් බුද්ධ ධර්මයෙන් පෙන්වා දුන්නේ මේ කුමන ආකාරයකින් හෝ (රාගයෙන් ද්වේෂයෙන් මෝහයෙන්) සංසාර සම්බන්ධතාවයක් ඇති කරගත්තත් එය දුකටම මුල්වන නිසා පැවැත්ම දිගටම පවත්වාගෙන යන්නට (සමුදය) හේතුවන නිසා එය දුකට ද මුල් වු හේතුව වන බවයි. මේ අනුව සංසාර බන්ධන සහමුලින් ම කපා දැමීම (සමුච්ඡේද) නිවන බවයි. (සංවත්තතී)



බුද්ධ ධර්මය නම් වූ පටිච්ච සමුප්පාද ධර්මය ලෝකයාට දේශනා කලේ ලෝකයක් හදන්නට නොවේ. සැප සම්පතින් පිරි, දෙව් මිනිස් සැප ලබමින්, බෝධිසත්ව පෙරුම් පුරමින් අනන්ත කාලයක් ආමිස සැප භඹායමින් පෘතග්ජන මිනිසුන්ව ලෝකයේ අතරමං කර වන්නට ද නොවේ. මිනිස් ආත්ම භව ලබාගත් මේ අවස්ථාවේ ම, ප්‍රමාද නොවීම, වර්තමාන මොහොතේ ම , මේ කෙලෙස් ගතිතුන එනම් සංසාරයට බැඳෙන බැමි තුන - කපා දමා සංසාර බැම්වලින් නිදහස් වීමට අනුගමනය කල යුතු නියම නිවැරදි මාර්ගය පෙන්වා දීමටයි, මේ උතුම් බුද්ධ ධර්මය දේශණා කර වදාලේ.

අපි අද අදහන බුද්ධාගමේ උතුම් බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාල උතුම් පරමාර්ථයන් සාක්ෂාත් කරගන්නට අවශ්‍ය නිවැරදි මාර්ග ප්‍රතිපදාව විවෘත කර පිරිසිදුව පෙන්වා දෙන්නේ නැත. ආගමක් යනු දිගින් දිගට ම අදහමින් පවත්වාගත යුතු දෙයකි. ආගමේ පැවැත්මට ඊට අනුරූප වන්නා වූ ඉගැන්වීම් හා ප්‍රතිපත්ති එනම් වැඳුම්, පිඳුම්, ප්‍රාර්ථනා යැදුම් යාඥා ආදිය අත්‍යාවශ්‍යම අංගෝපාන්ගයන් ය. නිවනට මේ සියල්ලම බාධකයක් ලෙසින් ම ක්‍රියාත්මක වී නිවන ප්‍රමාද කරවයි. පාරමිතා පුරමින් , දෙව්මිනිස් සැප සම්පත් කෙළවර නිවන් දකින්නට ප්‍රාර්ථනා කරන්නේ බුද්ධාගමේ ය. බුද්ධ ධර්මයේ පෙන්වාදුන් ප්‍රතිපත්තිය ඊට හාත්පසින් ම වෙනස්ය. "අප්පමාදේන සංපාදේතබ්බං" යනු වෙන් ධර්මයේ පෙන්වාදුන්නේ මේ වර්තමාන මොහොතේ ම කිසිම ප්‍රමාදයකින් තොරවම "සං පහදා ඉවත් කර" සංසාර බන්ධන කපා දමන්නට ක්‍රියා කළ යුතුය යන්න බුද්ධ ධර්මයේ පෙන්වා වදාල මාර්ගයයි.

ආගම පිළිබඳව විද්වතුන් ඉදිරිපත් කර ඇති නිර්වචනයන්ට අනුව ආගමක් යනු අධිභෞතික බලවේගයන් පිලිබඳව ඇති කරගත් විශ්වාසයන් මත පදනම් වූ , පුද පූජා, යාඥා, ප්‍රාර්ථනා හා බැඳුනු යම්කිසි ක්‍රියාදාමයක් ඇදහීමයි. මිනිසා තුල කාලාන්තරයක් පුරාම මුල්බැසගෙන තිබූ මෙවැනි ආගමික විශ්වාසයන්ට, ඇදහිලි වලට, ප්‍රතිපක්ෂ වූ ධර්මයක් එදා බුදුන් වහන්සේ ලෝකයාට දේශණා කලසේක. උන්වහන්සේගේ අවවාදය හා

උපදේශය වුයේ තමාගේ පිහිට තමාම වන බවයි. “අත්ත දීපා විහරථ, අත්ත සරණා, ධම්ම දීපා විහරථ ධම්ම සරණා අනඤ්ඤ සරණා”

මේ ජක්කවත්තී සිහනාද සූත්‍රයේ බුදුපියාණන් පෙන්වා වදාල බුද්ධ ධර්මයයි. ආගම් වල පෙන්වන බාහිර බලවේග හෝ අධිභෞතික බලවේගයන් ගැන හෝ ඇදහිලි විශ්වාසයන් පිළිබඳව හෝ මුල් බුදුදහමෙහි අගය කිරිමක් කළ බවක් නොපෙනේ. මිනිසාසතු මානසික ශක්තිය - යෝනිසෝමනසි කාරයෙන් - ක්‍රියාකර කෙලෙස් මුල් සිතින් උදුරා දැමීම පමණක් කෙරෙහි බුද්ධ ධර්මයේ විශ්වාස කළහ. මේ අනුව සියළුම ආගම් සංකල්ප වලට, නවීන විද්‍යාවට හා වෙනත් දර්ශණවාදයන්ට වඩා බුද්ධ ධර්මය ස්වභාවධර්මයට මුල්තැන දී මිනිසෙකු සතු මනසේ ශක්තියම උපදවා පහදා ගෙන තම සිතෙහිම උපදින කෙලෙස් මුල් උදුරා දැම්මේ යථා වාදී තථා කාරී පිළිවෙතක් පටිච්චසමුප්පාද ධර්මය ලෙසින් ලෝකයාට ඉදිරිපත් කරණ ලදී. මෙම පටිච්චසමුප්පාද ධර්මයේ තිපරිවට්ටයම යථා පරිදි තේරුම් නොගත් කෙනෙකුට රාග, ද්වේෂ,මෝහ මුල් ගලවා දමා, සහ මුලින් ම ඒවා ඉවත් කර දමා නිදහස් වීම, විමුක්තියට පත්වීම, කළ නොහැකිය. සම්මත බුද්ධාගමේ අද භාවිතයේ පවතින්නේ අවිද්‍යාමූල පටිච්ච සමුප්පාද විග්‍රහයේ එන පදවැල් පමණි. එයද පදවැල් වලට පමණක් සීමා වූ පදපරම භාවිතයක් මිස යථා භූත ඥාණ දර්ශණයක් ඒ පදවැල් වල නැත. එහි අර්ථ ධර්ම යටපත්ව ඇත.

බුද්ධ ධර්මයෙන් ඉගැන් වූ විමුක්ති මාර්ගය උපකාර වන්නේ ලෝකය හා මිනිසා අතර බිහිවන සම්බන්ධතාවය - නය ගණුදෙනුව - සදහටම නතර කිරීමෙන් පමණක් දුක නිමා කිරීමේ මාර්ගය කියා දීමටයි. අද පවතින අපේ ථෙරවාදී බුද්ධාගමෙහිත් , මහායාන බුද්ධාගමෙහිත්, උගන්වන්නේ සදහට ම දුක නිමා කර විමුක්තියක් ලබාගනු වෙනුවට , තාවකාලිකව මතු මතුත් දෙව් මිනිස් සැප ප්‍රාර්ථනා කරමින් මතු ආත්මයක දී නිවන් දකින්නට පිංකම් කිරීමේ පැලැස්තර ක්‍රියා මාර්ගයක් මිනිසුන්ට කියා දීමයි. නිවන ප්‍රාර්ථනාවකට පමණක් සීමා කර මේ මිනිස් ආත්ම භවයේ දී නිවන් මගෙහි එක පඩියක් පමණක් නැගීමට උපකාර වන ආකාරයේ ධර්මයක්, ලෞකික අර්ථයෙන් බුද්ධාගමේත් දේශණා කරති. ලෞකික අර්ථයන් ඉදිරිපත්



කරමින් අද කරණු ලබනදේශණාවන්ට ද එදා බුදුපියාණන් වහන්සේ දේශණා කරණු ලැබූ මාගධි පදවැල් ම භාවිතා කරණ නමුත් ඒවාට ඉදිරිපත් කලේ සම්මත ලෞකික පදපරම අර්ථයකි. මේ අනුව අද බුද්ධාගමේ භාවිතා කරණ පදවැල් , පදපරම අර්ථයකින් හා ලෝකය හදන ලෞකික අර්ථයකින් අර්ථ ගැන්වීම කරණ බව හැමතැන ක දීම පැහැදිලිවම දැකගත හැකි දෙයකි. මේ අනුවම වර්තමාන බෞද්ධ භික්‍ෂුවකගේ කාර්ය භාරය ද ලෞකිකත්වයට ගැලපෙන පරිද්දෙන් වෙනස් කර ගෙන ඇත.ඒ බුද්ධාගමයි.

“පටිච්චසමුප්පන්නං සුඛං දුක්ඛං” යන බුද්ධ භාෂිතය අද බුද්ධාගම උගන්වන පැවිදි මහාචාර්ය වරුන් පවා වැරදියට අර්ථ ගන්වති. දුක හා සැප දෙකම තමා විසින් කළ දෙයක්හෝ අනුනන් විසින් කළ දෙයක් හෝ නොව පටිච්ච සමුප්පන්නව හටගන්නා දෙයකැයි ඔවුන් සඳහන් කිරීම වැරදිය. මෙය කිසිසේත්ම හේතුපල ධර්මයට නොගැලපෙයි. පටිච්ච සං උප්පන්න යන පද හතරෙහි අර්ථය තේරුම් නොගෙන මෙසේ ප්‍රකාශ කරති. ඉච්චයන පදය මාගධී භාෂාවේ හැම තැනක දීම භාවිතා කර ඇත්තේ තම සිතෙහි උපතලබන කැමැත්ත යන අර්ථයෙනි. සිතක උපත ලැබූ කැමැත්ත නිසා කෙනෙකුගේ සිත මත්වෙයි. මේ මත්වීමේ ස්වභාවය බන්ධනයකට , බැම්මකට (තැනකට හේත්තුවෙන්නටත්) හේතුව වෙයි. මේ අනුව සෑම පෘත්ග්ජන පුද්ගලයෙකුම ඇසින් දුටු ප්‍රිය රූපයකට මත්වීමෙන් ඒරූපය උපාදානය කරගන්නට ක්‍රියා කරයි. මේ හේතුපල ධර්මයයි. පටි ඉච්ච සං උප්පන්න (පටිච්චසමුප්පන්න) යනු හේතුපල ධර්මයයි. පටි ඉච්ච =හේතුවයි. සිතේ ඇති වු කැමැත්තට මත්වීම පටිච්ච විමයි. පලය =සං උප්පන්න වීමයි. සම්බන්ධතාවයක් උපත ලැබීමයි. මේ අනුව සම්බන්ධතාවයක් උපත ලැබීමත් සමගම සංසාර ගණුදෙනුවකට ද පටලැවෙයි. මෙවන්සියළු ආකාර වූ දුක් සැප උරුම කර දෙන්නා වූ සියලුම සම්බන්ධතාවයන්ට , සම්බන්ධ වෙන්නේ ඒ ඒ පුද්ගලයාගේ ම සිතේ ඇති වු කැමැත්තෙන් මය. ඒ කැමැත්ත ඒ ඒ පුද්ගලයාගේ ම සිතේ උපත ලබන ප්‍රිය අප්‍රියතාවය මත තීරණය වන්නකි. මේ අනුව පටිච්ච සමුප්පාද ධර්මය යනු තමන් විසින් ම කරණ, (පලය ගැන දැන හෝ නොදැන හෝ) යම් ආස්වාදයක් විඳගැනීමේ චේතනාව සහිතව ම කරණ කියන හිතන දේවල්

හේතුව ලෙසත්, එහි පලය ලෙසින් සංසාරයට බැඳීම =සංඋප්පන්න =ලෙසත් පෙන්වා දුන් දහමකි. හේතුව සතුටින් ම කරයි. පලය දුකක් බව නොදනියි.

නිවන් දකින්නට කටයුතු කරණ සියළුම බෞද්ධයින් තරයේ ම අවබෝධ කරගත යුතු වැදගත් ම කරුණක් වෙයි. එය නම් උතුම් බුද්ධ ධර්මය,යනු ආගමක් නොවන බවයි. ජෛන ආගම වැනි ආගම්වලින් ද, භාරතදේසයේ උපත ලැබූ මහායාන බුද්ධාගමෙන් ද බොහෝ ජනප්‍රිය ආගමික ලක්‍ෂනයන් අපි අද අදහන බුද්ධාගමටත් ඓතිහාසික වශයෙන් එකතු කර ගැනීමේ ප්‍රතිඵලයක් හැටියට හෙළබිමේ බෞද්ධයින් ද අද තවත් එක ආගමක් අදහන්නන් බවට ම පත් වී ඇත. අද හෙළබිමේ ථෙරවාදී බෞද්ධයෝ ද භක්තියෙන් ආගමක් අදහන්නන් බවට පත්ව ඇති. බව අවධාරණයෙන් ම පෙන්වා දිය යුතු දෙයකි.

මිනිසාට දෙවිවරු අත්‍යාවශ්‍යමය. මෙයට හේතුව හැම දුර්වල මිනිහෙක් ම තමන්ගේ පිටුපසින් සිට තමන්ට උදව් උපකාර කරණ තමන්ගේ ඉෂ්ඨ දේවතාවෙක් (ඉටු දෙවියෙක්) ගැන බලවත් විශ්වාසයක් සිහියේ තබාගෙන කටයුතු කරයි. මේ ඉටු දෙවියා යනු තමන්ගේ ම පිරිසිදු අධ්‍යාත්මික ශක්තිය ම බව නොදැනීම , තේරුම් නොගැනීම, අඥාණකමකි. ඉටු දෙවියාගෙන් මෙසේ පිහිට පතන්නට පුරුදු වු බොහොමයක් පෘතග්ජන බෞද්ධයෝ ද වෙනත්බාහිර බලවේග වලින් ද පිහිට , පිළිසරණ, උදව් උපකාර යදියි ,පතයි. මේ අනුවම අද බෞද්ධයින් කතරගම දෙවියන්ගේ, විෂ්ණු දෙවියන්ගේ, සතරවරම් දෙවියන්ගේ, සමන් දෙවියන්ගේ මෙන්ම තවත් බොහෝ සම්මතයෙන් අදහන දෙවියන්ගේ ද පිළිසරණ , පිහිට,උදව්, යදින්නට පුරුදු වී ඇත. මේ පුරුද්ද වැරදි ආකාරයෙන් භාවිතා කරන්නට පුරුදු වු බොහෝ භක්තිමත් පෘතග්ජන බෞද්ධයෝ බුදුපියාණන්ගේ ධර්මයේ හා මහාසංඝරත්නයේ ද පිළිසරණ පිහිට යදිති. පතති. මේ තිසරණ සරණ යාම යනු තමාගේ ම අධ්‍යාත්මික ශක්තියෙන් තමා තුළම පිහිටුවා ගත යුතු ශක්තියක් - සත්‍යක්‍රියා බලයක් මිස බාහිරෙන් ලබාගත යුතු දෙයක් නොවේ. ලබාගත හැකි දෙයක් ද නොවි. “අත්ථාහි අත්ත නො නාථෝ, කොහි නාථෝ පරෝසිය” යනුවෙන් බුදුපියාණන් පෙන්වා වදාලේ ” තම හිසට තම අතම සෙවන” දෙනු විනා බාහිර දෙයකින් සෙවනලබාගත



නොහෙන බවයි. මෙහි තේරුම තම සිතේ උපදින කෙලෙස් ගති සිතින් ඉවත් කර උදුරා දමන්නට තමන්ම සීල, සමාධි, පඥ්ඥා, වඩනු මිස වෙනත් බාහිර පිහිටකින් පිළිසරණකින් මේ කෙලෙස් සදහට ම උදුරා දමා තම සිතින් ඉවත් කළ නොහැකි බව මින් පවසයි.

මේ අනුව අද භක්තියෙන් බුද්ධාගම අදහන්නෝ නිවන් දැකගන්නට උත්සාහ ගන්නේ ද අනුන්ගේ පිහිටෙන් අනුන්ගේ පිළිසරණින්ය. අරහතුන් වහන්සේකෙනෙක්හමු වු පලියට හෝ දැකගත් පලියට හෝ නිවන් දැකගත නොහැකිය. නිවන්දැකගත හැක්කේ ධර්මය තමා තුලින් ම තමන්ම දැක ගැනීමෙනි.“ධම්මෝ සංදිට්ඨිකෝ සම්මදක්කාතා සම්මා දිට්ඨි” යනුවෙන් බුද්ධ දේශනාවේ ප්‍රකාශ කල පරිදි සංසාර සම්බන්ධතාවයෙන් මිදී නිදහස් වීමට නම් හේතුපල ධර්මයම තමා තුලින් ම දැකගතයුතුය. අරහතුන් වහන්සේට කළ හැකි වන්නේ ධම්මානු ධම්ම පටිපදාව පෙන්වා දී කල්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබාදීමයි. පෙන්වාදුන් මග නිවැරදිව අසා දැන, ඒ මග තේරුම් ගෙන, ඒ මග යාම හෝ නොයාම තම තමන්ගේ කාර්යයකි.

උතුම් බුද්ධ ධර්මයේ පෙන්වා වදාල ඉගැන්වීම් උපකාර වන්නේ පුද්ගලයෙකුගේ සිතේ උපත ලබන මානය සහමුලින් ම නැතිකර ගෙන මෝහය නැති කරගැනීම සඳහා ය. මානය හා මෝහය සිතතුල ක්‍රියාත්මක වන පුද්ගලයින් විසින් අනෙකාව පරාජය කරන්නට, තර්කයෙන් වාදයෙන් වචනවලින් අනෙකාගේ මතය යටපත් කරන්නට ක්‍රියා කරති. අද බුද්ධාගමේ නාමයෙන් ම නොයෙකුත් දේශපාලන සංවිධානයන් සකස් කරගෙන බුද්ධාගම  රැකගන්නා මුවාවෙන්, සමාජ සංස්ථාවම අස්ථාවර කරණ, අහිසංක පුද්ගලයින්ව ද ගැටුමට, පොළඹවාගන්නා, ගැටුම අනුමත කරණ දේශණාවන්ද දේශණා කරණ, පෘතග්ජන පුද්ගලයින් බහුල වශයෙන් ම බුද්ධා ගමේ ද අදවනවිට දකින්නට ඇත. ඔවුන් මේ අනුමත කරන්නේ පිළිපදින්නේ හෝ දේශණා කරන්නේ හෝ බුදු දහම නම් නොවේ. බුදු දහමේ නාමයෙන් අතීතයේ කිසිම කෙනෙක්, කිසි රජකෙනෙක් මොන රටකවත් යුද්ධ කර රටවල් අල්ලාගෙන මිනිසුන්ව මරාදමා නැත. බුදුපියාණන් ජීවමානවම වැඩසිටි යුගයේ මේ ජන්බුද්වීපයේ ආගම් හැටගණනක් ඇදහූ මිනිසුන් සිටියහ. නමුත් ඒ කිසිදු ආගම් කාරයෙකුට බලහත්කාරයෙන් බුද්ධ

ධර්මය කියා දෙන්නට බුදුපියාණන් උත්සාහගත්තේ නැත. සංවිධාන පිහිටුවා ගෙන, සටන් පාඨ සකස් කර ගෙන , අනික් ආගම් කාරයන්ගේ ආගමික ස්ථානයන් කඩා බිඳ දැමීමේ ක්‍රියාවලියක යෙදුනේද නැත. මේ සම්මත බුද්ධාගම අදහන්නෝ අද විරුද්ධ වන්නේ අනෙකුත් ආගම් අදහන්නන්ට පමණක් නොව එදා බුදුපියාණන් වහන්සේ දේශණා කරන ලද පිරිසිදු බුද්ධ ධර්මය කියාදෙන දේශණා කරන අපේ ම රටේ සිංහල වැසියන්ට ද ගිහි - පැවිදි දෙපිරිසටම ද මෙම සම්මත බුද්ධාගම් කාරයෝ විරුද්ධව ක්‍රියා කරති. මේ අනුව මේ බුද්ධාගම් කාරයින් ළඟ ඇත්තේ ''බුද්ධ ධර්මය'' යැයි කාටනම් ප්‍රකාශ කළ හැකිද? මේවා තම තනතුරු හා මතවාදයන් රැකගන්නට කරණු ලබන දේශපාලන ව්‍යාපාරයන් මිස උතුම් බුදු දහම සඳහා කරණ දේවල් නොවේ. අද හෙලබිම බහුතරයක් බෞද්ධ ජනතාව දැන් දැන් මේ බව තේරුම් ගනිමින් සිටිති.

කරුණු කාරණා සහිතව බුද්ධිමය සංවාදයන් මගින් අනෙක් මිනිසුන්ට ද හරි වැරැද්ද පෙන්වාදීම හේතුපල ධර්මය ඉදිරිපත් කිරීම, බුදුපියාණන් වහන්සේ ද කළ දෙයකි. මේ මගින් කිසිදු පාර්ශවයකට හිංසනයක් හෝ අනර්ථයක් හෝ සිදු කරන්නට කිසිසේත්ම චේතනාවක් නොවීය. බුදුපියාණන් සච්චක වැනියවුන් සමග තර්ක විතර්ක කලේ ඒ වැරදි පාරේ ගමන් කල පෘතග්ජන විශාල පිරිසක්ව මිත්‍යාදෘෂ්ඨියෙන් මුදවාගන්නා චේතනාවෙනි. මේ අනුව නියම නිවැරදි බුදු දහම අනුගමනය කරණ, ගිහි පැවිදිකිසිදු බෞද්ධයෙකු අන්‍යාගමිකයින් හා ගැටුම් ඇතිකරගන්නා ආකාරයේ විනාශකාරී දේවල් කිසිවක් කරණු ඇතැයි සිතිය නොහැකිය.

බාහිර පුද්ගලයෙකුට පැහැදිලිවම තේරුම්ගත නොහැකි උනත්, අද හෙලබිම අදහන බුද්ධාගමේ ද විවිධ නිකායන් අතරේ විවිධාකාර වු ගැටුම් හා නොහොඳ නෝක්කාඩු පවතියි. එකම බුදු දහම අදහන එකම බුද්ධ ශ්‍රාවකයින් යැයි ලෝකයාට ප්‍රකාශ කරන, මේ අය අතරේ මෙවැනි වෙනස්කම් හා ගැටුම් ඇතිවන්නට හේතුව මේ අය බුදු දහම අනුගමනය කරන්නන් නොව ඒ වෙනුවට බුද්ධාගමක් අදහන්නන් වීමේ එකම වෙනස නිසයි. මේ අනුව බුදුපියාණන් එදා ලෝකයාට දේශණා කර වදාල උතුම් දහම් මග අද මේ එකද නිකායකවත් ප්‍රායෝගිකව අනුගමනය කරනවා යැයි



අපට සිතන්නට බැරිය. **බුද්ධ ධර්මයේ ම නාමයෙන් ආගමක් ඇදහීම බලවත් පාපයකි. මේ නිසා හෙලබිමේ දී ඒ ඒ නිකායයන්ගේ අධිකාරීත්වයෙන් පැවිදි බිමට පිවිසි සියළුම භික්‍ෂුන්වහන්සේලා පළමු කොටම නිකාය භේදයන් පසෙකලා තමන් මහණ වූ පරමාර්ථයන් සිහිපත් කරගෙන ධම්මානු ධමම ප්‍රතිපදාවෙහි හැසිරෙන්නට අධිශ්ඨාන කරගන්නට දැන් කාලය එළඹී ඇත.**

## <u>තරඟය ප්‍රචාරය හා සන්නිවේදනය</u>

අද බුද්ධාගමේ තරඟයක් හා ප්‍රචාරය කිරීමක් තදින් ම ක්‍රියාත්මක කරණ අතර බුද්ධ ධර්මයේ එවැනි තරඟයක් නැත. ප්‍රචාරයක් ද නැත. බුද්ධාගම අදහන ගිහි පැවිදි දෙපිරිසම අද තරඟයට ක්‍රියාකරන්නෝ බවට පත් වී සිටිති. නිකායන් නිකායන් අතර තරඟයක් ඇති අතර පන්සල් හා පන්සල් අතරද, දායකයින් හා දායිකාවන් අතරද මේ තරඟය දැකගත හැකිය. කඨින පිංකම් සමයෙහි බොහොමයක් විහාරස්ථානවල පිංකම් කරන්නේ නිවන් දකින්නට හෝ කෙලෙස් දවා තවා මග පල ලබන්නට හෝ නොවේ. තමන්ගේ ගමේ පිංකම් අනික් ගමේ පිංකම් අභිබවා විවිධාකාර වූ අංගෝපාන්ගයන්ගෙන් යුතුව කිරිම මගින් තදබල තරඟයකට පිංකම් කරණ ස්වභාවයක් අද දැක ගත හැකිය. දායකයින් මේ තරඟය සඳහා යොමු කිරිම සඳහාම බොහෝ පිංකම් සංවිධානය කිරීම ද අද සිදුවන්නකි. ඒවාගේ ම ප්‍රචාරය ද බලවත්සේ ම සිදුවෙයි. නමුත් බුදු දහමේ මෙවන් තරඟයක් හෝ ප්‍රචාරයක් ප්‍රසිද්ධියක් පැවතිය යුතු නැත. මේ තරඟය ප්‍රසිද්ධිය හා ප්‍රචාරයන් නිසාත් දායකයින් අතරේ ද්වේෂය හා මානය වැඩි වර්ධනය වීමක් නියත වශයෙන් ම සිදුවෙයි. අද බොහෝ පිංකම් කරන්නේ අනිකා පරයා ප්‍රචාරයක් ප්‍රසිද්ධියක් ප්‍රශංසාවක් ලබා ගැනිමේ චේතනාවෙනි. මේ පිංකම් තරඟය නිසා පුද්ගලයින් තුල බලවත් මානයක් උපදින බව මිනිසුන් විසින් ම තේරුම් ගත යුතුය. සියලු කෙලෙස් සිතක උපත ලබන්නට මානය හේතු කාරක වෙයි.මේ අනුව තරඟය ප්‍රචාරය හා සන්නිවේදනය නියත වශයෙන් ම රාග, ද්වේෂ, මෝහ ගති තුනමත් වඩා වර්ධනය වන්නට හේතුවෙයි.

මෙත්තා කරුණා මුදිතා උපේක්ඛා සහගත සිතින් අනුගමනය කළ යුතු ධම්මානු ධම්ම ප්‍රතිපදාවෙහි ද බුද්ධ ධර්මයේ ද තරඟයක් ප්‍රසිද්ධියක් ප්‍රචාරයක් පැවතිය නොහැකිය. තම තමන්ගේම සිතෙහි උපත ලබන රාග ද්වේෂ, මෝහ හා මානගති දුරලා සත්‍යක්‍රියා බලයක් විශ්වයට පතුරා හැම කෙනෙකුටම යහපතක් කරණ පිරිසිදු පිවිතුරු චේතනාවෙන් ක්‍රියා කරන පුද්ගලයා බුදු දහම අනුගමනය කරණ අතර තරඟයට වැඩ කටයුතු කිරීමේ කිලිටි වැරදි සහගත චේතනාවක් නියම නිවැරදි බෞද්ධයෙකු තුල ඇතිවිය නොහැකිය.

මේ අතරම අද අපේ බුද්ධගාමේ විහාරස්ථානවල දහඅටරියන් උස බුදු පිළිම , අසුරියන් උස පිළිම දාගැබ් තැනීම මෙන්ම අසපු වල බුද්ධ රාජ මාලිගා හැදීම ද තරඟයටත් ප්‍රසිද්ධියටත් භක්තිය නිසාත් කරන වැරදි දේවල්ය. බුදුපියාණන් වහන්සේ ධර්මය දේශණා කලේ මිනිසුන්ගේ මනස සකස් කර, මිනිස් ගුණ ධර්මය මිනිසුන් තුල වගා කර , යහපත් සමාජයක් ඇති කිරීමේ ලෞකික පරමාර්ථයත්, රාග ද්වේෂ මෝහ ගති, යලි නොඋපදින ලෙසින් (කෙලෙස් ගති) කපා හැර දමාදුක නිමා කර ලෝකෝත්තර නිවන සාක්ෂාත් කරගැනීම සඳහාත් ය. මෙවන් පිළිම, දාගැබ්, බුද්ධරාජ, මාලිගා තරඟයට මෙන් ඉදිකිරීම හා ගොඩනැගීම මගින් ගිහි පැවිදි දෙපිරිසම පිළිවෙතින් ඉවත් වී ආමිසයට ගිජු වීමත් මානය හා මෝහය මිනිසුන් තුල වැඩි වර්ධනය වී නිවනට ප්‍රතිපක්‍ෂ වූ කෙලෙස් ධර්මයන් සමාජය පුරා වැපිරවීමත් නියත වශයෙන් ම සිදුවෙයි. මිනිසුන්ගේ මනස හදන බුදු දහම භාවිතයෙන් ඉවත් වී, ගොඩනැගිලි, පිලිම, චෛත්‍ය, හා බුද්ධරාජ මාලිගා වැනි භෞතික දේ පමණක් ගොඩගන්නේ ආගම් සංකල්පයන් බලවත්වීම නිසාමය. අද මේ අනුව ආගම ව්‍යාපාරයක් බවට පත් වී ඇත. මිල මුදල් ඇති මිනිසුන්ව පන්සල් වලට හා අසපු වලට ගෙන්වා ගන්නට උනන්දු කර වන ආකාරයේ භෞතික හා ලෞකික නිර්මානයන් ඉදිකරමින්, සුංගාර රසය හා කුතුහලය අවුස්සමින් මිනිසුන්ගේ මානසිකත්වය දුර්වල කරණ ආකාරයේ මෙවන් මහායාන බුද්ධාගමක් මේ හෙලබිමට නොගැලපෙන බව සියළු බෞද්ධයින් විසින් ම තේරුම් ගත යුතුය.



සියළුම ආගම් අදහන්නේ මිනිසුන්මය. සියළු ආගම් නිර්මාණය වුයේත් මිනිසුන් සඳහාමය. මේ පැවැත්ම තුළම ජීවත්වන දෙවියන්ට, භූතයින්ට ජේතයින්ට හා තිරිසන් සතුන්ට ආදී කිසිවකුටත් ආගමක් නැත. මනසක් නැති මෙවන් අමනුස්ස කොට්ඨාශවලට ආගමක් අදහන්නට ද නොහැකිය. ඔවුන්ට ආගමක් හදාගන්නත් බැරිය. ආගමක් යනු කුමක් දැයි දැනීමකුත් නැත. මේ අනුව ආගම හා ධර්මය කියන දෙකම පිළිබඳව වෙන් වෙන් වශයෙන් තේරුම් ගත යුත්තේත් මිනිසුන්මය. ආගමක් අදහන්නට දැනුමක්, නුවණක් හෝ උගත්කමක් අවශ්‍ය නොවේ. නමුත් ධර්මධර වන්නට, ධර්මානුධම්ම, ප්‍රතිපදාවෙහි, පිහිටා කටයුතු කරන්නට නම් යම් තරමකට හෝ ඥාණයක් ප්‍රඥාවක් මිනිසෙකු තුල තිබිය යුතුමය. ඒ නිසා ශිෂ්ඨ නොවන සමාජයක් තුලද ආගමික සංකල්ප හා ආගමික ඇදහිලි බලවත්වමපවතී. නමුත් බුද්ධ ධර්මය අනුගමනය කළ හැක්කේ ශිෂ්ඨ මිනිස් සමාජයක් පවතින අවස්ථාවක දීම පමණි.

එදා ගෞතම බුදුන්වහන්සේ බුද්ධත්වයට පත්වෙන අවස්ථාව වනවිටත් සම්මතයෙන් පිළිගත්,මිනිසුන් විසින් ම ඇදහූ, විශ්වාසයන් මත පදනම් වූ, ආගම් හැටගණනක්ම ඇදහූ ජනතාවක් රටේ ජීවත් වූහ. ඒ සියලුම ආගම් වලින් ද යම් කිසි කාර්යභාරයක් ඉටු උනා.එසේ ඉටු උනේ සමාජ සම්මත චාරිත්‍ර වාරිත්‍ර පවත්වාගෙන යන්නටත්, මිනිසුන්ගේ මානසික අවශ්‍යතාවයන් යම් ආකාරයකින් සංතර්පනය කරන්නටත්, දෙශපාලකයන්ට රට පාලනය කරගෙන යන්නටත් උපකාර වන විධියේ යම් කිසි හොඳ, යහපත්, ක්‍රමවේදයක්, පවත්වාගන්නටත්, ආගම් උපකාරවී මෙනුයි. ලෞකික අර්ථසාධනය සඳහා ආගම මිනිසුන්ට උපකාරක විය, යන්න මෙහි තේරුමයි. නමුත් බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාල උභය අර්ථසාධනයම සාක්ෂාත් කරගැනිමේ ක්‍රමවේධයක් කිසිම ආගමකින් පෙන්වා දී නොතිබුනි. උභය අර්ථ සාධනය මෙන්ම උභතෝභාග විමුක්තියම ලබාගැනිමේ පිරිසිදු පැහැදිලි මාර්ගය ද පෙන්වා දුන්නේ බුද්ධ ධර්මයෙනි. වෙනත් බොහෝ ආගම්වලින් ද යම් ආකාරයකින් චේතෝ විමුක්තිය ලබාගැනිමේ ක්‍රමවේදයක් පෙන්වා දුන්නද ප්‍රඥා විමුක්තිය නමැති සදහටම සංසාර දුකෙන් මිදී නිදහස් වීමේ මග පෙන්වා දෙන්නට එදා මෙදා තුර පැවති පවතින කිසිම ආගමකට නොහැකිවිය. අපි අද අදහන බුද්ධාගමද

ආගමකි. බුද්ධ ධර්මය යනු ඊට හාත්පසින් ම වෙනස් පිළිවෙතකි.

සෑම සමාජයකම අදහන ආගමක් ඇදහීමට නිදහස තිබිය යුතුමය. අපි කැමති උනත් නැතත් බුද්ධාගම අදහන බහුතර පිරිසක් මේ රටේ ජීවත්වෙති. ආගමක් නැතිව සමාජයක් පවත්වාගෙන යන්නටත් බැහැ. මේ නිසා මේ පොත ලියා පලකිරීමේ අදහස කිසිම ආගමක් විවේචනය කිරීම හෝ ආගමක් විනාශ කිරීම හෝ නොවන බවත් සිහි තබා ගතයුතුය. මෙහි එකම අවංක පරමාර්ථය ආගම හා ධර්මය අතර ඇති මූලික වෙනස්කම් සිංහල බෞද්ධයා ට තේරුම්ගත හැකි පරිදි සරලව විග්‍රහ කර පෙන්වා දීමයි. බුද්ධ ධර්මය වෙන් කොට තේරුම් ගන්නට බුද්ධාගම ද උපකාර කරගත යුතුය. පාසැලක ප්‍රාථමික අංශය මොන්ටිසෝරි පංතිය මෙන් ආගම කාටත් මූලික වශයෙන් උපකාර වෙයි. පළමු කොටම දරුවෙක් මොන්ටිසෝරි පංතියටත් , ඉන්පසු ප්‍රාථමික අංශයටත් ඇතුළු කර ඉන් පසුව දරුවන්ගෙන් කොටසක් උසස් අධ්‍යාපනය සඳහා විශ්වවිද්‍යාල වලට ඇතුළු වෙනවා වාගේ බුද්ධාගම අදහන සමස්ථ පිරිසෙන් යම් කොටසක් අර්ථ , ධර්ම, නිරුක්ති, පටිසංභිදා වශයෙන් ධර්මය තේරුම් ගෙන, ධම්මෝ සංදිට්ඨිකෝ තත්වයට පත්වීමෙන් ධර්මය යනු කුමක් දැයි යථාභූත ඥාණදර්ශණය ලබනු ඇත. මේ නිසා බුද්ධාගම අදහන හැම මිනිහෙකුට ම එකහා සමානව බුද්ධ ධර්මය තේරුම් ගෙන නිවන් දකින්නට උපකාරවන නිවැරදි හා සරල බුද්ධ ධර්ම මාර්ගය අනුගමනය කරන්නට හැකිවේ යැයිකාටවත්ම කිව නොහැකිය. පාසැලේ මොන්ටිසෝරි පංතිය හෝ ප්‍රාථමික අංශය කඩාබිඳ විනාශකර දැමීමෙන් කාටවත්ම වනයහපතක් නැත. මොන්ටිසෝරි පංතියෙන් ප්‍රාථමික අංශයටත් එතැනින් ඉහල පංතිවලටත් සමත් වී ගණන් හදන්නට සූත්‍රයට බහා ගලපා බලන්නට විනයට සසඳා බලන්නට හැකි ආකාරයේ දැනුමක්, ධර්මඥාණයක් ලබාදෙන්නට නම් ආගම හා ධර්මය අතර ඇති වෙනස පැහැදිලිව හා පිරිසිදුව දරුවන්ට පෙන්වා දිය යුතුය. මේ සඳහා දරුවන්ගේ ඇස් පෑදීමට ක්‍රියා කළ යුතුය. '' චක්ඛුං උදපාදී,ඥාණං උදපාදි, පඤ්ඤා උදපාදි විජ්ජා උදපාදී අලෝකෝ උදපාදී වශයෙන් පෙන්වා දුන්නේ මේ ඇස් පෑදීමේ ධර්ම මාර්ගයයි. ආගමික සංකල්ප වලින් අදවන විට අපේ දරුවන්ගේ දහම් ඇස



අන්ධ කර ඇති බව, කණගාටුවෙන් උවත් පෙන්වා දීම කළ යුතුම යුග මෙහෙවරකි.

උපන්දා පටන් මියයනතුරුම මේ ආගමික මොන්ටිසෝරි පංතියේ හෝ ප්‍රාථමික අංශයේ ම හෝ පේල් කරමින් ශ්‍රාවකයින් නවතා කොටුකර ගන්නා ක්‍රමයක් ආගමේ ඇතිබව පමණක් මිනිසුන් තේරුම් ගතයුතුය. වැඳුම් පිදුම් පැතුම්, යැදුම් කරමින් නිවන ප්‍රාර්ථනාවකට පමණක් සීමාකරගෙන යථාර්ථයක් නොවන ඇදහීමේ ක්‍රමයෙන් මිනිසුන් නිදහස් කරගන්නට නම් නියම නිවැරදි බුද්ධ ධර්මයම පැහැදිලිව පිරිසිදුව මාර්ගප්‍රතිපාදාවක් හැටියටම පෙන්වාදිය යුතුය. එවිට ලෞකික හා ලෝකෝත්තර යන උභය අර්ථසාධනයම කෂාත් කෂාත් කරගන්නට පිංවත් බෞද්ධයින්ට අවස්ථාව ලැබෙනු ඇත.

සමාජ සම්මත චාරිත්‍ර වාරිත්‍ර ද පවත්වාගෙන යමින් සදාචාරවත් හික්මුණු මිනිසුන් පිරිසක් ද බිහි කිරීමට ආගමක් ඇදහීම බලවත්සේම උපකාර වෙයි. මෙය ලෞකික වශයෙන් වර්තමාන ලෝකයාට ද ඉතාමත් වැදගත් දෙයකි. නමුත් අදවන විට වර්තමාන ලෝකයේ නවීන විද්‍යාව ඒ ආගමේ තැනට පත් වී ඇති බව කවුරුත් තේරුම් ගත යුතුය. මේ අනුව අද ආගම් ඇදහිමෙන් ලබන තාවකාලික සුවයට වඩා උතුම් බුද්ධධර්මයෙන් පෙන්වා වදාල නිරාමිස, නිරාසව සුවය ලබාගන්නා නිවැරදි මාර්ගය මිනිසුන්ට පෙන්වාදීම ඉතාමත් ම වැදගත්ය. දැන් ඒ සඳහා නියම සුදුසු කාලය පැමිණ තිබේ. මේ නියත ධර්මතාවයට අනුව බුද්ධාගම හෝ මහායාන බුද්ධාගම හෝ වෙනත් මොනම ආගමක් හෝ විනාශකර නැතිකර දැමීම, හෝ සර්වාස්තිවාදයක් බිහි කිරීම හෝ යන දෙකම කාටවත්ම සදහටම සංසාර දුකෙන් මිදී නිදහස්වන්නට නම් උපකාර වන්නේ නැත. අද සමහර පිරිසක් සියළුම ආගම් එක සමාන කොට සර්වාස්ති වාදයක් පිළිගන්නට සූදානම්ව ක්‍රියා කරති. තවත් පිරිසක් නාස්තිවාදීන් ලෙසින් කිසිදු ආගමක් නොඇදහීමේ හෝ පිලිනොගැනීමේ ප්‍රතිපත්තියක පිහිටා කටයුතු කරති. මේ අන්ත දෙකම වැරදිය. මිනිසුන්ට ආගම හා ධර්මය අතර ඇති පරමාර්ථ වෙනස පැහැදිලිකර පෙන්වා දී ධම්මානු ධම්ම ප්‍රතිපදාවෙහි හැසිරීමේ අගය ද පෙන්වා දීම කළ යුතුය. බුදුපියාණන් වහන්සේ

බුද්ධත්වයට පත් වූ අවධියේ දී ලෝකයේ කිසිම තැනක බුද්ධාගම් කාරයෝ නමින් ආගම් කාරයින් කොටසක් නොසිටියහ. බුද්ධාගම හෝ මහායානබුද්ධාගම යනුවෙන් ආගම්ද නොතිබිනි. මේ නිසා බුදුපියාණන් සොයා මතු කර දේශනා කර වදාල උතුම් ධර්මය දේශණා කලේ එදා වෙනත් ආගමක් ඇදහූ මිනිසුන්ටය. එදා මිනිසුන් ආගම හා ධර්මය අතර ඇති වෙනස පැහැදිලිව ම තේරුම් ගත්හ.

මේ අනුව නියම නිවැරදි බුද්ධ ශ්‍රාවකයෙකු නම් ඔහු බුද්ධ ධර්මය දේශණා කරමින් කරුණු පහදා දිය යුත්තේ සියළු මිනිසුන්ටය. කාටවත් ම වෙනසක් විශේෂයක් නැතිවය. හැම මිනිසෙකුට ම මේ උතුම් ධර්මය යථා පරිදි එක සමානව තේරුම් ගන්නට තරම් ඥානය හා ප්‍රඥාව නොමැති බවද අපිම තේරුම් ගත යුතුය. තාවකාලිකව ලෞකිකත්වය තුල අතරමං කරණ සුළු වූ සුන්දර පැලැස්තර දේශනාවන් අද බහුල කොටම අසන්නට ලැබෙයි. මේ තාවකාලික පැලැස්තර දේශනාවලින් පෙන්වා දෙන ලෞකිකත්වය තුල අතර මං කරවන වැරදි මාර්ගයත්, විමුක්තියට නිවනට උපකාර වන ධම්මානු ධමම ප්‍රතිපදාවත් යන දෙක වෙන්කර දැන තේරුම් ගන්නට තරම් පිරිසිදු මනසක් ඇති කරගත හැක්කේ නිවහල් චින්තන ශක්තියක් ඇති මිනිසෙකුට පමණි.

ඔවුන් නියම නිවැරදි බුද්ධ ධර්මය අනුගමනය කරණ බුද්ධ ශ්‍රාවකයින් නම්, කලකෝලාහල කරණ, පෙළපාලි යන තර්ජන හා උද්ඝෝසන කරණ හෝ යුද්ධ කරණ පිරිසක් වෙන්නට නම් බැරිය. විශේෂයෙන් ම බුද්ධ ධර්මය අනුගමනය කරන අය අතරේ නම් බල සංවිධාන තියෙන්නත් බැරිය. සංවිධාන කියන්නේ රාගයෙන් ද්වේෂයෙන් හා මෝහයෙන් යම් ව්‍යාපාරයක් කිරීමේ චේතනාවෙන් ඇතිකරගත්ත හදාගත්තු ආයතනයන්ය. සංසාර දුක නිර්මාණය කර දෙන්නේම මෙවන් වූ සංවිධානවලින් කරණ ව්‍යාපාරයන් නිසයි. ඒ සංවිධාන බොහෝ විටම තවත් මිනිසුන් කොටසකට හිරිහැර කරදර හා අවැඩ අසාධාරණයකම් කරණ ව්‍යාපාරයක්මයි.



යම් කාලවකවානුවක උපත ලබා ජීවත්වන සියළුම මිනිසුන්ට නිවන් දැකගන්නත් බැහැ. නිවන් දැකගන්නට උපකාරවන උතුම් බුද්ධ ධර්මය අහල තේරුම් ගන්නත් බැහැ. මේ කාරණයත් ධර්මතාවයක් අනුවම සිදු වන දෙයක්, නිවන් දැකගන්නට උපකාර වන ධර්මය යටපත් වූ යුගයක ඒ වෙනුවට ලෝකයාව අතරමං කරවන ආකාරයේ ආගම් සංකල්ප පමණක් භාවිතයේ ඇති කාලපරාසයක දී, නිවන්මග වැහිල යටපත් වෙලා යනවා. එවන් යුගයක දී හැම කෙනෙක් ම අදහන්නෙත්, අගය කරන්නෙත්, හොඳට පිංකම් කරලා දෙව්මිනිස් සැප සම්පත් විඳල, අවසානයේ දී නිවන් දකින්නට ප්‍රාර්ථනා කිරීම මිසක් වෙනත් විකල්පයක් අසාදැන ගන්නට ලැබෙන්නේ නැහැ. ඒ දේශණා කරණ අයවත් එවන් ආගමික විශ්වාසයන් අදහන අයවත්, මේ සංසාර දුක කියන එක යන්තම්වත් තේරුම් නොගත් නිසා තමන් කරණ කියන හැම දේවල් ම උපකාර වෙන්නේ යලි යලිත් සංසාර දුකම දිගටම පවත්වාගන යන්නටය කියන එක තේරුම් ගන්නටවත් ඔවුන්ට බැහැ ඒ නිසා එකම විකල්පය තාවකාලිකව හෝ මේ අතරමං වූ සංසාරය තුලින් ම යම් ආමිස සුවයක් ලබාගන්නට පිං කම් කරමින්, ප්‍රාර්ථනා කරමින් බුදු බව පතමින් පරක් තෙරක් නොදකින සංසාර ගමනේ ම යලිත් අතරමං වීමයි. චතුරාර්ය සත්‍යයන් පිළිබඳ හරි දැනුමක් හෝ දැක්මක් හෝ නැති සමාජයක් තුල නිවනක්, විමුක්තියක් නිදහසක් ගැන කෙසේ නම් සිතන්නද? වචනවලින් පදපරම ලෙස චතුඅරිය සත්‍යයන් අවබෝධකරගත යුතු යැයි කොපමණ කීවත්, කෙපමණ වාර ගණනක් ප්‍රාර්ථනා කලත් ආගමිකසංකල්පයන් පමණක් භාවිතයේ පවතින තුරාවට ම චතුරාර්ය සත්‍යයන් අවබෝධකර ගන්නට ද ඒ පුන්‍යාභි සංකාරයන් ම බාධකයක් වෙයි. ඒ බව නොදැනීම මෝහයයි.

මේ අනුව අපි අද සම්මතයෙන් අදහන මේ බුද්ධාගමම අපේ මතු පර පුරවල්වල උපදින දූ දරුවන්ට ද නිවන් මග වසා දමන නිවනට බාධකයක් වන බලවත්ම හේතුවක් බවට ද මේ වනවිට පත්ව ඇති බව සෑම බෞද්ධයෙකු ම කල්පනා කර තේරුම් ගත යුතුය. අද වන විට ආගම ව්‍යාපාරයක් බවට පත් වී ඇත. ආගම දේශපාලන ව්‍යාපාරයක් බවට පත්වීම ඊටත් වඩා බලවත් බාධකයකි.

මේ හෙලබිම ජන්බුද්වීපයෙහි දී එදා උපතලත්, උතුම් බුද්ධ ධර්මය අද වන විට අභාවිතයට ගොස් ධර්මය යටපත් වී එය ආගමක් බවට පත්වුයේ අසල්වැසි රටෙන්, භාරත දේශයෙන්, එහි බලවත් වු ජෛන ආගම් සංකල්ප වලින් , දේව ආගම් සංකල්ප හා ඊටත් පසුව මහායාන බුද්ධාගමේ ආගම් සංකල්පයන් ද අපේ රටටත් ගලාඑන්නනට පටන් ගැනීමත් සමගමය. දැන් අපි මේ බව හොඳින් ම තේරුම් ගෙන දේව සංකල්ප, ජෛන ආගමේ සංකල්පමෙන් ම සුන්දර මහායාන බුද්ධාගමේ ආගම් සංකල්පය ද නිවනට බාධාවන හැම අවස්ථාවක දීම එහි අනර්ථය පෙන්වා දී ඉන් බැහැර වන්නටත් ඒ වැරදි ඇදහිලි ඉවත් කරදමා ඒ වෙනුවට එදා බුදුපියාණන් පෙන්වා වදාල නිවැරදි අර්ථයෙන් ම ධර්මය භාවිතා කරන්නටත් බෞද්ධයින්ට ඉගැන්විය යුතුය. ඒ සඳහා බෞද්ධයාව දැනුවත් කළ යුතුය. වැඳුම්, පිදුම්, යැදුම්, පැතුම් වලින් කිසිසේත්ම විමුක්තිය, නිවන ලඟාකර ගත නොහැකි බව මිනිසුන්ට කියා දී පෙන්වා පැහැදිලි කරදිය යුතුය.

බෞද්ධ ඉතිහාසය, බෞද්ධ සාහිත්‍යය , බෞද්ධ සංස්කෘතිය හදාරණ අපේ තරුණ ගිහි පැවිදි විශ්ව විද්‍යාල ශිෂ්‍යයින් පැහැදිලිව හා පිරිසිදුව ආගමේ විකාශනය හා පරිවර්ථනය අධ්‍යයනය කළ යුතුය. එදා බුදුපියාණන් ස්වයංභූ ඥාණයෙන්ම සොයා දැන දේශණාකර වදාල උතුම් බුද්ධ ධර්මය ක්‍රමයෙන් ආගමක් බවට පරිවර්තනය වූ ආකාරයත්, මහායාන බුද්ධාගම ජෛන ආගමේ බලපෑම නිසා විවිධ රටවල්වලදී වෙනස් කරගත් ආකාරයත්, පසුව ඒ ඒ රටවල සම්ප්‍රදායිකව පැවති ආගම් සංකල්ප හා දේව ආගම් සංකල්ප මහායාන බුද්ධාගමටද ඇතුලත් කරගත් ආකාරයත් නිවැරදිවම අධ්‍යයනය කළ යුතුය.

අපේ මේ හෙලදිවයින තුල අති පුරාණයේ පටන්ම ජීවත් වු මගපල ලාභීථේරවාදී මහා සංඝරත්නය උතුම් පිරිසිදු බුද්ධධර්මය, නිවැරදි හා පිරිසිදු ආකාරයට භාවිතා කරන්නට ගත් අවංක උත්සාහයත්, ඒ සඳහා පැවැත්වූ ධර්ම සංඝායනාත්, ත්‍රිපිටක ලේඛනගත කිරීම හා වන පොත් කරගෙන කටින් කට ධර්මය පවත්වාගෙන ඒමත් පිළිබඳව පිරිසිදුවම අධ්‍යයනය කළ යුතුය. නමුත් ක්.ව. 1 වන සියවසේ පටන්ම වාගේ භාරතීය බලපෑම් අනුරාධපුර රාජධානිය කරා ගලා එන්නට වීමත්, ඒ අනුව නිකාය



භේද ඇතිවීමත්, ඊට අනුරූපවම විවිධාකාරයෙන්, ආගම් සංකල්පයන් ඇතුලත් කරමින් බෞද්ධ පොත් පත් ලියන්නට වීමත් ඉන්දියාවේ සිට මෙහි පැමිණි ජෛන හා පතංජලී, ආගම් වල පරපාප්ත බමුණන් අපේ උතුම් බුද්ධ ධර්මය වෙනස් කරමින් ආගමක් කොට ලියා දක්වා අපේ හෙල අටුවා ගිනි බත් කල ආකාරයත් පැහැදිලිවම අධ්‍යයනය කළ යුතුය.

දේශපාලනය ආගම සමග එකට ඇදීම එදා මෙන්ම අදටත් දකින්නට හැකි බලවත් ම පිළිලයකි. දේශපාලනය නිතරම උතුම් බුද්ධ ධර්මය යටපත් කරදමා සම්මත ආගම් ඉස්මතු කරන්නට වලගම්බා රජු දවස පටන්ම හා අශෝක රාජ්‍ය පාලන යුගයේ පටන්ම ක්‍රියා කර ඇති බවද පැහැදිලිව ම තේරුම් ගත යුතුය. අදවන විටත් දේශපාලන බලවේගයන් සියලුම ආගම් තමන්ගේ දේශපාල බලය පවත්වාගෙන යන්නට උපකාර වන අන්දමට, තමන්ගේ වාසියට හරවා ගන්නට හැම ක්‍රියාමාර්ගයක්ම ගන්නා බවද පැහැදිලිව පෙන්වා දිය යුතුය. සම්මත ආගමේ නායකයින්ට යම් යම් විශේෂ පහසුකම් හා තාන්න මාන්න ලබාදී ඒ ආගමික සංවිධානයන් හරහා තම බලය පවත්වාගෙන යන්නට හැකි හැම උත්සාහයක්ම ගන්නා බවද පෙන්වා දිය යුතුය. මේ හැම විටකදීම සිදුවුයේත් සිදු වන්නේත් සම්මත ආගම් සංකල්ප ප්‍රචලිත වී ඉස්මතුවීමත් උතුම් බුද්ධ ධර්මය යටපත්වී භාවිතයෙන් ඉවත් වීමත්ය.

උතුම් බුද්ධ ධර්මය පරමාර්ථ ධර්මයක් නිසා එය කවදාවත්ම වෙනස් කළ හැකි එකක් නොවේ. හේතුපල ධර්මය භාවිතයෙන් ඉවත්වී අභාවිතායට ගිය පසුව ධර්මය අධර්මය තේරුම් ගැනීම අපහසු වී ආගමක් ඉස්මතුවීමද  නියත වශයෙන්ම සිදුවෙයි.

උතුම් බුද්ධ ධර්මය යනු නානා අර්ථ, නානා ධර්ම, නානා නිරුක්ති හා නානා පටිසම්භිදා විග්‍රහයන් කරන්නට පුළුවන් දේශනාවක් නිසා මේ ධර්මය ලෞකික අර්ථයෙන් හා ධර්මයෙන් විග්‍රහකරමින් ලෞකිකත්වය තුල යම් ආමිස සුවයක් තාවකාලිකව ලැබීමේ හැකියාවක්ද මෙහි ඇත. මහායාන බුද්ධාගමක් ලෝකයට බිහිවුයේ බුද්ධ ධර්මයේ ඇති මේ නානාත්වය ප්‍රයෝජනයට ගනිමින්ය. බෝධිසත්ව පෙරුම් පුරමින්, පාරමිතා සම්පූර්ණ

කරගැනිමට පමණක්ම ජීවත්වීම එකම අභිලාසය කොට පෙන්වා මතු මතුන් දෙව් මිනිස් සැප විඳවමින්, රජසැප සිටුසැප බලාපොරොත්තුවන ආකාරයෙන් ලෞකිකත්වය තුල මිනිසුන් අතරමං කරවීමේ ක්‍රමවේදයක් මහායාන බුද්ධාගමෙන් එලි දැක්වුයේ බුද්ධ දේසනාවේ ඇති මෙම නා නා අර්ථ හා නානා ධර්ම විග්‍රහ කිරීම ම වැරදි ආකාරයට උපයෝගිකර ගැනීමෙන්මය.

මේ අනුව මහායාන බුද්ධාගමටද පාදකවුයේ එදා බුදුන් දේශණා කර වදාල මුල් බුද්ධ භාෂිතයේ පදවැල්මය. නමුත් එදා මුල්ම යුගයේදී බුදුපියාණන් වහන්සේ හා ථෙරවාදී මගපල ලාභී උතුමන් මතුකර පෙන්වාදුන් පරමාර්ථ ධර්මය හා ලෝකෝත්තර අර්ථය ඒ මහායාන බුද්ධාගමේ පොත්පත් වල හෝ දේසනාවල හෝ දකින්නට නොලැබිනි. මහායාන බුද්ධාගමෙන් පෙන්වූ බොහෝ දේ හුදීජන පහන් සංවේගය සඳහා නම් ගැලපුනි. ජන විඥඥාණයට එය ගැලපුනේ තම තමන් ඇදහූ දේව ආගම් සංකල්පයන්ද ඊට අන්තර්ගත කර ගත හැකිවූ නිසාවෙනි. මේ අනුව රටින් රටට ගැලපෙන ආකාරයට වෙනස්වීම් කරගනිමින් මහායාන බුද්ධාගම ආගමක් ලෙසින් මුළු පෙරදිග ලෝකය පුරාවටම ව්‍යාප්තවී ගියේය. එහි බලපෑම ක්‍රමයෙන් හෙලබිම ථෙරවාදී බුද්ධ ධර්මයටත් තදින්ම බලපෑ බවත් මෙහි දී පෙන්වා දිය යුතුය.

බුදුපියාණන් වහන්සේ ස්වයංභූඥාණයෙන්ම සොයා දැන වදාළ උතුම් ධම්මානු ධම්ම ප්‍රතිපදාව අනුගමනය කල යුතු වන්නේ විපස්සනාධුරය වඩා පුද්ගල විමුක්තිය සාක්ශාත් කරගෙන, සදහටම සංසාර දුකෙන් මිදී නිදහස්වීමේ ඒකායන බලාපොරොත්තුව ඇතිවය. මේ බව මහා සතරසති පටඨාන සුත්‍රයේ ඉතාමත්ම පැහැදිලිව දේශනා කර පෙන්වා වදාරා ඇත.

"ඒකායනො අයං භික්ඛවේ මග්ගො සත්තානං විශුද්ධියා, සෝකපරිද්දවානං සමතික්කමාය, ඤායස්ස අධිගමාය, නිබ්බානස්ස සච්ජිකිරියාය, යදිදංචත්තාරෝ සතිපට්ඨානා"

මෙහි සඳහන් වන පරිදි සත්වයන්ගේ විශුද්ධිය සඳහා =සංසාර දුකෙන් මිදී සදහටම නිදහස්වීම සඳහාත්,සෝකපරිදේව ආදියෙන් මිදී,හැඬීම් වැලපීම් , පසුතැවීම් ආදියෙන් සදහටම සහනයක් ලබාගැනීම සඳහාත්, දුක්දොම්නස් ආදියෙන් සිදුවන සියලු ව්‍යසනයන්ගෙන් සිත සමථයට පත්, කරගැනිම සඳහාත්, චතුරාර්ය සත්‍යයන් අවබෝධ කරගැනීමෙන්ම මේ සංසාරගමනේ යථා තත්වය යථාභූතඥාණ දර්ශනය තුලින් පරමාර්ථ වශයෙන් දැකගැනීමටත්, සසරට මෙතෙක් බැඳී තිබුණු බැම් තුන සොයා ඒ බැම් කපාදමා බැම්මෙන් මිදී නිදහස්වීම සඳහාත් අනුගමනය කළයුතු ඒකායන මාර්ගය මේ සතර සතිපට්ඨාන සුත්‍රයෙන් පෙන්වා වදාල ධම්මානුධම්ම ප්‍රතිපදාවයි. මේ සඳහා වෙන මොනම ප්‍රතිපදාවක් අනුගමනය කිරීමෙන් හෝ මේ ප්‍රතිපල සියල්ලම ලබාගත නොහැකි බව මෙහිදී පැහැදිලිවම ප්‍රකාශකළ සේක.

බුදුපියාණන් වහන්සේ දසඅනුස්සති භාවිතා කිරීම අනු දැන වදාල අතර මේ දසඅනුස්සතිම උපකාරවන්නේ සතරසතිපට්ඨානය වඩා සම්පූර්ණ කරගැනීමටය. සතර සතිපට්ඨානය සම්පූර්ණ කරගන්නට උපකාරවෙන කිනම් හෝ අනුස්සති භාවනාවක් නිවනටම උපස්ථම්භකවන බව මෙයින් පැහැදිලි ලෙසම විග්‍රහකර පෙන්වා දුන්හ.

මේ ආකාරයෙන් පුද්ගල විමුක්තිය නිදහස හා නිවනම අරමුණු කරගත් මුල් කාලීන භික්ඛු චර්යාව ක්‍රමානුකූලව මේ උතුම් පරමාර්ථයෙන් වෙනස්වී පරාර්ථකාමීව සමාජය හදන්නට, අනෙකාව හදන්නට, දේශපාලනික පරමාර්ථයන් මුල් කර ගත් එකක් බවට පත්කර ගන්නට භාරත දේසයේදී නිර්මාණයවූ මහායාන බුද්ධාගමේ මූලික ඉගැන්වීම් බලවත් සේම උපස්ථම්භක විය. බුදුපියාණන් පෙන්වූ පරමාර්ථය ක්‍රමයෙන් දියවී අභාවයට ගොස් යලිත් සංසාර දුකම නිර්මාණය කරගන්නා ක්‍රමයක් මහායාන බුද්ධාගම නමින් ලෝකයා අතරේ ප්‍රචලිතවිය.

ධර්ම සංඝායනාවන් කරමින්, සංදේසනාව යලි යලිත් මතුකර පෙන්වාදී බුද්ධ ධර්මය ආරක්‍ෂාකරගෙන සංසාර දුකෙන් මිදී නිදහස් වන්නට සමුදය නිරෝධ කළ හැකි මාර්ග ප්‍රතිපදාව පහදා විග්‍රහ කර දෙන්නට ක්‍රියාකළ හෙලබිම වැඩවාසය කළ ථෙරවාදී මහ සංඝයා වහන්සේලාට මහායාන බුද්ධාගමෙන් එල්ලවූ බලපෑම් වලට යටත්වන්නට

සිදුවූ බව ඉතිහාසමයෙන් පැහැදිලිවම දැකගත හැකිය. මේ මහායාන බලපෑම් විශේෂයෙන්ම සිදුවූයේ අනුරාධපුර රාජධානි බලප්‍රදේශය තුල ජීවත්වූ ලාංකේය භික්ෂූන්ටය. අනුරාධපුර ප්‍රදේශයෙන් පිටත සිටි රුහුණේ හා නැගෙනහිර මෙන්ම සබරගමු හා මධ්‍යම පළාතේ ආරණ්‍යක සේනාසනවල වැඩසිටි භික්ඛු සංඝයා වහන්සේලා කෙසේ හෝ ථෙරවාදී බුද්ධ ධර්මය හා එහි ප්‍රතිපත්ති ආරක්‍ෂාකරගෙන තවත් කලක් උතුම් බුද්ධ ධර්මය පවත්වාගෙන යන්නට උත්සාහ දැරූහ. නමුත් අනුරාධපුර රාජධානිය පරිහානියට පත්වී රටමැද පිහිටි පොලොන්නරුවට දේශපාලන මධ්‍යස්ථානය මාරුවීමත් සමගම මුළු රටේම ජීවත්වූ සියළුම ථෙරවාදී භික්ෂූන්වහන්සේලා මහායානික බුදුදහමේ බලපෑමට යටත් වී භික්‍ෂුචර්යාව ද වෙනස් කර ගන්නට සිදුවිය. භක්තියෙන් පුදපූජා, වැදුම් පිදුම් , යැදුම් පැතුම්කරණ භක්තිමත් බෞද්ධ භික්‍ෂු සමාජයක් හෙලදිව තුල ද බිහිවීමත් සමගම නිවන් දකින උතුම් බුද්ධ ධර්මයත්, එහි ඒකායන පරමාර්ථයත් වෙනස් වී සමාජ සංස්ථාවට චාරිත්‍ර වාරිත්‍ර උගන්වා දේශපාලකයින්ට උපකාරක වන ආකාරයේ ආගමක් මෙරට තුලද ව්‍යාප්තිවිය.

පෘතග්ජනයින්ගේ සිත්ගත් , ජනප්‍රිය අංගෝපාංගයන් බොහොමයක්, මහායාන බුද්ධාගමේ අනුගමනය කළ  අතර මේවා හුදීජන පහන් සංවේගය සඳහාත් මිනිසුන්ට පහසුවෙන්ම අනුගමනය කල හැකි ආකාරයටත් සකස්වී තිබිණි. මේවා නිසා ගිනිගත් සිතක් තාවකාලිකව නිවීයන ආකාරයේ පැලැස්තර සහනයක් ලැබුණි. මෙවන් අංගෝපාංග මහායාන බුද්ගාමේ හැම අවස්ථාවකදීමත් ඉතාමත් වැදගත් කොට සැලකූහ. මුල් ධර්ම සංඝයනාවන් හතරම පවත්වනලද්දේ ථෙරවාදී මහා සංඝරත්නයේ මුලිකත්වයෙනි. මේ ධර්ම සංඝායනාවන් පැවැත්වූ අවධියේදී ඒ ඒ රටේ රජකම් කරණ ලද ප්‍රධාන රජවරුන්ගේ නම් මේ සංඝායනා වලට ඈඳා ඉතිහාසය ලියූ අය විසින් පොත් පත්වල ලියා තැබුවත් ඒ ඒ රජවරුන්ගෙන් යම් කිසි උපකාරයක් මේ සඳහා ලැබුනත්, ධර්‍ම සංඝායනාවක් කළ හැක්කේ සංදේශණාවක් පිළිබඳව මනාකොට දැකගත් සම්මා දිට්ඨියට පත්වූ ,"සං" තේරුම් ගත් මහා සංඝයා වහන්සේලාටම පමණි. බුද්ධ වචනයෙහි- බුද්ධ භාෂිතයෙහි - පාරිශුද්ධත්වය තවදුරටත් රැක ගැනිමේ අවංක පිරිසිදු අභිලාෂයෙන්ම, ථෙරවාදී මහා සංඝයාවහන්සේලා විසින්, සංදේශනාවක්



කරමින්, සංපද හතරම විග්‍රහ කරමින්, යලි යලිත් ධර්ම සංඝායනාවන් පැවැත්වූ බව සෑම බෞද්ධයෙකුම තේරුම් ගතයුතුය. මෙසේ ධර්ම සංඝායනාවන් පවත්වා උත්සාහගත්තේ බුද්ධ ධර්මය පිරිසිදුව රැකගැනීමටයි. මෙසේ සාසනය රැකගත යුතු වුයේ මේ ධර්මයේ නාමයෙන්ම සාසනයටද ඇතුළුවී උතුම් ධර්මයම වැරදි ලෙසින් භාවිතා කරන්නට පටන්ගත් මහා යානික වෛතුල්‍යවාදීන්ගෙනි.

පරම පවිත්‍ර සිරි සද්ධර්මය පනමෙන් රැකගත් , පරම් පරාවෙන් පරම්පරාවට වනපොත් කරගෙන ධර්මය කටපාඩම් කරගත් ,ථෙරවාදී මහා සංඝරත්නය එදා වැඩ වාසය කලේ අනුරාධපුර නගරයේ පිහිටි මහාවිහාරයේ හෝ අභයගිරියේහෝ නොවේ. මේ හෙලබිම රුහුණේ සිතුල්පව්වේ කුඩුම්බිගල, නැගෙනහිර පළාතේ විවිධ ආරණ්‍යක සේනාසන වල රජගල, බුද්ධංගල,මෙන්ම මුල්ගිරිගල,හබුරුගල  හා රටේ අභ්‍යන්තරයේ කුරුරට හා සබරගමුවෙහිය. එදා අනුරාධපුර නගරයේ වාසය කළ භික්ෂූන් රජගෙදරින් දන් වැලදූ, සත්මහල් ප්‍රාසාදවල ජීවත්වූ රජසිටු වරුන්ට අනුසාසනා කළ පෘතග්ජන පුද්ගලයින්ම විය. මේ පෘතග්ජන භික්ෂූන් වහන්සේලා ඉන්දියාවෙන් මෙරටට ගලාගෙන ආ මහායාන අදහස් හිස් මුදුනෙන් පිළිගෙන මහායාන ආගමේ ආගමික සංකල්පවලටත්, රජසිටුවරුන්ගේ දේශපාලන අවශ්‍යතාවයන්ටත් ගැලපෙන පරිදිත් තම භික්ඛු චරියා රටාවද වෙනස් කරගත්හ. අතීත මහාවිහාරවාසී භික්ෂූන්වහන්සේලා පරම්පරාගතවම ථෙරවාදී බුදඅදහම ආරක්‍ෂාකිරීමේ උත්සාහයක යෙදීසිටියද ඉන්දියාවෙන් පැමිණි මහායාන සංකල්පවලට හා වෛතුල්‍යවාදී මතවලට ක්‍රමයෙන් ඔවුන්ටද හිසනමන්ට සිදුවිය. මහායානිකයින් ගිහියන්ගේ හා රජවරුන්ගේ හැම කරුණක්ම සොයාබලන නිතර නිතර මහජනතාවගේ ප්‍රශ්ණවලට මැදිහත් වන ආකාරයේ පිරිසකි. නමුත් ථෙරවාදී භික්ෂූන් පිරිස පිඬුපිණිස හැසිරීමත් භාවනානුයෝගීව විදර්ශනා ධුරය පිරීමත් පළමු කාර්යය කොට සලකා මහජනතාවගේ ප්‍රශ්ණවලට මැදිහත්වීම අවම තත්‍වයෙන් පවත්වාගන්නට උත්සාහ ගත්හ. මේ අනුව සාමාන්‍ය පොදු ජනතාවගේ එදිනෙදා ප්‍රශ්නවලටද ලංවූ මහායාන භික්ෂූන්ගේ චරියාරටාව ථෙරවාදී භික්ෂූන්ගේ චරියා රටාවෙන් වෙනස් වීමත් සමගම මහායාන බුද්ධාගම ජනප්‍රිය ආගමක්

බවට පත්වෙන්නට මෙයද බලවත්ම සාධකයක් විය.

මහායාන බුද්ධාගමේ ජනප්‍රිය ආගමික ඇදහිලි මෙන්ම ධාතුපූජා පැවැත්වීම, දළදා පෙරහැර පැවැත්වීම, දේව පෙරහැර පැවැත්වීම, ආදිවූ සංස්කෘතික අංගයන් පොදුජනතාවගේ සිත්ගත් නිසා මහායාන ආගම තදින්ම ප්‍රචලිත වන්නට පටන්ගත්හ. කිත්සිරිමෙවන් රජු දවස දළදා පෙරහැර පටන්ගත්තේ අභයගිරි විහාරයේ මූලිකත්වයෙනි. එදා අනුරාධපුර නගරයට වැඩමවාගෙන ආ දන්තධාතූන් වහන්සේ මුල් කාලය තුල තැන්පත් කර තිබුණේද අභයගිරියෙහිය. මේ අනුව අද දක්වා ම අපරටේ පවත්වාගෙන යන දළදා පෙරහැර හා සතර මහා දේවාල පෙරහැර මහායාන බුද්ධාගමේම සංස්කෘතික අංගයක් මිස ථෙරවාදී බුදුදහමේ අංගයක් නොවේ. මහායාන බුද්ධාගම දේව ආගම් ඇසුරෙන්ම ඉන්දියාවේදී නිර්මාණය වූවක් නිසා විවිධාකාර දේව ඇදහිලි , පුද්පූජා. ප්‍රාර්ථනා, යාඥා ,බෝධි පූජා, බුද්ධ පූජා, අසුහාර දහසේ මල් පූජා , පහන් පූජා ආදී වශයෙන් අදටත් බුද්ධාගමේ නමින්ම කර ගෙන යනු ලබන බොහෝ ඇදහිලි ක්‍රම ථෙරවාදී බුදුදහමටත් ඇතුළුවීම වැලැක්විය නොහැකිවිය. මේ අනුව අපි අද මේ හෙලබිමේ පිරිසිදු ථෙරවාදී බෞද්ධයින් යැයි සම්මතයෙන් පිළිගන්නා අය පවා සියයට සියයක්ම වාගේ ප්‍රායෝගිකව අනුගමනය කරන්නේද, කියන්නේද, අදහන්නේද මහායානික බුද්ධාගමේ ජනප්‍රිය අංගයන්මය. මහායාන බුද්ධාගම කිසිවිටකත් මේ මිනිස් අත්භවයේදීම නිවන් දැකගත යුතුය. දැකගත හැකිය යන බුද්ධභාෂිතය අනුමත කලේ නැත. ඔවුන්ගේ දර්ශනය වූයේ පෙරුම් පුරමින් බෝධි සත්තස්සයෙකු හැටියට තවත් කල්පකාලයක් දෙව් මිනිස් සැප විඳිමින් මේ මිනිස් ආත්මයේදී එක පාරමිතාවක් පමණක් සම්පූර්ණ කරගන්නට කටයුතු කළ යුතු බවයි. ඒ අනුවම සද්ධර්මපුණ්ඩරික සූත්‍රය ආදී මහායාන බුද්ධාගමේ පොත්වල ලියා පලකරණ ලද අභව්‍යදේවල් සජ්ජායනා කරමින්, යාඥා කරමින් හොඳට කාබී නටා ප්‍රිතිවී මතු බුදුබවට පත්වෙන්නට ප්‍රාර්ථනා කිරිමෙන් පමණක් සියළුම බෞද්ධයින්ට සතුටු වන්නට පාරකියා දීම මහායාන සංකල්පයකි. ඒ මතු බුදුවන දිනය කෙළවරක් නැති තරම් දීර්ඝකාලයකි. පෙරුම් පුරා අවසානයක් දකින්නට හැකි දැකිමක් එහි නැත.



මේ මහායාන බුද්ධාගමේ දර්ශනය ගැලපෙන්නේ ජෛන ආගමේ දේශනා කරණ ලද දේව ආගමේ සංකල්ප වලට විනා උතුම් බුද්ධ දේශනාවට නම් නොවේ. මේ අනුව හෙලබිමේ ජීවත්වන අපි උතුම් බුද්ධ ධර්මයේ පෙන්වා වදා පරමාර්ථ ධර්මය සොයා දැන හදාරා මේ උපතලත් පරම දුර්ලභවූ මිනිස් අත්භවේදීම කරගත හැකි උපරිම තත්වයම ක්ෂාත්ශාත් කරගන්නට අධිශ්ඨාන කරගත යුතුය.

## <u>පිරිත් සජ්ජායනා කිරිම , පිරිත් නූල් හා පිරිත් පැන්</u>

මුල් බුදුදහමෙහි පිරිත් සජ්ජායනා කිරීමේ, පැලැස්තර ප්‍රතිකර්ම විධියක් අනුමත කර තිබුනේ නැත. පිරිත් නුල් බැඳිම මෙන්ම පිරිත් පැන් ලබාදී තාවකාලිකව ප්‍රතිකර්ම කිරීමේ ක්‍රමයක් බුද්ධ ධර්මය තුල නිර්දේසකර නැත. නමුත් මහායාන බුද්ධාගම ප්‍රචලිතවෙත්ම එදා ජෛන ආගමේ, වේද ආගමේ හා ශිව ආගමේ පිළිගෙන තිබූ ස්ත්‍රෝත්‍ර සජ්ජායනා කිරීමේ ක්‍රමවේදය පෘතග්ජන මිනිසුන්ට යම් කිසි ආකාරයකින් මානසිකවුත් තාවකාලිකවුත්, සහනයක් ලබා දෙන නිසා බුදුපියාණන් දෙසූ ධර්මපාඨයන්ද කොටසක් තෝරාගෙන පිරිත් ලෙසින් සජ්ජායනා කරන්නට මහායානිකයෝ පටන්ගත්හ. භගවත්ගීතාවේ භජන්ගී ගායනාකිරීමේ චාරිත්‍රයට සමානුපාතිකව මහායාන භික්ෂූන්ද බුද්ධ දේශනාවේම එන පදවැල් මිහිරි ස්වරයෙන් ගායනා කරමින් පිරිත් කීම චාරිත්‍රයක් ලෙසින් ජනප්‍රිය කළහ. ලෙඩ රෝගාදිය තාවකාලීව සුව කරගැනීමටත්, භූත ප්‍රේතදී අමනුස්ස බලපෑම් වලින් තාවකාලිකව අරක්‍ෂාවක් ලබාගැනීමටත්, මංගල කාරණා වලදී සුභ පැතීමටත් (ජයමංගල ගාථා ආදිය) සියළු කටයුතු වලදී ශාන්තිකර්මයක් ලෙසත් පිරිත් සජ්ජායනා කිරීම අද හෙලබිම ජීවත්වන සියලු බෞද්ධයින්ගේ අවශ්‍යතාවයක්, නැතිවමබැරි අංගයක්- බවටද පත් ව ඇත. මේ පිරිත් සජ්ජායනා කිරීමේ චාරිත්‍රය ආරම්භ වූයේ අනුරාධපුර යුගයේ මැද භාගයේ දී පමන මහායාන බලපැම් ඇතිවීමත් සමගමය.

රතන සූත්‍රය, කරණීය මත්තසූත්‍රය, මහා මංගල සූත්‍රය යන තුන් සූත්‍ර කිසිවකුත් හඬනඟා සජ්ජායනා කිරීම සඳහා දේසනා කරණ ලද බුද්ධ ධර්මය නොවේ. මේවා නිවනට උපකාර වන දෛනිකව හා ප්‍රායෝගිකව

මිනිසෙකුගේ චරියා රටාව සකස්කර ගන්නට උපකාර වන උපදෙස්ය - එසේත් නැතිනම් කර්මස්ථානයන්ය- කල්යත්ම කුඩා සමාණේරයින් වහන්සේලා මෙම කර්මස්ථාන අඩංගු සුත්‍ර කටපාඩම් කරගන්නට යාමේ දී ඒවා සංගීත ස්වරයෙන් ගායනා කරන්නට පුරුදුවීම නිසා ඒවා පෘතග්ජන ලෝකයාට යම් කර්ණරසායන බවක් ඇතිවිය. නමුත් ඒවායේ අර්ථ, ධර්ම , නිරුක්ති හා පටිසම්භිදා විග්‍රහයන් තේරුම් ගන්නට අසමත්වූ විටක ඒවා කර්මස්තාන ලෙසින් භාවිතා කිරීමක් සිදුවූයේම නැත. මේ අනුව පිරිත් සජ්ජායනා කිරීම බෞද්ධ චාරිත්‍ර වාරිත්‍රයක් ලෙසින් බෞද්ධ සංස්කෘතිය තුල මුල් බැසගත්හ. බුද්ධදේසනාවෙන් පෙන්වා වදාල , ප්‍රතිපත්ති මාර්ගය අනුගමනය කිරීම - පිළිවෙතින් පෙලගැසීම- කෙරෙහි අඩු සැලකිල්ලක් දැක්වුවද මහායානික බුද්ධාගමේ ආභාෂයෙන් අද ලක්දිව බෞද්ධයා පිරිත්, දේශනාකිරීම, පිරිත් දේශනා කරවීම, පිරිත් නූල් බැඳ ආරක්ෂාවීම මෙන්ම පිරිත් පැන් ලබාගෙන ආශිර්වාද ලබාගැනීමටද ඉමහත් රුචියක් දක්වති.

තන්ත්‍ර යානයේ හා වජ්‍රයානයේ එන මන්ත්‍ර ගුරුකම් , සුරබැඳීම නූල් බැඳීම , ආරක්ෂක විධිවිධාන යෙදීම බුද්ධ ධර්මයට ඇතුලත් දේ නොවේ. මේ සියල්ලම භාරතදේශයෙන් මහායාන බුද්ධාගමත් සමග හෙලබිමට සංක්‍රමණයවූ දේවල්ය. මෙම තන්ත්‍ර, මන්ත්‍ර, හා යන්ත්‍ර ක්‍රමයන් අනුරාධපුරයේ මැද භාගයේ පටන්ම හෙලබිමට පැමිණි දේවල් බව අනුරාධපුර තිසාවැව අසල ඇති "ස්ටාර් ගේට්" යන්ත්‍ර ගලක් ලෙසින් ආදී යුගයේ භාවිතා කිරීමෙන්ම තේරුම් ගත හැකිය. මෙම ස්ටාර් ගේට් බුද්ධකාලයටත් බොහෝ කාලයකට පෙර ලියන ලද අක්ෂර සංඥා ක්‍රමරටාවකි.

ප්‍රතිපත්තිය පිරීමට- පිළිවෙතින් පෙළගැසීමට - මෙතෙක් පුරුදු පුහුණු වී සිටි බුද්ධශ්‍රාවකයින් කාලීන අවශ්‍යතාවක් සේ සලකා දේශපාලනයට, සමාජ සේවයට, පූජකයෙකුගේ . කපුවෙකුගේ රාජකාරිය බාරගන්නට, දෙවියන්ට කන්නලව් කරන්නට, ග්‍රහ පූජා පිදේනි.පවත්වන්නට පූජා වට්ටි පූජාකරන්නට පටන් ගත්තේ ජෛන ආගමේ මෙන්ම මහායාන බුද්ධාගමේද බලපෑම තදින්ම බලපාන්නට වූ නිසාය. බෞද්ධ භික්ෂුවට මෙවන් ලෞකික පිළිවෙත් වලින් මිදී නිදහස් වන්නට නොහැකි වන



ආකාරයෙන්ම මහායාන ආගම බලවත් විය.සංස්කෘත භාෂාව ඉගෙන ගැනීම, තර්ක ශාස්ත්‍රය , ජ්‍යොතිෂය, වෙදකම, භූතකට්ටඩි කම් කිරීම, මෙන්ම බුදුපියාණන් බැහැර කරණ ලද ලෞකික තිරශ්චීන විද්‍යාවන්ගෙන් බොහොමයක්ම බෞද්ධ භික්ෂූන් විසින් ඉගෙන ගන්නට පටන්ගත්තේ මාහායාන බුද්ධාගමේ බලපෑම නිසාමය. නිවන් දැකීමේ පරමාර්ථය ඇතිව පැවිදි බිමට ඇතුළුවූ භික්ෂුව ඉතා කෙටි කාලයකින්ම මෙවන් තිරශ්චීන විද්‍යාවන් ඉගෙන ගෙන ව්‍යාපාරයන් කරන්නට පටන් ගත් නිසා මහණකම ලබාගැනීමේ පරමාර්ථයන්ද කල්යත්ම වෙනස් විය. අද ලක්බිම ථෙරවාදී භික්ෂූන් පරපුරක් ඇතැයි නමට හැඳින්වූවත් ථෙරවාදී බුදුදහමට නොගැලපෙන බොහෝ මහායාන අංගඋපාංගයන් ගෙන් සමන්විත වූ සම්මත බුද්ධාගමක් මේ හෙලබිම තුල ක්‍රියාත්මක වෙයි.

ථෙරවාදී භික්ෂූන්ට ලැබුනු වැරදි සහගත උගැන්වීම් නිසා දැනුවත්වම හෝ නොදැනුවත්ව හෝ තම භික්ෂු චරියාවෙහිදී අද වන විට භාවිතා කරන්නේත්, සමාජ සම්මත කාර්යයන්හි නිරතවීමේදී අනුගමනය කරන්නේත් ජෛන ආගමේ එදා පෙන්වාදුන් බොහෝමයක් දේවවාදී චාරිත්‍ර වාරිත්‍රයන්ය. මහාසාංඝික නිකාය ආරම්භවූ මුල් වකවානුව තුල ථෙරවාදීන් හා මහාසාංඝික නිකායන් අතර පරස්පර තාවය ඉතා බලවත් වූවත් අද වන විට මහායාන බුද්ධාගම හා ථෙරවාද බුද්ධාගම යන දෙකෙහිම ප්‍රායෝගික වශයෙන් පිරිසිදු බුදුදහම භාවිතා කරන්නේ නැත. එදා හලාහල විෂ ලෙසින් ථෙරවාදීන් විසින් දුරින් දුරු කළ යුතුයැයි. තීරණය කල බොහෝ ආගමික අංගයන් අද වන විට ඉතාමත්ම වටිනා දේවල් හැටියට සළකා මේ දේවවාදී සංකල්පයන් සතුටින්ම අනුගමනය කරණ ථෙරවාදී බුද්ධාගමක් අපේ රටේදීද අදහනු ලබයි.

භක්තිමාර්ගය තුලින් පොදු ජනතාවගේ සිත්සතන් තාවකාලිකව සනසාලීමත්, ආගමික සිද්ධස්ථාන වලට පැමිණ නිරතුරු පිංකම් කරමින් දෙව් මිනිස් සැප සම්පත් පැතීමත්, නිවන් ප්‍රාර්ථනා කරමින් මතු උපදින බුදුන් දැක නිවන් දකින්නට බලාපොරොත්තු ඇතිකරගත් භක්තිමත් බෞද්ධයින් පිරිසක් දිගටම ලෞකිකත්වය තුලම අතර මං කරවීමත් අද පවතින බුද්ධාගමේ දර්ශණයයි. අද වන විට බොහෝ පැවිදි හිමිවරුන්

රතන සුත්‍රය, සීවලී සුත්‍රය හා වෙනත් පිරිත් සුත්‍ර වලින් ජප කරණ ලද යන්ත්‍ර සකස් කර සීවලී යන්ත්‍රය, රතන යන්ත්‍රය වශයෙන් මිනිසුන් ට විකුණා මුදල් හම්බ කරති. තවත් පිරිසක් පිරිත් නුල් බැඳ මිනිසුන්ගෙන් මුදල් සම්මාදම් කරතී. පොදු මහජනතාවගේ නොදැනුවත්කම හා දුර්වල මානසිකත්වය මනාව තේරුම් ගත් ව්‍යාපාරික පිරිසක් ඒ දුර්වලකම ප්‍රයෝජනයට ගනිමින් තමනුත් අපාගතවී මහජනතාවත් අතරමං කිරීමේ වැඩපිළිවෙලක් අද වන විට බුද්ධ ආගමේ නමින්ම සිදු වෙමින් පවතී.

මුල් යුගයේ දී ථෙරවාදය හා මහායානය අතර ප්‍රායෝගිකව ම බලවත් පරස්පරතාවයන් පැවැති අතර මහායානිකයෝ හීනවුත් ග්‍රාම්‍යවුත් ප්‍රතිපත්තීන් අනුගමනය කරණ පෘතග්ජන පිරිසක් ලෙසින් ථෙරවාදීහු විසින් ම හංවඩු ගැසුහ. නමුත් අදවන විට ප්‍රායෝගික වශයෙන් හා චරියා රටාවන් අනුව බොහොමයක් ථෙරවාදී යැයි කියාගන්නා පිරිස ද හීනවුත් ග්‍රාම්‍යවුත් චරියාරටාවන් පවත්වන බව පැහැදිලිමව දැක ගන්නට ඇත.

**<u>පාරමිතා පිරීම හා බෝධිසත්ව සංකල්පය.</u>**

සද්ධර්ම පුණ්ඩරීක සුත්‍රයෙන් එලි දැක්වූ බෝධිසත්‍ව සංකල්පය ඊට පසුව ලියන ලද බෝධිචරියාවතාරය, ලංකාවතාරය යන සුත්‍ර වලින් වැඩී වර්ධනයවී, මංජ ශ්‍රී බෝසත්තුමා විසින් ලියන ලද පාරමී සුත්‍රවලින් සමාජගත වී මුල්බැස ගත් සංකල්පයකි. අතීතලක්බිම වැසියන් පවා බෝධිසත්ව සංකල්පය පිළිබඳව යම්තරමකට විශ්වාස කළ බවත්, ඇදහු බවත් නාථ, මෛත්‍රීය, අවලෝකිතේශ්වර වැනි බෝසත් රූප හා පිලිමයන් අනුරාධපුර රාජධානියේ නටඹුන් වලින්ද හමුවීමෙන් ම පැහැදිලිවෙයි. මෛත්‍රිබෝසතුන් මතුබුදුවන බව අපේ විශ්වාසයයි. ඊට අමතරව අවලෝකිතේස්වර වජ්‍රවනී, කුවේර, බෝසත් රූප මෙන්ම තාරා දෙවඟනගේ රූපයද මෙරට බෞද්ධයාගේ පුද පුජාවලට භාජනය වු බව ඉතිහාසයෙන් පැහැදිලිවෙයි.

“ බුද්ධත්වය” යන පදයෙන් මුල් බුද්ධ දේශනාවෙහි විග්‍රහ කරන ලද පිරිසිදු ධර්ම අර්ථය කල්යත්ම වෙනස්වී බුද්ධත්වයට පත්වීම ලොව්තුරු බුද්ධත්‍වයට පත්වීමෙන් පමණක්ම ක්‍ෂාත්ශාත් කරගත හැකිය යන වැරදි



අදහසක් මහායාන බුද්ධාගමෙන් එළි දැක්වීය. බුද්ධත්‍වය යනු භවඋදුරා අස්කර දැමීමයි. භව යනු රාගභව , ද්වේෂභව හා මෝහභව යන භව තුන ඇතුලත් කෙලෙස් භව උදුරා දැමීමයි. භව උදුරා දැමු හැම කෙනෙක්ම සහ මුලින්ම කෙලෙස් භව උදුරා දැමු නිසා යලි කෙලෙස් සිතේ උපත නොලබන නිසා ,අනුත්පාද නිරොධයෙන්ම කෙලෙස් මුල් උදුරා දැමු නිසා ඒ පුද්ගලයා “බුද්ධ ත්‍වයට” පත්වුහ යන්න බුද්ධ දේශනාවයි. මෙහිදී භව උදුරා දැමීම කළ හැකි යානයන් (මාර්ගයන්) තුනක් බුද්ධ දේශනාවෙහි පෙන්වා දුන්හ. ලොව්තුරා බුද්ධ යානය, පච්චේක බුද්ධයානය. ශ්‍රාවකයානය (අරහත් බුද්ධයානය) යනුවෙනි. මහායානිකයෝ මෙම අර්ථයෙන් බුද්ධත්‍වයට පත්වීම පිළි නොගෙන ප්‍රතික්ෂෙප කල අතර “සියලු සත්‍වයෝ බුදුවෙත්වා” යන ප්‍රාර්ථනාව නිතර භාවිතා කළහ. හෙලබිම මහායානික මුලස්ථානයවු අභයගිරියෙන් හමුවු සෙල්ලිපියකද මේ වාක්‍යය පැහැදිලිවම දැකගත හැකිය. මෙය එදා ප්‍රාර්ථනාවකට පමණක් සීමා කොටගත් බවත්, ප්‍රායෝගිකව බුද්ධත්වයට පත්වීමට අනුගමනය කළයුතු ප්‍රතිපදාව මහායාන බුද්ධාගමෙහි භාවිතා නොකළ බවත් පැහැදිලිය.

මුල් බුදුදහමෙහි පෙන්වු පරිදි උතුම් බුද්ධභාෂිතය මගින් පෙන්වා දුන්නේ උභය අර්ථ සාධනයම ලඟාකර ගැනීමට අනුගමය කළ යුතු නිවැරදි ප්‍රතිපදාව උවත්, මහායාන බුද්ධාගමෙන් මෙය වෙනස් කරගෙන සාමාජික හා ආගමික වශයෙන් භික්‍ෂුවකගෙන් සමාජයට ඉටුවිය යුතු කාර්යභාරය මුල් තැනට පත්විය. මේ අනුව පැවිදි බවට පත්වීමේ පරමාර්ථය වෙනස් විය. මේ උතුම් පරමාර්ථය වෙනස් වූ පසුව ඒ වෙනස්කම සාධාරණීකරණය කරන්නට බෝධිසත්‍ව පෙරුම් පිරීම, පාරමිතා පිරීම ඒ ස්ථානයට ඇතුලත් කළහ. මේ අනුව යලි යලිත් උපත ලබමින් රජසැප, සිටුසැප, දෙව්මිනිස් සැප විඳිමින් ,නිවන කල්දමා පෙරුම් පුරණ ක්‍රමවේදයක් මහායාන බුද්ධාගමෙන් නිර්දේශ කලහ. මෙය මුල් බුදුදහමෙන් පෙන්වාදුන් පරමාර්ථයන්ට වඩා වෙනස් උවත් හුදීජන විඥ්ඥාණයට මෙය ගැලපෙන්නක් විය. මේ අනුව නිවන් අවබෝධ කරගන්නට උපකාර වන ධර්ම අර්ථයන්ද ලෞකිකත්වයට ගැලපෙන සේ වෙනස් කරමින් බොහෝ අටුවාචාරීන් බුද්ධ භාෂිතය ලෞකික අර්ථයට හරවා පොත් පත් ලියුහ.

"නත්ථි මේ සරණං අඤ්ඤං,බුද්ධෝ මේ සරණ වරං" යන බුද්ධ භාෂිතයේ එන පාඨයන් "බුදුවරුන්ගේ පිළිසරණ පිහිට ප්‍රාර්ථනා කිරීම මිස මට වෙනත් පිළිසරණක් පිහිටක් නැත" යනුවෙන් අටුවා ආචාරීන් වැරදියට අර්ථ ගන්වා ඇත. නමුත් මෙම පාඨයේ නියම නිවැරදි ධර්ම අර්ථය වන්නේ "සංසාර ගමන නැවැත්වීමට භව උදුරා දැමීම (රාගබව ද්වේෂ බව හා මෝහභව, කෙලෙස් භව උදුරා දැමීම) මිස වෙනත් ක්‍රමයක් නැත" යන්නයි. බුදුවරුන්ගේ පිහිටෙන් හෝ පිළිසරණින් හෝ සියලු "කෙලෙස් භව" උදුරා දමන්නට නොහැකිය බුදුවරුන් කෙලෙස් භව උදුරා දමන්ට නියම නිවැරදි මග පෙන්වා දෙන්නන් පමණි. කෙලෙස් භව උදුරා දමා තම සිත පිරිසිදු කරගත හැකිවන්නේ මේ නිවැරදි මග යථා පරිදි දැන තමන්ම මග අනුගමනය කිරීමෙන්ම පමණි.

මේ ආකාරයට උතුම් බුද්ධ දේශනාවෙන් පෙන්වා වදාළ අර්ථ ධර්ම හරිහැටි තේරුම් ගන්නට නොහැකිවූ අටුවාචාරීන් හෙලදිවදී මෙන්ම භාරතයේදී ද වැරදි අර්ථ ධර්මයන්, ලෞකික අර්ථයෙන් ඉදිරිපත් කර මහායාන බුද්ධාගමේ සංකල්පයන් තහවුරුවන පරිද්දෙන් මහායාන පොත්පත් හා අටුවා ටීකා ටිප්පනිද ලියා පලකළහ. මෙසේ ලියු හැම තැනකදීම සිදුවුයේ පිරිසිදු බුද්ධ ධර්මය වැසී යටපත්ව (භව උදුරා දමන ධර්මය යටපත් වී) භව සකස්කරණ ලෞකික අර්ථයකින් විග්‍රහකර ලෝකයාට ඉදිරිපත් කිරීමයි. අද අපි බුද්ධාගම ලෙසින් භාවිතා කරණ බොහෝ අටුවා ටීක ටිප්පනි පොත්පත් වලද බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථ වල සිංහල පරිවර්ථනයන්හිද බහුලව අඩංගුව ඇත්තේ නිවන වසාදමන ලෞකික අර්ථ, ධර්ම ඉදිරිපත් කිරීමකි. සියළුම බෞද්ධයින් මේ සත්‍යය පැහැදිලිව තේරුම් ගත යුතුය. මාගධී භාෂාවෙන් ලියු ත්‍රිපිටක ධර්මය පදගත ලෙසින් තවත් භාෂාවකට පරිවර්ථනය කිරීම ම නිවන් මග වසා දමන පාප කර්මයකි. අද වන විට අපේ දහම් පැසැල්වල, පාසැල් විෂය නිර්දේශයන්හි පිරිවෙන් වල මෙන්ම පාලි බෞද්ධ විශ්ව විද්‍යාලයන්හි පවා උගන්වන්නේ හා භාවිතා කරන්නේ වැරදි සහගත වු අටුවාටීකා ටිප්පනි හෝ වැරදි සහගතව ලියු සිංහල පරිවර්තනයන්ය. මෙසේ පරියාප්ති ධර්මය වැරදි ලෙසින් අර්ථ දැක්වු පසුව ප්‍රතිවේද ධර්මය හෝ ප්‍රතිපත්ති මාර්ගය හෝ නිවැරදිව අනුගමනය කරන්නට බැරිවීම පුදුමයක් නොවේ.



මහායාන බුදු සමයෙහි අප්‍රමාණ බුදුවරුන්, අප්‍රමාණ බෝධිසත්වවරුන් ඇදහීම සම්මතවශයෙන් පිළිගත් දෙයකි. අද මේ ගෞතම බුද්ධ සාසනයේ කාලපරාසය තුළ ජීවත්වන අපිද බෝහෝ බුදුවරුන් පිළිබඳවද විශ්වාස කරති. අදහති. සද්ධර්මාලංකාරය. පුජාවලිය ආදී බෞද්ධ සාහිත්‍යය පොත් පත්වල අතීතයේ ලක්‍ෂගණන් බුදුවරුන් සිටි බව සඳහන් කර ඇත. එය සත්‍යයකි. බුද්ධ යනු පුද්ගල සංකල්පයක් (චරිතයක්) බවට වෙනස් කර ගත්තේ මහායාන බලපෑම නිසාය. බුද්ධ (භව උද්ධ) යන පදයෙන් විග්‍රහවන්නේ භවඋදුරා දැමූ යන අර්ථයයි. රාගභව, ද්වේෂබව මෝහ භව කෙලෙස් භව උදුරා දැමූ උත්තමයින් සියලුම දෙනා බුද්ධ නම් වේ. මේ ධර්මතාවය නිවැරදි ලෙසින් අවබෝධ කරගන්නට නොහැකිවූ බෝහෝ පෘතග්ජන පුද්ගලයින් සත් බුදු පුජාව, අටවිසි බුද්ධ පුජාව පන් ලක්‍ෂ බුද්ධ පුජාවන් පවත්වති. බුද්ධ පූජා පැවැත්වීමේ වරදක් නැත. නමුත් බුද්ධත්වය යන පදයේ අර්ථය තේරුම් ගෙන තමන් ද ඒ තත්වයට පත්වන්නට අධිශ්ඨාන කර ගත යුතුය.

මේ අනුව බුද්ධ ධර්මය උපත ලැබු බුද්ධ ධර්මය ජීවමානව මතුවටත් පවතින මේ හෙලබිමේ ආගමික ඉතිහාසය හදාරා අප අවබෝධ කර ගතයුතු මුලික කරුණු කිහිපයක් ඔබගේ අවධානය සඳහා යොමු කරවීමේ අවංක අදහසින් මෙහි පහත සඳහන් කරමි.

01. මහායාණික (මහාසංඝික) ආකල්ප සීඝ්‍රයෙන් හෙලබිමේද පැතිරී ගොස් ඒවායේ බලපෑම මත පිරිසිදු බුද්ධ ධර්මය යටපත්වී ආගමක් ඇදහීමක් බවට බුද්ධාගමද පත් වූ බව තේරුම් ගත යුතුය.

02. භික්‍ෂු චරියාව වෙනස් වීම, ගෙන්ගෙට පිඬුසිඟා ගොස් විපස්සනාධුරය වැඩු අතීත භික්ඛුන් වෙනුවට අද දේශපාලන පෙළපාලියන, භූත ජේතයින් මෙල්ල කරණ, කපුරාලලා බවට පත්වූ,භික්ෂුන් බහුලවීම.

03. රජ මහ විහාර වල විහාර දේපල වත්කම් පාලනය කරණ, වතුපිටිපාලනය කරණ, බදු මුදල් එකතු කරණ, දේශපාලනයට ද සම්බන්ධ වූ ව්‍යාපාරික භික්ෂූන් පිරිසක් බිහිවීම.

04. වැඳුම් ,පිදුම් ,යැදුම් ,පැතුම් මුල් තැනට පැමිණි අතර බුද්ධාගමේ සියළුම විහාරස්ථාන හා පූජනීය ස්ථානයන් පවත්වාගෙන යන්නේ භක්තිමත් මිනිසුන්ට ආගමක් ඇදහීමට පහසුකම් සැලසීම යන පරමාර්ථය මුල් කොට ගෙන මිස සංසාර දුකෙන් සදහටම මිදී නිදහස් ව නිවන් අවබෝධ කර ගැනීම යන ඒකායන පරමාර්ථයෙන් නොවේ.

05. සමාජ සම්බන්ධතා මෙන්ම පොදුජන ජීවිතයේ විවිධ අවස්ථාවල ලෞකික අවශ්‍යතාවන් සම්පූර්ණ කිරීම භික්ෂු චරියාවේ පලමු තැනට පත්වීම නිසා බුද්ධ ධර්මයේ පරමාර්ථ වූ විමුක්ති මාර්ගය වැසීයාම සිදුවිය. අද බුද්ධාගමේ ප්‍රධානම කාර්යය මරණ ගෙවල් වල පාංසුකූල පිංකමට සහභාගිවීම, මරණයෙන් පසුදාන පිංකම් පැවැත්වීම, බෝධිපූජා පැවැත්වීම හා මඟුල් ගෙවල් වලට පිරිත් කියා පිරිත් නූල් බැඳීම වැනි දේවලට සීමාවී ඇත.

06. විපස්සනා ධුරය පිරීම, අභාවයට පත්වී ගොස් රැකියාවක් ලබාගැනීම, ව්‍යාපාරයක් කිරීම, උගත්කම් ලබා, රාජකීය පංඩිත විභාග සමත්වීම සහ ජීවන මාර්ගයක් වශයෙන් මහණවීම පරමාර්ථ වශයෙන් වෙනස්වීම.

07. මුල්කාලීන භික්ඛු චරියාවේ පරමාර්ථයන් සහමුලින් ම වෙනස්වී පරාර්ථකාමීත්වය හා දේශපාලනය මුල්තැනට පත්වීම.

08. දේශපාලනික හා සමාජ නායකත්වයට,නිලතලවලට .කීර්ති ප්‍රසංශා වලට භික්ෂූන් ගිජුවීමත්, දේශපාලකයින් තම බලය පවත්වා ගෙන යාමට ආගම අතකොලුවක් බවට පත්කර ගැනීමත් නිසා නිවන් දකින බුද්ධ ධර්මය යටපත්ව ලෞකික වශයෙන් ආගම් ඉස්මතුවීම.



09. මේ අත්භවයෙහි දීම නිවන් දැකීමේ පරමාර්ථය අතහැර බෝධිසත්ව පෙරුම් පුරණ පරමාදර්ශී පුද්ගලයින් බවට සමහරක් භික්ෂු චරිත පත්වීම. මේ අනුව අනෙක් පුද්ගලයින්ටද නිවන අතහැර රජසැප සිටු සැප දෙව් මිනිස් සැප ප්‍රාර්ථනා කිරීමේ වැරදි ක්‍රමයක් පුරුදු පුහුණු කිරීමෙන් පොදු මහජනයා සංසාර සාගරයේ අතරමං කිරීම.

10. පින හා කුසලය අතර වෙනසක් නැතැයි කෙස් පැලෙන තර්ක විතර්ක ඉදිරිපත් කරමින් පින්කම් කිරීමට පමණක්ම මිනිසුන් පොළඹවා කුසලස්ස උපසම්පදා යන අර්ථය යටපත් කිරීමට ක්‍රියා කිරීම. මේ අනුව පිංකම් කරණ, ප්‍රාර්ථනා පුරණ, බෞද්ධයෝ තව තවත් කෙලෙස් හරිත පුද්ගලයින් බවට පත්කිරීම.

11. උතුම් මිනිස් ගුණ ධර්ම වඩා වර්ධනය කිරීම යන උතුම් පරමාර්ථයන් අතහැර, ගොඩනැගිලි , ඉදිකිරීම් පළමු තැනට පත් වීම. අසුරියන් බුදු පිළිම, බුද්ධ රාජ මාලිගා, විශාල චෛත්‍යයන් මහාමන්දිර ඉදි කිරීම අද සම්මත පිංකම් බවට පත්වීඇත.

12. "මනුස්සත්ත පටිලාභෝ පරම දුල්ලභෝ" යන ධර්මතාවය යටපත් වන ලෙසින් දෙවියන් ඉදිරියේ යාචකයින් පිරිසක් බවට මිනිසුන් පත්කරවීමේ දේව ආගම් සංකල්ප රටපුරාම ප්‍රචලිත වී යාම.

## මහා මහින්ද මාහිමියන්ගේ යුග මෙහෙවර

මහානාම හිමියන් විසින් පරිවර්තනය කර ලියු පාලි මහාවංශයෙහි දහතුන්වන පරිච්ඡේදයෙහි සිට දහඅට වන පරිච්ඡේදය දක්වා කොටසෙහි සඳහන් වන්නේ එදා මහා මහින්ද මාහිමියන්ගේ ලංකාපුර රාජධානියට වැඩම කළ ගමන පිළිබඳව හා එදා අනුරාධපුරයේදී දෙවන පෑතිස්ස රජුටත් අනුරාධපුර ගිහි පැවිදි ජනතාවටත් දේශනා කරණ ලද බුද්ධ ධර්මය පිළිබඳව විස්තරයකි. මේ කාරණය පිළිබඳවම යම් යම් විස්තරයන් පාලි දීපවංශයෙහිත්, කථාවත්තුප්පකරණ අටුවාවෙහිත්, සඳහන්ව ඇත. මහාවංශය හා දීපවංශය අධ්‍යයනය කරණ අපේ

ඉතිහාසඥයින් හා ගිහි පැවිදි බෞද්ධයින්ටත් විශේෂයෙන්ම බෞද්ධ හා පාලි විශ්ව විද්‍යාලයේ බුද්ධ ධර්මය උගන්වන හා ඉගෙනගන්නා උගතුන්ටත් වැදගත් වන එමෙන්ම ඔවුන්ගේ අවධානය යොමු කළයුතු විශේෂ කරුණක් මෙහිදී ලියා මතු කර පෙන්වීමට අදහස් කරමි.

එදා මහා මහින්ද මාහිමියන් මිහින්තලයට හා අනුරාධපුර නගරයට (ලංකාපුරයට) වැඩම කර දේශනා කරණ ලද සූත්‍ර ධර්මයන් සියල්ලම වාගේ නම් වශයෙන්ම මහාවංශයේ 13,14,15,16,17 යන පරිච්ඡේද වල සඳහන් වෙයි. මේ සියලුම සූත්‍ර ධර්මයන් මින් පසුව ආ කාලයකදී (බුද්ධ වර්ෂ 456දී) හෙලබිමේ දී ලේඛණ ගතකළ ත්‍රිපියකයෙහි අදටත් අපිට කියවා තේරුම් ගන්නට හැකිවන ආකාරයෙන්ම ආරක්‍ෂාවී පවතියි.

මිහිඳු මා හිමියන් විසින් අනුරාධපුර ජනාතාවට දේශනා කරණ ලද සියලුම සූත්‍ර ධරමයන් යම්කිසි අනුපිළිවෙළකට තොරා බේරා ගෙන විශේෂ යුග මෙහෙවරක් ඉශ්ඨසිද්ධ කිරීමේ පරමාර්ථයක් ඇතිවදේශනා කරණ ලද සැලසුම් සහගත වැඩපිලිවෙළක කොටසක් බව මෙහිදී පැහැදිලිවම පෙන්වාදිය හැකිය.

මහාවංශයෙහි දැක්වෙන පරදි මේ සූත්‍ර දේශණාවන් දේසනා කරණ ලද අනුපිලිවෙල මෙසේය.

I අනුරාධපුරයට පැමිනි මුල්ම දිනයේ පළමු වෙන්ම දේසනාකර වදාලේ " චුලහත්ථිපදෝපම" සූත්‍රයයි. (මජ්ජිම නිකාය 1 පිටු 426)

II ඉන් පසුව දෙවන දිනයේ "සමචිත්ත පරියාය" සූත්‍රයන් (10) ය. (අංගුත්තර නිකාය 1පිටු 120 )

III ඉන් පසුව ආ දිනයක බුද්ධක නිකායේ සඳහන් වන පේත වත්ථු හා විමාන වත්ථු දේසනා කරන්නට යෙදුනි.

IV ඉන් පසු දිනයේ බාල පණ්ඩිත සූත්‍රයන් දේසනා කරන්නට යෙදිනි. (අංගුත්තර නිකාය 1 )



V ඉන් පසු දිනයේ සච්චක සංයුත්තයේ එන දේවදූත සූත්‍රය දේසනා කරන්නට යෙදුනි. (මජ්ජිම නිකාය 3 පිටු 384)

VI ඉන්පසු දිනයේ දී අග්ගික්ඛන්දෝපම සූත්‍රය දේශණා කර වදාලහ.

VII ඉන් පසු දින "ආසිවිසෝපම" සූත්‍රය දේසනා කර වදාලහ.(සංයුක්ත නිකාය 4)

VIII ඉන් පසු දිනයන්හිදී අනමතග්ගිය සූත්‍රයත් කජ්ජනීයක සූත්‍රයත් දේසනා කරන්නට යෙදුනි. (සංයුක්ත නිකාය 3 )

IX ඉන් පසු දින ධමම චක්කප්පවත්තන සූත්‍රය දේසනා කරන්නට යෙදුනි. (සංයුක්ත නිකාය 5-2)

X ඉන් පසුව මහාපමාද සූත්‍රයත් වස්සුපනායික සූත්‍රයත් දේසනා කරන්නට යෙදුනාහ. (අංගුත්තර නිකාය 1 )

එදා මහා මහින්ද මාහිමියන් අනුරාධපුර නගරයට පැමිණ දින 15ක් පමණ ගතවන්නටත් පෙර මෙසේ දේසනා කර වදාල සූත්‍ර ධර්මයන් බුද්ධ දේසනාවේ එන ඉතාම වැදගත් එමෙන්ම යම් විශේෂිතවූ පරමාර්ථයක් ඉටුකරගන්නටම තෝරා බේරාගෙන දේසනා කර වදාල සූත්‍ර ධර්මයන් බව මේවා අධ්‍යයනය කර බලන ඕනෑම කෙනෙකුට පැහැදිලි විය යුතුය.

මෙහිදී සඳහන් කලයුතු තවත් විශේෂම කරුණක් වන්නේ ඉන්දියාවෙන් මෙහි පැමිණ මහාවංශය පාලිභාෂාවට පරිවර්ථනය කල මහායානික මහානාම හිමියන් මේ සූත්‍ර ධර්ම වල නම් මහාවංශයෙහි සඳහන් කලත් මේවායේ සඳහන් වන උතුම් ධර්මය ගැන පරමාර්ථවශයෙන් මනා කොට දැන සිටියා යැයි සිතිය නොහැකිය. මහානාම හිමියන් ඉතිහාසය ලීවා මිස බුද්ධ ධර්මය ගැන ගැඹුරු දැනීමක් හෝ ප්‍රායෝගික අත් දැකීමක් හෝ ඇතිව මේවා ලියුවේ නැති බවද මෙහිදී පැහැදිලිවම පෙන්වා දිය යුතු කාරණයකි.

අපේ ගිහි පැවිදි බෞද්ධ උගත් වියත් පිරිස විසින් මනා අවධානයකින් යුතුව අර්ථ ධර්ම නිරුක්ති හා පටිසම්භිදා විග්‍රහයන්ද සහිතව මිහිඳු හිමියන් දේසනා කල සූත්‍ර ධර්මයන් යලි යලිත් අධ්‍යයනය කර මේ සූත්‍ර ධර්මයන් එදා මහා මහින්ද හිමියන් දේශනා කර වදාල විශේෂිතවූ පරමාර්ථයන් තේරුම් ගැනීමට උත්සාහ කල යුතුය. අපේ මුළු මහත් හෙල බොදු ජනතාවටම මේ සූත්‍ර ධර්මයන්ගේ අර්ථයන් මනාකොට පහදා දෙන්නට දැන් කාලය පැමිණ ඇත.

වන සතුන් දඩයම් කරමින් සිටි, උගත් කමකින් තොරවූ, කවදාවත්ම ගෞතම බුදුපියාණන් ගැන හෝ උතුම් බුද්ධ ධර්මය ගැන හෝ කිසියම්ම දැනීමක් නැති , නූගත් මිනිසුන් පිරිසකට හෝ අබෞද්ධ අන්‍යාගමිකයින් පිරිසකට හෝ මෙවන් විශේෂිතවූ ධර්මයක් එක දිගටම දින 15ක් තුල දේසනා කරණු ඇතැයි බුද්ධ ධර්මය දන්නා කාටවත්ම සිතිය නොහැකිය. නූගත් අබෞද්ධ පිරිසකට මෙවන් ගැඹුරු ධර්මයක් එකවරම තේරුම් ගැනීමට හැකියාවක් නැතිවා පමණක් නොව මෙවන් ගැඹුරු ධර්මයකින් පලක් ප්‍රායෝජනයක් ලබාගන්නටද නොහැකිය.

මේ සියළුම සූත්‍ර ධර්මයන් මිහිඳු මාහිමියන් විසින් මනා කොට හදාරා ,තෝරා බේරාගෙන , යම් අනුක්‍රමයකට, අනුමෙවෙනි දේසනාවක් කරන්නාක් මෙන් එදා දේසනා කර වදාරා ඇත්තේ පිරිහී ගිය භික්ෂු සමාජයක් සහිතවූ දුසිල්වත් වූ බෞද්ධ පිරිසකටම බව මම අවධාරණයෙන්ම පෙන්වා දෙමි. බුදුපියාණන්ගේ පිරිනිවීමෙන් වසර 286කට පමණ පසුව කරණ ලද මේ ධර්ම දේසනාවලින් පසුව යලිත් මේ රටේ බුද්ධ සාසනයත්,උතුම් බුද්ධ ධර්මයක් යලි පන පිහිටුවා නගාසිටුවීමට මේ දේසනාවන් උපකාරවිය. අද වන විටද යලිත් අපේ මේ හෙලබිමේ බුද්ධ සාසනයත්, භික්ෂු සමාජයක් පිරිසිදු කර යලි නිවන් දකින්නට උපකාර වන පරිද්දෙන්ම උතුම් බුද්ධ ධර්මය දේසනා කරන්නට එදා මිහිඳු මා හිමියන් දේශනා කර වදාල පරිදිම මේ උතුම් සූත්‍රධර්මයන් අර්ථ ධර්ම සහිතවම යලිත් දේශනා කර කරුණු පහදා දීමටද ක්‍රියා කල යුතුය.



සමචිත්ත පරියාය සූත්‍ර, බාලපණ්ඩිත සූත්‍ර හා විශේෂයෙන්ම අග්ගික්ඛන්දෝම සූත්‍රය හා ආසිවිසෝපම වැනි සූත්‍රයන් දේශනා කල යුත්තේ සාසනය කිලිටිවී ගිය අවස්ථාවකදීය. භික්ඛු චරියාව පරමාර්ථ වශයෙන්ම ලෞකිකත්වය අගය කරන්නටතරම් පහත් තත්වයකට පත්වූ අවස්ථාවකය. එදා බුදුපියාණන් ජීවමාන වම වැඩ සිටි යුගයේ පවා ලාභ සත්කාර හා කීර්ති ප්‍රසංසා මෙන්ම බහුලවම සිවු පසය පහසුවෙන් ලබාගැනීමේ වැරදි චේතනාවෙන් යුතුව බොහෝ පිරිස් බුද්ධ සාසනයෙහි මහණ වූහ.

බුදු පියාණන්වහන්සේ මෙන්ම මහා කච්චායන මහා ප්‍රාඥයන් වහන්සේද අග්ගික්ඛන්දෝම සූත්‍රය බාලපණ්ඩිත සූත්‍රය හා සමචිත්ත පරියාය සූත්‍රය ආදී සූත්‍රයන් එදා දේසනා කලේ සාසනය හා භික්ෂු සමාජය කිලිටිවූ අවස්ථාවන්හි දීය. දුසිල්වත්වූ භික්ෂු සමාජය පිරිසිදු කිරීමේ චේතනාව ඇතිවමය.

මිහිඳු මා හිමියන් වහන්සේ අනුරාධපුරයේදී පළමු කොටම දේසනා කර වදාළ චූලහත්ථිපදෝපම සූත්‍රයෙන් විග්‍රහකලේ බුද්ධ ඥාණ පදහතරයි. “සංදෙස්සේති, සංමාදපේති, සමුත්තේජේති, සංපහන්සේති” යන“සංදේසනාව” විග්‍රහ කිරීමයි. මේ සූත්‍රය දේසනා කිරීමේන් ධර්ම සංඝායනාවක් කර ඇති බව පැහැදිලිව හා පිරිසිදුව පෙන්වා දිය හැකිය. එදා මිහිඳු මා හිමියන් අනුරාධයට පැමිණ පළමු කොටම සංදේසනාවක් කර, සංඝායනාවක් කර බුද්ධ ධර්මයේ එන “සං” පද හතර පිරිසිදුවම විග්‍රහකර පෙන්වාදී ඇති බව මෙයින් පැහැදිලිය. බුද්ධ දේසනාව “සං” දේසනාවකි. ධම්මෝ සංදිට්ඨිකෝ වීමටත්, සම්මාදිට්ඨියට පත්වීමටත්, සංවරව, සංසිඳීමට හා සම්මා අංග සම්පූර්ණ කරගෙන ආර්ය අෂ්ඨාංගික මාර්ගය සම්පූර්ණ කරගන්නටත්, සංදේශනාවක් අසා ධර්මය අවබෝධ කර ගැනීම අත්‍යාවශ්‍යම කාරණයකි. සංඝයනාවක් කර, සාසනය පිරිසිදු කර, යලි සාසනය නගාසිටුවන්නට ක්‍රියාකළ හැම අවස්ථාකදීම මෙවන් සූත්‍ර ධර්මයන් දේශනා කිරීම නියත වශයෙන්ම ඊට උපකාරවූ බවද පෙනවා දිය යුතුය. බුදුපියාණන් වහන්සේ ජීවමානවම වැඩ සිටි යුගයේත් ඊට පසුව පළමුවන, දෙවන හා තුන් වන ධර්ම සංඝායනාවන් පැවැත්වූ

අවස්ථාවන්හිදීත් "සං" පිළිබඳව ඥාන පද හතර මතුකර විග්‍රහ කර මුලු බුද්ධ ධර්මයේම හර පද්ධතිය මතුකර පෙන්වා වදාල ආකාරයෙන්ම මිහිඳු මා හිමියන්ද අනුරාධපුරයේදීත් ධර්ම සංඝායනාවක් කළ බව මේ අනුව පැහැදිලිවම ප්‍රකාශ කල හැකිය.

මේ කාලවකවානුව තුල හෙලබිමේ දී ධර්ම සංඝායනාවන් කල බව මහාවංශයේන්ද සාක්ෂි ඇතිවම පෙන්නුම් කළ හැකිවෙයි. බුදුපියාණන් වහන්සේගේ පිරිනිවීමෙන් වසර 286ක් වැනි කාලයක් ගතවන විට සංදේසනාව යටපත්වී අභාවයට ගොස් ඒ උතුම් ධර්මයද පද පරම තත්වයට පත්වූ නිසා මිහිඳු මා හිමියන්ටත් යලිත් සංදේසනාවක් පවත්වා නිවන් දකින්නට උපකාර වන උතුම් බුද්ධ ධර්මය මතුකර පෙන්වා දෙන්නට සිදුවූ බව මෙයින්ම පැහැදිලි වෙයි.

චුලහත්ථිපදෝපම සුත්‍රය දේශනාකර, සංදේසනාවක්ද කරමින් බුද්ධ ඥාණපද හතරම මතුකර පෙන්වා බාලපණ්ඩිත සුත්‍රයෙන් මෙන්ම සමචිත්ත පරියාය සුත්‍රයෙන්ද ද්වතාවය විග්‍රහකිරීමත්, ද්වතාවනුස්සතිය වැඩිමෙන්ම නිවන් මාර්ගය විවෘතකර ගන්නට උපකාරවන අන්දමට යායුතු මග හා නොයා යුතු මග පෙන්වාදීමත් කරණීය ධර්ම හා අකරණිය ධර්ම විග්‍රහකිරීමත් සුචරිතය හා දුෂ්චරිතය ගැනත් ,බාලයෙකු හෝ පණ්ඩිතයෙකු වෙන්නේ කෙසේද යන්න ගැනත් පැහැදිලිවම ප්‍රකාශකර පෙන්වා වදාරා ඇත.

අංගුත්තර නිකායෙහි 1 (පිටු අංක 118 හි) එන 2.1.3.3 සුත්‍රය මෙසේ සටහන් කර පෙන්වීම කාටත් උපකාර වනු ඇතැයි සිතමි.

"ද්වේ මේ භික්ඛවේ තථාගතං අබ්භාචික්ඛන්ති . කතමෙ ද්වේ? යොච අභාසිතං , අලපිතං, තථාගතේන බාසිතං , ලපිතං, තථාගතේනාති දීපේති, යෝච භාසිතං ලපිතං තථාගතේන අභාසිතං අලපිතං තථාගතේනාති දීපේති. ඉමේ බෝ භික්ඛවේ ද්වේ තථාගතං අබ්භාචික්ඛන්ති."



" ද්වේ මේ භික්ඛවේ තථාගතං නාබ්භාචික්ඛන්ති ,කතමේ ද්වේ ? යෝච අභාසිතං අලපිතං තථාගතේන අභාසිතං අලපිතං. තථාගතේනාති දීපේති. යොච භාසිතං ලපිතං තථාගතේන භාසිතං ලපිතං තථාගතේනාති දීපේති,ඉමේ බෝ භික්ඛවේ ද්වේ තථාගතං නාබ්භාචික්ඛන්තීති."

මෙහි තේරුම වන්නේ බුද්ධ ධර්මය හරිහැටි නොදැන ,නොදැක,තථාගත ධර්මය විකෘති කරණ දෙදෙනෙකි. බුදුපියාණන් දේසනා නොකෙරූ ,ප්‍රකාශ නොකළ ,නොතෙපලන ලද දේ බුද්ධ ධර්ම යැයි ප්‍රාකාශ කිරීමත් තෙපලීමත්,අන් අයට ප්‍රකාශ කිරීමත් බාලයින්ගේ ක්‍රියාවකි. එමෙන්ම තථාගතයන් වහන්සේ විසින් දේශනා කරණ ලද, ප්‍රකාශ කරණ ලද තෙපලන ලද උතුම් ධර්මය එසේ දේසනා නොකලේ යයි. ප්‍රකාශ නොකලේයි, යනුවෙන් කියන්නාද බාලයෙකි. හැරපිය යුත්තෙකි.

එමෙන්ම තථාගතයන් වහන්සේ දේසනා නොකල දේ , නොතෙපලන ලද්දේ එසේ නොකල බව ප්‍රකාශ කිරීමත්, තථාගතයන් වහන්සේ දේසනා කල,ප්‍රකාශකරණ ලද, තෙපලන ලද ධර්මය නිවැරදිව දෙසූ ආකාරයට නිවැරදිව දේසනා කිරීමත්, එය නිවැරදි සේ ලෝකයාට ප්‍රකාශ කිරීමත්පණ්ඩිතයෙකුගේ යහපත් ක්‍රියාවකි. බාලයා තථාගතයින් වහන්සේටත්, ධර්මයටත් නිග්‍රහ කරති. පණ්ඩිත තෙමේ ධර්මයටත්, තථාගතයින් වහන්සේටත් නිග්‍රහ නොකරති.

මිහිඳු හිමියන් එදා අනුරාධපුර නගරයේ ජනතාවට බුද්ධ ධර්මය හඳුන්වා දුන්නායැයි. කෙස් පැලෙන තර්ක විතර්ක ඉදිරිපත් කරණ අයට මේ කරුණු කාරණා දැනගත් පසුව මිහිඳු මා හිමියන් දේශනා කර වදාල ධර්ම කරුණු කාරණා දැනගත් පසුව ඔවුන්ට මොනවිධියේ පිළිතුරක් දිය හැකිදැයි මම නොදනිමි. මිහිඳු හිමියන් පැමිණෙන්නට වසර 280 කට පමණ පෙර ගෞතම බුදුන් හෙලදිව වැසියන්ට දේසනා කරණ ලද උතුම් ධර්මය විවිධාකාරයෙන් - මහා සාංගික නිකායිකයින් හා වෛතුල්‍යය වාදීන් විසින් විකෘති කරමින් , අලුත් අර්ථයන් ඉදිරිපත් කරමින්, බුදු පියාණන් දේසනා නොකල- ජෛන ආගමික - මතවලට ගැලපෙනසේ මත ඉදිරිපත් කරමින් වැරදි ධර්මයක් දේසනා කළ බව මෙයින් පැහැදිවම පෙන්වා දිය

හැකිය. මේ නිසා පැහැදිලිවම පෙන්වාදිය හැකි කරුණ වන්නේ මිහිඳු හිමියන් අනුරාධපුර නගරයට වැඩම කලේ නිවන් දකින්නට උපකාර වන පිරිසිදු ධර්මය යලි දේසනා කර බුද්ධ සාසනයයලි නගා සිටුවා පිරිසිදු කරන්නටය.

මහාවංශ කථාවේම සඳහන් වන තවත් කරුණක්ද අප විසින් මෙහිදී සලකා බැලිය යුතුය. මිහිඳු හිමියන් අනුරාධ පුරයට වැඩම කර මාස තුනක් ගතවන අවස්ථාව වනවිට අනුරාධපුරය අවට ප්‍රදේශ වල තිස් දහසක් (30,000) බුද්ධශ්‍රාවකයින් වැඩවාසය කල බව මහාවංශය සඳහන් කරයි. අලුත්ම ආගමක් රටකට ආනයනකර මාසතුනක් කාලය ගත වනවිට "තිස්දහසක් භික්ෂූන් වහන්සේලා බුද්ධ ශ්‍රාවකයින් ලෙසින්,පැවිදි බිමට පැමිණියේය." යන්න පිළිගත නොහැකිය. නමුත් මේ වනවිටත් නියම බුද්ධ ධර්මය නොදත් ධර්මය විකෘති කළ ශ්‍රමණ ප්‍රතිරූපකයින් බහුලවම අනුරාධපුර ප්‍රදේශයයේත් වාසය කල බව අග්ගික්ඛන්දෝපම සූත්‍රය දේසනා කර වදාලාවූ දේසනාවෙන්ම පැහැදිලි වෙයි.

සමචිත්ත පරියාය සූත්‍රයේ දේශනාකර වදාල බුද්ධ ධර්මය, ත්‍රිපිටකය කියවා අදටත් ඕනෑම කෙනෙකුට තේරුම් ගත හැකිය. මෙහි සත්පුරුෂ භූමිය හා අසත් පුරුෂ භූමිය අතර වෙනසත්. විශේෂයෙන්ම කිරිය වාදීන් හා අකිරියවාදීන් අතර වෙනසත් පැහැදිලි කරදෙයි. කුසල ධම්ම හා අකුසල ධම්ම ගැනත් සුචරිතය හා දුෂ්චරිතය ගැනත් ප්‍රකාශ කරයි. අනුරාධපුරයේ මේවන විටත් දෙපිරිසක් සිටි බවත්. බුද්ධ ධර්මය පිරිසිදුව අනුගමනය කරන්නට කැමැතිවූ පිරිසක් හා එක එල්ලේම බුද්ධ ධර්මය පිළිගන්නට නොකැමැතිවූ පිරිසක් වශයෙන් දෙපැත්තකට බෙදී සිටි බව මින් පෙනේ. මේ අනුව සමචිත්ත පරියාය දේසනාව මිහිඳු හිමියන් භික්ෂූන් සඳහාම දේසනා කල එකකැයි ප්‍රකාශ කලහැකිය.

සමචිත්ත පරියාය සූත්‍රය මහා කච්චායන මහා ප්‍රාඥයින් වහන්සේ පළමු කොට දේසනා කල බව ප්‍රකාශ කරමින් කරණ ලද දේසනාවේදී දෙන ලද උදාහරණයෙන්ද එහි ශ්‍රමණයින් සිටි බව පැහැදිලි වෙයි.



"කෝ පන හෝ කච්චාන,හේතු කෝ පච්චයෝ යේහි සමණාපි සමණේහි විවදන්ති"

"දිට්ඨිරාගවිනිවේසවිනිසවිනිබන්ධ පලිගේධ පරියුට්ඨාන ජොක්ඛා සාන හේතු බෝ බ්‍රාහ්මණ, සමණාපි සමණේහි විවදන්ති"

මහා කාච්චායන හිමියන්ගෙන් බ්‍රාහ්මණයෙක් ප්‍රශ්න කලේ ශ්‍රමණයින් , අනිත් ශ්‍රමණයන් සමගින් වාද විවාද වලට පැටලැවෙන්නේ මොන හේතුවක් නිසාද යන්නයි. මහා කච්චායන හිමියන් මෙයට දුන් පිළිතුරු වූයේ දිට්ඨි රාගයෙහි බැස ගැනීම (මිත්‍යාදෘෂ්ඨිය) පංචස් කන්දය උපාදානය කරගැනීම, වැරදි බන්ධනය, ආර්ය ධ්‍යානහෝ මගපල නොලැබීමය යන මේ හේතු ඇති තැන පෘතග්ජන ශ්‍රමණයින් සමග වාද විවාද වලට පැටලැවෙන බවයි. මෙවන් වූ දේසනාවක් මිහිඳු හිමියන් අනුරාධපුර නගරයට ගොස් දින තුනක් හෝ හතරක් ඇතුලත දේසනා කල බව මහාවංශ කතුවරයා කියන කථාව පිළිගත හොත් එහි ශ්‍රමණයින් පිරිස් දෙක තුනකට බෙදී වාද විවාද කරගත් බව ද අප පිළිගත යුතුය. බුදු දහම කුමක්දැයි නොදන්නා අලුත්ම පිරිසකට මෙවැනි සූත්‍ර දේසනාවක් ඉදිරිපත් කරමින් ධර්ම දේසනාවක් කරන්නට මිහිඳු හිමියන් ක්‍රියා කලේය යන්න කිසිසේත්ම පිලිගත නොහැකිය. බුද්ධශ්‍රාවකයින් යැයි සිවුරු හැඳගත් ශ්‍රමණයින් දුෂ්චරිතවත්ව, දුසිල්වත්ව දෙපිරිසිකට බෙදී වාද විවාද කරගත් අතර උතුම් බුද්ධ ධර්මයද වැරදි අර්ථයෙන් ගෙන විග්‍රහ කල එවන් යුගයක මිහිඳු හිමියන් විසින් බුද්ධ සාසනය පිරිසිදු කර නැවත නිවන් දකින්නට උපකාර වන ආකාරයට උතුම් බුද්ධ ධර්මය දේසනා කිරීමේ යුග මෙහෙවරක යෙදුණු බව මින් පැහැදිලි වෙයි.

සමචිත්ත පරියාය සූත්‍රයෙහිම එන තවත් එක ප්‍රශ්නයක් කාගේත් දැනගැනීම හා අවධානයට යොමු කිරීම උදෙසා මෙහි සඳහන් කර තැබීම අදටත් කාලෝචිත බව පෙනේ. කණ්ඩරායනෝ නමැති හැට වස් පිරුණු මහණ බමුනෙකු මහා කච්චායන යෙනි, ඔබ මහලු වියට පත් හැට වස් පිරුණු දෙමහල් වූ ශ්‍රමණ බ්‍රාහ්මණයින්ට නොවඳින්නේය යන බසෙක් මා අසා ඇත. එවැනි බමුණන් දැක හුනස්නෙන් නොනැඟිටින්නේය, ඔවුන්ට

ගරුසරු දක්වා ආචාර සමාචාර නොකරන්නේය. මෙය මාවිසින් අසන ලද්දකි. ඒ කාරණය එසේම බව දැන් මා දනිමි. එය නොනිසියැයි මම සිතමි. ඊට හේතු කුමක්ද?

බ්‍රාහ්මණය, අපි බුද්ධශ්‍රාවකයින් වෙමු. අපේ බුදුපියාණන් වහන්සේ විසින් වදාරණ ලද වෘද්ධ භූමියෙක් ඇත. ආචාර සමාචාර දැක්විය යුතු පිරිසකුත් ඇත. ඉතින් උත්පත්තියෙන් අසුවිය හෝ ඊටත් මහළුවියට හෝ පත්වුවත්, සම්මතයෙන් ශ්‍රමණ වෙස් ගත්තත් හේ වස්තුකාමයෙන්, කෙල්ශකාමයෙන් හා කාමපරිලාහයෙන් යුක්ත නම්, කාමවිතර්ක කරමින් ව්‍යාපාර කරමින් නිලතල තනතුරු දරමින් සිටී නම් ඔහු බාලයෙකි. ඔහු ධර්මධරයෙකු නොවේ. නම් ඔහුද බාලයෙකි. එමෙන්ම යමෙක් තරුණ වසයේ පසු උවත් ඔහු ධර්මධරයෙක් නම් වස්තුකාමයෙන් කෙල්ශ කාමයෙන් තොරනම් නිවැරදි පිළිවෙත් රකී නම්, ධම්මානු ධම්ම පිළිවෙතෙන් ක්‍රියා කරත්නම් ඔහු පණ්ඩිතයෙකි. ඔවුන්ටම වැඳුම් පිදුම් කල යුතුය යන්න බුදුපියානන් පෙන්වාදී ඇතැයි පැවසීය.

මෙවන් උදාහරණයකුත් ගෙන මිහිඳු මාහිමියන් එදා අනුරාධපුරයේදී ධර්ම දේසනා කරන්නට යෙදුනේ මේ වන විටත් අනුරාධපුරයේ එවැනි වයෝවෘද්ධ ශ්‍රමණයින් වාසය කල නිසා බව පැහැදිලිය. බුද්ධශ්‍රාවකයින්ගේ වෙස්ගත් මහාසාංඝිකයින් හා වෛතුල්‍ය වාදීන් බොහෝකොට අනුරාධපුර රාජධානියටත් මේ වන විටත් පැමිණි සිටි බව මෙයින් ම සිතාගත හැකිය.

මිහිඳු මා හිමියන් අනුරාධපුරයට පැමිනි සත්වැනි දිනයේදී දේසනා කරණ ලද්දේ "අග්ගික්ඛන්දෝමප" සුත්‍රයයි. ගෞතම බුදුපියාණන් ජීවමානව වැඩවසන සමයේදීත් බුද්ධ සාසනය දුස්සීලයින්ගෙන් හා ලාභසත්කර මෙන්ම වරදාන අපේක්ෂාවෙන් සාසනයට ඇතුළුවූ බොහෝ පෘතග්ජන භික්ෂුන්ගෙන් බුද්ධ සාසනය බේරා ගැනීමේ පිරිසිදු චේතනාවෙන්ම අග්ගික්ඛන්දෝපම සුත්‍රය දේසනා කර වදාල බව අංගුත්තර නිකායේ (4) සඳහන්වෙයි.

බුදුපියාණන් ජීවමානවම වැඩසිටි යුගයේත්, මිහිඳු මාහිමියන් අනුරාධපුරයට වැඩම කළ යුගයේත්, අද වර්තමාන යුගයේත්,



බුද්ධශ්‍රාවකයින් ලෙස සිවුරුදරාගෙන බුද්ධසාසනයට ඇතුළුවූ බොහෝ පෘතග්ජන පුද්ගලයින් විසින් පොදු මහජනතාව ශ්‍රද්ධාවෙන් හා භක්තියෙන් ලබාදෙන සිවුපසයට ගිජුවී සිවුපසය පරිහරණය කිරීමෙන් ගිනිගොඩකට - මහා ගින්නකට - අසුවෙන බව අග්ගික්ඛන්දෝපම සුත්‍රයෙන් උපමාකොට පෙන්වා වදාලහ.

මෙම සුත්‍රයේදී බුදුපියාණන් වහන්සේ දුසිල්වත් මහණුන් හැඳින්වීම සඳහා භාවිතා කල පද සමුහය කාගේත් දැනගැනීම සඳහා මෙහි සටහන් කරතැබීම යුතුකමකැයි සලකමි.

"යථා එතදෙව තස්ස වරං, 1) දුස්සීලස්ස 2) පාපධම්මස්ස,
3) අසුචිසංකස්සරසමාචාරස්ස, 4) පටිච්ඡන්න කම්මන්තස්ස,
5) අස්සමණස්ස 6) සමණපටිඤ්ඤස්ස 7) අබ්‍රහ්මචාරිස්ස ,
8) බ්‍රාහ්මචාරීපටිඤ්ඤස්ස 9) අන්තෝපූතිස්ස , 10) අවස්සුතස්ස ,
11) කසම්බුජාතස්ස, යං අමුං මහන්තං අග්ගික්ඛන්ධං"

මෙහි එන පදයන් එකොලහකින් දේසනා කර වදාලේ දුසිල්වත්, පාපධර්මයෙහි හැසිරෙන, බාල පැවතුම් ඇති, තිරස්චීන බාල ක්‍රියාවන්හි නිරත, ශ්‍රමණවේශධාරීව රාග ද්වේෂ මෝහගති සහිතවූ, අස්සුතවත් ,කිලිටි ගති ඇති පැවිද්දන් පිළිබඳවය.මෙවන් බාල, කිලිටිගති ඇති ශ්‍රමණ වේෂධාරීන් එවකටත් මේ බුද්ධ සාසනයට ඇතුලුවී සිටි බව මෙයින් පැහැදිලිය. අද වනවිට මේ තත්වය ඉතා දරුණු හා බලවත් තත්වයට පත්වී විවිධාකාර ව්‍යාපාරයන් කරමින්, නිලතල දරමින්,තාන්න මාන්න හා වර දාන ලබාගනිමින් මහජනයාව මුලාකරමින් වැරදි මාර්ගයක ගමන් කරණ බව පෙන්වා දීමද වහාම කළ යුතු යුග මෙහෙවරකි. මොවුන්ගෙන් සාසනය බේරා ගැනීම සඳහාම මෙම අග්ගික්ඛන්දෝපම සුත්‍රය මෙසේ යලිත් දේසනා කර විග්‍රහ කර දීමත් යුගමෙහෙවරක් සේ සළකමි.

"සබ්බ දුක්ඛ නිස්සරණ , නිබ්බාන සච්ඡකිරියාය, කසාවතං ගහෙත්වා" යනුවෙන් වාක්‍යයක් ප්‍රකාශකරමින් පැවිදි බිමට ඇතුළු වන පුද්ගලයින් මහණවූ උතුම් පරමාර්ථය පසෙකලා, වෙනත් ලාභ ප්‍රයෝජන

රැකියා අවස්ථා කීර්ති ප්‍රසංසා, යන්ත්‍ර මන්ත්‍ර වැඩ,භූතප්‍රේත කට්ටඩිකම් ,මෙන්ම දේශපාලනයෙහි යෙදීමද ගිනිගොඩකට වැටී පිලිස්සෙන්නටත් වඩා බලවත් සංසාර දුක්ගින්නකට ගොදුරු වන්නටම හේතුවන බව අවංකවම පෙන්වා පහදා දිම කලයුතු යුතුකමකි. මහායාන බුද්ධාගම මුල් කොටගත් තන්ත්‍රයානය හා වෛතුල්‍යයවාද මතයන් පිළිගෙන නිවන ප්‍රමාද කරවන ආකාරයෙන් දෙවි මිනිස් සැප කෙරෙහි මිනිසුන් පොළඹවා ගෙන සංසාර සාගරයේ මිනිසුන් අතරමං කිරීමද අදවන විට බුද්ධාගමේ නාමයෙන්ම කරණ, කරවන, වැරදි ක්‍රියාවකි. එමෙන්ම දේවසංකල්පයන් කරපින්නාගත්,නක්ෂත්‍රකරුවන්ගේ බස් ඉස්මුදුනින් පිළිගෙන, භූතයන්ගෙන් දෙවියන් ගෙන් ආධාර උපකාර ඉල්ලා පුද පූජා කරමින් යාග හෝම පවත්වන මෝඩ ගුඪ භක්තිමත් බෞද්ධයන්ව මුලාකරවන සේ ගිහි පැවිදි බෞද්ධ දෙපිරිසම අදවන විටත් බහුල වශයෙන්ම වැරදියට ක්‍රියාත්මක වෙයි. මේ සියලුම අය තමන්ම ගිනිගොඩක් නිර්මාණය කරගන්නා බවක් නොදන්නවා ඇත. ඒ ගින්නෙන් තමන්ම පිළිස්සෙන බවත් මේ ගින්න එක වරක් නොව දස වරක් නොව සිය දහස් වරක් සංසාර දුකට පත්කරවන ගිනි ගොඩක් බවට පත්වන බවත් හැම කෙනෙක්ම තේරුම් ගන්නට දැන් කාලය එළඹ ඇත.

එදා ගෞතම බුදුපියාණන් වහන්සේ අග්ගික්ඛන්ධෝපම සූත්‍රය දේසනා කල අවස්ථාවේ දුසිල්වත්, මහණුන් සාසනයෙන් ඉවත්ව ගියේ ධර්මතාවයේ බලයෙන්මය. මෙම සූත්‍රයේම අවසානයේ ප්‍රකාශ වන පරිදි එදා මහණුන්ගේන් තුනෙන් දෙකක්ම සාසනය අතහැර ගියහ. ඉතිරි තුනෙන් එකක් මග පල ලබා නිවන් දැක ගත්හ. මිහිඳු මා හිමියන් අග්ගික්ඛන්ධෝපම සූත්‍රය දේසනා කල අවස්ථාවේදීත් මෙවන්වූම ප්‍රතිපලයක් ලැබෙන්නට ඇත. ඒ අනුව තවත් ටික කලකට හෝ නිවන් දකින උතුම් ධර්ම මාර්ගය විවෘතවී පැවති බවද පැහැදිලිය. අද වර්තමානයේ දීත් මෙම අග්ගික්ඛන්දෝපම සූත්‍රය නිවැරදිවත් අර්ථ ධර්ම සහිතවත් දේසනා කිරීම මෙම ලිපියෙහි පරමාර්ථයයි. උතුම් වූ නිවන් දකින බුද්ධ ධර්මය මතුකරදී වැරදි ආගම් සංකල්ප වලින් මිනිසුන් මුදවාගන්නට උපකාර වන පරිද්දෙන් මේ දේසනාවන් පවත්වන්නට අදහස් කල බවද කාගෙත් දැන ගැනීම සඳහා ප්‍රකාශ කර සිටිමි.



බුද්ධ ධර්මයම පදනම් කොටගෙන, ඓතිහාසිකව අදහන බුද්ධාගමක් බිහිවීමේ සිදුවීම් මාලාව අධ්‍යයනය කර මෙම පරිවර්තනයේදී ලෞකිකත්වයට - පෘතග්ජන පුද්ගලයින්ට - හුදී ජන පහන් සංවේගය සඳහා ජන විඤ්ඥාණයට ගැලපෙනසේ ඇදහිල්ලක්වූ ආගමක් සකස් කරගත් ආකරය හැම බෞද්ධයෙකු විසින්ම හදාරා දැන ගත යුතුය. මෙය පාසැල්වල, උසස් අධ්‍යාපන ආයතන වල දරුවන්ට නිවැරදිවම උගන්වන්නට පොත පත දැන්ම ම සකස් කල යුතුමය.

උතුම් බුදු දහමෙහි පරමාර්ථය එකකි. අදහන බුද්ධාගමේ පරමාර්ථය වෙනත් එකකි. මෙය පැහැදිලි කරන්නට තවදුරටත් කරුණු කාරණා ඉදිරිපත් කල යුතු යැයි සිතමි. ඒ අනුව මුලික කරුණු කිහිපයක් වෙන් වෙන්ව සලකා බැලීම සඳහා මෙසේ ඉදිරිපත් කරමි.

සීල, සමාධි, ප්‍රඥා බුද්ධ ධර්මයේ ත්‍රි ශික්ඛාවයි. අද බුද්ධාගමේ එය දාන සීල, භාවනා යනුවෙන් පසුව වෙනස් කර ගෙන ඇත.එයද ශික්ඛා නොව ශික්‍ෂාවන්ය. බුද්ධාගමේ හා බුදු දහමේ සීලය එකක්ම නොවේ.

**සීලය : අදහන බුද්ධාගමේ හා බුදු දහමේ සීලය එකක්ම නොවේ.**

යං සමාදනං තං වතං - සංවරට්ඨේන සීලං යනු බුද්ධාභාෂියයි.

මෙහි අර්ථය නම් යම් සමාදාන වීමක් ඇද්ද එය සීලබ්බත පරාමාසයට වැටෙන එකක් බවත්, සංවරවීම යන අර්ථයෙන් බුද්ධ ධර්මයේ එන සිලය,සතර සංවර සීලය ලෙසත් පෙන්වා දී ඇත.

මේ අනුව බුද්ධාගමේ සම්මතයෙන් සමාදන්වන පන්සිල් අටසිල්, දසසිල්, සාමනේර සිල් උපසම්පදා සිල් සම්ප්‍රදායානුකූලව සමාදම් වීමක් කරනු ලබයි. එය සම්මතයෙන් සහ සම්ප්‍රදායක් ලෙසින් සමාදන් වන සීලයකි. එය පරියන්ත හෝ අපරියන්ත හෝ සීලයක් විය හැකිය. එය චාරිත්‍ර වාරිත්‍ර සීලයක් හෝ විය හැකිය. සමාජ සම්මතයෙන් මෙසේ සිල් සමාදන් වීමද වරදක් පාපයක්ද නොවේ.

නමුත් බුද්ධ ධර්මයට අනුව සිල් සමාදන් වුවත් නොවුවත් සතර සංවර සීලයේ පිහිටා , පිලිවෙතෙහි පිහිටා, ප්‍රායෝගිකව ක්‍රියා කිරීම නිවනට උපකාර වන සීලවිශුද්ධියයි. එය "සුත්වාන සංවරේ පඤ්ඤා සීලමයේ ඥාණං" යන බුද්ධ ඥාණයම සම්පූර්ණ වීමට උපකාර වන පරිදි කායේන සංවරෝ, වාචාය සංවරෝ, මනසා සංවරෝ, යන ත්‍රිවිධාකාරවූ සංවරයෙහි පිහිටා ක්‍රියා කිරීමකි. මේ අනුව බුද්ධාගමේ අද අනුගමනය කරණ සමාදන්වන සීල ව්‍රතය එකකි. බුද්ධ ධර්මයේ දී එය සීලයේ පිහිටා ක්‍රියාකල යුතු ප්‍රායෝගික පිලිවෙත් පිරීමකි. එය කුසල සීලයකි.(සීලේ පතිට්ඨාය)

භාවනා: බුදු දහමේ හා සම්මත බුද්ධාගමේ එන භාවනා පිළිවෙත්ද එකක්ම නොවේ.

භාවනාවද දෙයාකාරය.මහායාන බුද්ධාගමෙන් නයට ඉල්ලා ලබා ගත් ප්‍රාණ යාම, අනාර්ය භාවනාවන් දැනට වසර හැටකට පමණ පෙර පටන් අපේ භාවනා මධස්ථාන වලද ථෙරවාදී බුද්ධාගමේ අංගයක් ලෙසින් අද ප්‍රචලිතවම භාවිතා කරති.

බුද්ධ ධර්මයට අනුව නම් භාවනාව යනු "භාවේතබ්බංච භාවිතං පහාතබ්බංච පහීනං" යන ධර්මතාවට අනුකූල විය යුතුයි.

දොරවල් හයකින්ම මේ බඹයක් පමණ වු ශරීර කූඩුව ඇතුලට ගත හැකි හා පිට කලහැකි දේවල් සුව අසුව ලෙස දෙකකට බෙදා පෙන්වූ භාවනාව බුද්ධ ආනාපානසති භාවනාවයි. ඇස, කණ, නාසය, දිව ,කය, මනස යන දොරවල් හයෙන්ම යහපත් දේ ඇතුලට ගැනීමත්, අයහපත් දේ ඇතුලට නොගෙන බැහැර කිරීමත් මගින් සියලු කෙලෙස් ප්‍රහාණය කිරීමේ ක්‍රම වේදය භාවිතා කරීම (අස්සපස්ස) බුද්ධ ධර්මයේ පෙන්වා දුන් භාවනාවයි. මෙතනදී බුද්ධ ධර්මයේ පෙන්වූ භාවනාව කරගෙන යන්නට නම් තවත් පියවර දෙකක්ම සම්පූර්ණ කරගත යුතුය. ඒ පියවර දෙකෙන්ම එනම් "අභිඤ්ඤාතං අභිඤ්ඤෙදයිය, පරිඤ්ඤාතං පරිඤ්ඤෙදයිය" යනුවෙන් පෙන්වා වදාල ධර්මතාවයයි. පටිච්ච සමුප්පාද ධර්මය තුලින් හේතුපල දහමට බහා ගලපා බලා කෙලෙස් කෙලෙස් හැටියට දැකීමත්, නික්ලේශී දහම් නික්ලේශී දහම් ලෙස දැකිමත් ඉන් පළමු වැන්නයි.



දෙවැන්න පිරි අපිරි දෙක තේරුම් ගෙන පිරිසිද දැකීමේ ශක්තිය සිතක ඇති කර ගැනීමයි. සිතට එන සියලු අරමුණු පිරිසිදුව දැක ගත හැකි නම් එතැන උපේක්ඛාවේ සිතක්ද ඇතිවේ. මෙහිදී සිතට එන සියලු අරමුණු තේරුම් ගෙන ඉවසා විමසා,බැහැර කල යුතු දේ බැහැර කිරීමත් , භාවිතා කල යුතුදේ භාවිතා කිරීමත් බුද්ධ ධර්මයේ එන බුද්ධ ආනාපාන සති භාවනාවයි. එවිට ප්‍රිය දේට නොඇලෙයි. අප්‍රිය දේට නොගැටෙයි. මානයෙන් මෝහයෙන් මුලා නෙවෙයි. ඒ අනුව සංඛාර උපේඛා ඥාණය ලබාගැනීමට බුද්ධ භාවනාව භාවිතා කල යුතුයි.

බුද්ධාගමේ නාමයෙන් අද බහුලවම භාවිතා කරනු භාවනා ක්‍රමය වු හුස්ම රැල්ලට හිත තියාගෙන කරණ වායෝකසින භාවනාවත්, බඩ පිම්බීම හැකීලිම දෙස බලාගෙන කරණ ප්‍රාණයාම භාවනාවත් මුල් බුදු දහමේ පෙන්වා දුන් එකක් නොවේ. එය පෙර දිග ජෛන ආගම් වල පෙන්වා දුන් ප්‍රාණ යාම භාවනාවයි. බුද්ධාගමේ නාමයෙන් අද කරනු ලබන මේ වැරදි භාවනාවෙන්ද ලෞකික ධ්‍යානයන් (අනාර්ය ධ්‍යානයන්) ලබා ගැනීමේ හැකියාවක් ඇත. අනාර්ය සමථ භාවනාවක් වු මේ හුස්ම රැල්ල දෙස බලා සිටීම කසින භාවනාවකි. සිතේ උපදින කෙලෙස් ගති සහ මුලින්ම කපාහැර දමා, කෙලෙස් මුල් උදුරාදමා සිත පිරිසිදු කරගෙන, මග පල ලබන්නට නම් මේ අනාර්ය භාවනා ක්‍රමය උපකාර නොවේ. අස්ස පස්ස යන මාගධී පදවල අර්ථය ආශ්‍රය හා ප්‍රහාණය යන්නයි. අස් පස් කරනවා යනුවෙන් සිංහල බස් වහරේද මෙය භාවිතා කරයි. ආශ්වාස ප්‍රාශ්වාස යනු සංස්කෘත වචන දෙකකි. ආශ්වාස ප්‍රාශ්වාස කිරීම දෙස බලාසිටීම මගින් කරන්නේ කය (ශරීර කූඩුව) භාවනා කිරීමකි. ඉන්ද්‍රියයන් හයටම අරමුණු වන අරමුණු තෝරා බේරා ගෙන ආශ්‍රය කලයුතු යහපත් අරමුණු ආශ්‍රය කිරීමත් බැහැර කළ යුතු කෙලෙස් අරමුණු බැහැර කිරීමත් භාවිතා කිරීම බුදු දහමට අනුව භාවනාවයි.

හුස්ම රැල්ල දෙස බලා කරණ භාවනාවෙහි හෝ බඩ පිම්බීම හැකිලීම දෙස බලා කරණ භාවනාවක හෝ දස කසින භාවනාවක හෝ විපස්සනා අනුපස්සනා භාවනාවකින් කරගත යුතු දේ ප්‍රායෝගිකවම නොකරණනිසා කෙලෙස් මුල් සහ මුලින්ම ගලවා දමා වීතරාගී, වීතද්වේෂී,

වීත මෝහී තත්වයට සිත පත් කරගෙන භව උදුරාදමන ක්‍රමයක් අනාර්යය භාවනා වල නැත. විපස්සනා, අනුපස්සනා, භාවනා උපකාර වන්නේ කෙලෙස් මුල් සිතින්ම උදුරා දමා නිදහස් වීමටය. හුලං රැල්ල දෙස බලාගෙන කොතරම් කාලයක් ගත කලත් එය සිද්ධ නොවෙනු ඇත.

**<u>අරිය අශ්ඨාංගික මාර්ගය ද දෙයාකාර වේ.</u>**

බුද්ධාගමෙහි හා බුද්ධ ධර්මයෙහි එන සම්මා අංගයන් අට ද එකක්ම නොවේ. එයද දෙයාකාර වේ. බුද්ධාගමෙහි පෙන්වාදෙන්නේ ලෞකික වුත්, සම්මත වශයෙන් හොඳ වුත් යහපත් නිවැරදි වුත්, පැවැත්මක් දිගටම පවත්වාගෙන යන්නට උපකාරී වන්නා වු ලෞකික සම්මා අංග අටකි. මහා චත්තාරීසක සුත්‍රයෙහි පැහැදිලිව පෙන්වා දෙන පරිදි මේ ලෞකික සම්මා අංගයන් අට ආසව සහිතවු , පුන්‍ය භාගිවු , උපාධි විපාක ගෙන දෙන්නා වු ලෞකික සම්මා අංග අටකි. එය ආගමට ගැළපෙතත් බුද්ධ ධර්මයට ඒ සම්මා අංගයන් ගැළපෙන්නක් නොවේ. අද බුද්ධාගමේ සම්මා අංගයන් ලෙස විග්‍රහ කරන්නේ මේ ලෞකික අංගයන්ය.

උතුම් බුද්ධ ධර්මයෙහි පෙන්වා වදාළ අරිය අශ්ඨාංගික මාර්ගය නම් වු සම්මා අංග අටම අනාසව වු,ලොකෝත්තර මග්ගංග වු, සමුදය නිරෝද කරන්නට ම උපකාර වන අරිය අංගයන් අටකි. බුදු දහමේ පෙන්වා වදාළ අරිඅටැගි මඟ සම්පුර්ණ කරගන්නට නම් "සං" දැක්ක යුතුමය. "ධම්මෝ සංදිට්ඨිකො" - "සම්මදක්ඛාථා" - "සම්මා දිට්ඨි" යන පියවර තුන සම්පුර්ණ විමෙන්ම "සං" වලින් (රාගයෙන්, ද්වේෂයෙන් ,මෝහයෙන්) සහ මුලින්ම මිදී නිදහස් විය හැකි වන මෙය නිබ්බාන මාර්ග ප්‍රතිපදාවයි."ධම්මෝ සංදිට්ඨිකෝ" තත්වයට පත් නොවු කෙනෙකුට සම්මා දිට්ඨියෙන් පටන් ගෙන සම්මා සමාධිය තෙක් ඇති අරිය මාර්ගයේ ගමන් කල නොහැකිය. අරිය අෂ්ඨාංගික මාර්ගය සම්පුර්ණ කරගත් පසුවත් සම්මා ඥාණ, සම්මා විමුක්ති යන නමවැනි හා දසවැනි අංගයන් ද සම්පුර්ණ කරගෙන මාර්ග ප්‍රතිපදාව අවසන් කරන්නට ම බුදු දහමේ මඟ කියා දී ඇත. මේවා බුද්ධාගමේ පෙන්වා දෙන දේවල් නොවේ. සංසාර ගමන අවසන් කිරීමේ ප්‍රායෝගික ක්‍රමයක් අදහන බුද්ධාගමේ නැත. සසර ගමන



අවසන් කල හැක්කේ බුදු දහමේ පමණක් ම පෙන්වා දුන් සම්මා ප්‍රතිපදාව ප්‍රායෝගිකවම අනුගමනය කිරීමෙන්ම පමණි. සංසාර සම්බන්ධතාවය සකස්වන හැටි (සමුදය) නිවැරදිව තේරුම් ගෙන ඉන් මිදි නිදහස්වීම සම්මා ප්‍රතිපදාවයි.

**<u>බුද්ධාගමේදී උගන්වන්නේ මධ්‍යම ප්‍රතිපදාවක් ගැනය. (Middle Path) මැදුම් පිළිවෙතක් ගැනය. නමුත් බුදු දහමෙහි උගන්වන්නේ "මඣ්ජිමා ප්‍රතිපදාවක්" ගැනය.</u>**

මත් වීමට නොහොත් මදයට මුල්වන්නා වු හේතු තුනකි. රාග මද, ද්වේශ මද , මෝහ මද යන මුලික මත්වීම් තුනෙන් සහ මුලින්ම මිදී යළි මත් වීමක් සිතේ නොඋපදින ලෙසින්ම මතෙන් මිදී නිදහස් වීම "මඣ්ජිමා පටිපදා" යන්නෙහි ධර්ම අර්ථයයි. මඣ්ජිමා යනු පද දෙකකි. මඣ්ජි යනු මත්වීම නිසා අතරමං වීමය. "මා" යනු ඒ අතරමං වීමට මුල්වන මතෙන් සම්පූර්ණයෙන් ම මිදී නිදහස් වීමය. මේ අනුව මධ්‍යම ප්‍රතිපදාව - මැදුම් පිළිවෙත ආදී වචන වලින් ආගමේ පෙන්වා දෙන මාර්ගය වැරදිය. බුද්ධ ධර්මයෙහි කියාදෙන, පෙන්වා දෙන "මඣ්ජිමා" ප්‍රතිපදාව "සං පහදා" ඉවත් කරන්නට,(සම්පජ්ජ විහරති) කෙලෙස් මතින් මිදි නිදහස් වන්නටම උපකාර වන නිවැරදි ප්‍රතිපදාවයි.

**<u>ත්‍රිලක්‍ෂණය හා තිලක්ඛණ ද බුද්ධාගමෙහි හා බුද්ධ ධර්මයෙහි වෙනස්ය.</u>**

"අනිත්‍යයි, දුකයි,අනාත්මයි යන ත්‍රිලක්‍ෂණයක්" අද උගන්වන්නේ බුද්ධාගමෙහිය. නමුත් බුද්ධ ධර්මයෙහි එය "අනිච්ච, දුක්ඛ, අනත්ත" යනුවෙන් නිවැරදිව පෙන්වා වදාළ "ත්‍රිලක්ඛණ" යි. "නිච්ච, සුඛ , අත්ත" නම් වු තම සිතේ උපන් වැරදි දෘෂ්ටියෙන් ආකල්පයෙන් යම් කෙනෙකුට මිදි නිදහස් ව, ඇත්ත ඇති සැටියෙන් දැක ගන්නට උපකාර වන ත්‍රිලක්ඛණය ඒ ඒ පුද්ගලයා තම තමා විසින්ම යථා පරිදි අවබෝධ කරගත යුතු ධර්මතාවයකි. මෙය "ත්‍රිලක්ඛණය" මිස " ත්‍රිලක්‍ෂණ" නොවේ. මෙය ලක්‍ෂණ තුනක් නොවේ. කපා දැමිය යුතු සිඳ දැමිය යුතු , ඛන්දනය කල යුතු යන අර්ථයෙන් "ත්‍රිලක්ඛණ" නම් විය. මෙසේ කපා දැමිය යුත්තේ "නිච්ච, සුඛ,අත්ත" වශයෙන් සිතක හටගන්නා වැරදි තීරණයයි. ඒ සඳහා

අවබෝධයෙන් කරගත යුත්තේ අනිච්ච අනුපස්සනා කිරීමත්, දුක්ඛ අනුපස්සනා කිරීමත්, අනත්ත අනුපස්සනා කිරීමත්ය. මෙම ත්‍රිලක්ඛණයම ඒ ඒ පුද්ගලයාගේ සිතේ උපදින කෙලෙස් ගති කපා දමා කෙලෙස් වලින් සම්පූර්ණයෙන්ම මිදී නිදහස් වන්නට උපකාර කරගත යුතු භාවනාවකි.

**<u>පින හා කුසලය යන්න ද බුද්ධ ධර්මයෙහි හා බුද්ධාගමෙහි වෙනස්ය.</u>**

"පින් හා කුසල්" යන පද දෙකෙන් විග්‍රහ කරන සංකල්ප දෙකම එකක් ලෙස සලකා පින්කම් කිරීමෙන් පමණක් නිවන් අවබෝධ කරගත හැකි බව අද සම්මත බුද්ධාගමේ බොහෝ තැන්වල සඳහන්වෙයි, උගන්වයි.

නමුත් බුද්ධ ධර්මයෙහි පැහැදිලිවම සඳහන් කලේ "පුඤ්ඤ පාප පහීනස්ස" යනුවෙනි. පෙර කරණ ලද පින්කම් හෝ පව්කම් හෝ කුමක් හෝ පල දෙන්නට සුදුසු ලෙසින් මනෝමය කාය තුල ඉතිරිව් තිබේ නම් නිවන ප්‍රමාද වෙයි. මේ අනුව "කුසලස්ස උපසංපදා" යනුවෙන් පෙන්වා දුන් කුණු සලාහැර අස්කර දමා සං පහදා ඉවත් කර දැම්මෙන් නිවන් මඟ විවෘත වන බව පෙන්වා දුන්නේ බුදු දහමෙහිය. විශේෂයෙන්ම මහායාන බුද්ධාගමේ සංකල්ප වල පිංකම් පමණක්ම කරමින් බෝධිසත්ත පෙරුම් පුරමින්, දෙව් මිනිස් සැප සම්පත් ලබමින් තව බොහෝ කලක් සංසාරයේ අතරමංවීම සම්මත ආගම් සංකල්ප වලට නම් ගැලපෙන නිසාය. නමුත් බුද්ධ ධර්මයෙහි පෙන්වා දුන්නේ මේ වර්තමාන මොහොතේම නිවන් ක්ෂාත්ක්ෂාත් කරගත යුතු බවයි. මේ අනුව බුද්ධ ධර්මය හා බුද්ධාගම අතර බලවත් පරතරයක් ඇත. "අප්පමාදේන සංපාදේ තබ්බං" යන බුද්ධ වචනයට සම්පූර්ණයෙන්ම විරුද්ධ වුත්, ප්‍රායෝගිකව වැරදි සහගත වුත්, පාරමිතා පුරමින් කල් මරණ ක්‍රමයක් මහායාන බුද්ධාගමේ පෙන්වා දෙයි. ඒ තව තවත් ලෞකික සැප සම්පත් කෙරෙහි ලෝභවී දෙව් මිනිස් සැප සම්පත් විඳ ගැනීමේ කිලිටි චේතනාවෙන් පිංකම් පමණක් ම කරන්නට සියලුම ආගම් වල උගන්වන වැරදි ක්‍රමයයි. මෙය ථෙරවාදී බුද්ධාගමටත් ඇතුලු කරගැනිම නිසා බුද්ධ ධර්මය යටපත් වී හුදී ජන විඥ්ඥාණයට ගැලපෙන පරිදි තව තවත් පිංකම් කරමින්, පිං පොත් ලියමින් ඒවා උපාදානය කරගෙන මතු මතුවටත් දෙව් මිනිස් සැප ප්‍රාර්ථනා කරමින් ,කෙළවරදී නිවන්



දකින්නට පතන ක්‍රමයක් බුද්ධාගමේ මිස බුද්ධ ධර්මයේ දේසනා කළ එකක් නොවන බව සියළුම බෞද්ධයින් විසින් ම මනාව තේරුම් ගත යුතුය. බුදු දහමට අනුව පිංකම් කරන්නට එපායැයි කිසිවිටකත් කියා නැත. බුද්ධ ධර්මයට අනුව නම් කරන සෑම පිංකමක්ම, කුසලයක් බවට පත් කරගෙන, කෙලෙස් ප්‍රහාණය කර දමන්නටත්, සංසාර නය ගෙවා, ණය ගනුදෙනුව සමථයට පත් කරගන්නටත් උපකාර වනසේ භාවිතා කළ යුතුය. මතු මතුවත් දෙව් මිනිස් සැප සම්පත් ලබන්නට හෝ මතු බුදු බව පතන්නට හෝ ප්‍රාර්ථනා කරන හැම විටම අලුතෙන් සංසාර ණය ගනුදෙනුවකට මැදි වීම ද සිදු වන බව හැම කෙනෙක්ම යථා පරිදි තේරුම් ගත යුතුය.

මේ ආකාරයට තව දහසකුත් එකක් කරුණු කාරණා ඉදිරිපත් කරමින් අදහන බුද්ධාගම හා නිවන් දකින්නට උපකාර වන උතුම් බුද්ධ ධර්මය අතර වෙනසක් ඇති බව අපේ සම්මත සම්ප්‍රදායික බෞද්ධයන්ට පහදා කරුණු කියා දිය හැකිය. නමුත් මේ කරුණු පිළිබඳව තම තමන්ම කල්පනා කරමින් මනස මෙහෙයවා තමන් ආගමක් අදහන්නේ කුමටද? ධර්ම මාර්ගය අනුගමනය කල යුත්තේ කුමටද? යන්න පිළිබඳව පැහැදිලි අවබෝධයක් ඇති කරගන්නට තවදුරටත් ගැඹුරින් සිතා බලන මෙන් ඔබට මා ආයාචනය කර සිටිමි.

මේ ධර්මදානමය පුණ්‍ය ශක්තිය හේතුවෙන්

අතිපූජ්‍ය මීවනපලානේ සිරිධම්මාලංකාර ස්වාමීන් වහන්සේට
නිරෝගී සුවය ලැබේවා !,

සියලුම මියගිය ඥාති හිතමිත්‍රාදීන් පිං අනුමෝදන් වී
සසර දුකින් මිදී නිවන් සුවයෙන් සුවපත් වේවා !

සියලු දෙනා වෙත පරම පවිත්‍ර සිරි සද්ධර්මය පැතිරේවා !

ජයසේකර පවුලේ දූ දරු පිරිස

මේ පිංවතුන් පිරිසද මේ සඳහා දායක විය

එස්. බී. නන්දන මයා - මල්වාන

ලසන් මයා - තිස්ස

අලංකාර මයා - කඩවත

පරාක්‍රම මයා - තිස්ස

ගොඩමුනේ මිය - කඩුවෙල